තෝරාගත් කෘති 10 වැනි වෙළුමෙහි ලෙනින්ගේ පහත දැක්වෙන කෘති පළ වේ:

රාජ්‍යය

නිර්ධන පංති ආඥාදායකත්වය සමයේදී ආර්ථිකය හා දේශපාලනය

වාමාංශික කොමියුනිස්ට්වාදය ළදරු වලිප්පුවකි

ලෙනින්



තෝරාගත් කෘති

9

# ලෙනින්

## තෝරාගත් කෘති

## වෙළුම් දොළහ



## වෙළුම

## 9

නිර්ධන පංති විප්ලවය සහ කෞට්ස්කි ද්‍රෝහියා

ධනපති ප්‍රජාතන්ත්‍රවාදය හා නිර්ධන පංති ආඥාදායකත්වය පිළිබඳ ප්‍රවාද හා කොමියුනිස්ට් ජාත්‍යන්තරයේ පළමුවැනි සම්මේලනයේදී කළ කථාව

රුසියානු කොමියුනිස්ට් (බොල්ෂෙවික්) පක්ෂයේ අටවැනි සම්මේලනය

ශ්‍රේෂ්ඨ ආරම්භයක්

ප්‍රගති ප්‍රකාශක මන්දිරය

# LIBERATIONBASE
## ඩිජිටල් පුස්තකාලය

ඩිජිටල් පුස්තකාලය සහ ලේඛණ සංරක්ෂණ ව්‍යාපෘතිය
ආරම්භය (***NMSG Library*** ලෙස): 2010
***LIBERATIONBASE*** ලෙස නැවත නාමකරණය: 2013

සූචිකරණ දත්ත

කෘතිය: ලෙනින් තෝරාගත් කෘති වෙළුම් දොළහ, වෙළුම 9
කතෘ/පරිවර්තක: වී.අයි. ලෙනින්/උ. මු. අබයරත්න
ප්‍රකාශක: ප්‍රගති ප්‍රකාශක මන්දිරය, මොස්කව්
පළමු ඩිජිටල් පළ කිරීම: 2014-09-22
ඩිජිටල් සංස්කරණයන්: V1:2014-09-22, V2:2019-05-29
පිටු ගණන: 304
භාෂා මාධ්‍ය: සිංහල
ගොනු ආකෘතිය: PDF

Web: https://liberationbase.wordpress.com
Email: slradical@ymail.com

# ලෙනින්

## තෝරාගත් කෘති
### වෙළුම් දෙළහ



### වෙළුම
### 9



මොස්කව්
ප්‍රගති ප්‍රකාශක මන්දිරය
1981

අනුවාදය — උ. මු. අබයරත්න

**В. И. ЛЕНИН**

ИЗБРАННЫЕ ПРОИЗВЕДЕНИЯ В 12 ТОМАХ

Том 9

*на языке сингхала*



Л $\frac{10102—855}{014(01)—81}$ 863—81 0101020000

පටුන

# නිර්ධන පංති විප්ලවය සහ කෞට්ස්කි ද්‍රෝහියා

## පෙරවදන

කෞට්ස්කිගේ 'නිර්ධන පංති ආඥාදායකත්වය' නැමති පොත මෑත කාලයක වියානා නුවරදී පළවිය (Wien, 1918, Ignaz Brand. පිටු 63). එම පොත, බොහෝ කලක සිටම සියලුම රටවල සියලුම අවංක සමාජවාදීන්ගේ කථාබහට මාතෘකාවක් වුනු දෙවැනි ජාත්‍යන්තරයේ[1] අන්ත සහ නීච බංකොලොත්භාවය පෙන්නුම් කරන ඉතා අගනා නිදර්ශනයක් වේ. නිර්ධන පංති විප්ලවය දැන් රටවල් ගණනාවකම ප්‍රායෝගික ප්‍රශ්නයක් බවට පත්වෙමින් තිබේ. එනිසා කෞට්ස්කිගේ ද්‍රෝහී විතණ්ඩවාදී කියමන් ගැන හා ඔහු මාක්ස්වාදයෙන් සම්පූර්ණයෙන්ම බැහැර වීම ගැන විමසා බැලීම අත්‍යවශ්‍ය වන්නේය.

එහෙත් ප්‍රථමයෙන්ම, කෞට්ස්කි මාක්ස්වාදය අත්හැර දමා සිටින බව මෙහි කතුවරයා යුද්ධය පටන් ගත් තැන සිටම නැවත නැවතත් පෙන්වා දුන් බව අවධාරණය කළ යුතුය. 1914 පටන් 1916 දක්වා කාලය තුළ විදේශයෙහිදී නිකුත් කෙරුනු "සොට්සල්ඩිමොක්‍රට්"[2] පත්‍රයෙහි සහ "කොමියුනිස්ට්"[3] සඟරාවෙහි පළ කළ ලිපි ගණනාවකින් මේ ගැන කරුණු විස්තර කරන ලදී. පසුව පෙට්‍රොග්‍රෑඩ් සෝවියට් සභාව මෙම ලිපි එකතු කොට ඒවා "ප්‍රවාහයට එදිරිව" යන නමින් (පෙට්‍රොග්‍රෑඩ් 1918. පිටු 550 කි) පළ කළේය. එහි කතුවරු ලෙසට ජී. සිනොවියෙව්ගේ හා එන්. ලෙනින්ගේ නම් සඳහන් කොට තිබිනි. 1915 දී මා ජිනීවාහිදී පළකළ හා එක්වරම ජර්මන් හා ප්‍රංශ භාෂාවලට[4] පරිවර්තනය කරන ලද කුඩා පොතක, "කෞට්ස්කිවාදය" ගැන මෙසේ සඳහන් කෙළෙමි:

"කෞට්ස්කි දෙවැනි ජාත්‍යන්තරයේ ප්‍රමුඛ අධිකාර උන්නත පුද්ගලයාය. මාක්ස්වාදය වචන මාත්‍රයෙන් පිළිගැනීම භාවිතයේදී "ස්ත්‍රූවේවාදයට", නැතහොත් "බ්‍රෙන්ටානෝවාදයට" (එනම්, රුසියානු ලේඛක ස්ත්‍රූවේ සහ ජර්මන් ආර්ථික විද්‍යාඥ බ්‍රෙන්ටානෝ විසින්

ඉතාමත් පැහැදිලි ලෙස ප්‍රකාශිත, නිර්ධන පංතියේ විප්ලවවාදී නොවන ''පංති'' අරගලය පිළිගන්නා ධනපති-ලිබරල් න්‍යායයට) පරිවර්තනය වීමට මාර්ගය සකස් වූයේ කෙසේද යන්න පෙන්වීමට ඔහු සපයන්නේ ඉතාමත් කදිම සහ සිත් කාවදින නිදර්ශනයකි. ප්ලෙහානොව් ඒ පිළිබඳ තවත් නිදර්ශනයකි. නියත විතණ්ඩවාදී කථා මගින් මාක්ස්වාදයේ විප්ලවවාදී ජීවගුණය ඉවත් කරනු ලැබේ. මාක්ස්වාදයේ විප්ලවවාදී අරගල ක්‍රමත්, එම ක්‍රමවලට අදළ ප්‍රචාරය සහ සූදනම්කාරී කටයුතුත්, ඒ කරා යොමු වූනු අධ්‍යාපනයක් ජනතාවට දීමත් හැර, එහි අන්තර්ගත අන් සියල්ලක්ම පිළිගනු ලැබේ. සමාජ-ජාතෝත්‍යාන්මාදවාදයේ මූලික අදහස වන වර්තමාන යුද්ධයේදී පීතෘභූමිය ආරක්ෂා කිරීම පිළිගැනීම හා සමග, උපායික ලෙස වාමාංශයට ව්‍යාජ පහසුවක් දීම, නැතහොත්, යුද්ධ ණය මුදල් සඳහා ඔහුගේ ඡන්දය දීමෙන් වැලකී සිටීමත්, තමන් විරුද්ධ පාර්ශවයේ සිටින බව වාචක ලෙස ප්‍රකාශ කිරීමත්, ආදිය කෞට්ස්කි විසින් ''ගලපනු'' ලබන්නේ ප්‍රතිපත්ති විරහිත ආකාරයකිනි. නුදුරේ එන විප්ලව යුගය ගැන සහ යුද්ධයත් විප්ලවයත් අතර සම්බන්ධය ගැන 1909 වර්ෂයේදී පොතක් ලියූ ඒ කෞට්ස්කිම, ඇතිවෙන්නට යන යුද්ධයෙන් විප්ලවීය වාසි සලසා ගැනීම ගැනවූ 1912 බාසාල් ප්‍රකාශනය[5] අත්සන් කළ ඒ කෞට්ස්කිම, දැන් සමාජ-ජාතෝත්‍යාන්මාදවාදය සාධාරණය කර දක්වමින් හා හුවා දක්වමින්, තමන් අභිභවන්නේය. විප්ලවය පිළිබඳ සෑම සිතුවිල්ලක්ම සහ අප්‍රමාද විප්ලවීය අරගලය අරමුණු කරගෙන ගන්නා පියවර සියල්ලක් ම සමච්චලයට ලක් කිරීම සඳහා ඔහු ප්ලෙහානොව් මෙන්ම ධනපතියන් සමග එකතු වන්නේය.

''කම්කරු පංතිය, මෙම පස්සට ලිස්සීමටත්, චපලත්වයටත්, අවස්ථාවාදයට අවනත වීමටත් උපමා විරහිත තරම් ලෙසින් මාක්ස්වාදී න්‍යායයන් කෙලෙසීමටත් විරුද්ධව නිර්දය අරගලයක් කරත හොත් මිස, එය එහි ලෝක-විප්ලවවාදී කාර්ය කොටස ඉටු කිරීමට අපොහොසත් වනු ඇත. කෞට්ස්කිවාදය හේතු විරහිතව ඇති වූවක් නොවේ. එය දෙවැනි ජාත්‍යන්තරය තුළ තිබෙන ප්‍රතිවිරෝධතාවයන්ගේත්, වචනයෙන් මාක්ස්වාදයට පක්ෂ වීමේ සහ ක්‍රියාවෙන් අවස්ථාවාදයට යටත් වීමේ සම්මිශ්‍රනයේත් සමාජ ප්‍රතිඵලයකි''. (ජී. සිනොවියෙව් සහ එන්.ලෙනින්. ''සමාජවාදය සහ යුද්ධය'' ජිනීවා, 1915, පිටු 13-14).

අධිරාජ්‍යවාදය ගැන කෞට්ස්කි ඉදිරිපත් කරන තර්කවල න්‍යායික සාවද්‍යතාවය සම්බන්ධව මම තවත් වරෙක සවිස්තර විමර්ශනයක් කෙළෙමි. මා එසේ කළේ, මා 1916 දී ලියූ හා 1917 දී පෙට්‍රොග්‍රෑඩයේදී පළ කෙරුනු 'අධිරාජ්‍යවාදය, ධනපති ක්‍රමයේ අළුත්ම අවධිය' යන පොතෙනි. අධිරාජ්‍යවාදය ගැන කෞට්ස්කි දෙන නිර්වචනය මම එහි



උපුටා දැක්වූයෙමි: ''අධිරාජ්‍යවාදය යනු උසස් මට්ටමකට වර්ධනය වූ කාර්මික ධනපති ක්‍රමයේ නිෂ්පාදිතයකි. එය සමන්විත වන්නේ කෘෂිකාර්මික භූමිභාගවල වෙසෙන ජාතීන් කවුරුන්ද යන්න නොතකා, ඉන් විශාල ප්‍රදේශ සියල්ලක්ම තම පාලනයට, නැතහොත් යටත්කර ගැනීමට සෑම කාර්මික ධනපති ජාතියක්ම දරන ප්‍රයත්නයෙනි (අවධාරණය කෞට්ස්කිගේය).'' එම නිර්වචනයේ ඇති සම්පූර්ණ සාවද්‍යතාවය හා එය අධිරාජ්‍යවාදයේ ඉතාමත්ම ගැඹුරු ප්‍රතිවිරොධිතාවයන් සටහන් කිරීමට හැඩගැසීමේ නැඹුරුවද, පසුව, එය අවස්ථාවාදය සමග සම්මුතිගතවීමේ නැඹුරුවද මම පෙන්වා දුනිමි. මම අධිරාජ්‍යවාදය පිළිබඳ මගේ නිර්වචනය ද එහි දැක්වූයෙමි: ''අධිරාජ්‍යවාදය යනු ඒකාධිකාරවල හා මූල්‍ය ප්‍රාග්ධනයේ ආධිපත්‍යය ස්ථාපිත වූ අවධියට පත් ධනපති ක්‍රමයය. එම අවධියේදී ප්‍රාග්ධන අපනයනය ප්‍රමුඛ වැදගත්කමක් දරයි. සංගත ව්‍යාපාර අතර ලෝකය බෙදා ගැනීම මෙම අවධියේදී ආරම්භ වූ අතර, එය තුළදී මිහිතලයේ සියලුම භූමිභාග ලොකුම ධනපති බලවතුන් අතර බෙදා ගැනීම සම්පූර්ණ කර තිබේ''. අධිරාජ්‍යවාදය ගැන කෞට්ස්කි කරන විවරණය, ධනපති අමන විවරණයටත් වඩා පහත් මට්ටමකට වැටී තිබෙන බව මම පෙන්වා දුන්නෙමි.

අවසානයේදී, 1917 අගෝස්තු සහ සැප්තැම්බර් මාසවල, එනම්, රුසියාවේ නිර්ධන පංති විප්ලවයට (1917 ඔක්තෝබර් 25 — නොවැම්බර් 7) පෙර, මම ''රාජ්‍යය සහ විප්ලවය, රාජ්‍යය පිළිබඳ මාක්ස්වාදී න්‍යායය සහ විප්ලවයේදී නිර්ධන පංතියට භාර කාර්යයන්'' නැමති පොත ලිව්මි (එය 1918 ආරම්භයේදී පෙට්‍රොග්‍රෑඩයෙහි පළ කරන ලදී). එම පොතේ ''අවස්ථාවාදීහු මාක්ස්වාදය කෙලෙසති'' යන සිරස්තලය සහිත හයවැනි පරිච්ඡේදයෙන් මම කෞට්ස්කි ගැන විශේෂ අවධානයක් යොමු කෙළෙමි. ඔහු මාක්ස්ගේ අදහස් සම්පූර්ණයෙන්ම විකෘති කර තිබෙන බවත්, අවස්ථාවාදයට ගැලපෙන ලෙසට ඒවා කප්පාදු කර තිබෙන බවත්, ඔහු ''විප්ලවය වචනයෙන් පිළිගන්නා අතර ක්‍රියාවෙන් එය අත්හැර දමා ඇති'' බවත් මම එයින් පෙන්වා දුන්නෙමි.

මූලික වශයෙන් ගත් කල, කෞට්ස්කි ඔහුගේ නිර්ධන පංති ආඥාදායකත්වය පිළිබඳ පොත ලිවීමේදී කළ ප්‍රධාන න්‍යායික වරද ගැබ්වී තිබෙන්නේ, රාජ්‍යය පිළිබඳ මාක්ස්ගේ අදහස් සම්බන්ධයෙන් වූ ඒ අවස්ථාවාදී විකෘති කිරීම් තුළය. මගේ ''රාජ්‍යය සහ විප්ලවය'' නැමති පොතෙන්,මම එම විකෘති කිරීම් ගැන විස්තර සහිතව හෙළිදරව් කෙළෙමි.

බොල්ෂෙවික්වරු රාජ්‍ය බලයට පත්වීමට හා එම නිසා කෞට්ස්කි ඔවුන් හෙළා දැකීමට බොහෝ ඉහතදී මා කෞට්ස්කි ද්‍රෝහියෙක් ලෙසට

හඳුන්වා ඔහුට විවෘත ලෙස චෝදනා කළ බව මෙම ප්‍රාරම්භක කරුණුවලින් පෙනෙන හෙයින්, ඒවා ගැන සඳහන් කිරීම අවශ්‍ය විය.

කෞට්ස්කි ඔහුගේ පොතෙන් මූලික වශයෙන් සාකච්ඡා කරන්නේ, ඒකාන්ත වශයෙන්ම නිර්ධන පංති විප්ලවයේ හරය වන නිර්ධන පංතියේ ආඥාදායකත්වය පිළිබඳ ප්‍රශ්නය ය. මෙය සියලුම රටවලට ඉතාමත් වැදගත් ප්‍රශ්නයක් වේ. විශේෂයෙන්ම දියුණු රටවලට, විශේෂයෙන්ම යුද්ධකාරී රටවලට හා විශේෂයෙන්ම වර්තමාන වකවානුවේදී, එය වැදගත් වේ. මුළු මහත් නිර්ධන පංති අරගලයේම මූලික ප්‍රශ්නය මෙය බව අතිශයෝක්තියට බිලි වීමේ බියෙන් තොරව කෙනෙකුට කිව හැකිය. එනිසා, ඒ ගැන විශේෂ අවධානයක් යොමු කිරීම අවශ්‍යය.

## මාක්ස් සාමාන්‍ය ලිබරල්වාදියෙක් බවට හැරවීමට කෞට්ස්කි ගත් මග

කෞට්ස්කි මෙම කරුණ යෙදුම්ගත කරන්නේ පහත සඳහන් ආකාරයෙනි: ''සමාජවාදී උපනති දෙක අතර (එනම් බොල්ෂෙවික්වරු සහ බොල්ෂෙවික්වරු නොවන අය අතර) තිබෙන අසමානතාවය වූකලී, මූලික වශයෙන් එකිනෙකට වෙනස් ක්‍රම දෙක වන ආඥාදායක සහ ප්‍රජාතන්ත්‍රවාදී යන ක්‍රම අතර ඇති අසමානත්වයයි'' (පිටු 3).

රුසියාවේ බොල්ෂෙවික් නොවන අය, එනම් මෙන්ෂෙවික්වරු[6] සහ සමාජවාදී-විප්ලවවාදීන්[7] සමාජවාදීන් ලෙසට හැඳින්වීමේදී කෞට්ස්කි සැලකිල්ලට ගෙන ඇත්තේ ඔවුන්ගේ නම, එනම්, වචනය පමණක් බව, අමතර වශයෙන් සඳහන් කරමු. නිර්ධන පංතිය හා ධනපති පංතිය අතර කෙරෙන අරගලයේදී ඔවුන් දරන නියම තැන ගැන ඔහු සැලකිල්ලක් දක්වා නැත. මෙය නම් අගේ ඇති ලෙසින් මාක්ස්වාදය වටහා ගැනීමක් හා ක්‍රියාත්මක කිරීමක් වේ! ඒ ගැන වැඩිදුරටත් සඳහන් කිරීම පසුවට තබමු.

දැනට ප්‍රධාන කරුණ ගැන, එනම්, ''ප්‍රජාතන්ත්‍රවාදී සහ ආඥාදායක ක්‍රම'' අතර ''මූලික අසමානතාවය'' පිළිබඳ වූ කෞට්ස්කිගේ ශ්‍රෙෂ්ඨ සොයා ගැනීම ගැන විමසා බැලිය යුත්තෙමු. ප්‍රශ්නයේ අරටු කොටස එයයි. කෞට්ස්කිගේ පොතෙහි සාරාර්ථය එයයි. එය කොතරම් විෂම අවුල් ජාලයක්ද යත්, මාක්ස්වාදය අත් හැර දැමීමක්ද යත්, ඒ අතින් ඔහු බර්න්ෂ්ටයින්ට වඩා මහත් සාමාර්ථයක් දක්වා ඇති බව පිළිගත යුතුව තිබේ.

නිර්ධ පංති ආඥාදායකත්වය යනු ධනපති රාජ්‍යය කෙරෙහි නිර්ධන පංති රාජ්‍යය දක්වන සම්බන්ධකම් පිළිබඳ, ධනපති ප්‍රජාතන්ත්‍රවාදය



කෙරෙහි නිර්ධන පංති ප්‍රජාතන්ත්‍රවාදය දක්වන සම්බන්ධකම් පිළිබඳ ප්‍රශ්නයකි. මෙය කීමට අවශ්‍ය නොවන තරම් පැහැදිලි දෙයකැයි කෙනෙක් සිතනු ඇත. නමුත් කෞට්ස්කි, එකම ඉතිහාස පාඩම් පොතකින් කොටස් උපුටා දක්වමින් දූවිල්ල මෙන් වියළි ස්වභාවයක් පාන පාඨශාලාචාර්යවරයෙක් මෙන්, විසිවැනි ශත වර්ෂයට ඔහුගේ පස්සද, දහ අටවැනි ශත වර්ෂයට ඔහුගේ මුහුණද හරවාගෙන සිටිමින්, පරමඅධිපතිවාදය සහ මධ්‍යතනවාදය කෙරෙහි ධනපති ප්‍රජාතන්ත්‍රවාදය දක්වන සම්බන්ධකම් පිළිබඳ හපය සියවැනි වරටත්, ඡේද ගණනාවක් මගින්, නොඇදහිය හැකි තරම් වාරුවෙන් විකන්නේය!

එය ඇසෙන්නේ හරියටම ඔහු නින්දෙන් රෙදි කඩමාලු හපන කලෙක මෙනි!

ඇත්ත වශයෙන්ම මෙයින් පෙනෙන්නේ ඔහු කාරණා තේරුම් ගැනීමට සම්පූර්ණයෙන්ම අපොහොසත් වන බවය! ''ප්‍රජාතන්ත්‍රවාදය කෙරෙහි පිළිකුල'' (පිටු 11) ආදිය දේශනා කරන අය සිටිතැයි පෙන්වීමට කෞට්ස්කි දරන පරිශ්‍රමය දැක කෙනෙකුට සිනා නොවී සිටිය නොහැකිය. ප්‍රශ්නය නොපැහැදිලි සහ ව්‍යාකූල කිරීමට කෞට්ස්කි උපයෝගි කර ගන්නේ එවැනි ප්‍රලාපය. ඔහු ප්‍රජාතන්ත්‍රවාදය ගැන පොදුවේ සඳහන් කරමින් කථා කරන්නේ ලිබරල්වාදීන් මෙනි. ඔහු ධනපති ප්‍රජාතන්ත්‍රවාදය ගැන සඳහන් නොකරයි. මෙම නියත පංති වදන පාවිච්චි කිරීම පවා මග හරින ඔහු ඒ වෙනුවට ''සමාජවාදයට-පෙර'' ප්‍රජාතන්ත්‍රවාදය ගැන කථා කිරීමට උත්සාහ කරයි. මෙම පුහු කථා කාරයා, ඔහුගේ පොතෙන් තුනෙන් පංගුවක්ම පමණ, පිටු හැට තුනකින් විස්සක්ම, මෙම ප්‍රලාප සඳහා වෙන් කර ඇත. එය ධනපතියන්ගේ සතුටට හේතු වනු ඇත. එසේ වන්නේ, එය ධනපති ප්‍රජාතන්ත්‍රවාදය හුවා දැක්වීමක් සහ නිර්ධන පංති විප්ලවය පිළිබඳ ප්‍රශ්නය අඳුරෙහි ලෑමක් වන හෙයිනි.

නමුත්, ඒ සියල්ලම එසේ වුවත්, කෞට්ස්කිගේ පොතට නම තබා ඇත්තේ 'නිර්ධන පංති ආඥාදායකත්වය' යනුවෙනි. මෙය ඉඳුරාම මාක්ස්වාදයේ හරයම බව කවුරුත් දන්නා නිසා ප්‍රලාප රැසක් දෙඩීමෙන් පසුව, කෞට්ස්කිට මග හැරිය නොහැකි ලෙසට සිදුවන්නේ නිර්ධන පංති ආඥාදායකත්වය ගැන මාක්ස්ගේ වචන උපුටා දැක්වීමටය.

නමුත් ''මාක්ස්වාදී'' ඔහු, එය කළේ ඉඳුරාම වංචනික ආකාරයකිනි! මෙය අසන්න:

''මෙම මතය'' (කෞට්ස්කි එලෙසින් හඳුන්වන්නේ ''ප්‍රජාතන්ත්‍රවාදය කෙරෙහි පිළිකුල'' ගැනය) ''මාක්ස්ගේ එක තනි වචනයක් මත රඳා පවතින්නකි.'' කෞට්ස්කි 20 වැනි පිටුවේ කියා තිබෙන දෙයෙහි පදගත අර්ථය එයයි. 60 වැනි පිටුවේද නැවතත් එයම කියා තිබේ. එපමණක්

නොව ''1875 දී මාක්ස් වරක් ලිපියක යෙදූ නිර්ධන පංති ආඥාදායකත්වය ගැනවූ කුඩා වචනයක්'' (ඔහු කියා ඇති දෙයෙහි පදගත අර්ථය එයයි — des wörtchens) ගැන ඔවුහු (බොල්ෂෙවික්) වරු ''අවස්ථාවෝචිත ලෙස මතක් කළහ'' යන ආකාරයෙන් පවා එය කියා ඇත.

මාක්ස්ගේ ''කුඩා වචනය'' මෙසේය:

''ධනපති සමාජය සහ කොමියුනිස්ට් සමාජය අතර, එකක සිට අනිකට විප්ලවීය ලෙස පරිවර්තනය වීමේ කාල පරිච්ඡේදයක් ඇත. ඊට ගැලපෙන දේශපාලන පරිවර්තනයේ කාල පරිච්ඡේදයක්ද ඇත. එම කාලය තුල රාජ්‍යය නිර්ධන පංති ආඥාදායකත්වය මිස අන් කිසිවක් විය නොහැකිය''[8]

ප්‍රථමයෙන්ම, මාක්ස්ගේ විප්ලවවාදී උගැන්වීම් පිඬු කොට දක්වන ඔහුගේ මෙම සුප්‍රසිද්ධ තර්කණය ''එක වචනයක්'' ලෙසට හා ''කුඩා වචනයක්'' ලෙසට පවා හැඳින්වීම මාක්ස්වාදයට කරන නිග්‍රහයක් සහ මාක්ස්වාදය අත්හැර දැක්වීමක් වේ. කෞට්ස්කි මාක්ස්ගේ කෘති කට පාඩමින් පාහේ දන්නා බව අමතක නොකළ යුතුය. ඔහු ලියා ඇති සියල්ල ගැන සලකා බලන කල, මාක්ස් ලියූ සෑම සියලු ලියවිල්ලක්ම ඔහුගේ මේසයෙහි නැතහොත් මොලයෙහි කුඩු රාක්ක ගණනාවක ගොනුකර, පහසුවෙන් උපුටා ගත හැකි සේ ප්‍රවේසම් සහිතව තැන්පත් කර ඇති සේ පෙනේ. මාක්ස් සහ එංගල්ස් යන දෙදෙනාම ඔවුන්ගේ ලිපිවල පමණක් නොව, ඔවුන්ගේ මුද්‍රිත කෘතිවලද, පැරිස් කොමියුනයට[9] පෙර හා විශේෂයෙන් ඉන් පසුව, නැවත නැවතත් නිර්ධන පංති අඥාදායකත්වය ගැන සඳහන් කළ බව කෞට්ස්කි දැන සිටිය යුතුය. ''නිර්ධන පංති ආඥාදායකත්වය'' වූ කලී අන් කිසිවක් නොව, 1848 විප්ලවයේ සහ ඊටත් වඩා 1871 විප්ලවයේද අත්දැකීම් සම්පිණ්ඩනය කරමින්, 1852 පටන් 1891 දක්වා වූ හතළිස් අවුරුද්දක් කාලය තිස්සේ, මාක්ස් සහ එංගල්ස් යන දෙදෙනාම විසින් සාකච්ඡාවට භාජනය කරන ලද, ධනපති පංති රාජ්‍ය යන්ත්‍රය ''සුන් කිරීම'' පිළිබඳ නිර්ධන පංතියේ කර්තව්‍යය ඓතිහාසික වශයෙන්, යථාභූත ලෙස සහ විද්‍යාත්මක වශයෙන් නිශ්චිත ලෙස යෙදුම් ගත කිරීමක් බව, කෞට්ස්කි දැන නොසිටිය නොහැකිය.

මාක්ස්වාදී අතිපණ්ඩිත කෞට්ස්කි විසින් මෙසේ (අමු අමුවේ) මාක්ස්වාදය විකෘති කරනු ලැබීමට හේතු සාධක වූ කරුණු වශයෙන් දැක්විය හැක්කේ මොනවාද? මෙම ප්‍රපංචයේ දර්ශනික මූලාශ්‍රයන් අනුව බලන කල, එය දයලෙක්තික ක්‍රමය වෙනුවට සාරසංග්‍රහවාදය සහ විතණ්ඩවාදය ආදේශ කිරීමක් වේ. කෞට්ස්කි මෙවැනි ආදේශ කිරීම් සම්බන්ධයෙන් කෙළ පැමිණියෙකි. ප්‍රායෝගික දේශපාලනයේ දෘෂ්ටි කෝණයෙන් බලන කල එය අවස්ථාවාදයට අවනත වීමක්ද, අවසාන



විග්‍රහයේදී ධනපති පංතියට අවනත වීමක්ද වේ. යුද්ධය ආරම්භවූ තැන් පටන් වචනයෙන් මාක්ස්වාදියෙකු සහ ක්‍රියාවෙන් ධනපති පංතියේ දාසයෙකු වීමේ කලාව අතින් වැඩි වැඩියෙන් සීඝ්‍ර ප්‍රගතියට පත් කෞට්ස්කි, දැන් එම කලාවේ විශාරදයෙක් බවට පත්ව සිටී.

නිර්ධන පංති ආඥාදායකත්වය පිළිබඳ මාක්ස්ගේ ''කුඩා වචනය'' ගැන කෞට්ස්කි ''අර්ථ දක්වන'' ආකාරය පරීක්ෂා කර බලන කල අයෙකුට මේ බව තව තවත් හොඳින් ඒත්තුයන්නේය. මෙයට කන් දෙන්න:

''මෙම ආඥාදායකත්වය පිළිබඳ අදහස ඇති කරගත්තේ කෙසේද යන්න ගැන වඩාත් විස්තර සහිත ලෙස කරුණු දැක්වීම ගැන, මාක්ස් අවාසනාවකට මෙන් සැලකිල්ලක් දැක්වූයේ නැත... (මෙය නම් ද්‍රෝහියෙකුගේ අන්ත බොරු වාක්‍ය ඛණ්ඩයකි. ඇත්ත වශයෙන්ම මේ පිළිබඳ ඉතාමත් විස්තර සහිත මගපෙන්වීම් ගණනාවක් මාක්ස් සහ එංගල්ස් විසින් සපයන ලදී. මාක්ස්වාදී අතිපණ්ඩිත කෞට්ස්කි උවමනා-වෙන්ම ඒවා නොසලකා හැර ඇත.) ''...පදගත අර්ථය අනුව ආඥාදායකත්වය යන වචනයෙන් අදහස් වන්නේ ප්‍රජාතන්ත්‍රවාදය අහෝසි කිරීමය. නමුත් පදගත අර්ථයෙන් ගත් කල, නීතිවල සීමාවන්ට යටත් නැති තනි පුද්ගලයෙකුගේ ඒකාග්‍ර පාලනයක්, නැතහොත්, නිත්‍ය රාජ්‍ය ආයතනයක් නොවන හා තාවකාලික හදිසි පියවරක් වන අර්ථයෙන් පමණක් සර්වාධිකාරයෙන් වෙනස් වන ඒකාධිපත්‍යයක්ද, මෙම වචනයෙන් අදහස් වේ.

''නිර්ධන පංති ආඥාදායකත්වය'' යන යෙදුමෙන් අදහස් වන්නේ තනි පුද්ගල ආඥාදායකත්වයක් නොව පංතියක ආඥාදායකත්වයකි. ඒ හේතුව නිසාම, මෙම යෙදුම, මේ සම්බන්ධයෙන් මාක්ස්ගේ සිතෙහි තිබුණු වචනයේ පදගත අර්ථයෙන්වූ ආඥාදායකත්වය පිළිබඳ හැකියාව බැහැර කරන්නකි.

''මෙහිදී ඔහු කියන්නේ ආණ්ඩු ආකෘතියක් ගැන නොවේ. තත්වයක් ගැනය. නිර්ධන පංතිය දේශපාලන බලය අත්පත් කරගත් කුමණ තැනකදී වුව අවශ්‍යයෙන්ම එම තත්වය ඇති විය යුතුය. බ්‍රිතාන්‍යයේ හා ඇමෙරිකාවේ පරිවර්තනය සාමකාමී ලෙස, එනම්, ප්‍රජාතන්ත්‍රවාදී ආකාරයකින් සිදුවිය හැකිය යනු මාක්ස් අදහස් කළ අතර, මෙහිදී ඔහුගේ සිතෙහි තිබුණේ ආණ්ඩු ආකෘතියක් නොවන බව එම කරුණෙන් ඔප්පු වේ'' (පිටු 20).

අපි උවමනාවෙන්ම මෙම තර්කය සම්පූර්ණයෙන්ම උපුටා දැක්වූයෙමු. අප එසේ කළේ, ''න්‍යායාචාර්ය'' කෞට්ස්කි උපයෝගී කර ගන්නා ක්‍රම පැහැදිලිව දැක දැනීමේ අවස්ථාවක් පාඨකයාට ලැබෙනු පිණිසය.

ආඥාදායකත්වය යන ''වචනයට'' අර්ථ දැක්වීමෙන් ආරම්භ වන ක්‍රමයකින් ප්‍රශ්නය වෙත ළඟාවීමට කෞට්ස්කි තීරණය කළේය.

හොඳයි. තමන් කැමති ආකාරයකින් ප්‍රශ්නයකට ලඟාවීමේ ශුද්ධ අයිතිය සෑම කෙනෙකුටම තිබේ. නමුත් ප්‍රශ්නයක් වෙත අවංක ලෙස ලඟාවීම හා වංක ලෙස ලඟාවීම අතර වෙනස නම් කෙනෙක් හඳුනා ගත යුත්තේමය. මේ ආකාරයෙන් බරපතල හැඟීමකින් යුතුව ප්‍රශ්නයට ලඟාවීමට අපේක්ෂා කරන අයෙක් වේනම්, ඔහු "වචනය" ගැන නියම අර්ථ කථනය ඉදිරිපත් කළ යුත්තේය. එවිට ප්‍රශ්නය හරියට හා පැහැදිලි ලෙස ඉදිරිපත් කළා වන්නේය. නමුත් කෞට්ස්කි එසේ කරන්නේ නැත. "පදගත අර්ථය අනුව ආඥාදායකත්වය යන වචනයෙන් අදහස් වන්නේ ප්‍රජාතන්ත්‍රවාදය අහෝසි කිරීමය" යි ඔහු ලියයි.

පළමුවෙන් කිවයුත්තේ, මෙය අර්ථ දැක්වීමක් නොවන බවය. ආඥාදායකත්වය යන සංකල්පයට අර්ථ දැක්වීම මගහැරීමට කෞට්ස්කිට උවමනා වී නම්, ඔහු ප්‍රශ්නයට ලඟා වීමේ මෙම විශේෂ ක්‍රමය තෝරා ගත්තේ මන්ද?

දෙවැනිව කිවයුත්තේ, මෙය පැහැදිලි ලෙසම වැරදි බවය. "ප්‍රජාතන්ත්‍රවාදය" ගැන පොදුවේ කථා කිරීම ලිබරල්වාදියෙකුට ස්වාභාවික දෙයකි. නමුත් "කුමණ පංතියකටද?" යන ප්‍රශ්නය ඇසීමට මාක්ස්වාදියෙකුට නම් කිසි කලෙකත් අමතක වන්නේ නැත. පුරාණ කාලයේ රාජ්‍යය අවශ්‍යයෙන්ම වහල් හිමියන්ගේ ආඥාදායකත්වයක් වූ බව පුරාණයේ වහලුන් අතර ඇතිවූ කැරළිවලින්, නැතහොත්, බලවත් කැළඹීම්වලින් පවා එක්වරම පෙනීගිය බව සෑම කෙනෙක්ම, නිදසුනක් ලෙසට, "ඉතිහාසඥ" කෞට්ස්කිද දන්නේය. මෙම ආඥාදායකත්වය විසින් වහල් හිමියන් අතර හා ඔවුන් සඳහා ප්‍රජාතන්ත්‍රවාදය අහෝසි කරන ලද්දේද? එය එසේ නොවූ බව කවුරුත් දන්නේය.

"මාක්ස්වාදී" කෞට්ස්කි මෙම මහා විකාරයක් හා අසත්‍යයක් වන ප්‍රකාශය කළේ ඔහුට පංති අරගලය "අමතක" වූ හෙයිනි...

කෞට්ස්කිගේ ලිබරල්වාදී සහ ව්‍යාජ සහතික කියමන මාක්ස්වාදී සහ සත්‍ය කියමනක් බවට පරිවර්තනය කිරීමට අයෙක් මෙසේ කිව යුතුවේ: අන්‍ය පංති කෙරෙහි ආඥාදායකත්වය ක්‍රියාත්මක කරන පංතිය සඳහා ප්‍රජාතන්ත්‍රවාදය අහෝසි කිරීමක් ආඥාදායකත්වය යන්නෙන් අවශ්‍යයෙන්ම අදහස් වන්නේ නොවේ. නමුත්, යම් පංතියක් කෙරෙහි නැතහොත් එයට එරෙහිව ආඥාදායකත්වය ක්‍රියාත්මක කරනු ලැබේද, එම පංතිය සඳහා ප්‍රජාතන්ත්‍රවාදය අහෝසි කිරීම (නැතහොත් අහෝසි කිරීමේ එක් ආකෘතියක් වන බොහෝදුරට සීමා කිරීම) එයින් අදහස් වේ.

නමුත් මෙම කියමන කොතරම් සත්‍ය වුවත් ආඥාදායකත්වය පිළිබඳ අර්ථ කථනයක් එයින් සැපයෙන්නේ නැත.



කෞට්ස්කිගේ ඊංළඟ වාක්‍ය පිරික්සා බලමු:

"...නමුත් පදගත අර්ථයෙන් ගත් කල, නීතිවල සීමාවන්ට යටත් නැති තනි පුද්ගලයෙකුගේ ඒකාග්‍ර පාලනයක්... මෙම වචනයෙන් අදහස් වේ".

නියමයක් නැතිව, වරක් එක් දිසාවකටත්, තවත් වරක් වෙනත් දිසාවකටත් ඉව අල්ලන බලු කුක්කෙක් මෙන් ගොස් කෞට්ස්කි එක සත්‍ය අදහසක හැපෙන්නේය (එය නම්, ආඥාදායකත්වය නීතිවල සීමාවන්ට යටත් නැති පාලනයකැයි යන්නය). ඒ එසේ වුවත් ආඥාදායකත්වය ගැන අර්ථ කථනයක් දීමට ඔහු අපොහොසත් විය. එපමණක් නොව, ඔහු එහිදී පැහැදිලිව පෙනෙන ඉතිහාසය පිළිබඳ වරදක්ද කළේය. එම වරද නම් ආඥාදායකත්වය තනි පුද්ගලයෙකුගේ පාලනයක්ය කීමය. පුද්ගලයන් ස්වල්ප දෙනෙක්, නැතහොත් කතිපයාධිපතිත්වයක්, එසේත් නැතහොත්, පංතියක්, ආදිය විසින් ආඥාදායකත්වයක් ක්‍රියාත්මක කළ හැකි හෙයින්, මෙය ව්‍යාකරණානුකූලව පවා වැරදිය.

ඊළඟට, කෞට්ස්කි ආඥාදායකත්වය සහ සර්වාධිකාරය අතර වෙනස පෙන්වා දීමක යෙදෙන්නේය. එහිදීද ඔහු කියන දෙය වැරදි බව පැහැදිලිවම පෙනේ. නමුත් එය අපට වැදගත් වන ප්‍රශ්නයට කිසිසේත් අදාළ නොවන හෙයින් ඒ ගැන අපි කරුණු විස්තර නොකරමු. විසිවැනි ශතවර්ෂයෙන් දහඅටවැනි ශත වර්ෂය වෙතද, දහඅටවැනි ශතවර්ෂයේ සිට පුරාණ අතීතය වෙතද හැරීමට කෞට්ස්කිගේ ඇති සතුට ගැන කවුරුත් දනිති. ජර්මන් කම්කරු පංතිය ඔහුගේ මෙම සතුට සිතේ තබාගෙන, එය එහි ආඥාදායකත්වය පිහිටවූ පසු, ඔහු කිසියම් උසස් විද්‍යායතනයක පුරාණ ඉතිහාසය උගන්වන ගුරුවරයෙක් ලෙස පත් කරනු ඇතැයි බලාපොරොත්තු වෙමු. සර්වාධිකාරය ගැන දර්ශනික මත පළ කරමින්, නිර්ධන පංති ආඥාදායකත්වය ගැන නිර්වචනයක් නොදී මග හැරීමට උත්සාහ කිරීම යනු එක්කෝ අන්ත තකතිරු කමකි. නැතහොත් අශෝභන කපටි කමකි.

මෙහි ප්‍රතිඵලයක් ලෙසට, නිර්ධන පංති ආඥාදායකත්වය ගැන සාකච්ඡා කිරීමට භාර ගත් කෞට්ස්කි, අමූලික බොරු රැසක් ඇද බෑ නමුත්, නිර්වචනයක් දී නොමැති බව අපට පෙනේ! නමුත්, ඔහුගේ බුද්ධිය කෙරෙහි විශ්වාසය තබනවා වෙනුවට, ආඥාදායකත්වය ගැන මාක්ස් සඳහන් කළ අවස්ථා සියල්ලම "කුඩු රාක්කවලින්" මෑත් කර ගැනීමට, ඔහුට ඔහුගේ මතකය උපයෝගි කරගත හැකිව තිබුණි. ඔහු එසේ කළේ නම් පහත සඳහන් අර්ථ නිරූපනය නැතහොත්, අර්ථයෙන්

ඊට සර්වසම වන වෙනත් අර්ථ නිරූපනයක් ඔහුට හමුවන්නට තිබුණි: ආඥාදායකත්වය යනු කෙළින්ම බලහත්කාරය මත පදනම්වුනු සහ නීතිවලින් සීමා නොකෙරුනු පාලනය වේ.

නිර්ධන පංතියේ විප්ලවවාදී ආඥාදායකත්වය යනු නිර්ධන පංතිය විසින් ධනපති පංතියට විරුද්ධව යොදන ප්‍රචණ්ඩ භාවය මගින් නිර්ධන පංතිය දිනා ගන්නා හා පවත්වාගන්නා පාලනයක්ද, කිසිම නීතියකින් සීමා නොකරන ලද පාලනයක්ද වේ.

මෙය සරල සත්‍යයකි. මෙය පංතිවිඥානය ඇති (සියලුම රටවල සමාජ-අධිරාජ්‍යවාදීන් මෙන් ධනපතියන්ගෙන් අල්ලස්ගත් සුළු-ධනපති පෝරිසාදයන්ගේ ඉහළ ස්ථරයක් නොව, ජනතාව නියෝජනය කරන) සෑම කම්කරුවෙකුටම සක් සුදක් සේ පැහැදිලි සත්‍යයකි. මෙය තමන්ගේ විමුක්තිය සඳහා සටන් කරන, සූරාකනු ලබන පංතිවල සෑම නියෝජිතයෙකුටම ඉතා හොඳින් පෙනෙන සත්‍යයකි. මෙය සෑම මාක්ස්වාදියෙක්ම අවිවාදයෙන්ම පිළිගන්නා සත්‍යයකි. නමුත් මෙය මහා උගත් කෞට්ස්කිගෙන් "බලෙන් උදුරා ගත යුතු" සත්‍යයක් වී තිබේ! එයට හේතු වී ඇත්තේ කුමක්ද? එයට හේතු වී තිබෙන්නේ, ධනපති පංතියේ සේවයෙහි යෙදී සිටින පිළිකුල් සහගත බොරුවර්ණනා කාරයන් වන දෙවැනි ජාත්‍යන්තරයේ නායකයන් තුළ ඉතිරි පැතිරී තිබෙන දසත්වයේ ජීවගුණයම ය.

ආඥාදායකත්වය යන්නෙන් පදගත අර්ථයෙන් තනි පුද්ගලයෙකුගේ ආඥාදායකත්වය අදහස් වන්නේය යන අන්ත බහුබූතය ප්‍රකාශයට පත් කිරීමෙන් කෞට්ස්කි ප්‍රථමයෙන්ම ඇස් බැන්දුමක් පෙන්වීය. ඊළඟට එම ඇස්බැන්දුමේ බලය කෙරෙහි විශ්වාසය තබමින්, පංතියක ආඥාදායකත්වය සම්බන්ධයෙන් මාක්ස් ප්‍රකාශ කළ වදන් වලින් "අදහස් කරන ලද්දේ" පදගත අර්ථය නොවන (නමුත් ආඥාදායකත්වය යනුවෙන් අදහස් කෙරෙන්නේ විප්ලවවාදී ප්‍රචණ්ඩභාවය නොව ධනපති — මෙය සටහන් කරගන්න — "ප්‍රජාතන්ත්‍රවාදය" යටතේ "සාමකාමී ලෙස" බහුතරයක් දිනා ගැනීමේ අර්ථයෙන්) බව ඔහු ප්‍රකාශ කළේය.

"තත්වයක්" හා "පාලන ආකෘතියක්" අතර වෙනස හඳුනාගත යුතුලු. එය පුදුම සහගත තරම් ගැඹුරු වෙනසකි. එය හරියටම මෝඩ ලෙස තර්ක කරන මිනිසෙකුගේ තකතිරුකමේ "තත්වයත්" ඔහුගේ තකතිරුකමේ "ආකෘතියත්" අතර වෙනස හඳුනා ගැනීම මෙනි.

ආඥාදායකත්වය "ආධිපත්‍යය පැවැත්වීමේ තත්වයක්" ලෙසට විස්තර කිරීම කෞට්ස්කිට අවශ්‍ය වේ (ඊ ළඟ, 21 වැනි පිටුවේ ඔහු යොදන පාඨයෙහි වචනාර්ථය එයයි). ඔහුට එය අවශ්‍ය වන්නේ එය යොදගත් කල විප්ලවවාදී ප්‍රචණ්ඩභාවය සහ ප්‍රචණ්ඩ විප්ලවය අතුරුදහන් වන


Россійская Коммунистическая Партія (большевиковъ).

Н. Ленинъ (Вл. Ульяновъ).

ПРОЛЕТАРСКАЯ РЕВОЛЮЦІЯ И РЕНЕГАТЪ КАУТСКІЙ.

බැවිනි. ''ආධිපත්‍යය පැවැත්වීමේ තත්වය'' වූකලී, ඕනෑම බහුතරයක් තමන් ''ප්‍රජාතන්ත්‍රවාදය'' යටතේ... සිටිනු දකින තත්වයකි! එවැනි වංචාවකට ස්තුති වන්නට විප්ලවය සතුටෙන්ම අතුරුදහන් වන්නේය!

එසේ වුවත්, මෙම වංචාව පමණට වඩා ගොරහැඩි හෙයින්, කෞට්ස්කිට එයින් ගැලවිල්ලක් නොවනු ඇත. මන්දයත්, එක පංතියක් තවත් පංතියකට විරුද්ධව යොදන විප්ලවවාදී ප්‍රචණ්ඩභාවයේ ද්‍රෝහීන්ට ඉතාමත් අප්‍රියකර ''තත්වයක්'' ආඥාදායකත්වය යන්නෙන් අදහස් වන බව හා ඒත්තු ගැන්වෙන බව කෙනෙකුට වසං කළ හැකි නොවන හෙයිනි. රාජාණ්ඩුව සහ සමූහාණ්ඩුව යනු එකිනෙකට වෙනස් ආණ්ඩු ආකෘති දෙකක් බව සෑම පාසල් ළමයෙක්ම පවා දන්නා හෙයින්, මේ හා සම්බන්ධයෙන් ආණ්ඩු ආකෘති ගැන කථා කිරීම තුන් ගුණයක තකතිර කමකි. ධනපති ක්‍රමය යටතේ පවතින සියලුම පරිවර්තනීය ''පාලන ආකෘති'' මෙන්ම, මෙම පාලන ආකෘති දෙකද, ධනපති රාජ්‍යයේ, එනම්, ධනපති පංතියේ ආඥාදායකත්වයේ වෙනස් ස්වරූපයන් පමණක් වන බව කෞට්ස්කිට පැහැදිලි කර දිය යුතුව තිබේ.

අන්තිමට කිව යුතුව තිබෙන්නේ පාලන ආකෘති ගැන කථා කිරීම තකතිරු කමක් පමණක් නොව, මාක්ස්ගේ වදන් ඉතා ගොරහැඩි ලෙස විකෘති කිරීමක්ද වන බවය. මේ හා සම්බන්ධයෙන් මාක්ස් ඉතාමත් පැහැදිලිව සඳහන් කළේ රාජ්‍යයේ ආකෘතියක් හෝ හැම ආකාරයක් ගැන මිස, පාලන ආකෘති ගැන නොවේ.

ධනපති රාජ්‍ය යන්ත්‍රය බලහත්කාර ලෙස විනාශ කර දැමීම සහ ඒ වෙනුවට අළුත් එකක්, එංගල්ස්ගේ වචනවලින් කියතොත් ''වචනයේ නියම අර්ථයෙන් තවදුරටත් රාජ්‍යයක් නොවන එකක්,''[10] ආදේශ කිරීම නොමැතිව, නිර්ධන පංති විප්ලවය කිසිසේත් සිදු කළ හැකි නොවේ.

එසේ වී නමුත් කෞට්ස්කිගේ ද්‍රෝහී තත්වය නිසා මේ සියල්ල ව්‍යාකූල කිරීමටත්, ඒවා ගැන බොරු දෙසීමටත් ඔහුට සිදුවී තිබේ.

ඔහු උපයෝගි කරගන්නේ කෙබඳු ප්‍රයෝගදැයි බලන්න.

පළමු ප්‍රයෝගය: ''බ්‍රිතාන්‍යයේ හා ආමෙරිකාවේ පරිවර්තනය සාමකාමී ලෙස, එනම්, ප්‍රජාතන්ත්‍රවාදී ලෙස සිදුවිය හැකිය යනු මාක්ස් අදහස් කළ අතර, මෙහිදී ඔහුගේ සිතෙහි තිබුණේ පාලන ආකෘතියක් නොවන බව එම කරුණෙන් ඔප්පුවේ.''

ධනපති රාජ්‍යයේ නියම ස්වරූපයට වෙනස්, නිදසුනක් ලෙසට, යුද්ධ කල්ලියක් නොමැති රාජාණ්ඩු තිබෙන නිසාද, මේ අතින් නියම ස්වරූපය ගන්නා, නිදසුනක් ලෙසට, යුද්ධ කල්ලියක් සහ නිලධාරි පෙළැන්තියක් සහිත සමූහාණ්ඩු තිබෙන නිසාද, පාලන ආකෘතිය මෙයට අල්පමාත්‍ර හෝ සම්බන්ධයක් නැති දෙයකි. මෙය සෑම කෙනෙක්ම දන්නා

ඓතිහාසික හා දේශපාලන සත්‍යයක් වන අතර, කෞට්ස්කිට එය බොරු කළ හැකි නොවේ.

බරපතල හැඟීමකින් යුතුව හා අවංක ලෙස තර්ක කිරීමේ උවමනාවක් කෞට්ස්කිට වී නම්, ඔහුට තමාගෙන් මෙසේ ඇසිය හැකි විය: විප්ලවයට අදාළවන, කිසිම ව්‍යතිරේකයකට ඉඩ නොතබන ආකාරයේ වූ ඓතිහාසයීය නීති තිබේද? එයට පිළිතුරු මෙසේ විය යුතුව තිබිණි: නැත, එවැනි නීති නැත. එවැනි නීති යෙදෙන්නේ නියම ස්වරූපයේ ධනපති ක්‍රමයටය. නැතහොත්, වරක් මාක්ස් සාමාන්‍ය, සුපුරුදු, නියම ධනපති ක්‍රමය අදහස් කරමින් ''පරිපූර්ණ'' යනුවෙන් හැඳින් වූ ධනපති ක්‍රමයටය.

එපමණක් නොවේ. අප දැන් සාකච්ඡා කරන දෙය හා සම්බන්ධයෙන්, එංගලන්තය හා ඇමෙරිකාව විශේෂ තත්වයකට පත්කළ කිසිවක් හැත්තෑ ගණන් වල තිබුණේද? මෙම ප්‍රශ්නය ඇසි යුතු බව ඉතිහාසයේ ප්‍රශ්නවලට අදළ විද්‍යාවේ අවශ්‍යතාවයන් ගැන යම් හෝ දැනුමක් ඇති ඕනෑම කෙනෙකුට නිරායාසයෙන්ම පෙනී යනු ඇත. මෙම ප්‍රශ්න ඇසීම පැහැර හැරීම යනු විද්‍යාව විකෘති කිරීමක් හා විතණ්ඩවාදයෙහි නියැලීමක් වේ. එම ප්‍රශ්නය ඉදිරිපත් කරන ලද්දේ නම්, එයට මෙසේ පිළිතුරු දිය යුතුව තිබුණු බවට සැකයක් නැත: නිර්ධන පංතියේ විප්ලවවාදී ආඥාදායකත්වය යනු, ධනපති පංතියට විරුද්ධව යොදන ප්‍රචණ්ඩභාවයයි. තවද මාක්ස් හා එංගල්ස් නැවත නැවතත්, විස්තර සහිතව (විශේෂයෙන්ම, ''ප්‍රංශයේ සිවිල් යුද්ධය'' නැමති පොතෙන් හා එහි පෙර වදනෙන්) පැහැදිලි කර තිබෙන පරිදි යුද්ධවාදයේ හා නිලධාරී පෙළැන්තියක පැවැත්ම නිසා, එවැනි ප්‍රචණ්ඩභාවයක අවශ්‍යතාවය විශේෂයෙන්ම මතුවන්නේය. හැත්තෑ ගණන්වලදී මාක්ස්, ඔහුගේ නිරීක්ෂණයන් කරන අවස්ථාවේ බ්‍රිතාන්‍යයේ හා ඇමෙරිකාවේ නොතිබුණේ හරියටම මෙම ආයතනයන්ය. (ඒවා දැන් බ්‍රිතාන්‍යයේ හා ඇමෙරිකාවේ ඇත්තේය)!

කෞට්ස්කිට, ඔහුගේ ද්‍රෝහිත්වය වසා ගැනීම සඳහා අඩියක් අඩියක් පාසාම පාහේ රැවටිලිකාරකම්වල යෙදීමට සිදු වේ!

තවද, ඔහු ''සාමකාමී ලෙස, එනම්, ප්‍රජාතන්ත්‍රවාදී ආකාරයකින්'' යනුවෙන් ලියූ කල, ඔහු අතපසුවීමකින් තමාගේ බූරු කන් පෙන්නුම් කළේය!

ආඥාදායකත්වය ගැන අර්ථ දැක්වීමේදී, මෙම සංකල්පයේ මූලික අංග ලක්ෂණය, එනම්, විප්ලවවාදී ප්‍රචණ්ඩභාවය පාඨකයාගෙන් වසං කර තැබීමට කෞට්ස්කි ඔහුට හැකි සෑම උත්සාහයක්ම දැරුවේය. නමුත් දැන් සත්‍ය හෙළි වී තිබේ: එය සාමකාමී සහ ප්‍රචණ්ඩ විප්ලව අතර වෙනස සොයා බැලීම සඳහා කරන සැසඳීමක් පිළිබඳ ප්‍රශ්නයකි.

කාරණයෙහි අරටු කොටස එයයි. කෞට්ස්කිට මේ සියලු



ප්‍රයෝගයකම, විතණ්ඩවාදී ප්‍රකාශයකම හා විකෘති කිරීමකම යෙදීමට සිදුවන්නේ, ඔහු ප්‍රචණ්ඩ විප්ලවය නොපිළිගෙන සිටීම ගැන කරුණු කීම සඳහා සහ ඔහු එය අත් හැර දමන බවත්, ලිබරල් කම්කරු ප්‍රතිපත්තියේ පැත්තට, එනම්, ඔහු ධනපති පංතියේ පැත්තට පලා ගිය බවත්, වසං කිරීම සඳහා පමණකි. කාරණයෙහි අරටු කොටස එයයි.

''ඉතිහාසඥ'' කෞට්ස්කි ලජ්ජා විරහිත ලෙස ඉතිහාසය විකෘති කරයි. නියම වශයෙන්ම දහනවවැනි සියවසේ හැත්තෑගණන්වලදී ඉහළම අවධිය වෙත සම්ප්‍රාප්ත වුනු හා බ්‍රිතාන්‍යයේ සහ ඇමෙරිකාවේ ඉතාමත් ප්‍රතිරූපාකාර ලෙස දක්නට ලැබුණු, පූර්ව ඒකාධිකාර ධනපති ක්‍රමය, එහි මූලික ආර්ථික ගති ලක්ෂණ නිසාම, සාමයට සහ නිදහසට දක්වන උපරිම ලැදියාවකින් විශේෂත්වයක් ලැබූ බව ඔහුට ''අමතක'' වන්නේය. අනික් අතට අවසාන වශයෙන් විසිවැනි ශත වර්ෂයේදී මුහුකුරා ගිය තත්වයට පත් වූ අධිරාජ්‍යවාදය, එනම් ඒකාධිකාරී ධනපති ක්‍රමය එහි මූලික ආර්ථික ගති ලක්ෂණ නිසාම, එය සාමයට හා නිදහසට දක්වන අවම ලැදියාවකින් හා යුද්ධවාදයේ උපරිම සහ විශ්වීය සංවර්ධනයකින් විශේෂත්වයක් ලබා ඇත. විප්ලවය කොතෙක් දුරට ප්‍රතිරූපාකාරිද නැතහොත් වියහැක්කක්ද සාමකාමීද, නැතහොත්, ප්‍රචණ්ඩද යන්න ගැන සාකච්ඡා කිරීමේදී එය ''සැලකිල්ලට නොගැනීම'' යනු ධනපති පංතියේ ඉතාමත් සාමාන්‍ය බැලයෙකුගේ තත්වයට පහත වැටීමක් වන්නේය.

දෙවැනි ප්‍රයෝගය. පැරිස් කොමියුනය නිර්ධන පංතියේ ආඥාදායකත්වයක් විය. නමුත් එම කොමියුනය තෝරාපත් කරන ලද්දේ සර්වජන ඡන්දයෙනි. එනම්, ධනපති පංතියට ඡන්ද බලය අහිමි කිරීමෙන් තොරව, නොහොත්, ''ප්‍රජාතන්ත්‍රවාදීවය''. එනිසා, කෞට්ස්කි විජයග්‍රාහී ලෙස මෙසේ කියයි: ''මාක්ස් සැලකූ (නැතහොත්, මාක්ස් කී) ලෙසට නිර්ධන පංති ආඥාදායකත්වය යනු, නිර්ධන පංතිය බහුතරය බවට පත්වුවහොත්, ඒ අනුව, පිරිසිදු ප්‍රජාතන්ත්‍රයෙන් අවශ්‍යයෙන්ම උද්ගත වන්නාවූ තත්වයකි''. (bei überwiegendem Proletariat, පිටු 21).

කෞට්ස්කිගේ මෙම තර්කය කොතරම් නම් සිනා රසයක් උපදවන්නේද යත්, එය හමුවේ අයෙක් embarras de richesses (එය එදිරිව මතු කළ හැකි විරෝධතාවයන් බහුල වීමෙන්... අති බහුල කම නිසා ඇතිවන ආකූලත්වය) වැනි තත්වයකට පත්වේ. ප්‍රථමයෙන්ම කිව යුත්තේ, ධනපති පංතියේ මුදුන් මල්කඩ, ප්‍රධාන නිලධාරී මණ්ඩලය, එහි ඉහළ කොටස, පැරිසියෙන් වර්සයිල්ස් නුවරට පලාගොස් සිටිබවය. ''සමාජවාදී'' ලුවී බ්ලාන්ක් ද සිටියේ වර්සයිල්ස්හිය. සමාජවාදයේ ''සියලුම උපනති'' පැරිස් කොමියුනයට සහභාගී වියයි සහතික කර කියන කෞට්ස්කිගේ ප්‍රකාශයෙහි ව්‍යාජ ස්වභාවය එයින් ඔප්පුවන බව

අමතර වශයෙන් සඳහන් කරමු. පැරිස් වැසියන් සටන් අවතීර්ණ කඳවුරු දෙකක් ලෙසට බෙදු පෙන්වන අතර, ඉන් එක කඳවුරක් ධනපති පංතියේ සටන්කාමී සහ දේශපාලන වශයෙන් ක්‍රියාශීලී මුළු පිරිසම ඇතුළත් "සර්වජන ඡන්දය" සහිත "පිරිසිදු ප්‍රජාතන්ත්‍රයක්" ලෙසට පෙන්වීම විහිළුවක් නොවේද?

දෙවැනිව කිව යුත්තේ, පැරිස් කොමියුනය වර්සයිල්ස් නගරයට විරුද්ධව යුද්ධ කළ බවය. එය එම යුද්ධය කළේ ප්‍රංශයේ කම්කරු පංතිය ධනපති පංතියට විරුද්ධව කරන යුද්ධයක් ලෙසට බවය. පැරීසිය ප්‍රංශයේ ඉරණම තීරණය කරමින් සිටි අවස්ථාවක "පිරිසිදු ප්‍රජාතන්ත්‍රවාදය" සහ "සර්වජන ඡන්දය" ඊට සම්බන්ධවන්නේ කෙසේද? මුළු ප්‍රංශයටම හිමි බැංකුව අල්ලා නොගැනීමෙන් පැරිස් කොමියුනය කළේ වරදකැයි[11] යන මතය මාක්ස් පළ කරන විට ඔහු එසේ කළේ "පිරිසිදු ප්‍රජාතන්ත්‍රවාදයේ" ප්‍රතිපත්ති හා භාවිතය අනුව නොවේද?

ඇත්ත වශයෙන්ම කෞට්ස්කි ඔහුගේ ලියවිලි කරන්නේ "පිරිස් මධ්‍යයේ" සිනාසීම පොලිසිය විසින් තහනම් කෙරුනු රටක සිට බව පැහැදිලිවම පෙනේ. නොඑසේ වී නම්, ජනයා ඔහුට සමච්චල් කර ඔහු නසා දමනු ඇත.

තුන්වැනිව කිව යුත්තේ එංගල්ස් "පිරිසිදු ප්‍රජාතන්ත්‍රවාදයේ" දෘෂ්ටි කෝණයෙන් පැරිස් කොමියුනය ගැන පහත සඳහන් පරිදි අගය කර තිබෙන බවය. අසූරු සැනෙකින් මාක්ස්ගේ හා එංගල්ස්ගේ ලියවිලි වලින් කොටස් උපුටා දක්වීමෙහි සමත් කෞට්ස්කිට, ඒ ගැන ගෞරව පූර්වකව මතක් කර දෙනු කැමැත්තෙමි.

"මේ මහත්වරු (අධිකාරබල විරෝධීන්) කිසි කලෙකත් විප්ලවයක් දක තිබේද? තිබෙන සියල්ලක්ම අතුරෙන් ඒකාන්ත වශයෙන්ම වඩාත්ම අධිකාර බල සහිත වන්නේ විප්ලවයය. එය වූ කලී ජනගහනයෙන් එක් කොටසක්, රයිපල්, බයිනේත්තු හා කාලතුවක්කු — ඒ සියල්ලම බොහෝ අධිකාර බල සහිත වන්නේය — උපයෝගි කර ගනිමින්, එහි අභිමතය අනිත් කොටසට බලෙන් පිළිගැන්වීමේ ක්‍රියාවකි. තවද, ජයග්‍රාහී පක්ෂය, එහි පාලනය පවත්වාගත යුත්තේ, එහි ආයුධ ප්‍රතිගාමීන් තුළ ජනිත කරන ත්‍රස්තය ඒ සඳහා මාධ්‍යය කොට ගැනීමෙනි. පැරිස් කොමියුනය ආයුධ සන්නද්ධ ජනතාවගේ අධිකාර බලය ධනපති පංතියට විරුද්ධව උපයෝගි කර නොගත්තේ නම්, එයට එක් දිනකට වඩා පැවතිය හැකිව තිබුණේද? ඊට ප්‍රතිකූල වශයෙන්, එය එම අධිකාර බලයෙන් ප්‍රමාණවත් තරම් ප්‍රයෝජන නොගැනීම ගැන එයට දෝෂාරෝපනය කිරීමේ ඉඩක් අපට නොමැතිද?"[12].

ඔන්න ඔබේ "පිරිසිදු ප්‍රජාතන්ත්‍රවාදය"! එංගල්ස් ජීවත්ව සිටියේ



නම්, පංති වශයෙන් බෙදුනු සමාජයක් තුළ "පිරිසිදු ප්‍රජාතන්ත්‍රවාදය" ගැන කථා කිරීමට සිතට ගත් පහත් සුළු ධනපති "සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියාට" (හතළිස් ගණන්වල ප්‍රංශ අර්ථයෙන්ද, 1914-1918 කාලයේ පොදු යුරෝපීය අර්ථයෙන්ද වේ) කොතරම් සමච්චල් කරනු ඇද්ද!

නමුත් දැන් ප්‍රමාණවත්ය! කෞට්ස්කි කියන සෑම වදනක්ම ද්‍රෝහිකමේ පාතාලයක් වන හෙයින් ඔහුගේ විවිධ තකතිරු කථා සියල්ලම ගැන විස්තර කළ හැකි නොවේ.

පැරිස් කොමියුනය ගැන ඉතාමත් විස්තරාත්මක ලෙස විශ්ලේෂණය කළ මාක්ස් සහ එංගල්ස්, එහි අගය රැඳී පැවතුනේ, "සදා නිම කළ රාජ්‍ය යන්ත්‍රය" සුන් කිරීමට, කඩා දැමීමට, එය දැරූ ප්‍රයත්නය තුළ යයි පෙන්වා දුන්හ[13]. මාක්ස් හා එංගල්ස් මෙම නිගමනය කොතරම් වැදගත්කොට සැලකුවෝද යත්, "කොමියුනිස්ට් ප්‍රකාශනයේ" "කල් ගිය" (එහි සමහර කොටස්) වැඩ පිළිවෙළ වෙනස් කිරීම සඳහා ඔවුන් 1872 දී ඉදිරිපත් කළ එකම සංශෝධනය මෙය විය[14]. පැරිස් කොමියුනය විසින් යුද්ධ හමුදාව සහ නිලධාරි පෙළැන්තිය අහෝසි කරන ලද බවත්, පාර්ලිමේන්තුවාදය අහෝසි කරන ලද බවත්, "පිළිල ස්වභාවීය ප්‍රසරය, එනම් රාජ්‍යය" විනාශ කරන ලද බවත්, වෙනත් කරුණුත්, මාක්ස් හා එංගල්ස් විසින් පෙන්නුම් කරන ලදී. නමුත් කෞට්ස්කි පඬිවරයා ඔහුගේ නිදි තොප්පිය පැළඳ ගනිමින් නැවතත් කියන්නේ, ලිබරල් මහාචාර්යවරුන් විසින් දහස් වරක් කියන ලද "පිරිසිදු ප්‍රජාතන්ත්‍රවාදය" ගැනවූ සුරංගනා කථාවම ය.

ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය දැන් දුගඳ හමන මළ කුණක් වන්නේ යයි රෝසා ලුක්සම්බුර්ග් 1914 අගෝස්තු 4 දින ප්‍රකාශ කර තිබීම පුදුමයක් නොවේ[15].

තුන්වැනි ප්‍රයෝගය "අප දැනටමත් පෙන්වා දී ඇති ලෙසට පංතියකට කළ හැක්කේ පාලනය කිරීම පමණකි. පංතියකට ආණ්ඩු කළ හැකි නොවේ. එනිසා පාලන ආකෘතියක් ලෙසට ආඥාදායකත්වය ගැන සඳහන් කරන කල, පංතියක ආඥාදායකත්වයක් ගැන අපට කථාකළ හැකි නොවේ" මක්නිසාද යත්, අප ඉහත සඳහන් කළ පරිදි, පංතියකට හැකිවන්නේ පාලනය කිරීම නොව ආධිපත්‍යය පැතිරවීමය. පාලනය කරන්නේ "සංවිධාන" නැතහොත් "පක්ෂ" ය.

උපදේශක "අවුල් ඔළුව" මහතාණනි, එය නම් අවුල් ජාලයකි, පිළිකුල දනවන අවුල් ජාලයකි. ආඥාදායකත්වය "පාලන ආකෘතියක්" නොවේ. එය විකාර, අර්ථ විරහිත කියමනකි. මාක්ස් "පාලන ආකෘතියක්" ගැන කථා කරන්නේ නැත. ඔහු කථා කරන්නේ රාජ්‍යයේ ආකෘතිය, නැතිනම් වර්ගය ගැනය. එය එක හෙළාම වෙනස්, සම්පූර්ණයෙන්ම

වෙනස් දෙයකි. පංතියකට පාලනය කළ නොහැකි යයි කීමද එක හෙළාම වැරදිය. එවැනි තකතිරු කථාවක් කිව හැක්කේ, ධනපති පාර්ලිමේන්තු හැර අන් කිසිවක් ගැන නොදන්නා, ''පාලක පක්ෂ'' හැර අන් කිසිවක් ගැන කල්පනා නොවන, ''පාර්ලිමේන්තුවාදී පොට්ටනිකාරයෙකුට'' පමණකි. අධිපති පංතියක් විසින් පාලනය කිරීම පිළිබඳ නිදසුන්, කෞට්ස්කිට ඕනෑම යුරෝපිය රටකින් ලබාගත හැකි වනු ඇත. නිදසුනක් ලෙසට මධ්‍යකාලීන ඉඩම් හිමියන්ගේ සංවිධානාත්මකභාවය අඩුපාඩු සහිත වුවත්, ඔවුන්ගේ ආණ්ඩු පිළිබඳ තොරතුරු ඒ ඕනෑම රටකින් ලබාගත හැකිය. මෙසේ සම්පිණ්ඩනය කරමු. කෞට්ස්කි අන් කිසිවෙක් නොකළ තරම් බරපතල ලෙසට නිර්ධන පංති ආඥාදායකත්වය පිළිබඳ සංකල්පය විකෘති කර ඇත. ඔහු එසේම, මාක්ස් ලිබරල්වාදියෙකු බවට හරවා තිබේ. එයින් කියන්නේ කෞට්ස්කි තෙමේම, ධනපති ප්‍රජාතන්ත්‍රවාදය හුවා දක්වමින්, එහි පංති හරය නොතකා හරිමින් හා අන් සැම කරුණකටත් වඩා පීඩිත පංතිය විසින් විප්ලවවාදී ප්‍රචණ්ඩ භාවය උපයෝගි කර ගැනීම කෙරෙන් දුරස් වෙමින්, ''පිරිසිදු ප්‍රජාතන්ත්‍රවාදය'' ගැන පල් හැලි ඇද බාන ලිබරල්වාදියෙකුගේ තත්වයට වැටී සිටින බවය. පීඩක පංතිවලට විරුද්ධව පීඩිත පංති යොදා ගන්නා විප්ලවවාදී ප්‍රචණ්ඩ භාවය ''විප්ලවවාදී නිර්ධන පංති ආඥාදායකත්වය'' කෙරෙන් කපා හරින ලෙසින් එහි ''අර්ථ නිරූපනය'' කිරීමෙන්, කෞට්ස්කි ලිබරල්වාදී ආකාරයෙන් මාක්ස්ගේ අදහස් විකෘතිකිරීමේ ලෝක වාර්තාව ඉක්මවා ඇත. කෞට්ස්කි ද්‍රෝහියා සමග සංසන්දනය කරන කල බර්න්ෂ්ටයින් ද්‍රෝහියා හුදෙක් බලු පැටියෙක් පමණක් බව ඔප්පුවී ඇත.

## ධනපති හා නිර්ධන පංති ප්‍රජාතන්ත්‍රවාදය

කෞට්ස්කි එතරම් නිර්ලජ්ජිත ලෙස ව්‍යාකූල කළ ප්‍රශ්නයෙහි නියම තත්වය පහත සඳහන් පරිදි වේ.

අපි සාමාන්‍ය බුද්ධියට හා ඉතිහාසයට අවමාන නොකරන්නෙමු නම්, විවිධ පංති පවතින තාක් කල් අපට ''පිරිසිදු ප්‍රජාතන්ත්‍රවාදය'' ගැන කථා කළ නොහැකි බව පැහැදිලි කරුණකි. අපට පංති ප්‍රජාතන්ත්‍රවාදය ගැන කථා කළ හැක. (''පිරිසිදු ප්‍රජාතන්ත්‍රවාදය'' වූ කලී පංති අරගලය හා රාජ්‍යයේ සංධාරය යන දෙකම ගැන නොදැනුම හෙළිදරව් කරන මෝඩ පාඨයකි. එපමණක් නොව, කොමියුනිස්ට් සමාජයේ ප්‍රජාතන්ත්‍රවාදය වෙනස් වීමේ හා පුරුද්දක් බවට පත්වීමේ ක්‍රියාදමයෙහිදී හැකිළී යනු මිස ''පිරිසිදු ප්‍රජාතන්ත්‍රවාදය'' බවට කිසිකලෙකත් පත් නොවනු ඇති හෙයින්, එය තුන් යලක්ම පුහු පාඨයක්ද වන බව අමතර වශයෙන් කියමු.)

''පිරිසිදු ප්‍රජාතන්ත්‍රවාදය'' යනු කම්කරුවන් රැවටීමට අපේක්ෂා කරන ලිබරල්වාදියෙකුගේ බොරුකාර පාඨයකි. වැඩවසම් ක්‍රමයේ තැන ගන්නා ධනපති ප්‍රජාතන්ත්‍රවාදයත්, ධනපති ප්‍රජාතන්ත්‍රවාදයේ තැන ගන්නා නිර්ධන පංති ප්‍රජාතන්ත්‍රවාදයත්, ගැන ඉතිහාසය දන්නේය.

මධ්‍යතන වාදය සමග සංසන්දනය කරන කල ධනපති ප්‍රජාතන්ත්‍රවාදය ප්‍රගතිශීලී වන බව සහ නිර්ධන පංතිය ධනපති පංතියට විරුද්ධව කරන අරගලයේදී එය නොවරදවාම එම ප්‍රජාතන්ත්‍රවාදය උපයෝගි කර ගත යුතු වන බව කියන සත්‍යය ''ඔප්පු කිරීමට'' කෞට්ස්කි පිටු දුසිම් ගණන් කැප කරන විට, එය ඇත්ත වශයෙන්ම කම්කරුවන් රැවටීමට ලිබරල් ප්‍රලාප දෙඩීමක් වන්නේය. උගත් ජර්මනියේ පමණක් නොව නූගත් රුසියාවේද, මෙය කවුරුත් දන්නා සත්‍යයකි. නවීන, එනම් ධනපති ප්‍රජාතන්ත්‍රවාදයේ ධනපති පංතික සාරාර්ථය ගැන කීම මග හරිනු සඳහා වෙයිට්ලිං ගැන, පැරගුවේහි ජේසුයිට්වරු ගැන හා වෙනත් නොයෙක් දේ ගැන, මහෝන්නත විලාශයෙන් කථා කරන කෞට්ස්කි එයින් කරන්නේ කම්කරුවන්ගේ ඇස්වලට හුදෙක්ම ''උගත්'' වැලි ගැසීමක් පමණකි.

කෞට්ස්කි, ලිබරල්වාදීන්ට, එනම්, ධනපතියන්ට පිළිගත හැකි දේ (මධ්‍ය කාලීන යුගය ගැන කරන විවේචන සහ පොදු වශයෙන් ධනපති ක්‍රමයේ සහ විශේෂයෙන්ම ධනපති ප්‍රජාතන්ත්‍රවාදයේ ප්‍රගතිශීලී ඓතිහාසික කාර්ය කොටස) මාක්ස්වාදයෙන් ගන්නේය. නමුත් ඔහු, මාක්ස්වාදයේ අන්තර්ගත වන හා ධනපතියන්ට පිළිගත නොහැකි දේ සියල්ලම (ධනපති පංතිය විනාශ කිරීම පිණිස එයට විරුද්ධව නිර්ධන පංතිය විසින් විප්ලවවාදී ප්‍රචණ්ඩභාවය යොදා ගැනීම) ඉවත ලන්නේය. නිහඬ ලෙස අතහැර දමන්නේය. නොතකා හරින්නේය. කෞට්ස්කිගේ මනෝමූල විශ්වාසයන් මොනවා වුවත්, ඔහු දරන වාස්තවික තත්වය අනුව ඔහු ධනපති පංතියේ අතවැස්සෙක් වන්නේ එහෙයිනි.

මධ්‍යතන වාදය සමග සංසන්දනය කරන කල ධනපති ප්‍රජාතන්ත්‍රවා-දයෙන් මහා ඓතිහාසික ඉදිරිගමනක් සලකුණු වන නමුත්, එය කවදත් සීමාකළ, කප්පාදුකළ, ව්‍යාජ සහ වංචනික ප්‍රජාතන්ත්‍රවාදයක්ද, ධනපතියන්ට පරාදීසයක් සහ සූරාකනු ලබන්නන්ට, දුප්පතුන්ට උගුලක් හා රැවටිල්ලක්ද වූයේය. ධනපති ක්‍රමය යටතේ එය එසේම පැවතීම නොවැලැක්විය හැකිය. ''මාක්ස්වාදී'' කෞට්ස්කිට වටහා ගත නොහැකි වූයේ මාක්ස්ගේ උගැන්වීමෙහි ඉතාමත් වැදගත් කොටස වන, මෙම සත්‍යමය. මෙම මූලික ප්‍රශ්නයේදී ධනපති ප්‍රජාතන්ත්‍රවාදය පොහො-සතුන්ගේ ප්‍රජාතන්ත්‍රවාදයක් බවට පත් කරන ඒ කොන්දේසි ගැන

විද්‍යාත්මක විවේචනයක් කරනවා වෙනුවට, කෞට්ස්කි කරන්නේ ධනපතියන්ට ''මනෝ නන්දන'' දීමය.

මාක්ස් හා එංගල්ස් ඉදිරිපත් කළ ප්‍රස්තුතයන් ගැන මහා වියත් කෞට්ස්කි මහතාට මතක් කර දෙමු. ඊළඟට හැකි තරම් සරල ලෙසින් උක්ත කරුණ ගැන විස්තර කරන්නෙමු. අති පණ්ඩිත කෞට්ස්කිට (ධනපති පංතිය සතුටු කරනු පිණිස) එම ප්‍රස්තුතයන් ''අමතක වී'' තිබේ.

පුරාණ සහ වැඩවසම් රාජ්‍යය පමණක් නොව, ''නවීන නියෝජිත රාජ්‍යයද ප්‍රාග්ධනය විසින් වේතන ශ්‍රමය සූරා කෑමේ උපකරණයකි'' (එංගල්ස් — රාජ්‍යය පිළිබඳ ඔහුගේ කෘතියෙහි)[16]. ''එබැවින්, රාජ්‍ය යනු අරගලයේදී, නැතහොත්, විප්ලවයේදී අයෙකුගේ සතුරන් යටපත් කර තබා ගැනීමට අවියක් ලෙසට උපයෝගි කර ගනු ලබන පරිවර්තනීය ආයතනයක් පමණක් වන නිසා, ''නිදහස් ජනතා රාජ්‍යයක්'' ගැන කථා කිරීම සම්පූර්ණයෙන්ම නන්දෙඩුමකි. නිර්ධන පංතියට තවත් දුරට රාජ්‍යයක් අවශ්‍ය වන යම්තාක් කාලයකට, එයට එම රාජ්‍යය අවශ්‍ය වන්නේ නිදහස සඳහා නොව, තමන්ගේ සතුරන් යටපත් කරනු පිණිසය. ඒ අනුව නිදහසක් ගැන කථා කිරීමට හැකියාවක් ලැබුණු විගස, නියම අර්ථයෙන් ගත් රාජ්‍යයේ පැවැත්ම හමාර වන්නේය'' (එංගල්ස් — ඔහු 1875 මාර්තු 28 දින බෙබල්ට ලියූ ලිපියෙහි). ''එසේ වුවද රාජ්‍යය යනු, යථාර්ථ වශයෙන් එක් පංතියක් විසින් තවත් එකක් පීඩනයට පත් කිරීම සඳහා ගන්නා උපකරණයක් මිස අන් කිසිවක් නොවේ. ඇත්ත වශයෙන්ම, මේ සම්බන්ධයෙන් රාජාණ්ඩුවේ රාජ්‍යයට වඩා ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුවේ රාජ්‍යයේද අඩුවක් නැත''. (එංගල්ස් — මාක්ස්ගේ ''ප්‍රංශයේ සිවිල් යුද්ධය'' නැමති කෘතියට පෙරවදනෙහි). සර්වජන ඡන්දය වූ කලී ''කම්කරු පංතියේ මුහුකුරා ගිය ස්වභාවය මනින මිම්ම වේ. එය කිසි කලෙකත් අද දවසේ රාජ්‍යයට වඩා යමක් නොවනු ඇත. එය ඊට වඩා යමක් විය නොහැකිය'' (එංගල්ස් — රාජ්‍යය පිළිබඳ ඔහුගේ කෘතියෙහි[17]. කෞට්ස්කි, මෙම ප්‍රස්තුතයෙන් ධනපතියන්ට පිළිගත හැකි ප්‍රථම කොටස මහත් වෑයමෙන් වමාරා කයි. නමුත් ඔහු, ධනපතියන්ට පිළිගත නොහැකි සහ අප අවධාරණය කර දක්වා ඇති කොටස නිහඬ ලෙස එයින් අත්හැර දමයි!). ''කොමියුනය පාර්ලිමේන්තු මණ්ඩලයක් නොව, එක් වරම විධායකයක් හා ව්‍යවස්ථාදායකයක් වන වැඩ කරන මණ්ඩලයකි.... පාර්ලිමේන්තුව තුළ සිටිමින් ජනතාව නියෝජනය සහ පීඩනය (ver und zertreten) කළ යුත්තේ පාලක පංතියේ කුමණ නියෝජිතයාද යන්න අවුරුදු තුනකට වරක් හෝ හයකට වරක් හෝ තීරණය කිරීම පිණිස නොව, ඕනෑම සේවා යෝජකයෙකුට ඔහුගේ ව්‍යාපාරය සඳහා කම්කරුවන් වැඩමුලිකයන් හා ගිණුම් තබන්නන් සොයායාමේදී පුද්ගල ඡන්දය ලෙස ප්‍රයෝජනවත් වන පරිද්දෙන්ම, සර්වජන ඡන්දය කොමියුන තුළ සංවිධාන වී සිටින ජනතාවට ප්‍රයෝජනවත් වනු ඇත'' (මාක්ස් පැරිස් කොමියුනය ගැන ලියූ ඔහුගේ ''ප්‍රංශයේ සිවිල් යුද්ධය'' කෘතියෙන්).

මහා වියත් කෞට්ස්කි ඉතා හොඳින් දන්නා මෙම ප්‍රස්තුතයන් සියල්ලම, ඔහුගේ මුහුණ හරහා වදින අතුල් පහරක් මෙනි. එයින් ඔහුගේ ද්‍රෝහිකම හෙළිදරව් වන්නේය. කෞට්ස්කිගේ පොතෙහි කිසිම තැනක, ඔහුට මෙම සත්‍යයන් ගැන අවබෝධයක් තිබෙන බවට සලකුණක් නැත. ඔහුගේ මුළු පොතම මාක්ස්වාදයට කරන හුදු අවමානයකි.

නවීන රාජ්‍යවල මූලික නීති ගනිමු. ඒවායේ පරිපාලනය, රැස්වීමේ නිදහස, පුවත් පත් නිදහස, නැතහොත්, ''නීතිය හමුවේ සියලුම පුරවැසියන්ගේ සමානාත්මතාවය'' ගනිමු. එවිට ධනපති ප්‍රජාතන්ත්‍රවාදයේ වංචාව ඔබට පියවරක් පියවරක් පාසා දක්ක හැකි වනු ඇත. සෑම අවංක සහ පංති විඥානය ඇති කම්කරුවෙක්ම, ඒ ගැන මනාව දන්නේය. ''මහජන සාමය කඩ කළ'' විටෙක එනම් පීඩිත පංතිය ඇත්තෙන්ම එහි වහල් තත්වය කඩකර වහල් නොවන තත්වයකින් හැසිරෙන්නට උත්සාහ කරන විටෙක, කම්කරුවන්ට විරුද්ධව යුද්ධ හමුද යැවීමේ, යුද්ධ නීතිය පැනවීමේ, එවැනි වෙනත් පියවර ගැනීමේ හැකියාව ධනපති පංතියට සහතික කර දෙන ඉඩ කඩ, නැතහොත්, විශේෂ ප්‍රතිපාදන නොසලසන ව්‍යවස්ථාවක් ඇති එකම රාජ්‍යයක්වත් නැත. රාජ්‍යයක් කොතරම් ප්‍රජාතන්ත්‍රවාදී වුවත් මෙය වෙනස් නොවේ. කෞට්ස්කි ලජ්ජා විරහිත ලෙස ධනපති ප්‍රජාතන්ත්‍රවාදය හුවා දක්වන අතර, ඇමෙරිකාවේ සහ ස්විට්සර්ලන්තයේ ඉතාමත් ප්‍රජාතන්ත්‍රවාදී වන සමූහාණ්ඩු ධනපති පංතිය වැඩවර්ජිත කම්කරුවන්ට සලකන්නේ කෙසේද යන්න සඳහන් නොකර හරියි.

නැණවත් හා උගත් කෞට්ස්කි මෙම කරුණු ගැන නිහැඬියාව රකියි! මෙම කරුණු ගැන නිහඬව සිටීම නින්දනීය බව, උගත් දේශපාලකයාට නොවැටහෙයි. ප්‍රජාතන්ත්‍රවාදය යනු ''අල්පතරය ආරක්ෂා කිරීමය'' යන වර්ගයේ ප්‍රබන්ධ කථා කම්කරු බාලාංශයට කීමට ඔහු කැමැත්තේය. ඔහු එසේ කියතැයි ඇදහිය නොහැකි නමුත් එය සත්‍යයකි! අප ස්වාමිදරුවන්ගේ 1918 වර්ෂයේදී, ලෝකයේ සියළුම ''ප්‍රජාතන්ත්‍රවාදී'' රටවල ජාත්‍යන්තරවාදී අල්පතරයන් (එනම්, රෙනොදෙල්ලා සහ ලොංගේලාද, ෂෙයිදමාන්ලා සහ කෞට්ස්කිලාද, හෙන්ඩර්සන්ලා සහ වෙබ්ලාද, එවැනි වෙනත් අයද මෙන්, නින්දනීය ලෙස සමාජවාදය පාවා නොදුන් අය) අධිරාජ්‍යවාදී ඝාතනයට හා බෙල්ල ඇඹරවීමට ගොදුරුකිරීමේ පස්වැනි වර්ෂයේදී, වියත් කෞට්ස්කි ''අල්පතරය ආරක්ෂා

කිරීම'' ගැන මිහිරි ලෙස ඉතාමත් මිහිරි ලෙස වර්ණනා ගීත ගයන්නේය. ඒ ගැන උනන්දුවක් දක්වන අයෙකුට කෞට්ස්කිගේ පොතෙහි 15වැනි පිටුවෙන් එය කියවිය හැකිය. තවද, එම පොතේ 16 වැනි පිටුවෙහි, මෙම උගත් පුද්ගලයා දහඅටවැනි ශත වර්ෂයේ එංගලන්තයේ විග් හා ටෝරි පාක්ෂිකයන් ගැනත් කියා ඇත!

කොතරම් බහුශ්‍රැත කමක්ද! ධනපති පංතියට දක්වන කොතරම් ආචාරශීලී දසභාවයක්ද! මා කෲප්, නැතහොත් ෂෙයිදමාන් වීනම්, ක්ලෙමන්චෝ, නැතහොත් රෙනොදෙල් වී නම් මම කෞට්ස්කිට දශලක්ෂ ගණනින් ගෙවන්නෙමි. ඔහුට තෑගි වශයෙන් ජුදස් ශෛලියෙන් ඔහු සිඹින්නෙමි. කම්කරුවන් ඉදිරියේ ඔහුට ප්‍රශංසා කර ඔහු වැනි ''ගෞරවනීය'' පුරුෂයන් සමග ''සමාජවාදී සමගිය'' ඇති කරගන්නා ලෙස ඔවුන් උනන්දු කරන්නෙමි. නිර්ධන පංති ආඥාදයකත්වයට විරුද්ධව පොත් ලිවීම, දහඅටවැනි ශතවර්ෂයේ එංගලන්තයේ විග් සහ ටෝරි පාක්ෂිකයන් ගැන කථා කිරීම, ප්‍රජාතන්ත්‍රවාදය යන්නෙන් අදහස් වන්නේ ''අල්පතරය ආක්ෂා කිරීම'' බවට සහතික වීම සහ ඇමෙරිකාවේ ''ප්‍රජාතන්ත්‍රවාදී'' සමූහාණ්ඩුවේ ජාත්‍යන්තරවාදීන්ට විරුද්ධව කෙරෙන ඝාතනය ගැන නිහඬව සිටීම — මෙසේ කිරීම ධනපති පංතියට බැලමෙහෙවර කිරීමක් නොවේ ද?

උගත් කෞට්ස්කි මහතාට ''සුළු දෙයක්'' අමතක වී තිබේ. සමහර විට එය හදිසි අමතක වීමක් විය හැකිය. ධනපති ප්‍රජාතන්ත්‍රයක පාලක පක්ෂය අල්පතරයට ආරක්ෂාව සලසන්නේ එය වෙනත් ධනපති පක්ෂයකට අයත් නම් පමණකි. ඒ අතර සෑම බරපතල, ගැඹුරු හා මූලික ප්‍රශ්නයකදීම නිර්ධන පංතියට එයින් සැලසෙන්නේ ''අල්පතරය ආරක්ෂා කිරීම'' වෙනුවට යුද්ධ නීතිය සහ ඝාතනය ය. කෞට්ස්කිට අමතක වී ඇත්තේ එයයි. ප්‍රජාතන්ත්‍රය වඩාත් උසස් මට්ටමකට සංවර්ධනය වී තිබෙන තරමට, ධනපති පංතියට අන්තරාදයක ඕනෑම බරපතල දේශපාලන අපසරණයක් හා සම්බන්ධයෙන් ඝාතන හා සිවිල් යුද්ධය වඩාත් ක්ෂණික ලෙස ඉදිරිපත් වනු ඇත. සමූහාණ්ඩුවාදී ප්‍රංශයේ ඩ්‍රෙයිෆුස්[18] නඩුවද, ඇමෙරිකාවේ ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුවේ නීග්‍රෝවරු සහ ජාත්‍යන්තරවාදීන් දඩයම් කිරීමද, ප්‍රජාතන්ත්‍රවාදී බ්‍රිතාන්‍යයේ[19] අයර්ලන්ත හා අල්ස්ටර් ප්‍රදේශය සම්බන්ධ ප්‍රශ්නයද, රුසියාවේ ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුව තුළ 1917 අප්‍රේල් මාසයේදී බොල්ෂෙවික්වරුන්ට තොණ්ඩු දැමීම සහ ඔවුන් ඝාතනය කිරීමද, අනුව ධනපති ප්‍රජාතන්ත්‍රයේ මෙම නීතිය අධ්‍යයන කිරීමේ හැකියාව උගත් කෞට්ස්කි මහතාට තිබිණි. මෙහිදී මම යුද්ධ කාලීන නිදර්ශන පමණක් නොව උවමනාවෙන්ම යුද්ධ පූර්ව සාමකාලයේ නිදර්ශනද තෝරා ගත්තෙමි. නමුත්, වංචනික ලෙස



කථා කරන කෞට්ස්කි මහතා, විසිවැනි ශතවර්ෂයට අදාළ මෙම කරුණු ගැන ඇස් වසා ගන්නට කැමැත්තක් දක්වන අතර, ඒ වෙනුවට දහඅටවැනි ශතවර්ෂයේ විග් හා ටෝරි පාක්ෂිකයන් ගැන පුදුමාකාර තරම් අළුත්, ඉතාමත් කුතුහල දනවන, අසාමාන්‍ය තරම් උපදේශාත්මක හා ඇදහිය නොහැකි තරම් වැදගත් දේ කම්කරුවන්ට කියයි!

ධනපති පාර්ලිමේන්තුව ගෙන බලමු. ප්‍රජාතන්ත්‍රවාදය වඩාත් උසස් ලෙස සංවර්ධනය වූ තරමට, ධනපති පාර්ලිමේන්තු වැඩියෙන් ව්‍යාපාර පොළෙහි සහ බැංකු කරුවන්ගේ වසඟයට ගනු ලබන බව උගත් කෞට්ස්කි නොදැන සිටියා විය හැකිද? අප ධනපති පාර්ලිමේන්තුවෙන් ප්‍රයෝජන නොගත යුතු යයි මෙයින් අදහස් නොකෙරේ (සමහර විට ලෝකයේ අන් කිසිම පක්ෂයකට වඩා හොඳින් බොල්ෂෙවික්වරු ඉන් ප්‍රයෝජන ගත්හ. එසේ කියන්නේ 1912—1914 කාලයේ හතරවැනි දූමා[20] සභාවේ මුළු කම්කරු කියුරියා මණ්ඩලයම අපට දිනාගත හැකිවූ හෙයිනි). නමුත්, කෞට්ස්කි අමතක කරන ලෙසට ධනපති පාර්ලිමේන්තු ක්‍රමයේ ඓතිහාසික සීමාවන් සහ සම්ප්‍රදායික ස්වභාවය අමතක කළ හැක්කේ ලිබරල්වාදියෙකුට පමණකැයි යන්න එයින් අදහස් වේ. ධනපතියන්ගේ ''ප්‍රජාතන්ත්‍රවාදය'' විසින් ප්‍රකාශයට පත් කෙරෙන විධිමාත්‍ර සමානාත්මතාවයත්, නිර්ධන පංතිකයන් වේතන වහලුන් බවට පත්කෙරෙන දහස්ගණන් සැබෑ සීමාවන් හා ප්‍රයෝගත් අතර ඇති විශාල ප්‍රති විරෝධය, ඉතාමත්ම ප්‍රජාතන්ත්‍රවාදී ධනපති රාජ්‍යයේ වුවද, පීඩිත ජනයාට පියවරක් පියවරක් පාසාම මුණගැසෙන්නේය. ධනපති ක්‍රමයේ කුණු වී ගිය, බොරුකාර හා වංචාකාරී ස්වභාවය දකින සේ ජනතාවගේ නෙත් පෑදෙන්නේ හරියටම මෙම ප්‍රතිවිරෝධය විසිනි. ජනතාව විප්ලවයට සූදනම් කරනු සඳහා, සමාජවාදයේ උද්ඝෝෂකයන් හා ප්‍රචාරකයන් විසින් නිතරම හෙළිදරව් කරනු ලබන්නේද මෙම ප්‍රතිවිරෝධයම ය! දැන් විප්ලවයේ යුගය ආරම්භ වී ඇති නිසා, කෞට්ස්කි එයට පස්ස හරවා, මරණාසන්න ධනපති ප්‍රජාතන්ත්‍රවාදයේ සුන්දරත්වය වර්ණනා කිරීමට පටන්ගෙන ඇත.

නිර්ධන පංති ප්‍රජාතන්ත්‍රවාදය, ජනගහනයේ අති විශාල බහුතරයක් සඳහා, සූරා කනු ලබන හා වැඩ කරන ජනතාව සඳහා, ලෝකයේ පෙර නොවූ විරූ තරමින් ප්‍රජාතන්ත්‍රවාදයේ සංවර්ධනයක් හා ව්‍යාප්තියක් ගෙන දී තිබේ. සෝවියට් ආණ්ඩුව එම නිර්ධන පංති ප්‍රජාතන්ත්‍රවාදයේ එක් ආකෘතියකි. කෞට්ස්කි කළ පරිදි, ප්‍රජාතන්ත්‍රවාදය ගැන මුළු පොතක්ම ලියන අතර ඉන් පිටු දෙකක් ආඥාදයකත්වය ගැන කරුණු දක්වීමටත්, පිටු දුසිම් ගණන් ''පිරිසිදු ප්‍රජාතන්ත්‍රවාදය'' ගැන කරුණු දක්වීමටත් මිඩංගු කිරීම හා තමන් එසේ කරන බව කල්පනාවට ගැනීමට

අපොහොසත් වීම යනු විෂය මාතෘකාව ලිබරල් ආකාරයකින් සම්පූර්ණයෙන්ම විකෘති කිරීමකි.

විදේශ ප්‍රතිපත්තිය ගනිමු. කිසිම ධනපති රාජ්‍යයක, ඉතාමත් ප්‍රජාතන්ත්‍රවාදී ධනපති රාජ්‍යයේ පවා, එම කටයුතු විවෘතව කරනු නොලැබේ. සෑම තැනකදීම ජනතාව රවටනු ලැබේ. තවද ප්‍රජාතන්ත්‍රවාදී ප්‍රංශයේ, ස්විට්සර්ලන්තයේ, ඇමෙරිකාවේ සහ බ්‍රිතාන්‍යයේ, මෙය වෙනත් රටවලට වඩා අසමසම තරම් පුළුල් පරිමාණයකින් හා අසමසම තරම් සියුම් ආකාරයකින් කරනු ලැබේ. විදේශ ප්‍රතිපත්තිය වසා තබන අභිරහස් ස්වභාවය නැමති දුහුල් සළුපට සෝවියට් ආණ්ඩුව විසින් විප්ලවවාදී ආකාරයෙන් ඉරා දමන ලදී. මෙම කරුණ මත සාමය පිළිබඳ ප්‍රශ්නය, දශලක්ෂ සංඛ්‍යාත ජනතාවගේ ජීවිතය හා මරණය පිළිබඳ ප්‍රශ්නය රඳා පවතින නිසා, ''බලප්‍රදේශ බෙදු ගැනීම'' සඳහා (එනම්, ධනපති පල් සොරුන් අතර ලෝකය බෙදු ගැනීම සඳහා) වූ කොල්ලකාරී යුද්ධවල සහ රහස් ගිවිසුම්වල මෙම යුගයේදී, මෙය මූලික වැදගත් කමක් ඇති ක්‍රියාවක් වුවද, කෞට්ස්කිට මේ ගැන කල්පනාවක් නැත. ඔහු ඒ ගැන නිහඬය.

රාජ්‍යයේ ව්‍යූහය ගෙන බලමු. සෝවියට් ව්‍යවස්ථාව යටතේ තෝරාපත් කිරීම් ''නියෝජ්‍ය'' ක්‍රමය අනුව කිරීම දක්වා වූ නේකාකාර ''සුළු දේ'' විවේචනයට ලක් කරන කෞට්ස්කිට ප්‍රධාන කරුණ අමතක වන්නේය. රාජ්‍ය ව්‍යූහයේ, රාජ්‍ය යන්ත්‍රයේ පංති ස්වභාවය දැකීමට ඔහු අපොහොසත් වන්නේය. ධනපති ප්‍රජාතන්ත්‍රවාදය යටතේ, ''පිරිසිදු'' ප්‍රජාතන්ත්‍රවාදය වඩාත් සංවර්ධිත වූ තරමට, වඩාත් සියුම් හා සාර්ථක දහසක් කූටකාරකම් මගින් ධනපතියෝ ජනතාව පරිපාලන කටයුතු වලින්, රැස්වීමේ නිදහසෙන්, ආදියෙන්, ඉවතට පලවා හරිති. ලෝකයේ ප්‍රථම වරට ජනතාව, විශේෂයෙන්ම, සූරාකනු ලබන ජනතාව පරිපාලනයේ කටයුතු සඳහා ඇතුළත් කර ගත්තේ සෝවියට් ආණ්ඩුවය (පැරිස් කොමියුනයද එයම කිරීමට පටන් ගත් හෙයින් හරියටම කියතොත් සෝවියට් ආණ්ඩුව එසේ කළ දෙවැන්න යයි කිව හැක). දහස් ගණන් බාධක මගින් ජනතාව ධනපති පාර්ලිමේන්තුවලට සහභාගි වීමෙන් වලක්වනු ලැබේ (ධනපති ප්‍රජාතන්ත්‍රවාදය යටතේ වැදගත් ප්‍රශ්න තීරණය කරන්නේ ව්‍යාපාර පොළ හා බැංකු විසිනි. එය යටතේ ජනතාවට එම ප්‍රශ්න තීරණය කිරීමට ලැබෙන්නේ නැත). ධනපති පාර්ලිමේන්තු යනු තමන්ට පිටස්තර ආයතන වන බවත්, ධනපතියන් විසින් කම්කරුවන් පීඩාවට පත් කිරීමේ උපකරණ වන ආයතන වන බවත්, සූරා කන්නන් අල්පතරයක් වන සතුරු පංතියක ආයතන වන බවත්, කම්කරුවෝ දනිති, හඟිති. එසේම, ඔවුහු ඒකාන්ත ලෙස ඒබව දකිති, අවබෝධ කර ගනිති.

සෝවියට් සභා වූකලී වැඩ කරන සහ සූරා කනු ලබන ජනතාව විසින් එක එල්ලේ පිහිටුවා ගන්නා ලද ඔවුන්ගේම සංවිධාන වෙති. ජනතාවගේ, රාජ්‍යය ඔවුන්ට හැකි සෑම ආකාරයකින්ම සංවිධානය කර ගැනීමට හා පරිපාලනය කර ගැනීමට ඒවා ජනතාවට ආධාරකාරී වෙති. මේ හා සම්බන්ධයෙන් වූ කල විශාල ව්‍යවසායයන් මගින් වඩාත් හොඳින් සංවිධානය වී සිටීමේ වාසිය තිබෙන්නේ, වැඩ කරන සහ සූරා කනු ලබන ජනතාවගේ පෙරමුණු බල ඇණිය වන නාගරික නිර්ධන පංතියට ය. තෝරා පත් කිරීම හා තෝරා පත් කළ අය පාලනය කිරීම අන් සෑම කොටසකටම වඩා පහසුවෙන් එයට කළහැකි වේ. සෝවියට් සංවිධාන ආකෘතිය යනු, වැඩ කරන හා සූරා කනු ලබන සියලු ජනතාවම, ඔවුන්ගේ පෙරමුණු බල ඇණිය වන නිර්ධන පංතිය වටා සංවිධාන වීම සඳහා එම ජනතාවට නිරායාස වශයෙන්ම ආධාරකාරී වන්නකි. සෝවියට් සංවිධාන ආකෘතිය යටතේ, පැරණි ධනපති යන්ත්‍රය, එනම්, නිලධාරි පෙළැන්තියත්, ධනවත්කම, ධනපති අධ්‍යාපනය, සමාජ සම්බන්ධකම් ආදිය නිසා ලැබෙන වරප්‍රසාදත්, (ධනපති ප්‍රජාතන්ත්‍රවාදය වඩාත් උසස් ලෙස සංවර්ධනය වූ තරමට මෙම සැබෑ වරප්‍රසාදයන්ගේ විවිධත්වය ද වැඩිවේ) යන මේ සියල්ල අතුරුදහන් වන්නේය. එය යටතේ අච්චු යන්ත්‍ර සහ කඩදාසි තොග ධනපතියන් කෙරෙන් අත්පත් කර ගන්නා නිසා, පුවත් පත් නිදහස වංචාවක් වූ තත්වය කෙළවර වනු ඇත.එපරිද්දෙන්ම හොඳම ගොඩනැගිලි, මාළිගා, මන්දිර හා වලව් ද ගනු ලැබේ. සෝවියට් රජය, එක පහරින් මෙම හොඳම ගොඩනැගිලි දහස් ගණනින් අත්පත් කරගත්තේය. එසේ කිරීමෙන්, රැස්වීමේ නිදහස ජනතාව සඳහා දශලක්ෂ වාරයකින් වඩාත් ප්‍රජාතන්ත්‍රවාදී කළේය. ජීවිතය ක්‍රියාකාරිත්වයෙන් උතුරා හැළෙන්නාවූද, යම් නියෝජිතයෙක් ඉවත් කිරීම, නැතහොත්, ඔහුට සෝවියට් සභා මහා සම්මේලනයක නියෝජිතත්වයක් පැවරීම,ඉතා කඩිනමින් ක්‍රියාත්මක කිරීමේ හැකියාව තිබීම අවශ්‍ය වන්නාවූද කල්හි, ප්‍රාදේශීය නොවන සෝවියට් සභාවලට තෝරාපත් කිරීමේ නියෝජ්‍ය ක්‍රමය නිසා සෝවියට් සභා සම්මේලන පැවැත්වීම පහසු වන්නේය; මුළු යන්ත්‍රයම සඳහා වැය වන මුදල අඩු වන්නේය; එය වඩාත් නම්‍යශීලී සහ කම්කරුවන්ට හා ගොවිජනතාවට පහසුවෙන් සමීප විය හැකි වන්නේය.

නිර්ධන පංති ප්‍රජාතන්ත්‍රය, ධනපති ප්‍රජාතන්ත්‍රයට වඩා දශලක්ෂ වාරයක් ප්‍රජාතන්ත්‍රවාදී වේ. සෝවියට් බලය, ඉතාමත් ප්‍රජාතන්ත්‍රවාදී ධනපති සමූහාණ්ඩුවට වඩා දශලක්ෂ වාරයක් ප්‍රජාතන්ත්‍රවාදී වේ.

මෙය නොදක්නා කෙනෙක් වෙතොත්, හේ උවමනාවෙන්ම ධනපති

පංතියට සේවය කරන අයෙකි. නැතහොත්, පුස්කෑ ධනපති පොත් වලින් මුහුණ වසාගෙන සිටින, සැබෑ ජීවිතය දැකීමට අපොහොසත් වන හා දේශපාලන වශයෙන් මැරී ගිය දර කෝටුවක් මෙන් ජීවයෙන් තොර අයෙකි. ඔහු ධනපති ප්‍රජාතන්ත්‍රවාදී දූර්මතයන්ගෙන් පිරී ඉතිරී ගිය නිසා, වාස්තවික වශයෙන් ධනපති පංතියේ අතවැස්සෙකු බවට පත් පුද්ගලයෙකි.

මෙය නොදක සිටීම යනු, අයෙක් මෙම ප්‍රශ්නය පීඩිත පංතිවල දෘෂ්ටිකෝණයෙන් ඉදිරිපත් කිරීමෙහි අපොහොසත් වන බව කියන්නකි.

සාමාන්‍ය කම්කරුවාට, සාමාන්‍ය ගොවිපල් ශ්‍රමකරුවාට, නැතහොත්,පොදු වශයෙන් ගම්බද අර්ධ නිර්ධනයාට (එනම් පීඩිතයන්ගේ, ජනගහනයෙන් අති බහුතරයෙහි නියෝජිතයාට) ඉතාමත් හොඳ ගොඩනැගිලිවල රැස්වීම් පැවැත්වීමේ නිදහසද, තමන්ගේ අදහස් ප්‍රකාශ කිරීමට සහ උවමනාවන් ආරක්ෂා කිරීමට විශාලතම මුද්‍රණාල සහ ලොකුම කඩදසි තොග උපයෝගි කර ගැනීමේ නිදහසද, රාජ්‍යය පාලනය කිරීම සහ ''කලාවන් හැඩගැස්වීම'' සඳහා තමන්ගේම පංතියේ පුරුෂයන් සහ ස්ත්‍රීන් උසස් කිරීමේ නිදහසද, භුක්ති විදීමට සෝවියට් රුසියාවේ තරම් ඉඩ පහසුකම් ලැබෙන වෙනත් එකද රටක් වත්, ඉතාමත් ප්‍රජාතන්ත්‍රවාදී ධනපති රටවල් අතර පවා තිබේද?

තොරතුරු දත් කම්කරුවන් දහසකින් මෙම ප්‍රශ්නයට දිය යුතු පිළිතුර ගැන සැකයකින් පසුවන එක් අයෙක් හෝ කිසිම රටකින් කෞට්ස්කි මහතාට සොයාගත හැකි වේයයි සිතීම පවා මෝඩ කමකි. මුළු ලෝකයේම කම්කරුවෝ සහජාසයෙන් මෙන්ද, ධනපති පුවත් පත් කඩින් කඩ පිළිගන්නා සත්‍ය අසා ඇති නිසාද, සෝවියට් සමූහාණ්ඩුව නිර්ධන පංති ප්‍රජාතන්ත්‍රයක් ලෙසට, දුප්පතුන් සඳහා ප්‍රජාතන්ත්‍රයක් ලෙසට සලකති. සෑම ධනපති ප්‍රජාතන්ත්‍රයකම, ඉතාමත් හොඳ ධනපති ප්‍රජාතන්ත්‍රයෙහි පවා පවතින සැබැවින්ම පොහොසතුන් සඳහා වූ ප්‍රජාතන්ත්‍රයක් ලෙසට ඔවුහු එය නොසලකති. නියත වශයෙන්ම ඒ හේතුව නිසාම ඔවුහු සෝවියට් සමූහාණ්ඩුවට හිතවත් කම් දක්වති.

අප පාලනය කරනු ලබනනේ (එමෙන්ම අපගේ රාජ්‍යය ''තලා හැඩගස්වනු ලබන්නේ'') ධනපති නිලධාරීන් විසිනි, ධනපති පාර්ලිමේන්තු මන්ත්‍රීවරුන් විසිනි, ධනපති විනිශ්වයකාරවරුන් විසිනි. ඉතාමත් ප්‍රජාතන්ත්‍රවාදී ධනපති රටවල් ඇතුළු සියලුම ධනපති රටවල සිටින කෝටි සහ දස කෝටි සංඛ්‍යාත පීඩිත පංති ජනතාවන්, ඔවුන්ගේම අත් දැකීම් වලින්, දිනක් දිනක් පාසාම හඟින සහ අවබෝධ කරගන්නා සරල, පැහැදිලිව පෙනෙන සහ අවිවාදී සත්‍යය එයයි.

නමුත් රුසියාවේ නම්, නිලධාරිවාදී යන්ත්‍රය සම්පූර්ණයෙන්ම සුන් කර බිමට සමතලා කර තිබේ. පරණ විනිශ්වයකරුවන් සියළු දෙනාම එළවා දමා ඇත. ධනපති පාර්ලිමේන්තුව විසුරුවා හැර තිබේ. එම පාර්ලිමේන්තුවට වඩා ඉතාමත් පහසුවෙන් කම්කරුවන්ට හා ගොවි ජනතාවට ළඟාවිය හැකි නියෝජන ක්‍රමයක් ඔවුන්ට දී තිබේ. නිලධාරීන් වෙනුවට කම්කරුවන්ගේ හා ගොවි ජනතාවගේ සෝවියට් සභා ආදේශ වී තිබේ. නැතහොත්, ඔවුන්ගේ සෝවියට් සභා වලට නිලධාරීන් පාලනය කිරීම භාර කර තිබේ. එසේම විනිශ්වයකාරවරුන් තෝරාපත් කිරීමේ බලයද ඔවුන්ගේ සෝවියට් සභාවලට දී තිබේ. සෝවියට් බලය, එනම්, නිර්ධන පංති ආඥදායකත්වයේ වර්තමාන ආකෘතිය ඉතාමත් ප්‍රජාතන්ත්‍රවාදී ධනපති සමූහාණ්ඩුවට වඩා දශ ලක්ෂ වාරයක් ප්‍රජාතන්ත්‍රවාදී බව පිළිගැනීම සඳහා, පීඩිත පංතිවලට මෙම කරුණම ප්‍රමාණවත් වේ.

සෑම කම්කරුවෙකුටම මෙතරම් පැහැදිලි හා හොඳින් පෙනෙන මෙම සත්‍යය කෞට්ස්කිට වැටහෙන්නේ නැත. එයට හේතුව පහත සඳහන් ප්‍රශ්නය ඉදිරිපත් කිරීමට ඔහුට ''අමතක'' වී, ''උගෙන නොවී'', තිබීමය: ප්‍රජාතන්ත්‍රවාදය කුමණ පංතියක් සඳහාද? ඔහු තර්ක කරන්නේ ''පිරිසිදු'' (එනම්, පංති නොවන? නැතහොත් පංතිවලට ඉහළින් සිටින?) ප්‍රජාතන්ත්‍රවාදයේ දෘෂ්ටි කෝණයෙනි. ඔහු ශයිලොක් මෙන් තර්ක කරයි: මට ''මස් රාත්තලම'' දෙන්න[21]. වෙන කිසිවක් එපා. සියලුම පුරවැසියන්ට සමානත්වය — නැතහොත් එය ප්‍රජාතන්ත්‍රවාදය නොවේ.

උගත් කෞට්ස්කිගෙන්, ඒ ''මාක්ස්වාදියා'' ගෙන් සහ ''සමාජවාදියාගෙන්'', අපි මෙසේ ඇසිය යුත්තෙමු.

සූරාකනු ලබන්නන් හා සූරා කන්නන් අතර සමානත්වයක් තිබිය හැකිද?

දෙවැනි ජාත්‍යන්තරයේ දෘෂ්ටිවාදී නායකයා විසින් ලියන ලද පොතක් ගැන සාකච්ඡා කිරීමේදී මෙම ප්‍රශ්නය අසන්නට සිදුවීම පුදුම සහගතය. එය අදහාගැනීමට පවා අපහසුය. නමුත් ''නගුල අල්ලා ගත්තා නම් පස්ස බලන්න එපා''. කෞට්ස්කි ගැන ලියන්නට පටන් ගත් බැවින්, සූරාකන්නා හා සූරාකනු ලබන්නා අතර සමානත්වයක් තිබිය නොහැක්කේ මන්ද යනු මේ උගත් මිනිසාට කියා දීම මගේ යුතුකමක් කොට සලකමි.

## සූරාකනු ලබන්නා හා සූරාකන්නා අතර සමානත්වයක් තිබිය හැකිද?

කෞට්ස්කි මෙසේ තර්ක කරයි:

(1) සූරාකන්නන්ගෙන් නිතරම සමන්විත වූයේ ජනගහනයෙන් කුඩා අල්පතරයකි. (පිටුව 14, කෞට්ස්කිගේ පොත).

මෙය බොරු කළ නොහැකි සත්‍යයකි. මෙය ආරම්භක ලක්ෂය වශයෙන් ගත් කල ඊළඟ තර්කය විය යුත්තේ කුමක්ද? අයෙකුට මාක්ස්වාදී ශෛලියෙන් තර්ක කළ හැකිය. එසේ කරන්නේ නම් අයෙක් සූරා කන්නන් හා සූරාකනු ලබන්නන් අතර සම්බන්ධය මුල්කොට ගනු ඇත. එසේ නැතහොත්, අයෙකුට ලිබරල් ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී ශෛලියෙන් තර්ක කළ හැකිය. එසේ කරන්නේ නම්, අයෙක් බහුතරය සහ අල්පතරය අතර සම්බන්ධය මුල් කොට ගනු ඇත.

අපි මාක්ස්වාදී ශෛලියෙන් තර්ක කරන්නෙමු නම්, මෙසේ කිව යුත්තෙමු: සූරාකන්නෝ අනිවාර්ණීය වශයෙන්ම රාජ්‍යය (මෙහි අදහස් වන්නේ ප්‍රජාතන්ත්‍රවාදය, එනම් රජයේ එක් ආකෘතියක් ගැනය), ඔවුන්ගේ පංතියේ පාලනයෙහි, එනම් සූරාකනු ලබන්නන් යටපත් කර සූරා කන්නන් ගෙනයන පාලනයෙහි උපකරණයක් ලෙසට පරිවර්තනය කර ගනිති. එමනිසා බහුතරය වන සූරාකනු ලබන්නන් වෙත තම ආධිපත්‍යය පතුරුවන සූරා කන්නන්, සිටින තෙක්, ප්‍රජාතන්ත්‍රවාදී රාජ්‍යයද අනිවාර්ණීය ලෙසම සූරා කන්නන් සඳහා ප්‍රජාතන්ත්‍රවාදයක් වන්නේය. සූරාකනු ලබන්නන්ගේ රාජ්‍යයක් එවැන්නකින් මූලික වශයෙන් වෙනස් විය යුතුය. ඔවුන්ගේ රාජ්‍යය සූරාකනු ලබන්නන් සඳහා ප්‍රජාතන්ත්‍රයක් හා සූරාකන්නන් යටපත් කිරීමේ මාධ්‍යයක් විය යුතුය. නමුත්, පංතියක් යටපත් කිරීම යනු එම පංතියේ අසමානත්වය සහ එය ''ප්‍රජාතන්ත්‍රවාදයෙන්'' බැහැර කර තැබීම අදහස් කරන්නකි.

අපි ලිබරල් ශෛලියෙන් තර්ක කරන්නෙමු නම් මෙසේ කිව යුත්තෙමු: බහුතරය තීරණය කරන්නේය. අල්පතරය යටත් වන්නේය. යටත් නොවන අයට දඬුවම් කරනු ලැබේ. එපමණය. පොදු වශයෙන් රාජ්‍යයේ, නැතහොත්, විශේෂයෙන් ''පිරිසිදු ප්‍රජාතන්ත්‍රවාදයේ'' පංති ස්වභාවය ගැන කිසිවක් කීම අනවශ්‍යය. එය කරුණට අදාළ නැත. මක්නිසාද යත්, බහුතරයක් යනු බහුතරයක්ම ද, අල්පතරයක් යනු අල්පතරයක්ම ද වන හෙයිනි. මස් රාත්තල, මස් රාත්තලම වන්නේය. වෙන කිව යුතු දෙයක් නැත.

කෞට්ස්කි තර්ක කරන්නේ හරියටම මේ ආකාරයට ය.

(2) ''නිර්ධන පංතිය ප්‍රජාතන්ත්‍රවාදයට නොගැලපෙන ආකෘතියක් ආරූඪ කර ගත යුත්තේ, අවශ්‍යයෙන්ම ආරූඪ කර ගත යුත්තේ මන්ද?'' (පිටුව 21.). ඊළඟට, නිර්ධන පංතිය බහුතරය බව කියනු පිණිස වචන බහුල විස්තරයක් ඉදිරිපත් කර, එම විස්තරයට මුක්කු දීමට මාක්ස්ගෙන් උපුටාගත් කොටසක් හා පැරිස් කොමියුනයේ ඡන්ද සංඛ්‍යා විස්තරද ඇතුළත් කර ඇත. ඉන් බැසගත් නිගමනය මෙසේය. ''එතරම් තදින් ජනතාව අතර මුල් බැසගෙන තිබෙන රාජ්‍යයක් විසින් ප්‍රජාතන්ත්‍රවාදය



කප්පාදු කරනු ලැබීමට අල්ප මාත්‍ර හෝ හේතුවක් නොමැත. ප්‍රජාතන්ත්‍රවාදය යටපත් කිරීමට ප්‍රචණ්ඩභාවය යොදනු ලබන සෑම අවස්ථාවකම ප්‍රචණ්ඩභාවයෙන් වැලකී සිටීමට එයට නොපුළුවන. ප්‍රචණ්ඩභාවයට පිළිතුරු දිය හැක්කේ ප්‍රචණ්ඩභාවයෙන්ම පමණකි. නමුත් තමන්ට පොදුජන සහයෝගය ලැබෙන බව දන්නා රජයක් ප්‍රචණ්ඩභාවය යොදන්නේ ප්‍රජාතන්ත්‍රවාදය ආරක්ෂා කිරීමට මිස එය විනාශ කිරීමට නොවේ. එහි ඉතාමත් විශ්වාසදායක පදනම, එනම්, යෝධ සදාචාරමය අධිකාරයේ ඒ ගැඹුරු මූලාශ්‍රය වන සර්වජන ඡන්දය අත්හැර දැමීමට එය උත්සාහ කරතොත්, එය සිය දිවි නසා ගැනීමක් වනු ඇත.

ඔබට පෙනෙනු ඇති ලෙසට, සූරාකනු ලබන්නන් සහ සූරා කන්නන් අතර සම්බන්ධය කෞට්ස්කිගේ තර්කයෙන් අතුරුදහන් වී ඇත. ඉතිරිව ඇත්තේ පොදු බහුතරය, පොදු අල්පතරය, පොදු ප්‍රජාතන්ත්‍රවාදය, දැනටමත් අප කවුරුත් දන්නා ''පිරිසිදු ප්‍රජාතන්ත්‍රවාදය'' පමණකි.

මේ සියල්ලම කියන්නේ පැරිස් කොමියුනය හා සම්බන්ධයෙන් බව මතක තබා ගන්න! මාක්ස් හා එංගල්ස් පැරිස් කොමියුනය හා සම්බන්ධයෙන් ආඥාදායකත්වය යන විෂයට අදාළව කීවේ කුමක්දැයි පෙන්වීමට ඔවුන්ගේ ලියවිලිවලින් කොටස් උපුටා දක්වමි:

මාක්ස්: ''...ධනපති පංතියේ ප්‍රතිරෝධය බිඳ දමනු පිණිස කම්කරුවෝ ධනපති ආඥාදායකත්වය වෙනුවට ඔවුන්ගේ ආඥාදායකත්වය ආදේශ කරන විට... ඔවුහු රාජ්‍යයට විප්ලවවාදී සහ පරිවර්තනීය ආකෘතියක් දෙති...''[22]

එංගල්ස්: ''තවද, ජයග්‍රාහී පක්ෂය (විප්ලවයේදී) එහි පාලනය පවත්වා ගත යුත්තේ එහි ආයුධ ප්‍රතිගාමීන් තුළ ජනිත කරන ත්‍රස්තය ඒ සඳහා මාධ්‍යය කොට ගැනීමෙනි. පැරිස් කොමියුනය ආයුධ සන්නද්ධ ජනතාවගේ අධිකාර බලය ධනපති පංතියට විරුද්ධව උපයෝගි කර නොගත්තේ නම්, එයට එක් දිනකට වඩා පැවතිය හැකිව තිබුණේද? ඊට ප්‍රතිකූලව, එය එම අධිකාර බලයෙන් ප්‍රමාණවත් තරම් ප්‍රයෝජන නොගැනීම ගැන එයට දෝෂාරෝපනය කිරීමේ ඉඩක් අපට නොමැතිද?...''[23]

එංගල්ස්: ''එබැවින් රාජ්‍යය යනු අරගලයේදී, නැතහොත්, විප්ලවයේදී අයෙකුගේ සතුරන් යටපත් කර තබා ගැනීමට අවියක් ලෙසට උපයෝගි කරගනු ලබන පරිවර්තනීය ආයතනයක් පමණක් වන නිසා, ''නිදහස් ජනතා රාජ්‍යයක්'' ගැන කථා කිරීම සම්පූර්ණයෙන්ම නන්දෙඩුමකි. නිර්ධන පංතියට තව දුරටත් රාජ්‍යයක් අවශ්‍යවන යම්තාක් කාලයකට, එයට එම රාජ්‍යය අවශ්‍ය වන්නේ නිදහස සඳහා නොව, තමන්ගේ සතුරන් යටපත් කරනු පිණිසය. ඒ අනුව නිදහසක්

ගැන කථා කිරීමට හැකියාවක් ලැබුණු විගස, නියම අර්ථයෙන් ගත් රාජ්‍යයේ පැවැත්ම හමාර වන්නේය...''

කෞට්ස්කි, මාක්ස් හා එංගල්ස්ගෙන් අහසට පොළොව මෙන්ද, නිර්ධන පංති විප්ලවවාදියෙකුගෙන් ඈත් වූ ලිබරල්වාදියෙකු මෙන්ද දුරස්තරව සිටී. කෞට්ස්කි සඳහන් කරන පිරිසිදු ප්‍රජාතන්ත්‍රවාදය සහ සාමාන්‍ය ''ප්‍රජාතන්ත්‍රවාදය'' හුදෙක් තැනට ඔබින ලෙසට යෙදූ ''නිදහස් ජනතා රාජ්‍යය'' යන්නම, නැතහොත්, සම්පූර්ණයෙන්ම නන්දෙඩුමක්ම පමණකි. ඉතාමත් උගත් හාන්සි පුටු මෝඩයෙකුගේ දැනුමැති ඉරියව්වෙන්, නැතහොත්, දසහැවිරිදි පාසල් දැරියකගේ අහිංසකත්වයෙන්, කෞට්ස්කි මෙසේ අසයි. අපට බහුතරයක් සිටින විට ආඥාදායකත්වය අවශ්‍ය වන්නේ කුමටද? එයට මාක්ස් හා එංගල්ස් මෙසේ පිළිතුරු දෙති:

— — ධනපති පංතියේ ප්‍රතිරෝධය බිඳදැමීමට;

— — ප්‍රතිගාමීන් තුළ බියක් ජනිත කිරීමට;

— — ධනපති පංතියට විරුද්ධව ආයුධ සන්නද්ධ ජනතාවගේ අධිකාරය පවත්වා ගැනීමට;

— — පසුව නිර්ධන පංතියට එහි සතුරන් බලෙන් මැඩ තබාගත හැකිවනු පිණිස.

කෞට්ස්කිට මෙම පැහැදිලි කිරීම නොවැටහේ. ප්‍රජාතන්ත්‍රවාදයේ ''පිරිසිදු'' කමෙන් මත්වූ, එහි ධනපති ස්වභාවයට අන්ධවූ කෞට්ස්කි ''සසංගත ලෙස'' ඉතා ඕනෑකමින් කියන්නේ, බහුතරය බහුතරයක් වන නිසා, අල්පතරයේ ''ප්‍රතිරෝධය බිඳ දැමීමට'' වත්, එය ''බලෙන් යටපත් කර තැබීමට'' වත් අවශ්‍යතාවයක් නැති බවය, ප්‍රජාතන්ත්‍රවාදය උල්ලංඝනය කිරීමේ අවස්ථා මර්දනය කිරීම පමණක් ප්‍රමාණවත් බවය. ප්‍රජාතන්ත්‍රවාදයේ ''පිරිසිදු'' කමෙන් මත්වූ කෞට්ස්කිට සිදුවන අත්වැරද්දක් නිසා ඔහුද සියලුම ධනපති ප්‍රජාතන්ත්‍රවාදීන් නිතරම කරන ඒ සුළු වරදම කරයි. එනම්, විධිමාත්‍ර සමානත්වය (ධනපති ක්‍රමය යටතේ එය හුදෙක්ම රැවටිල්ලක් සහ වංචාවක්ම පමණකි) සැබෑ සමානත්වය ලෙසට ගනියි! එය සෑහෙන්න සුළුය!

සූරාකන්නා සහ සූරා කනු ලබන්නා සමාන විය නොහැකිය.

මෙම සත්‍යය කෞට්ස්කිට කොතරම් අමිහිරි වුවත්, සමාජවාදයේ සාරාර්ථය සමන්විත වී තිබෙන්නේ එයිනි.

තවත් සත්‍යයක් මෙසේය: එක පංතියක් විසින් තවත් පංතියක් සූරා කනු ලැබීම සම්පූර්ණයෙන්ම නැති කර දමන තුරු, සැබෑ සහ නියම සමානත්වයක් තිබිය නොහැකිය.

මධ්‍යස්ථානයේ සාර්ථක නැගී සිටීමක්, නැතහොත්, යුද්ධ හමුදාවේ කැරැල්ලක් ඇති වුවහොත්, සූරාකන්නන් එක පහරින් පරාජය කළ



හැකිවේ. නමුත් ඉතා දුර්ලභ විශේෂ අවස්ථාවලදී හැර, සූරාකන්නන් එක පහරින් විනාශ කළ නොහැකිය. විශාල රටක ඉඩම් හිමියන් සහ ධනපතියන් සියලු දෙනාම එක පහරින් අසන්තක කිරීමට පුළුවන්කමක් නැත. එපමණක් නොව, ඉඩම් හිමියන් සහ ධනපතියන් ඇත්ත වශයෙන්ම නෙරපා දැමීමත්, පැක්ටරිවල හා වතුවල ඔවුන්ගේ කළමනාකරණය වෙනුවට, වෙනත් කළමනාකරණයක්, කම්කරුවන්ගේ කළමනාකරණයක්, ඇත්ත වශයෙන්ම ආදේශ කිරීමත් අවශ්‍ය නිසා, නීතිමය හා දේශපාලන ක්‍රියාවක් වශයෙන් අසන්තක කිරීමෙන් ප්‍රශ්නය යම්තමින් හෝ විසඳෙන්නේ නැත. සූරාකන්නෝ ඔවුන්ගේ අධ්‍යාපනය, ධනවත් ජීවනයේ තත්වයන් හා පුරුදුකම් නිසා පරම්පරා ගණනක් තිස්සේ වැඩි පොහොසත් කම් ඇතිව සිටියහ. ඒ අතර ඉතාමත් දියුණු සහ ඉතාමත් ප්‍රජාතන්ත්‍රවාදී ධනපති සමූහාණ්ඩුවල පවා, සූරාකනු ලබන්නෝ බහුතරය පැගුනු, නොදියුණු, නූගත්, බියගැන්වුනු හා අසමගි තත්වයෙන් පසුවෙති. එනිසා සූරා කන්නන් හා සූරාකනු ලබන්නන් අතර සමානත්වයක් තිබිය නොහැකිය. විප්ලවයෙන් පසු දීර්ඝ කාලයක් යන තෙක් සූරා කන්නෝ නොවැලැක්විය හැකි ලෙසම මහත් ප්‍රායෝගික වාසි ගණනාවක්ම තවදුරටත් තමන් සතුකර ගත්හ. තවදුරටත් ඔවුන් වෙත මුදල් තිබෙනු හැකිය. (එයට හේතුව එක්වරම මුදල් අහෝසි කළ නොහැකි වීමය). බොහෝ විට ඉතා වටිනා යම් යම් චංචල දේපලද ඔවුන් වෙත තිබෙනු හැකිය. විවිධ සම්බන්ධකම්, සංවිධාන හා කළමනාකරණ පුරුදු තවමත් ඔවුන් වෙත ඇත. සියලුම කළමනාකරණ ''රහස්'' (සිරිත්, ක්‍රම මාධ්‍යයන් හා ශක්‍යතාවයන්) ගැන දැනුම ඔවුන් සතුව ඇත. ඔවුන්ට උසස් අධ්‍යාපනයක් ඇත. කාර්මික ශිල්පීය සේවකයන් (ඔවුන් ජීවත් වන්නේ සහ සිතන්නේ ධනපතියන් මෙනි) සමග සම්බන්ධකම්ද, යුද්ධ ශිල්පය (මෙය ඉතා වැදගත්ය) සම්බන්ධයෙන් අසමසම පළ පුරුද්දක්ද, යනාදිය ඔවුන් සතුව ඇත.

රටවල් ගණනාවකම එකවර විප්ලවය සිදුවීම දුර්ලභ විශේෂතාවයක් වන හෙයින්, තත්වාකාරයෙන්ම සිදුවන ලෙසට, එක් රටක පමණක් සූරාකන්නන් පරාජය කළොහොත්, සූරාකන්නන් තව දුරටත් සූරාකනු ලබන්නන්ට වඩා ශක්තිමත්ව සිටිති. එයට හේතුව සූරා කන්නන් අති විශාල ජාත්‍යන්තර සම්බන්ධකම් ඇතිව සිටීමයි. දියුණුවෙන් ඉතාමත් අඩු මධ්‍යම ගොවි, ශිල්පීය හා එවැනි කණ්ඩායම්වල සූරාකනු ලබන්නන්ගෙන් කොටසක් සූරා කන්නන් අනුව යාමට ඉඩ තිබෙන බව හා ඇත්ත වශයෙන්ම, ඔවුන් අනුව යන බව කොමියුනය ඇතුළු සියලුම විප්ලවවලින් ඔප්පු වී තිබේ (වර්සයිල්ස් යුද්ධ හමුදා[24] අතර නිර්ධන පංතිකයන්ද සිටියහ. මහා උගත් කෞට්ස්කිට එය අමතක වී තිබේ).

මෙම තත්වයන් යටතේ කිසියම් හෝ ගැඹුරක් ඇති හා බරපතල ස්වභාවයක් ඇති විප්ලවයකදී හුදෙක්ම බහුතරය හා අල්පතරය අතර සම්බන්ධය විසින් ප්‍රශ්නය නිරාකරණය කෙරෙනු ඇතැයි සිතීම යනු, තකතිරුකමේ උච්චතම අවස්ථාවද, සාමාන්‍ය ලිබරල්වාදියෙකුගේ අනුවණතම දුර්මතයද, මනාසේ තහවුරු වී ඇති ඓතිහාසික සත්‍යය ජනතාවගෙන් වසං කිරීමෙන් ජනතාව රැවටීමට දරන ප්‍රයත්නයක්ද වන්නේය. ඓතිහාසික සත්‍යය නම්, සෑම ගැඹුරු විප්ලවයකදීම අවුරුදු ගණනක් යන තෙක් සූරාකනු ලබන්නන්ට නැති වැදගත් ප්‍රායෝගික වාසි ගණනාවක් තමන් සතුකර ගෙන සිටින සූරා කන්නන් විප්ලවයට විරුද්ධව දීර්ඝ, දුර්දාන්ත සහ දරුණු ප්‍රතිරෝධයක් දැක්වීම සාමාන්‍ය සිරිත බවය. අවසාන දරුණු අරගලයක්, නැතහොත්, අරගල මාලාවක් කිරීම සඳහා තමන් සතු වාසි උපයෝගි කරගැනීමට ප්‍රයත්නයක් නොදරා සූරාකන්නෝ — හැඟීම්බර කෞට්ස්කි මෝඩයාගේ හැඟීම්බර මනෝ චීකාරයන්හිදී මිස අන් කිසිම තැනකදී — සූරාකනු ලබන බහුතරයේ තීරණවලට කිසිසේත් යටත් නොවනු ඇත.

ධනපති ක්‍රමයේ සිට කොමියුනිස්ට් ක්‍රමයට පරිවර්තනය වීම සඳහා මුළු ඓතිහාසික යුගයක්ම ගත වන්නේය. මෙම යුගය ගෙවී අවසාන වන තෙක් සූරාකන්නෝ යළි බලයට ඒමේ අපේක්ෂාව අනිවාරණීය ලෙසම ශෝෂණය කරති. මෙම අපේක්ෂාව යළි බලයට ඒමේ ප්‍රයත්න බවට හැරෙන්නේය. තමන් බලයෙන් පෙරළීම කිසි කලෙකත් අපේක්ෂා නොකළ, එය කළ හැකි දෙයකැයි කිසි කලෙකත් නොසිතූ, එය ගැන කල්පනාමාත්‍රයකටවත් ඉඩ නොදුන්, බලයෙන් නෙරපුනු සූරාකන්නෝ, ඔවුන්ගේ ප්‍රථම පරාජයෙන් අනතුරුව, ඔවුන්ගේ "සුරපුර" නැවතත් ආපසු දිනා ගැනීම සඳහා, එතරම් සුමිහිරි හා සුව පහසු දිවියක් ගෙවමින් සිටි හා දූන් "සාමාන්‍ය රංචුව" විසින් විනාශයට හා අසරණත්වයට (නැතහොත්, "සාමාන්‍ය" ශ්‍රම කටයුතුවලට) ඇද දමනු ලබන ඔවුන්ගේ පවුල් වෙනුවෙන් එය ආපසු දිනා ගැනීම සඳහා, දස ගුණයකින් වැඩි කරගත් ධෛර්යකින්, සිය ගුණයකින් වැඩුනු අනුරාගයකින් හා වෛරයකින් සටන් වදිති. සුළු ධනපති පංතියේ පුළුල් කොටස් ධනපති සූරාකන්නන් පසු පස යති. ඔවුන් දිනක නිර්ධන පංතිය පිටුපස ගමන් ගන්නා අතර, ඊළඟ දිනයේ විප්ලවයේ දුෂ්කරතාවයන් දැක බියවැද ඒ මේ අත වැනෙන හා පැකිළෙන බව සියලුම රටවල දශක ගණන් දීර්ඝ ඓතිහාසික අත්දැකීමෙන් ඔප්පු වේ. කම්කරුවන්ට අත්වන ප්‍රථම පරාජයෙන්, නැතහොත්, අර්ධ පරාජයෙන් වික්ෂිප්තව ඔවුන් අරමුණක් නැතිව ඒ මේ අත දුවමින්, අඬා වැලපෙමින් එක පිළක සිට තවත් පිළක් වෙත දුවන බව එම අත් දැකීමෙන් ඔප්පු වේ. මේ අතින් ඔවුහු අපගේ මෙන්ෂෙවික්වරුන් සහ සමාජවාදී-විප්ලවවාදීන් හා සමාන වෙති.

මෙම තත්වයන් යටතේ, ජීවිතයත් මරණයත් අතර දරුණු යුද්ධයක කාලයේදී, යුග පැරණි, අවුරුදු දහසක් පැරණි වරප්‍රසාදයන් තිබිය යුතුද, නැද්ද, යන ප්‍රශ්නය ඉතිහාසය විසින් ඉදිරිපත් කෙරෙන විට — එවැනි අවස්ථාවක බහුතරය හා අල්පතරය ගැනත්, පිරිසිදු ප්‍රජාතන්ත්‍රවාදය ගැනත්, අඥදායකත්වයේ අනවශ්‍යතාවය ගැනත්, සූරාකනු ලබන්නා හා සූරාකන්නා අතර සමානාත්මතාවය ගැනත් කථා කරනු ලැබේ! එසේ කිරීමට මොන තරම් අන්ත තකතිරු කමක් සහ හිම් නැති අමන කමක් තිබිය යුතුද!

එසේ වුවද, 1871 සිට 1914 දක්වා වූ ධනපති ක්‍රමයේ සාපේක්ෂ වශයෙන් "සාමකාමී" සංවර්ධනයේ දශකවලදී අවස්ථාවාදයට අනුව හැඩ ගැසෙමින් සිටි සමාජවාදී පක්ෂ, අමනවාදය, නිවටත්වය සහ ද්‍රෝහීත්වය නැමති "අව්ගියුස්ගේ ඉස්තාලය"[25] රැස් කර ගත්හ.

* * *

කෞට්ස්කිගේ පොතෙහි ඉහත උපුටා දක්වා ඇති කොටසින් ඔහු සර්වජන ඡන්දය සීමා කිරීම ගැන කථා කරන බව සමහරවිට පාඨකයා සඳහන් කර ගන්නට ඇත (ඔහු එය යෝධ සදාචාරමය අධිකාරයේ ගැඹුරු මූලාශ්‍රය ලෙස හැඳින්වූ බව මෙහි ලා සඳහන් කරමු. නමුත් එම පැරිස් කොමියූනය ගැනම හා එම ආඥාදායකත්වය පිළිබඳ ප්‍රශ්නය ගැනම එංගල්ස් කීවේ ධනපති පංතියට විරුද්ධව ආයුධ සන්නද්ධ වූ ජනතාවගේ අධිකාරය යනුවෙනි. "අධිකාරය" පිළිබඳව අමනයෙකුගේත්, විප්ලව-වාදියෙකුගේත්, අදහස් අතර මෙම වෙනස, ඉතාමත් ස්වභාව නිරූපීය).

සූරාකන්නන්ට ඡන්ද බලය අහිමි කිරීම ඉඳුරාම රුසියානු ප්‍රශ්නයක් බවත්, නිර්ධන පංති ආඥාදායකත්වය පිළිබඳ පොදු ප්‍රශ්නයක් නොවන බවත්, කිව යුතුව තිබේ. කෞට්ස්කි වංචා මුහුණක් නොපෙන්වා, "බොල්ෂෙවික්වරුන්ට එරෙහිව" යනුවෙන් ඔහුගේ පොතට නම් කළේ නම්, එවිට පොතේ නම එහි සන්ධාරයට ගැලපෙන්නට තිබිණි. එසේ වී නම්, ඡන්ද බලය ගැන ඔහු එක එල්ලේම කථා කිරීම සාධාරණ වන්නට තිබුණි. නමුත් කෞට්ස්කිට මූලික වශයෙන් අවශ්‍ය වූයේ "න්‍යායවාදියෙකු" ලෙස ඉදිරිපත් වීමටය. ඒ අනුව ඔහු එය "නිර්ධන පංති ආඥාදායකත්වය" යනුවෙන් "පොදු වශයෙන්" නම් කළේය. ඔහු සෝවියට් සභා සහ රුසියාව ගැන විශේෂ වශයෙන් සඳහන් කරන්නේ පොතෙහි දෙවැනි කොටසේ පමණකි. ඒ ගැන සඳහන් කිරීම අරඹා ඇත්තේ හය වැනි ඡේදයෙනි. පළමු කොටසේ කරුණු දක්වා ඇත්තේ ප්‍රජාතන්ත්‍රවාදය

සහ ආඥාදායකත්වය පොදුවශයෙන්, යන විෂය ගැනය (මා උපුටා දක්වූ කොටස ගත්තේ එයිනි). කෞට්ස්කි ඡන්ද බලය ගැන කථා කිරීමට ගොස්, තමන් න්‍යාය ගැන තඹයක් තරම්වත් නොතකන බොල්ෂෙවික් විරෝධියෙක් බව හෙළිදරව් කළේය. මන්දයත්, න්‍යාය, එනම්, ප්‍රජාතන්ත්‍රවාදයේ සහ ආඥාදායකත්වයේ (ජාතික වශයෙන් විශේෂිත නොවූ) පංති පදනම් ගැන තර්කණයේදී විමසිය යුත්තේ ඡන්ද බලය වැනි විශේෂිත ප්‍රශ්නයක් ගැන නොව, සූරා කන්නන් නෙරපා දැමීමේ සහ ඔවුන්ගේ රාජ්‍යය වෙනුවට සූරාකනු ලබන්නන්ගේ රාජ්‍යයක් ආදේශ කිරීමේ ඓතිහාසික කාල පරිච්ඡේදයේදී පොහොසතුන් සඳහා, සූරා කන්නන් සඳහා, ප්‍රජාතන්ත්‍රවාදය ආරක්ෂා කළ හැකිද යන පොදු ප්‍රශ්නය වන හෙයිනි.

ප්‍රශ්නය ඉදිරිපත් කිරීමේදී න්‍යාය වාදියෙකුට ගත හැක්කේ එම මග පමණකි.

අපි පැරිස් කොමියුනයේ ආදර්ශය ගැන දනිමු. ඒ හා සම්බන්ධයෙන් හා ඊට අදාළව මාක්ස්වාදයේ නිර්මාතෘවරයන් කී සියල්ලක්ම අපි දනිමු. ඔක්තෝබර් විප්ලවයට පෙර මවිසින් ලියන ලද ''රාජ්‍යය සහ විප්ලවය'' නැමති පොතෙන්, මා ප්‍රජාතන්ත්‍රවාදය හා ආඥාදායකත්වය පිළිබඳ ප්‍රශ්නය පරීක්ෂාවට භාජනය කළේ මෙම කරුණු පදනම් කරගෙන බව නිදසුනක් ලෙසට සඳහන් කළ හැකිය. ඡන්ද බලය සීමා කිරීම ගැන මම එහි කිසිවක් නොකීවෙමි. ඡන්ද බලය සීමා කිරීම ජාතික වශයෙන් විශේෂිත ප්‍රශ්නයක් වන බව හා ආඥාදායකත්වය ගැන වූ පොදු ප්‍රශ්නයක් නොවන බව, දැන් කිව යුතුව තිබේ. යමෙක් ඡන්ද බලය සීමා කිරීම හා සම්බන්ධ ප්‍රශ්නයට සමීප විය යුත්තේ රුසියානු විප්ලවයේ විශේෂ තත්වයන් හා එහි සංවර්ධනයේ විශේෂ මාවත ගැන කරන අධ්‍යයනයක් මගිනි. පසුව මෙම පොතෙන් එසේ කරනු ලැබේ. නමුත්, යුරෝපයේ ඇති වෙන්නට යන විප්ලව සියල්ලම, නැතහොත්, ඉන් බහුතරය, අවශ්‍යයෙන්ම ධනපති පංතියේ ඡන්ද බලය සීමා කිරීමක් ගෙන එනු ඇතැයි යන්න කල් තබා සහතික කිරීම වරදක් විය හැකිය. එය එසේ වන්නට ඉඩ තිබේ. යුද්ධයෙන් සහ රුසියානු අත්දැකීමෙන් පසුව එය එසේ වන්නට පුළුවන. නමුත්, ආඥාදායකත්වය ක්‍රියාත්මක කිරීම සඳහා එය නැතිවම බැරි අවශ්‍යතාවයක් නොවේ. එය ආඥාදායකත්වය යන තර්කානුකූල සංකල්පයට නැතිවම බැරි ස්වභාව ලක්ෂණයක් නොවේ. එය ''ආඥාදායකත්වය'' ගැන වූ ඓතිහාසික හා පංතිමය සංකල්පයට නැතිවම බැරි ලෙස ඇතුළත් වන කොන්දේසියක් නොවේ.

ආඥාදායකත්වය සඳහා නැතිවම බැරි ස්වභාව ලක්ෂණය හා අවශ්‍යයෙන්ම තිබිය යුතු කොන්දේසිය නම්, සූරාකන්නන් පංතියක්





ලෙසට බලහත්කාරයෙන් මර්දනය කිරීමය. ඒ අනුව එම පංතිය හා සම්බන්ධයෙන් ''පිරිසිදු ප්‍රජාතන්ත්‍රවාදය'', එනම්, සමානත්වය හා නිදහස කඩ කිරීම අවශ්‍යතාවයක් වේ.

ප්‍රශ්නය න්‍යායික වශයෙන් ඉදිරිපත් කළ හැකි ආකාරය, එසේ කළ හැකි එකම ආකාරය මෙයයි. කෞට්ස්කි එසේ ප්‍රශ්නය ඉදිරිපත් කිරීමට අපොහොසත් වීමෙන් පෙන්නුම් කර ඇත්තේ, ඔහු න්‍යායවාදියෙක් ලෙසට නොව අවස්ථාවාදීන් සහ ධනපතියන් ගැන බොරු වර්ණනා කරන්නෙක් ලෙසට, බොල්ෂෙවික්වරුන්ට විරුද්ධ වන බවයි.

සූරාකන්නන්ට ප්‍රජාතන්ත්‍රවාදය එක් හෝ තවත් ආකාරයකින් (සම්පූර්ණයෙන්ම හෝ අර්ධ වශයෙන්) සීමා කළයුත්තේ, එය කඩ කළ යුත්තේ කුමණ රටවලද, ධනපති ක්‍රමයේ කුමණ අංග ලක්ෂණ යටතේද, යන්න මෙම හෝ අනිත් ධනපති ක්‍රමයේ, මෙම හෝ අනිත් විප්ලවයේ විශේෂ ජාතික අංග ලක්ෂණ හා සම්බන්ධ ප්‍රශ්නයකි. න්‍යායික ප්‍රශ්නය ඊට වෙනස්ය: සූරාකන පංතිය හා සම්බන්ධයෙන් ප්‍රජාතන්ත්‍රවාදය කඩ නොකර නිර්ධන පංති ආඥාදායකත්වය ක්‍රියාත්මක කළ හැකිද?

කෞට්ස්කි හරියටම න්‍යායික වශයෙන් වැදගත් හා අත්‍යාවශ්‍ය එකම ප්‍රශ්නය වන එය මග හැර ඇත. මෙම ප්‍රශ්නයට අදාළ හා මවිසින් ඉහත උපුටා දක්වන ලද කොටස් හැර ඔහු මාක්ස්ගේ හා එංගල්ස්ගේ ලියවිලි වලින් නොයෙක් ආකාර කොටස් උපුටා දක්වා ඇත.

ලිබරල්වාදීන්ගේ සහ ධනපති ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ අදහස් කවයෙන් පිට නොයන කෞට්ස්කි, ඔවුන්ට පිළිගත හැකි, ඕනෑම දෙයක් ගැන කථා කරයි. නමුත් ඔහු ප්‍රධාන දෙය ගැන කථා නොකරයි. ධනපති පංතියේ ප්‍රතිරෝධය බිඳින්නේ නැතිව, තමන්ගේ සතුරන් බලහත්කාරයෙන් මර්දනය කරන්නේ නැතිව නිර්ධන පංතියට ජය අත්පත් කරගත නොහැකි කම සහ ''බලහත්කාරයෙන් මර්දනය කිරීම'' ඇති තැන, ''නිදහස'' නැති තැන, ඇත්තෙන්ම ප්‍රජාතන්ත්‍රවාදය නොමැති කම ගැන ඔහු කථා නොකරයි.

කෞට්ස්කිට මෙය වැටහී නැත.

* * *

රුසියානු විප්ලවයේ අත්දැකීම් ගැනද, ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය විසිරුවා හැරීමට[26] හා ධනපතියන්ට ඡන්ද බලය අහිමි කිරීමට තුඩු දෙමින් සෝවියට් සභා නියෝජිතයන් සහ ආණ්ඩු ක්‍රම මණ්ඩලය අතර ඇතිවූ අපසාරිතාවය ගැනද දැන් පිරික්සා බලමු.

## සෝවියට් සභා
## රාජ්‍ය සංවිධාන බවට පත් නොවිය යුතුය

සෝවියට් සභා යනු නිර්ධන පංති ආඥාදායකත්වයේ රුසියානු ආකෘතියයි. නිර්ධන පංති ආඥාදායකත්වය ගැන පොතක් ලියන මාක්ස්වාදී න්‍යායවාදියෙක් මෙම විෂය ගැන අධ්‍යයනය කළේ නම්, (හා මෙන්ෂෙවික් තාල ගැයීමෙන් කෞට්ස්කි කළ මෙන් ආඥාදායකත්වයට විරුද්ධ සුළු ධනපති අඳෝනා පුනරුච්චාරණය නොකළේ නම්) ඔහු ප්‍රථමයෙන් ආඥාදායකත්වය ගැන සාමාන්‍ය විස්තරයක් කර, අනතුරුව එහි විශේෂ ජාතික ආකෘතිය වන සෝවියට් සභා ගැන විමර්ශනය කරනු ඇත. ඔහු ඒවාගැන ඔහුගේ පරීක්ෂාවන් ඉදිරිපත් කරනු ඇත්තේ, ඒවා නිර්ධන පංති ආඥාදායකත්වයේ ආකෘතිවලින් එකක් ලෙසට ගෙන හැර දක්වමිනි.

ආඥාදායකත්වය ගැන වූ මාක්ස්ගේ උගැන්වීම්වලට ලිබරල්වාදී "අර්ථනිරූපනයක්" දුන් කෞට්ස්කිගෙන් බරපතල යමක් අපේක්ෂා කළ නොහැකි බව නොකිවමනාය. නමුත්, සෝවියට් සභා යනු කුමක්ද යන ප්‍රශ්නයට ඔහු සමීපවූ ආකාරය හා ඔහු මෙම ප්‍රශ්නය ගැන කරුණු දැක්වූ ආකාරය ඉතාමත් ස්වභාව නිරූපීය.

1905 දී සෝවියට් සභා උද්ගත වීම ගැන සිහිපත් කරන ඔහු, ඒවා "වේතන කම්කරුවන් සියලු දෙනාම ඇතුළත් කරගත් නිසා" එයින් "ඉතාමත් සර්වග්‍රාහී (Umfassendste) නිර්ධන පංති සංවිධාන ආකෘතිය" නිර්මාණය කෙරුණු බව කියයි (පිටුව 31). ඒවා හුදෙක් ප්‍රාදේශීය මණ්ඩල පමණක් විය. 1917 දී ඒවා ජාතික සංවිධානයක් බවට පත්විය.

කෞට්ස්කි තවදුරටත් මෙසේ ලියයි: සෝවියට් සංවිධාන පිටුපස දැනටමත් ඒවාට ඇත්තේ ශ්‍රේෂ්ට සහ කීර්තිමත් ඉතිහාසයකි. ඊටත් වඩා බලගතු අනාගතයක් ඒවා ඉදිරියේ ඇත. එයද රුසියාවේ පමණක් නොවේ. මූල්‍ය ප්‍රාග්ධනය සන්තකව තිබෙන යෝධ ආර්ථික සහ දේශපාලන බලවේගයන්ට විරුද්ධව සටන් කිරීම පිණිස නිර්ධන පංතියේ පැරණි ආර්ථික හා දේශපාලන අරගල ක්‍රම අප්‍රමාණවත් බව සෑම තැනකදීම දක්නට ලැබේ" (Versagen: යොදා ඇති මෙම ජර්මන් වචනය "අප්‍රමාණවත්" යන්නට වඩා තරමක් වැඩි හා "බෙලහීන" යන්නට වඩා තරමක් අඩු අර්ථයක් දෙන්නකි)."මෙම පැරණි ක්‍රම ඉවත දැමීමට පුළුවන් කමක් නැත. සාමාන්‍ය කාලවලදී ඒවා තවමත් අත්‍යාවශ්‍යය. නමුත් එමගින් ඉටු කළ නොහැකි කර්තව්‍යයන්, කම්කරු පංතියේ බලය පෙන්වීමේ දේශපාලන හා ආර්ථික උපකරණ සියල්ලම ඒකාබද්ධ කිරීමෙන් පමණක් සාර්ථක ලෙස විසඳිය හැකි කර්තව්‍යයන්, කලින් කලට උද්ගත වේ" (පිටුව 32).



ඊළඟට වැඩ වර්ජන ගැනත්, වෘත්තීය සමිති තරම්ම අත්‍යාවශ්‍ය "වෘත්තීය සමිති නිලධාරි වාදය" විසින් කරනු ලබන "දවැන්ත පොදුජන සටන් මෙහෙයවීම ප්‍රයෝජනයක් නැති හා එන්න එන්නම කාල සීමාවේ සංකේතයක තත්වයට පත්වීම" ගැනත් තර්කණය ඉදිරිපත් වේ.

කෞට්ස්කි මෙසේ නිගමනය කරයි. "මේ අනුව බලන කල, සෝවියට් සංවිධානය අපගේ කාලයේ ඉතාමත් වැදගත් ප්‍රපංචයන්ගෙන් එකකි. ප්‍රාග්ධනය හා ශ්‍රමය අතර ශ්‍රේෂ්ඨ තීරණාත්මක සටන් වෙත අප දැන් ගමන් කරමින් සිටින අතර, සෝවියට් සංවිධානය එම සටන්වලදී තීරණාත්මක වැදගත් තැනක් ගනු ඇතැයි යන බලාපොරොත්තුව ඒවා විසින් ඇති කරනු ලැබේ.

"නමුත් ඊට වඩා යමක් සෝවියට් සභාවලින් අපේක්ෂා කිරීමේ අයිතියක් අපට තිබේද? 1917 නොවැම්බර් විප්ලවයෙන්" (නව දින දර්ශනය අනුව — නැතහොත් අප කියන ලෙසට, ඔක්තෝබර් විප්ලවයෙන් "පසුව, බොල්ෂෙවික්වරු හා වාම සමාජවාදී-විප්ලවවාදීහු[27] එක්ව රුසියානු කම්කරු නියෝජිත සෝවියට් සභාවල බහුතරයක් ලබා ගත්හ. නැවත, ඔවුහු ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය විසුරුවා හැරීමෙන් පසුව ඒ දක්වා එක පංතියක සටන් සංවිධානයක් වී තිබුණු සෝවියට් සභා රාජ්‍ය සංවිධානයක් බවට පරිවර්තනය කිරීමට පටන් ගත්හ. ඔවුහු, මාර්තු විප්ලවයෙන්[28]" (නව දින දර්ශනය අනුව — අප කියන ලෙසට, පෙබරවාරි විප්ලවයෙන්) "රුසියානු ජනතාව දිනාගත් ප්‍රජාතන්ත්‍රවාදය විනාශ කළහ. මීට ගැලපෙන ලෙසට බෝල්ෂෙවික්වරු තමන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් වශයෙන් හඳුන්වා ගැනීම අත්හැර දැමූහ. ඔවුහු තමන් කොමියුනිස්ට්වරු යනුවෙන් හඳුන්වා ගනිති." (පිටුව 33. අවධාරණය කෞට්ස්කිගේය).

කෞට්ස්කි කොතරම් "වහල් ස්වභාවයෙන්" මාර්තව්, අක්සල්රොද්, ෂ්ටෙයින් සහ සමාගමේ ප්‍රකාශයන් පිටපත් කරගන්නේද යන්න රුසියානු මෙන්ෂෙවික් සාහිත්‍යය ගැන දන්නා ඕනෑම කෙනෙකුට එක්වරම පෙනෙනු ඇත. ඔව්, එය "වහල් ස්වභාවයෙන්" පිටපත් කර ගැනීමකි. මන්දයත්, මෙන්ෂෙවික් දුර්මතයන් සන්තර්පනය කිරීම සඳහා කෞට්ස්කි සත්‍ය කරුණු විකෘති කරන හෙයිනි. නිදසුනක් ලෙසට, බොල්ෂෙවික්වරුන්ගේ නම කොමියුනිස්ට් යනුවෙන් වෙනස් කිරීම සහ රාජ්‍ය සංවිධාන වශයෙන් සෝවියට් සභාවල වැදගත්කම පිළිබඳ ප්‍රශ්න ප්‍රථමයෙන් මතු කරන ලද්දේ කෙදිනකද යනු ඔහුට ප්‍රවෘත්ති සපයන (බර්ලිනයේ ෂ්ටෙයින්, නැතහොත්, ස්ටොක්හෝම්හි අක්සල්රොද් යන) අයගෙන් විමසීමට තරම් ඔහු වෙහෙස ගත්තේ නැත. කෞට්ස්කි මෙම සුළු විමසුම කළේ නම්, ඔහු මෙම තකතිරු වගන්ති නොලියන්නට තිබුණි. මෙම ප්‍රශ්න දෙකම බොල්ෂෙවික්වරුන් විසින් 1917 අප්‍රියෙල් මාසයේදී මතු කරන ලද ඒවාය.

නිදසුනක් ලෙසට 1917 ඔක්තෝබර් විප්ලවයට බොහෝ ඉහතදී (ඒ අනුව 1918 ජනවාරි 5 දින ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය විසිරුවා හැරීමට බොහෝ ඉහතදී) මා ඉදිරිපත් කළ 1917 අප්‍රියෙල් 4 දින ප්‍රවාද මගින් ඒවා මතු කරන ලදී.

නමුත්, මා දැන් සම්පූර්ණයෙන් උපුටා දැක්වූ කෞට්ස්කිගේ තර්කය සෝවියට් සභා හා සම්බන්ධ මුළු ප්‍රශ්නයේම අරටු කොටස නියෝජනය කරන්නකි. එම අරටු කොටස මෙසේය: සෝවියට් සභා රාජ්‍ය සංවිධාන බවට පත්වීමට අපේක්ෂාවෙන් කටයුතු කළ යුතුද? (1917) අප්‍රියෙල් මාසයේදී බොල්ෂෙවික්වරු මෙම සටන් පාඨය ඉදිරිපත් කළහ: ''සෝවියට් සභා වලට මුළු බලය පවරනු!'' තවද එම මාසයේම පැවැත්වුනු බොල්ෂෙවික් පක්ෂයේ සාකච්ඡා සභාවේදී තමන් ධනපති පාර්ලිමේන්තුවාදී සමූහාණ්ඩුවෙන් සෑහීමට පත් නොවන බව ප්‍රකාශ කළ ඔවුහු, පැරිස් කොමියුනයේ නැතහොත් සෝවියට් වර්ගයේ සමූහාණ්ඩුවක් ඉල්ලූහ); නැතහොත්, සෝවියට් සභා මේ සඳහා වෙර දැරීම නොකළ යුතුද? තමන් අතට බලය නොගෙන සිටිය යුතුද? ඒ අනුව ''එක පංතියක සටන් සංවිධාන'' ලෙසට (මෙන්ෂෙවික් නායකත්වය යටතේ සෝවියට් සභා කම්කරුවන් ධනපති පංතියට යටත් කර තැබීම සඳහා උපකරණයක් විය යන අහිංසක හැඟුම හුවාදක්වමින් මාර්තව් එය ප්‍රකාශ කළේ මේ පරිද්දෙනි) පැවතිය යුතුද?

කෞට්ස්කි වහල් ස්වභාවයෙන් මාර්තව්ගේ වචන පුනරුච්චාරණය කරයි. බෙල්ෂෙවික්වරුන් සහ මෙන්ෂෙවික්වරුන් අතර වූ න්‍යායික විවාදයෙන් කොටස් උදුරා ගන්නා ඔහු, ඒවා අවිචාරවත් ලෙස හා අර්ථ විරහිත ලෙස පොදු න්‍යායික සහ පොදු යුරෝපීය ක්ෂේත්‍රයේ සිටුවයි. එහි ප්‍රතිඵලය කොතරම් දුරට හත් මාළුවක් මෙන් වන්නේද යත්, කෞට්ස්කිගේ මෙම තර්ක කියවන පංති විඥානය ඇති ඕනෑම රුසියානු කම්කරුවෙක් කෙරෙන් ගිගුම් දෙන සිනහවක් නැගෙනු ඇත.

සාකච්ඡාවට භාජනය වී ඇති ප්‍රශ්නය කුමක්ද යන්න අප විසින් පැහැදිලි කර දෙනු ලබන යුරෝපයේ සෑම කම්කරුවෙක්ම (දුර්දාන්ත සමාජ-අධිරාජ්‍යවාදීන් අතලොස්සක් හැර) එවැනිම සිනහවකින් කෞට්ස්කිට සංග්‍රහ කරනු ඇත.

මාර්තව්ගේ වරද කැපී පෙනෙන විකාරයක් වන සේ සංවර්ධනය කිරීමෙන් කෞට්ස්කි ඔහුට ඇත්ත වශයෙන්ම කළේ අයහපතකි. ඇත්තෙන්ම කෞට්ස්කිගේ තර්කයෙහි අර්ථය කුමක්දැයි බලන්න.

සෝවියට් සභා සියලුම වේතන කම්කරුවන් අන්තර්ගත කරගෙන සිටිති. මූල්‍ය ප්‍රාග්ධනයට විරුද්ධව සටන් කිරීම සඳහා නිර්ධන පංතියේ පැරණි ආර්ථික සහ දේශපාලන අරගල ක්‍රම ප්‍රමාණවත් නොවේ. සෝවියට් සභාවලට අනාගතයේදී ශ්‍රේෂ්ඨ කාර්ය කොටසක් ඉටු කිරීමට තිබේ. ඒ රුසියාවේ පමණක්ද නොවේ. ඒවා යුරෝපයේ ප්‍රාග්ධනය හා ශ්‍රමය අතර ඇතිවන මහා සටන්වලදී තීරණාත්මක කාර්ය කොටසක් ඉටු කරනු ඇත. කෞට්ස්කි එසේ කියයි.

කදිමයි. නමුත්, පංති දෙක අතුරෙන් රාජ්‍ය බලය අත් කර ගන්නේ කුමක්ද යන්න ''ප්‍රාග්ධනය සහ ශ්‍රමය අතර ඇතිවන තීරණාත්මක සටන්'' වලින් තීරණය වන්නේ නැද්ද?

එවැනි කිසිවක් නොසිදුවේ! දෙවියෝ රකිත්වා!

සියලුම වේතන කම්කරුවන් ඇතුළත් කොට ගෙන සිටින සෝවියට් සභා ''තීරණාත්මක'' සටන්වලදී රාජ්‍ය සංවිධාන බවට පත් නොවිය යුතුය.

රාජ්‍ය යනු කුමක්ද?

රාජ්‍ය යනු එක පංතියක් විසින් තවත් එකක් මර්දනය කිරීම සඳහා යොදා ගන්නා යන්ත්‍රයක් මිස අන් කිසිවක් නොවේ.

ඒ අනුව බලන කල, පීඩිත පංතිය, නවීන සමාජයේ වැඩකරන සහ සූරාකනු ලබන ජනතාවන්ගේ පෙරමුණු බල ඇණිය, ''ප්‍රාග්ධනය සහ ශ්‍රමය අතර කෙරෙන තීරණාත්මක සටන්'' වෙත යොමු වීමට වෙර දැරිය යුතු නමුත්, ශ්‍රමය මර්දනය කිරීම සඳහා ප්‍රාග්ධනය විසින් යොදගනු ලබන යන්ත්‍රයට අතවත් නොතැබිය යුතුය. පීඩිත පංතිය එම යන්ත්‍රය කඩා නොදැමිය යුතුය! එය සූරාකන්නන් මර්දනය කිරීම සඳහා එහි සර්වග්‍රාහී සංවිධානයෙන් ප්‍රයෝජන නොගත යුතුය!

කදිමයි, කෞට්ස්කි මහතාණනි, අලංකාරයි! ''අප'' පංති අරගලය පිළිගන්නේ, ලිබරල්වාදීන් එය පිළිගන්නා ආකාරයටමය, එනම්, ධනපති පංතිය බලයෙන් පහකිරීමෙන් තොරවය...

කෞට්ස්කි මාක්ස්වාදයෙනුත්, සමාජවාදයෙනුත් යන දෙකෙන්ම බිඳී ඉවත් වූ බව පැහැදිලිව හෙළිදරව්වන්නේ මෙතැන්හිදීය. ඇත්ත වශයෙන්ම එය ධනපතියන්ගේ කඳවුරට පලා යාමකි. තමන් විසින් පීඩනයට පත් කරනු ලබන පංතියේ සංවිධාන රාජ්‍ය සංවිධාන බවට පරිවර්තනය කිරීම හැර අන් සෑම දෙයකටම ඉඩ දීමට ධනපතියෝ සූදානම්යහ. සියලු දේම එකට ගැලපීමේ සහ හුදු වාක්‍ය ඛණ්ඩ ඉදිරිපත් කිරීමෙන් සියලුම බරපතල ප්‍රතිවිරෝධතාවයන්ගෙන් මග හැරීමේ තම ප්‍රතිෂ්ඨාව තවදුරටත් රැක ගැනීමට දැන් කෞට්ස්කිට පුළුවන් කමක් නැත.

කෞට්ස්කි එක්කෝ කම්කරු පංතිය විසින් රාජ්‍ය බලය අත්පත් කරගනු ලැබීම ඉවත දමන්නේය. නැතහොත්, කම්කරු පංතිය විසින් පැරණි ධනපති රාජ්‍ය යන්ත්‍රය අල්ලා ගැනීම ගැන ඔහු එකඟ වන්නේය. නමුත් එය බිඳ දැමිය යුතුය, සුන් කළ යුතුය, ඒවෙනුවට අළුත් එකක්,

නිර්ධන පංති රාජ්‍යයක් ආදේශ කළ යුතුය යන්නට ඔහු කිසිසේත් එකඟ නොවනු ඇත. කෞට්ස්කිගේ තර්ක මොන අතට හරවා "අර්ථ දැක්වූවත්" නැතහොත්, "පැහැදිලි කළත්", ඔහු මාක්ස්වාදයෙන් බිඳී වෙන්වූ බවත්, ධනපති පංතිය පැත්තට පලා ගිය බවත් පැහැදිලි සේ පෙණේ.

ජයග්‍රාහී කම්කරු පංතියට අවශ්‍යවන්නේ කුමණ විධියේ රාජ්‍යයක්ද යන්න විස්තර කරමින් ඉහතදී මාක්ස් "කොමියුනිස්ට් ප්‍රකාශනයේ" ලීවේ මෙසේය: "රාජ්‍යය, එනම්, පාලක පංතිය ලෙසට සංවිධානය වූ නිර්ධන පංතිය." දැන්, තමන් තවමත් මාක්ස්වාදියෙකැයි කියාගන්නාවූද, සම්පූර්ණයෙන්ම සංවිධානය වී ප්‍රාග්ධනයට විරුද්ධව "තීරණාත්මක අරගලය කරන" නිර්ධන පංතිය එහි පංති සංවිධානය රාජ්‍ය සංවිධානයකට පරිවර්තනය නොකළ යුතුයයි කියන්නාවූද, මිනිසෙක් අප හමුවේ ඇත. මෙහිදී කෞට්ස්කි පෙන්නුම් කර තිබෙන්නේද, ජර්මනියේ "ධනපති පංතියේ සහ කම්කරුවන් බොහෝ දෙනෙකුගේ පවා සාමාන්‍ය චින්තනයට ඇතුළත් වී තිබෙන රාජ්‍යය පිළිබඳ වූ අන්ධ විශ්වාසය" ලෙසට 1891 දී එංගල්ස් විසින් සටහන් කරන ලද[29] ඒ මතයම ය. කම්කරුවනි සටන් කරව්! — අපගේ අමනයා මෙයට "එකඟය" (කෙසේ වෙතත්, කම්කරුවන් සටන් කරන නිසා සෑම ධනපතියෙක්ද මෙයට එකඟ වන්නේය. නමුත්, කළ යුතු එකම දෙය නම් ඔවුන්ගේ කඩුව මොට්ට කිරීමට විධික්‍රම සොයා ගැනීමය), — සටන් කරව්, නමුත් තොප ජයග්‍රහනය නොගත යුතුය! ධනපති පංතියේ 'රාජ්‍ය යන්ත්‍රය විනාශ නොකරනු. ධනපති "රාජ්‍ය සංවිධානය" වෙනුවට නිර්ධන පංති "රාජ්‍ය සංවිධානය" ආදේශ නොකරනු.

රාජ්‍යය වූකලී, එක පංතියක් විසින් තවත් පංතියක් මර්දනය කිරීම සඳහා වූ යන්ත්‍රයකැයි යන මාක්ස්වාදී අදහස අවංකව පිළිගන්නා කෙනෙක් වෙතොත්, මෙම අදහස ගැන මෙනෙහි කර බැලූ කෙනෙක් වෙතොත්, ප්‍රාග්ධනය පරාජය කිරීමෙහි සමත් නිර්ධන පංති සංවිධාන රාජ්‍ය සංවිධාන බවට පත්වීමෙන් වැලකී සිටිය යුතුය යන විකාර නිගමනය වෙත එළඹීමට ඔහු කිසි කලෙකත් යොමු නොවනු ඇත. "සියල්ල කළ — කී පසු" රාජ්‍යය යනු පංතිවලින් බාහිර, නැතහොත්, පංතිවලට වඩා ඉහළින් පිහිටි යම් දෙයකැයි යන තම අදහස පෙන්නුම් කළ සුළු ධනපතියා හෙළිදරව් වූයේ මෙම කරුණෙහිදීය. ඇත්තෙන්ම නිර්ධන පංතිය පමණක් නොව මුළු ජනතාවම යටත්කර, මුළු සුළුධනපති පංතියම, සියලු ගොවි ජනතාවම යටත් කර පාලනය කරන ප්‍රාග්ධනයට විරුද්ධව බුරුලක් නොදක්වා යුද්ධ කිරීමට "එක පංතියක්" වන නිර්ධන පංතියට ඉඩ දෙන නමුත්, මෙම "එක පංතියට", එනම්, නිර්ධන පංතියට එහි සංවිධාන රාජ්‍ය සංවිධාන බවට පරිවර්තනය කිරීමට ඉඩ නොදෙන්නේ මන්ද? එසේ



ඉඩ නොදෙන්නේ, සුළු ධනපති පංතිය පංති අරගලයට බිය වන හෙයිනි. සුළු ධනපති පංතිය එම අරගලය එහි තාර්කික අවසානය දක්වා, එහි ප්‍රධාන අරමුණ දක්වා ගෙන නොයන හෙයිනි.

කෞට්ස්කි සම්පූර්ණයෙන්ම අවුලට පත්ව ඔහු කවරෙක්ද යන්න සම්පූර්ණයෙන්ම හෙළිදරව්කර තිබේ. යුරෝපය ප්‍රාග්ධනය සහ ශ්‍රමය අතර තීරණාත්මක සටන් කරා යොමුවෙමින් තිබෙන බවත්, නිර්ධන පංතියේ පැරණි ආර්ථික හා දේශපාලන සටන් ක්‍රම සෑහෙන්නේ නැති බවත්, කෞට්ස්කිම පිළිගෙන තිබේ. නමුත් මෙම පැරණි ක්‍රම වූයේ ඉඳුරාම ධනපති ප්‍රජාතන්ත්‍රය උපයෝගී කර ගැනීමය. එනිසා ඉන් බැසගත යුතු නිගමනය....?

ඉන් බැසගත යුතු නිගමනය ගැන කල්පනා කිරීමට කෞට්ස්කි බිය වෙයි.

එයින් බැසගත යුතු නිගමනය නම්, දැන් කල් ගතවී ඇති අතීතයට ස්වකීය මුහුණ ලාගෙන ධනපති ප්‍රජාතන්ත්‍රවාදයේ සුන්දරත්වය සිත්තම් කිරීමෙහි සහ පිරිසිදු ප්‍රජාතන්ත්‍රවාදය ගැන නන්දෙඩීමෙහි යෙදෙනු හැක්කේ, කම්කරු පංතියේ සතුරෙකුට, ධනපති පංතියේ අතවැස්සෙකුට, ප්‍රතිගාමියෙකුට පමණකැයි යන්නය. මධ්‍යතනවාදය හා සමග සසඳන කල, ධනපති ප්‍රජාතන්ත්‍රවාදය ප්‍රගතිශීලී විය. ඒ අනුව එයින් ප්‍රයෝජන ගැනීම කළ යුත්තක් විය. නමුත් දැන් එය කම්කරු පංතියේ උවමනාවන්ට සෑහෙන්නේ නැත. දැන් අපි ආපසු බලනවා වෙනුවට ඉදිරිය බැලිය යුත්තෙමු. ධනපති ප්‍රජාතන්ත්‍රවාදය වෙනුවට නිර්ධන පංති ප්‍රජාතන්ත්‍රවාදය ආදේශ කිරීමට බලාපොරොත්තු විය යුත්තෙමු. ඒ අනුව, ධනපති ප්‍රජාතන්ත්‍රවාදී රාජ්‍යයේ රාමු කට්ටුව තුළ, නිර්ධන පංති විප්ලවය සඳහා සූදනම්කාරී කටයුතු කිරීමට, නිර්ධන පංති හමුදව පිහිටුවීමට සහ පුහුණු කිරීමට හැකි වූ (සහ අවශ්‍ය වූ) අතර, දැන් අපි "තීරණාත්මක සටන්" අවධියට පැමිණ සිටින කල, නිර්ධන පංතිය මෙම රාමු කට්ටුව තුළ හිරකර තැබීම යනු නිර්ධන පංතියේ සත් ව්‍යාපාරය පාවාදීමකි, ද්‍රෝහියෙක් වීමකි.

මාර්තව් ඔහුගේ තර්කය ඉදිරිපත් කළේ තවත් තර්කයක්, කෞට්ස්කි ඉදිරිපත් නොකල තර්කයක් පදනම් කරගෙන වූ අතර, එම පදනම් තර්කය නොදැකම කෞට්ස්කි මාර්තව්ගේ තර්කය පුනරුච්චාරණය කරයි! එසේ කිරීම නිසා ඔහු ඉතා විකට තත්වයකට වැටෙයි. රුසියාව සමාජවාදයට තරම් තවමත් මුහුකුරා ගොස් නැතැයි මාර්තව් කීවේය (කෞට්ස්කි ඒ අනුව එය පුනරුච්චාරණය කරන්නේය). සෝවියට් සහා අරගල සංවිධානවල තත්වයේ සිට රාජ්‍ය සංවිධාන බවට පරිවර්තනය කිරීමට තවමත් කල් පැමිණ නැති බව (මෙසේ කියවන්න: මෙන්ෂෙවික්

නායකයන්ගේ ආධාරය ඇතිව සෝවියට් සභා කම්කරුවන් අධිරාජ්‍යවාදී ධනපති පංතියට යටත් කිරීම් උපකරණ බවට පරිවර්තනය කිරීමට කාලය පැමිණ තිබෙන බව) එයින් තර්කානුකූල ලෙස නිගමනය වේ. නමුත් යුරෝපය සමාජවාදයට තරම් මුහුකුරා ගොස් නැතැයි යන්න කෞට්ස්කිට එක හෙළාම කිව නොහැකිය. කල්මත්තෙන් ඇතිවන විප්ලවයක් ගැන බියවීමට හේතුවක් නැති බවත්, පරාජයට බියෙන් විප්ලවය අත්හළ යමෙක් වෙතොත් හේ ද්‍රෝහියෙක් වනු ඇති බවත්, කෞට්ස්කි ද්‍රෝහියෙක්වීමට පෙර 1909 දී ලීවේය. ඔහු මෙය සම්පූර්ණයෙන්ම බැහැර ලන්නේ නැත. එනිසා සුළු ධනපති පංතියේ තකතිරුකම සහ බියගුලුකම මුළුමනින්ම හෙළිදරව් කරන විකාර කියමනක් අපට දක්නට ලැබේ: එක් අතකින් යුරෝපය සමාජවාදයට සුදුසු කම් ලබා ඇති අතර, ප්‍රාග්ධනය හා ශ්‍රමය අතර තීරණාත්මක සටන් කරා යොමු වෙමින් තිබේ. නමුත් අනිත් අතට, පීඩිතයන්ගේ පෙරමුණු බලඇණිය සහ සංවිධායකයාද, නායකයාද වන නිර්ධන පංතියේ සංවිධානය, සටන් සංවිධානය (එනම් සටනේදී උද්ගතවන, වර්ධනයවන හා ශක්තිය ලබන සංවිධානය) රාජ්‍ය සංවිධානයක් බවට පරිවර්තනය නොකළ යුතුය!

* * *

සෝවියට් සභා සටන් සංවිධාන ලෙසට අවශ්‍ය වන නමුත්, ඒවා රාජ්‍ය සංවිධාන බවට පරිවර්තනය නොකළ යුතුය යන අදහස, න්‍යායික දෘෂ්ටි කෝණයේ ස්ථාවරයටත් වඩා ප්‍රායෝගික-දේශපාලනයේ දෘෂ්ටි කෝණයේ ස්ථාවරය අනුව අන්ත විකාරයකි. විප්ලවකාරී තත්වයක් නොමැති සාම කාලයේ වුවද, ධනපතියන්ට විරුද්ධව කෙරෙන පොදුජන අරගලයේදී, නිදසුනක් ලෙසට, පොදුජන වැඩ වර්ජනයේදී, දෙපැත්තෙහිම කෝපය ඇවිස්සීම, අරගලයේදී ඇතිවන තියුණු අනුරාගික හැඟීම්, ධනපති පංතිය දැඩි ලෙස අධිපතිකමට හිමිකම් කියමින් අධිපතිකම රැකගැනීමේ අධිෂ්ඨානය පළ කිරීම ආදිය දක්නට ලැබේ: ඊටත් වඩා දේශපාලන ජීවිතය උතුරා හැළෙන තත්වයට පත්වන විප්ලවයේ කාලයේදී සියලුම කර්මාන්ත අංශවල සියලුම කම්කරුවන්ද, සියලුම සොල්දාදුවන්ද, ගම්බද ජනගහණයේ වැඩකරන සහ ඉතාමත් දුප්පත් සියලුම කොටස්ද අන්තර්ගත කරගත් සෝවියට් සභා වැනි සංවිධානයක්, අරගලය සංවර්ධනය වීමත් සමග, පහර දීමේ හා ආරක්ෂා වීමේ සරල "තර්කය" අනුවම, ස්වයංකාරී ආකාරයෙන්ම, මගහැරිය නොහැකි ලෙසට එක එල්ලේම, මෙම ප්‍රශ්නය මතු කරන්නේය. මධ්‍යස්ත තත්වයක් ගැනීමටත්, නිර්ධන පංතිය ධනපති පංතිය සමග "සමාදන" කිරීමටත් දරන ප්‍රයත්නය තනිකරම තකතිරු කමක් වන අතර, නින්දිත පරාජයටද ඉරණම් වුවකි. රුසියාවේ මාර්තව්ගේ



සහ වෙනත් මෙන්ෂෙවික් වරුන්ගේ උගැන්වීම් වලට සිදු වුයේ එයයි. ජර්මනියේ සහ වෙනත් රටවල කිසියම් පුළුල් පරිමාණයකින් සෝවියට් සභා සංවර්ධනයට පත්වුවහොත් සහ සමගි වී ශක්තිමත් වුවහොත්, එරටවලද අනිවාරණීය වශයෙන්ම සිදුවනු ඇත්තේ එයයි. සටන් කරනු. නමුත් මුළු රාජ්‍ය බලය ඔබගේ අතට නොගනු. රාජ්‍ය සංවිධාන බවට පත් නොවනු. සෝවියට් සභාවලට එසේ කීම පංති සහයෝගිතාවය හා නිර්ධන පංතියත් ධනපති පංතියත් අතර "සමාජ සාමය" දේශනා කිරීමක් වන්නේය. සිදුවෙමින් පවතින දරුණු අරගලය මධ්‍යයේ එවැනි ප්‍රස්තුතයක් ඉදිරිපත් කිරීම පරාජය මිස අන් කිසිවක් ගෙන එනු ඇතැයි සිතීම පවා මෝඩ කමකි. නමුත්, කෞට්ස්කිගේ සද ඉරණම වී තිබෙන්නේ ඔහුට බංකු දෙකක් අතර වාඩි වීමට සිදුවීමය. ඔහු සෑම දෙයක්ම සම්බන්ධයෙන් න්‍යායික වශයෙන් අවස්ථාවාදීන් සමග එකඟ නොවන බවක් පෙන්වයි. නමුත් ව්‍යවහාරයේදී ඔහු වැදගත් සියල්ලක්ම ගැන (එනම්, විප්ලවයට අදාළ සියල්ලක්ම ගැන) ඔවුන් සමග එකඟ වෙයි.

## ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය සහ සෝවියට් සමූහාණ්ඩුව

කෞට්ස්කිගේ මුළු පොතෙහිම අරටු කොටස සැදී තිබෙන්නේ ආණ්ඩුක්‍රම සම්පාදක මණ්ඩලය හා බොල්ෂෙවික්වරුන් විසින් එය විසිරුවා හරිනු ලැබීම පිළිබඳ ප්‍රශ්නයෙනි. ඔහු නැවත නැවතත් එය වෙත යොමු වෙයි. බොල්ෂෙවික්වරුන් "ප්‍රජාතන්ත්‍රවාදය විනාශ කළ" බව (කෞට්ස්කිගෙන් උපුටා ගත් ඉහත දැක්වුනු කොටස්වලින් එකක් බලන්න) කියන වක්‍රෝක්ති, දෙවැනි ජාත්‍යන්තරයේ මෙම දෘෂ්ටිවාදී නායකයාගේ සාහිත්‍යික නිර්මාණය පුරාම දක්නට ඇත. මෙම ප්‍රශ්නය සැබැවින්ම උනන්දුව දනවන හා වැදගත් එකකි. මක් නිසාද යත්, ධනපති ප්‍රජාතන්ත්‍රවාදය සහ නිර්ධන පංති ප්‍රජාතන්ත්‍රවාදය අතර සම්බන්ධය මෙහිදී ප්‍රායෝගික ආකාරයෙන් විප්ලවය හමුවට පැමිණි හෙයිනි. "මාක්ස්වාදී න්‍යායවාදියා" මෙම ප්‍රශ්නය නිරාකරණය කළේ කෙසේදැයි බලමු.

මවිසින් ලියන ලද සහ 1917 දෙසැම්බර් 26 දින ප්‍රාව්ද[30] පත්‍රයෙහි පළ කෙරුණු "ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය ගැන ප්‍රවාද" උපුටා දැක්වීමට ඔහු උනන්දු වී තිබේ. ඔහු ලියවිලි උපුටා දැක්වීමට ගෙන තිබෙන උනන්දුව ගැන සලකන කල, කෞට්ස්කි බරපතල හැඟීමකින් යුතුව විෂයමාතෘකාවට ළඟාවන බව පෙන්වීමට මීට වඩා හොඳ සාක්ෂියක්

බලාපොරොත්තුවිය නොහැකියයි අයෙක් සිතනු ඇත. නමුත් ඔහු උපුටා දක්වීම කරන්නේ කෙසේදැයි බලන්න. මෙම ප්‍රවාද දහනවයක් වූ බව ඔහු නොකියයි. එම ප්‍රවාදවල සඳහන් කෙරුනේ ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයක් සහිත සාමාන්‍ය ධනපති සමූහාණ්ඩුවක් සහ සෝවියට් සමූහාණ්ඩුවක් අතර සම්බන්ධය ගැනද, එමෙන්ම, අපගේ විප්ලවයේදී ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය හා නිර්ධන පංති ආඥාදායකත්වය අතර වූ අපසාරිතාවයේ ඉතිහාසය ගැනද, බව ඔහු නොකියයි. කෞට්ස්කි ඒ සියල්ලම නොතකා හරිමින් "එයින්" (ප්‍රවාදවලින්) "දෙකක් විශේෂයෙන් වැදගත්" වන බව පමණක් පාඨකයාට කියයි: එකක් ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයට තෝරා පත්කිරීම්වලින් පසුව හා එම මණ්ඩලය රැස්කිරීමට පෙර සමාජවාදී-විප්ලවවාදීන් අතර භේදයක් ඇතිවූ බව කියන ප්‍රවාදයය (මෙය පස්වැනි ප්‍රවාදයවූ බව කෞට්ස්කි නොකියයි). අනික සෝවියට් සමූහාණ්ඩුව සාමාන්‍යයෙන් ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයට වඩා ආකෘතියෙන් ප්‍රජාතන්ත්‍රවාදී බව කියන ප්‍රවාදයය (මෙය තුන්වැනි ප්‍රවාදය වූ බව කෞට්ස්කි නොකියයි).

කෞට්ස්කි සම්පූර්ණ වශයෙන් උපුටා දක්වන්නේ මෙම තුන්වැනි ප්‍රවාදයෙන් කොටසක් පමණකි:

"සෝවියට් සභාවල සමූහාණ්ඩුව (ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයකින් අභිෂේක ලත් සාමාන්‍ය ධනපති සමූහාණ්ඩුව හා සමග සසඳන කල) වඩාත් උසස් වර්ගයක ප්‍රජාතන්ත්‍රවාදී ආයතනයක් පමණක් නොව වඩාත්ම වේදනාරහිත ලෙස* සමාජවාදය දක්වා පරිවර්තනය වීමේ එකම ආකෘතියද වේ (කෞට්ස්කි මෙම ප්‍රවාදයේ එන "සාමාන්‍ය" යන වචනයත්, "ධනපති ක්‍රමයේ සිට සමාජවාදී ක්‍රමයට පරිවර්තනය වීම සඳහා, නිර්ධන පංති ආඥාදායකත්වය සඳහා" යන විස්තර වචනත්, ලොප් කර දමයි).

---

* මෙහිදී පැහැදිලිවම පෙනෙන ලෙසට උපහාසය පෑමේ ප්‍රයත්නයක යෙදෙමින්, කෞට්ස්කි "වඩාත්ම වේදනාරහිත" පරිවර්තනය යන වචන නැවත නැවතත් උපුටා දක්වයි. නමුත් හීයට ඉලක්කය වැදෙන කලෙක මෙන් පිටු කීපයකින් ඔබ්බෙහි දී එහි සුළු වංචනික වෙනස්කිරීමක් කර ඔහු එය "වේදනා රහිත" පරිවර්තනය ලෙසට උපුටා දක්වයි! මේ ක්‍රමයෙන් නම් ඕනෑම විකාර කථාවක් ප්‍රතිපාක්ෂිකයෙකුගේ කටට දැමිය හැකි බව සැබැවි. තර්කයේ වැදගත් කොටස මගහැර යාමටද මෙම වංචාව ඔහුට උපකාර වේ. එයනම්, වඩාත්ම වේදනා රහිත ලෙස සමාජවාදයට පරිවර්තනය විය හැක්කේ දුප්පතුන් සියලු දෙනාම එකෙක් නැර (සෝවියට් සභා වලට) සංවිධානය වී සිටින විට හා රාජ්‍ය බලයේ අරටුව (නිර්ධන පංතිය) ඔවුන්ට සංවිධාන වීමට ආධාර කරන විට පමණකි, යන්නය.



මෙම වචන උපුටා දැක්වීමෙන් පසුව කෞට්ස්කි අනර්ඝ ලෙස උපහාසය පාමින් මවිත ස්වරයෙන් මෙසේ කියයි:

"බොල්ෂෙවික්වරුන් මෙම නිගමනයට එළඹියේ තමන් ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය තුළ අල්පතරයක් වන බව ඔවුන්ට පෙනීයාමෙන් පසුව පමණක් වීම කණගාටුවට කරුණකි. ඊට පෙර ලෙනින්ට වඩා ඝෝෂාකාරී ලෙස එය ඉල්ලූ වෙනත් කිසිවෙක් නොවීය".

කෞට්ස්කි ඔහුගේ පොතෙහි 31 වැනි පිටුවේ කියා ඇති දෙයෙහි අර්ථය එයයි!

මෙය නම් ඒකාන්ත වශයෙන්ම රුවනකි.

වඩාත් උසස් වර්ගයේ රාජ්‍යයක් ගැන බොල්ෂෙවික්වරු කියන කථා සියල්ලම, ඔවුන් ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය තුළ අල්පතරයක් වී සිටින බව ඔවුන්ට පෙනීගිය දිනට පසු දින දහවල් එළිය දුටු නිර්මාණයකැයි යන හැඟීම පාඨකයාට දෙන ව්‍යාජ ආකාරයෙන් මෙම ප්‍රශ්නය විස්තර කළ හැක්කේ ධනපති පංතියේ බොරු වර්ණනාකාර-යෙකුට පමණකි! මෙවැනි අපකීර්තිමත් බොරුවක් දෙඩීමෙහි සමත්වන්නේ ධනපති පංතියට විකුණුනු අධමයෙක් පමණකි. නැතහොත්, එයටම සමාන වන පරිදි අක්සල්රොද් කෙරෙහි විශ්වාසය තබමින් තමන්ගේ තොරතුරු යොමුව වසංකරන අධමයෙක් පමණකි.

මා එසේ කියන්නේ මන්ද? මා එසේ කියන්නේ මා රුසියාවට පැමිණි දිනයේම, එනම්, 1917 අප්‍රියෙල් 4 දිනම, ධනපති පාර්ලිමේන්තුවාදී සමූහාණ්ඩුවට වඩා පැරිස් කොමියූනය වර්ගයේ රාජ්‍යයක ඇති උසස් බව ප්‍රකාශයට පත් කළ මගේ ප්‍රවාද ම විසින් ප්‍රසිද්ධියේ කියවන ලද බව කවුරුත් දන්නා හෙයිනි. ඉන් පසුව මුද්‍රිත ලියවිලි මගින් මම නැවත නැවතත් මෙම අදහස පළ කෙළෙමි. නිදසුනක් ලෙසට දේශපාලන පක්ෂ ගැන මා ලියූ කුඩා පොතකින් එය ඉදිරිපත් කරන ලදී. එම පොත ඉංග්‍රීසියට පරිවර්තනය කර 1918 ජනවාරියේදී නිව්යෝක් "Evening Post" පත්‍රයේ පළකර තිබිණි. ඒ සියල්ලටම වඩා, 1917 අප්‍රියෙල් අගදී පැවැත්වුනු බොල්ෂෙවික් පක්ෂයේ සාකච්ඡා සභාව යෝජනාවක් සම්මත කොට නිර්ධන පංති සහ ගොවිජන සමූහාණ්ඩුව, ධනපති පාර්ලිමේන්තුවාදී සමූහාණ්ඩුවට වඩා උසස් යයිද, අප පක්ෂය ධනපති පාර්ලිමේන්තුවාදී සමූහාණ්ඩුවකින් සෑහීමට පත් නොවන්නේ යයිද, ඒ අනුව පක්ෂයේ වැඩ පිළිවෙළ වෙනස් කළ යුතු යයිද ප්‍රකාශ කළේය.[32]

මෙම කරුණු ගැන සලකන කල, ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය කැඳවන්නැයි මා බලවත් සේ ඉල්ලූ බවත්, මා ආණ්ඩු ක්‍රම සම්පාදක

මණ්ඩලය සුළු කොට තැකීමට පටන් ගත්තේ බොල්ෂෙවික්වරුන් එය තුළ අල්පතරයක් වී සිටින බව පෙනී යාමෙන් පසුව බවත් තම ජර්මන් පාඨකයන්ට සහතික කර කියන කෞට්ස්කිගේ කපටිකමට තැබිය හැකි නම කුමක් ද? එවැනි කපටිකමකට සමාව දීම කෙනෙකුට කළ හැකිද?* කරුණු දන සිටියේ නැතැයි කියා ඊට සමාව දිය හැකිද? එය එසේ වීනම්, ඔහු එම කරුණු ගැන ලිවීමට භාර ගත්තේ කුමටද? එසේ නැතහොත් තමා ලියන්නේ ෂ්ටෙයින්, අක්සල්රොද් සහ සමාගමේ මෙන්ෂෙවික්වරුන් සැපයූ තොරතුරු අනුව බව අවංක ලෙස ප්‍රකාශ නොකළේ මන්ද? වාස්තවික ලෙස ලියන බවක් පෙන්වීමේ මුවාවෙන් කෞට්ස්කිට උවමනා කර තිබෙන්නේ, පරාජයට පත්වීමෙන් අමනාපයට පත්ව සිටින මෙන්ෂෙවික්වරුන්ගේ අතවැස්සා ලෙසට තමන් ඉටු කරන කාර්ය කොටස සඟවා තැබීමටය.

තවත් ඉදිරියට හමුවන දේ සමග සසඳන කල මෙය ඉතා සුළු දෙයකි.

බොල්ෂෙවික්වරුන් ධනපති පාර්ලිමේන්තුවාදී සමූහාණ්ඩුවෙන් සෑහීමට පත්වන්නේද, නැද්ද යන ප්‍රශ්නය සම්බන්ධයෙන් වූ බොල්ෂෙවික් යෝජනාවල හා ප්‍රකාශනවල පරිවර්තන කෞට්ස්කිට ඔහුගේ තොරතුරු සපයන්නන්ගෙන් ලබා ගත නොහැකි වී යයි නැතිනම් ලබාගැනීම අකමැත්තක් දක්වූයේ යයි (??) අපි සිතා ගනිමු. මෙය විශ්වාස කළ නොහැකි දෙයක් වුවත් එසේ සිතා ගනිමු. නමුත්, මා 1917 දෙසැම්බර් 26 දින ඉදිරිපත් කළ ප්‍රවාද ගැන කෞට්ස්කි ඔහුගේ පොතෙහි 30 පිටුවේ එක එල්ලේම සඳහන් කර ඇත.

ඔහු මෙම ප්‍රවාද සම්පූර්ණයෙන් නොදන්නේද? නැතහොත්, ඔහු දන්නේ ෂ්ටෙයින්ලා, අක්සල්රොද්ලා සහ සමාගම ඉන් ඔහුට පරිවර්තනය කරදුන් කොටස් පමණක්ද? ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයට තෝරා පත්කිරීම්වලට පෙරාතුව, ධනපති සමූහාණ්ඩුවට වඩා සෝවියට් සමූහාණ්ඩුව උසස් බව බොල්ෂෙවික්වරු අවබෝධ කර ගෙන සිටියෝද, ඔවුන් ඒ බව ජනතාවට කීවෝද, යන මූලික ප්‍රශ්නය සම්බන්ධයෙන් වන තුන්වැනි ප්‍රවාදය උපුටා දැක්වීම කෞට්ස්කි කර තිබේ. නමුත් ඔහු දෙවැනි ප්‍රවාදය ගැන නිහඬ වෙයි.

දෙවැනි ප්‍රවාදය මෙසේය:

"1917 විප්ලවය ආරම්භවූ තැන් පටන්ම ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය රැස්කරනසේ බල කළ විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය, ඒ අතරම, සෝවියට් සභාවල සමූහාණ්ඩුවක් ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයක් සහිත සාමාන්‍ය ධනපති සමූහාණ්ඩුවට වඩා උසස් ආකෘතියක ප්‍රජාතන්ත්‍රවාදයක් වන බව යළි යළිත් අවධාරණය කළේය" (අවධාරණය මගේය).

බොල්ෂෙවික්වරුන් ප්‍රතිපත්ති විරහිත පිරිසක් ලෙසට, "විප්ලවවාදී අවස්ථාවාදීන්" ලෙසට (මෙය කෞට්ස්කි ඔහුගේ පොතෙහි යම් තැනක යොදන පාඨයකි. ඒ කුමක් සම්බන්ධයෙන්ද යන්න මට මතක නැත) පෙන්නුම් කරනු වස්, කෞට්ස්කි කරන්නේ, "යළි යළිත්" කරන ලද ප්‍රකාශයන් ගැන ප්‍රවාදවල කෙළින්ම සඳහන් වී තිබෙන බව තම ජර්මන් පාඨකයන්ගෙන් සඟවා තැබීමය!

කෞට්ස්කි මහතා උපයෝගී කර ගන්නා නොවැදගත් කාලකණ්ණි සහ පිළිකුල් සහගත විධික්‍රම මේවාය! ඔහු න්‍යායික ප්‍රශ්නය මගහැර ගොස් ඇත්තේ ඒ අනුවය.

ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී පාර්ලිමේන්තුවාදී සමූහාණ්ඩුව, පැරිස් කොමියූනය නැතහොත්, සෝවියට් වර්ගයේ සමූහාණ්ඩුවකට වඩා පහත් යයි කීම සත්‍යද, නැද්ද? ප්‍රධාන ප්‍රශ්නය එයයි. කෞට්ස්කි එයට මුහුණ නොදී මග හැර ඇත. පැරිස් කොමියූනය ගැන විශ්ලේෂණයක යෙදෙමින් මාක්ස් කී සියලු දේ කෞට්ස්කිට "අමතක" වී තිබේ. මාක්ස්ගේ එම අදහසම ඉතාමත් පැහැදිලි සහ සුගම ආකාරයෙන් "කොමියූනය, තවදුරටත්, වචනයේ නියම අර්ථයට අනුකූල රාජ්‍යයක් නොවීය" යනුවෙන් වදන් ගත කර යොදමින් එංගල්ස් 1875 මාර්තු 28 දින බෙබල්ට ලියූ ලියුම ගැනද, ඔහුට "අමතක" වී තිබේ.

මෙහිදී අපට දක්නට ලැබෙන්නේ, ප්‍රජාතන්ත්‍රවාදී ධනපති සමූහාණ්ඩුවට වඩා උසස් රාජ්‍ය ආකෘතියක් පිළිබඳ ප්‍රශ්නය එක එල්ලේ හා යළි යළිත් මතු කරන ලද රුසියාව ගැන විශේෂයෙන්ම කරුණු දක්වමින් "නිර්ධන පංති ආඥාදායකත්වය" ගැන පොතක් ලියන දෙවැනි ජාත්‍යන්තරයේ ඉතාමත් ප්‍රමුඛ න්‍යායවාදියා, එම ප්‍රශ්නයම මගහරින බවය. යථාර්ථ වශයෙන්, මෙය ධනපති පංතියේ කඳවුරට පලා යාමකට වඩා වෙනස් වන්නේ කුමණ ආකාරයෙන්ද?

(මේ සම්බන්ධයෙන්ද, කෞට්ස්කි හුදෙක්ම රුසියානු මෙන්ෂෙක්වරුන් පසු පස ඇදෙමින් සිටින බව අමතර වශයෙන් නිරීක්ෂණය කරනු කැමැත්තෙමු. මාක්ස්ගෙන් හා එංගල්ස්ගෙන් "උපුටාගත් කොටස්" සියල්ලම ගැන දන්නා අය මෙන්ෂෙවික්වරුන් අතර වෙති. නමුත් 1917 අප්‍රියෙල් සිට ඔක්තෝබර් දක්වාද, 1917 ඔක්තෝබර් සිට 1918 ඔක්තෝබර් දක්වාද එකම මෙන්ෂෙවික්වරයෙක් වත්, පැරිස් කොමියූනය වර්ගයේ රාජ්‍යය ගැන ප්‍රශ්නය පරීක්ෂාකිරීමට

* කෞට්ස්කිගේ පොතෙහි මෙවැනි මෙන්ෂෙවික්වාදී බොරු රැසක් තිබෙන බව මෙහිලා සඳහන් කළ යුතුය! එය කෝපාවිෂ්ට මෙන්ෂෙවික් වරයෙක් විසින් ලියන ලද සැහැල්ලකි.

එකම ප්‍රයත්නයක් හෝ කිසිවිටෙකත් දරා නැත. ප්ලෙහානව්ද මෙම ප්‍රශ්නය මගහැර ඇත. ඔහුට එසේ කිරීමට සිදුවූවා විය හැකිය.)

තමන් සමාජවාදීන් යයි කියාගන්නා, එහෙත්, ප්‍රධාන ප්‍රශ්නයේදී, එනම්, පැරිස් කොමියුනය වර්ගයේ රාජ්‍ය සම්බන්ධ ප්‍රශ්නයේදී ඇත්ත වශයෙන්ම ධනපති පංතියේ පැත්තට පලා යන අය සමග ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය විසිරුවා හැරීමේ ප්‍රශ්නය සාකච්ඡා කිරීම සූකරයන් ඉදිරියේ මුතු විසිරීමක් හා සමාන බව නොකීවත් පැහැදිලි කරුණකි. එනිසා ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය ගැන මා ඉදිරිපත් කළ ප්‍රවාදයන්ගේ සම්පූර්ණ පිටපතක් මෙම පොතට උප ග්‍රන්ථයක් වශයෙන් එකතු කිරීම ප්‍රමාණවත් වනු ඇත. න්‍යාය, ඉතිහාසය හා ප්‍රායෝගික දේශපාලනය විසින් පෙන්නුම් කෙරෙන කරුණු අනුව 1917 දෙසැම්බර් 26 දින ප්‍රශ්නය ඉදිරිපත් කර තිබෙන බව එවිට පාඨකයාට පෙනෙනු ඇත.

කෞට්ස්කි න්‍යායවාදියෙක් ලෙසට සම්පූර්ණයෙන්ම මාක්ස්වාදය අත්හැර දමා සිටියත්, ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය සමග සෝවියට් සභා කළ අරගලය ගැන ඉතිහාසඥයෙකු ලෙස පරීක්ෂා කිරීමේ හැකියාව ඔහුට තිබුණි. මාක්ස්වාදී ඉතිහාසඥයෙක් වන හැටි කෞට්ස්කි දැන සිටි බවත්, පසු කාලයේදී ඔහු පිළ හැර ගිය බව නොතකාම නිර්ධන පංතිය ඔහුගේ එවැනි කෘති සැමද අගය කරනු ඇති බවත් ඔහුගේ කෘති ගණනාවක්ම අනුව අපි දන්නෙමු. නමුත්, මෙම ප්‍රශ්නයේදී, ඉතිහාස-ඥයෙකු ලෙසට පවා කෞට්ස්කි සත්‍යයට පිටුපාන්නේය. සුප්‍රසිද්ධ කරුණු අමතක කරමින් බොරු වර්ණනාකාරයෙක් ලෙසට හැසිරෙන්නේය. බොල්ෂෙවික්වරුන් ප්‍රතිපත්ති විරහිත පිරිසක් ලෙසට පෙන්වීමට ඔහුට උවමනා වී තිබේ. ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය විසුරුවා හැරීමට පෙර බොල්ෂෙවික්වරු එය සමග සට්ටනය ලිහිල්කිරීමට උත්සාහ කළහයි ඔහු තම පාඨකයන්ට කියන්නේ එනිසාය. අප කළ දෙයෙහි කිසිම වරදක් නැත. අප කී දේ කිසිවක් අස්කර ගැනීමට උවමනාවක් නැත. මම ප්‍රවාද සම්පූර්ණයෙන්ම දක්වන්නෙමි. එහි ඉතාමත් පැහැදිලි ලෙස මෙසේ කියා තිබේ: "ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයේ වාඩිලාගෙන සිටින වැනෙනසුලු සුළු ධනපති පංතියේ මහත්වරුනි, එක්කෝ නිර්ධන පංති ආඥාදයකත්වය තිබෙන බව පිළිගෙන කටයුතු කරන්න. නැතහොත් "විප්ලවවාදී මාර්ගයෙන්" අපි ඔබ පරාජය කරන්නෙමු" (18 හා 19 වැනි ප්‍රවාද).

සැබැවින්ම විප්ලවවාදී නිර්ධන පංතිය වැනෙනසුලු සුළු ධනපති පංතිය කෙරෙහි කවදත් පෑ සහ නිතරම පානු ඇති හැසිරීම එසේය.

ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය හා සම්බන්ධ ප්‍රශ්නයේදී කෞට්ස්කි විධිමාත්‍ර ස්ථාවරයක් ගනියි. විප්ලවයේ උවමනාවන් ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයේ විධිමාත්‍ර අවශ්‍යතාවයන්ට වඩා උසස් බව මගේ ප්‍රවාදවලින් පැහැදිලි ලෙස යළි යළිත් කියා ඇත. (ප්‍රවාද 16 හා 17 බලන්න). විධිමාත්‍ර ප්‍රජාතන්ත්‍රවාදී දෘෂ්ටි කෝණය යනු, නිර්ධන පංතියේ සහ නිර්ධන පංතික පංති අරගලයේ උවමනාවන් අන් සියල්ලට වඩා ප්‍රධානය යන්න නොපිළිගන්නා ධනපති ප්‍රජාතන්ත්‍රවාදියාගේ දෘෂ්ටි කෝණය වේ. ධනපති පාර්ලිමේන්තු යනු මෙම හෝ අනිත් පංතියේ ආයතන වන බව නොපිළිගෙන සිටීමට ඉතිහාසඥයෙකු ලෙසට කෞට්ස්කිට නොහැකිය. නමුත් දැන් (විප්ලවය අත් හැර දැමීමේ දීන අරමුණ ඉටුකර ගැනීම සඳහා) මාක්ස්වාදය අමතක කිරීමේ අවශ්‍යතාවයට මුහුණ දෙන කෞට්ස්කි, රුසියාවේ ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය කුමණ පංතියේ ආයතනයක් වීද යන ප්‍රශ්නය මතුකිරීමෙන් වැලකෙයි. කෞට්ස්කි යථාභූත තත්වයන් පරීක්ෂා නොකරයි. ඔහු සත්‍ය කරුණුවලට මුහුණ නොදෙයි. ධනපති ප්‍රජාතන්ත්‍රවාදයේ සීමිත ස්වභාවය ගැන න්‍යායික පැහැදිලි කිරීමක් (ප්‍රවාද 1–3) පමණක් නොව, 1917 ඔක්තෝබර් මැද භාගයේ ඉදිරිපත් කෙරුණු පක්ෂ අපේක්ෂක ලැයිස්තු හා 1917 දෙසැම්බරයේ බලපැවැති නියම තත්වය අතර නොගැලපෙන සුලු ස්වභාවය ඇතිවීමට හේතුවූ නියත කොන්දේසි ගැන විස්තරයක් (ප්‍රවාද 4–6) පමණක් නොව, 1917 ඔක්තෝබර්-දෙසැම්බර් කාලයේ පංති අරගලයේ සහ සිවිල් යුද්ධයේ ඉතිහාසයක්ද (ප්‍රවාද 7-15) මෙම ප්‍රවාදවල අන්තර්ගත වී තිබීම ගැන ඔහු ඔහුගේ ජර්මන් පාඨකයන්ට වචනයක්වත් කියන්නේ නැත. "මුළුබලය ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයට පවරනු!" යන සටන් පාඨය යථාර්ථ වශයෙන් කැඩෙට්වරුන්ගේ[33] සහ කලේදින් පිරිසෙහිත්, ඔවුන්ගේ ආධාරකරුවන්ගේත් සටන්පාඨය වී තිබෙන බව, මෙම යථාතත්ව ඉතිහාසයෙන් අපි නිගමනය කෙළෙමු (ප්‍රවාදය 14).

ඉතිහාසඥ කෞට්ස්කි මෙය දැකීමට අපොහොසත් වෙයි. සර්වජන ඡන්දයෙන් සමහර විට සුළු ධනපති, සමහර විට ප්‍රතිගාමී හා සමහරවිට ප්‍රතිවිප්ලවවාදී පාර්ලිමේන්තු පත් කෙරෙන බව ඉතිහාසඥ කෞට්ස්කි කිසි කලෙකත් අසා නැත. මැතිවරණයේ ආකෘතිය, නැතහොත්, ප්‍රජාතන්ත්‍රයේ ආකෘතිය එක් දෙයක් බවත්, කිසියම් ආයතනයක පංති සන්ධාරය තවත් දෙයක් බවත්, මාක්ස්වාදී ඉතිහාසඥ කෞට්ස්කි කිසි කලෙකත් අසා නැත. ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයේ පංති සන්ධාරය පිළිබඳ මෙම ප්‍රශ්නය, මගේ ප්‍රවාදවලින් කෙළින්ම මතුකර පිළිතුරු දී ඇත. සමහර විට මගේ පිළිතුර වැරදි විය හැකිය. අපගේ විශ්ලේෂණය ගැන පිටස්තර අයෙක් කරන මාක්ස්වාදී විවේචනයක් වී නම් එය ඉතා සතුටින් පිළිගැනීමට අපි සූදානම්ව සිටියෙමු. බොල්ෂෙවික්වාදය විවේචනය කිරීම කිසියම් අයෙකු විසින් වලක්වනු ලැබීම ගැන අන්ත මෝඩ වදන්

(කෞට්ස්කිගේ පොතෙහි ඒවා රැසක් ඇත) දෙඩනු වෙනුවට ඔහු කළ යුතුව තිබුණේ, එවැනි විවේචනයක් කිරීමෙහි යෙදීමය. නමුත්, කාරණය නම් ඔහු විවේචනයක් ඉදිරිපත් නොකිරීමයි. එක් අතකින් සෝවියට් සභා ගැනද, අනිත් අතට ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය ගැනද පංති විග්‍රහයක් කිරීමේ ප්‍රශ්නය පවා ඔහු විසින් මතු නොකෙරේ. එනිසා කෞට්ස්කි සමග ඒ ගැන තර්ක කිරීමට, නැතහොත් විවාද කිරීමට කොහෙත්ම හැකියාවක් නැත. අපට කළහැක්කේ, කෞට්ස්කි හැදින්වීමට ද්‍රෝහියා යන්න හැර වෙනත් කිසිවක් නොසුදුසු බව පාඨකයාට ගෙනහැර පෑම පමණකි.

සෝවියට් සභා සහ ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය අතර අපසාරිතාවයට ඉතිහාසයක් ඇත. පංති අරගලයේ දෘෂ්ටි කෝණය නොපිළිගන්නා ඉතිහාසඥයෙකුට වුවද එය නොතකා හැරිය හැකි නොවේ. කෞට්ස්කි මෙම සත්‍ය ඉතිහාසයට අත තබන්නේවත් නැත. සෝවියට් සභා සහ "පොදු රාජ්‍ය" (එනම්, ධනපති රාජ්‍ය) ආයතන අතර අපසාරිතාවය මෙන්ෂෙවික්වරුන්ගේ පාලනය යටතේ, එනම්, 1917 පෙබරවාරි සිට ඔක්තෝබර් දක්වා කාලය තුළ පවා පැවතියේය යන සුප්‍රකට (සහ අගති සහිත මෙන්ෂෙවික් වරුන් විසින් දූන් සඟවනු ලබන) සත්‍යය තමන්ගේ ජර්මන් පාඨකයන් ගෙන් සැඟවීමට කෞට්ස්කි වග බලා ගනී. කෞට්ස්කි සැබැවින්ම පිළිගන්නේ නිර්ධන පංතිය සහ ධනපති පංතිය අතර සමාදනය, සම්මුතිය හා සහයෝගිතාවය ඇති කරන ස්ථාවරයකි. කෞට්ස්කි කොතරම් උවමනාවෙන් නැතැයි කීවත් මෙය ඔහුගේ මුළු පොතෙන්ම ඔප්පුවන සත්‍යයකි. ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය විසුරුවා හැරීම නොකළ යුතුව තිබිණි යයි කීමෙහි අර්ථය, ධනපති පංතියට විරුද්ධව කරන සටන අවසානයක් දක්වා නොකළ යුතු යයිද, ධනපති පංතිය බලයෙන් නෙරපා දැමීම නොකළ යුතු විනැයිද, නිර්ධන පංතිය ඔවුන් සමග සාමයක් ඇති කර ගත යුතු වී යයිද කීමකි.

1917 පෙබරවාරි සහ ඔක්තෝබර් අතර කාලය තුළ මෙන්ෂෙවික්වරු මෙම අපකීර්තිමත් කාර්යයෙහි යෙදී සිටි අතර එයින් කිසි සාර්ථකත්වයක් නොලැබූහ. එම කරුණ ගැන කෞට්ස්කි නිහඬතාවය රැක්කේ මන්ද? ධනපති පංතිය සහ නිර්ධන පංතිය සමාදන කිරීමේ හැකියාවක් තිබුණි නම්, මෙන්ෂෙවිකයන්ට එය කළ නොහැකි වූයේ මන්ද? ධනපති පංතිය සෝවියට් සභාවලින් ඉවතට වී සිටියේ මන්ද? මෙන්ෂෙවික්වරුන් විසින් සෝවියට් සභා "විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රය" යනුවෙන්ද, ධනපතියන් "දේපල හිමි කොටස්" යනුවෙන්ද හඳුන්වන ලද්දේ මන්ද?

මෙන්ෂෙවික්වරුන්ගේ පාලනයේ මෙම 'යුගයේදී" (1917 පෙබරවාරි සිට ඔක්තෝබර්) "විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රය" යන නමින් සෝවියට් සභා



හැදින්වූයේ ඔවුන්ම බවත්, එසේ කිරීමෙන්, අන් ආයතනවලට වඩා ඒවායේ උසස්කම ඔවුන් විසින් පිළිගන්නා ලද බවත්, කෞට්ස්කි ඔහුගේ ජර්මන් පාඨකයන්ට නොකියා සැඟෙව්වේය. සෝවියට් සභා සහ ධනපති පංතිය අතර අපසාරිතාවයට ඉතිහාසයක් නොමැත්තේයයිද, එය පැන නැංගේ හේතුවක් නැතිව, බොල්ෂෙවික්වරුන්ගේ නරක හැසිරීම නිසා යයිද, පෙනෙන්නට සැලැස්වීමේ හැකියාව කෞට්ස්කිට ලැබුණේ මෙම සත්‍ය වසං කිරීමෙන් පමණකි. නමුත් ඇත්ත වශයෙන්ම, මෙන්ෂෙවික්වරුන්ගේ මෙම සම්මුතිගත වීමේ සහ ධනපති පංතිය සමග නිර්ධන පංතිය සමාදන කිරීමට ප්‍රයත්න දැරීමේ සයමසකට වැඩි (විප්ලවය අවස්ථාවේ මෙය ඉතා දීර්ඝ කාලයකි) අත්දැකීම් නිසා එම ප්‍රයත්නයන්ගේ නිස්සාර භාවය ජනතාවට ඒත්තු ගියෙන් ඔවුන් කෙරෙන් ජනතාව දුරු වීමට හේතු වූයේ, එම අත්දැකීම්මය.

සෝවියට් සභා නිර්ධන පංතියේ විශිෂ්ට සටන් සංවිධාන වන්නේ යයි කෞට්ස්කි පිළිගනියි. ඒවා ඉදිරියේ දීප්තිමත් අනාගතයක් ඇතැයිද ඔහු පිළිගනියි. එය එසේ වූ කල, ඔහු පිළිගත් ස්ථාවරය කඩදසි ගෙයක් මෙන්, නැතහොත්, නිර්ධන පංතිය සහ ධනපති පංතිය අතර කෙරෙන තියුනු අරගලය මගහැරිය හැකියයි සිතන සුළුධනපතියෙකුගේ සිහිනයක් මෙන් බිඳ වැටෙන්නේය. ඒ මන්ද? විප්ලවය යනු එක දිගටම කෙරෙන හා ඊටත් වඩා දිවි දෙවැනි කොට කරන අරගලයක්ද, නිර්ධන පංතිය යනු සියලු පීඩිතයන් ඔවුන්ගේ විමුක්තිය සඳහා කරන සියලු ප්‍රාර්ථනාවන්ගේ යොමුව සහ මධ්‍ය ලක්ෂයද වන හෙයිනි! එනිසා සෝවියට් සභා, පීඩිත ජනතාවගේ අරගලයේ අවයවය ලෙසට ක්‍රියාත්මක වන අතර, වෙනත් කිසිම ආයතනයකට වඩා ඉතාමත් කඩිනම්ව, සම්පූර්ණ ලෙස හා තත්වාකාරයෙන් මෙම ජනතාවගේ අන්දම් හා අදහස් විපර්යාසයන් පිළිබිඹු හා ප්‍රකාශ කරයි. (සෝවියට් ප්‍රජාතන්ත්‍රය උසස්ම වර්ගයේ ප්‍රජාතන්ත්‍රය වීමට එය එක් හේතුවකි).

1917 පෙබරවාරි 28 දින (පැරණි ක්‍රමය අනුව) පටන් ඔක්තෝබර් 25 දක්වා කාලය තුළ රුසියාවේ ජනගහනයෙන් අති බහුතරයක, නැතහොත්, කම්කරුවන් හා සොල්දාදුවන් සියල්ලන්ගේමත්, ගොවි ජනතාවගෙන් සියයට 70 ක, නැතහොත් 80 කත්, නියෝජිතයන්ගෙන් සමන්විත සමස්ත රුසියා සම්මේලන දෙකක් පැවැත්වීමට සෝවියට් සභාවලට හැකි විය. ඊට අමතරව, ප්‍රාදේශීය, උයෙස්ද්, නාගරික, ගුබේර්නියා සහ ප්‍රාන්තීය සම්මේලන රාශියක්ද පවත්වන ලදී. මෙම කාලය තුළ (නිර්ධන පංතියේ කෝපය ඇවිස්සූ ඒ "ප්‍රජාතන්ත්‍රවාදී සාකච්ඡා සභාව"[34] නැමති, පැහැදිලිව පෙනී ගිය ව්‍යාජය හා විහිළුව හැරෙන්නට) බහුතරය නියෝජනය කරන එකද ආයතනයක් හෝ

රැස්කිරීමට ධනපති පංතිය අපොහොසත් විය. ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයෙන්ද පිළිබිඹු වූයේ, පළමු (ජූනි) සමස්ත රුසියා සෝවියට් සහා සම්මේලනයෙන් දක්නට ලැබුණු එම පොදුජන අන්දම හා එම දේශපාලන කණ්ඩායම්මය. ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය රැස්කරන (1918 ජනවාරි) කල, දෙවැනි (1917 ඔක්තෝබර්) සහ තුන්වැනි (1918 ජනවාරි) සෝවියට් සභා සම්මේලන පවත්වා තිබුණි. ජනතාව වමට හැරී සිටි බවත්, ඔවුන් විප්ලවීය ලෙස වෙනස් වී සිටි බවත්, මෙන්ෂෙවික්වරුන් හා සමාජවාදී-විප්ලවවාදීන් හැර දමා බොල්ෂෙවික්වරුන්ගේ පැත්ත ගෙන සිටි බවත්, එම සම්මේලන දෙකෙන්ම ඉතා පැහැදිලි ලෙස පෙනී ගොස් තිබිණ. ජනතාව සුළු ධනපති නායකයන් කෙරෙන් ඉවතට හැරී සිටි බවත්, ධනපති පංතිය සමග සම්මුතියක් ඇතිකර ගැනීමේ හැකියාව පිළිබඳ මායා මතය බැහැර ලා සිටි බවත්, ධනපති පංතිය බලෙන් පහකර දැමීම සඳහා නිර්ධන පංතියේ විප්ලවීය අරගලයට එකතු වී සිටි බවත්, ඒඅනුව එම සම්මේලන වලින් පෙනී ගොස් තිබිණ.

ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය ප්‍රතිගාමී සභාවක් වී තිබුණ බව හා එය විසුරුවා හැරීම නොවැලැක්විය හැකි දෙයක් වූ බව සෝවියට් සභාවල බාහිර ඉතිහාසයෙන් පවා පැහැදිලි වන බව මෙයින් පෙනේ. නමුත් කෞට්ස්කි ඔහුගේ "සටන් පාඨය" තරයේ අල්ලා ගෙන සිටියි: විප්ලවය විනාශ වී ගියත්, නිර්ධන පංතිය පරදවා ධනපති පංතිය ජයග්‍රහණය කළත්, "පිරිසිදු" ප්‍රජාතන්ත්‍රවාදය තිබිය යුතුය! Fiat justitia pereat mundus*

| සමස්ත රුසියා සෝවියට් සභා සම්මේලනය | නියෝජිත සංඛ්‍යාව | බොල්ෂෙවික්වරු ගණන | බොල්ෂෙවික්-වරු සියයට ගණන |
|---|---|---|---|
| පළමු (1917 ජූනි 3) | 790 | 103 | 13 |
| දෙවැනි (1917 ඔක්තෝබර් 25) | 675 | 343 | 51 |
| තුන්වැනි (1918 ජනවාරි 10) | 710 | 434 | 61 |
| හතරවැනි (1918 මාර්තු 14) | 1232 | 795 | 64 |
| පස්වැනි (1918 ජූලි 4) | 1164 | 773 | 66 |

* ලෝකය විනාශ වුනත් යුක්තිය ඉටු කරනු! — සංසකාරක.



රුසියානු විප්ලවය අතරතුර පැවැත්වුනු සමස්ත රුසියා සෝවියට් සභා සම්මේලනවලට අදාළ සංක්ෂිප්ත සංඛ්‍යා විස්තර මෙසේය.

ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය ආරක්ෂා කිරීම සහ බොල්ෂෙවික්වරුන්ට ජනගහනයේ බහුතරයක සහයෝගය නොලැබීම ගැන (කෞට්ස්කි මෙන්) කරන කථා රුසියාවේදී සමච්චලයට භාජනය වන්නේ මන්දැයි වටහා ගැනීමට, වරක් මෙම සංඛ්‍යා දෙස බැලීම පමණක් වුව ප්‍රමාණවත් වේ.

## සෝවියට් ව්‍යවස්ථාව

මා දැනටමත් පෙන්වා දී තිබෙන ලෙසට ධනපතියන්ට ඡන්ද බලය අහිමි කිරීම නිර්ධන පංති ආඥාදායකත්වය සඳහා තිබිය යුතුම හා නැතිවම බැරි අංග ලක්ෂණයක් නොවේ. තවද රුසියාවේ ඔක්තෝබරයට බොහෝ කලින් නිර්ධන පංති ආඥාදායකත්වය සටහා සටන් පාඨය ඉදිරිපත් කළ බොල්ෂෙවික්වරු සූරාකන්නන්ට ඡන්ද බලය අහිමි කිරීම ගැන කිසිවක් කල්තබා පළ නොකළහ. ආඥාදායකත්වයේ මෙම අංගය කිසියම් පක්ෂයක "සැලැස්මක් අනුව" උද්ගත වූවක් නොවේ. එය අරගලයේදී නිරායාසයෙන්ම උද්ගත විය. නමුත් ඉතිහාසඥ කෞට්ස්කි මෙය දැකීමෙහි අපොහොසත් විය. (ධනපතියන් සමග සම්මුතිගත වූ) මෙන්ෂෙවික්වරු තවමත් සෝවියට් සභා පාලනය කරමින් සිටියදීම, ධනපතියන් ස්වේච්ඡාවෙන්ම සෝවියට් සභාවලින් දුරස්ව සිටි බවත්, ඔවුන් ඒවා වර්ජනය කළ බවත්, ඒවාට ප්‍රතිපාක්ෂික ප්‍රතිෂ්ඨාවක් ගනිමින් ඒවාට විරුද්ධව කුමන්ත්‍රණ කළ බවත්, වටහා ගැනීමට කෞට්ස්කි සමත් වූයේ නොවේ. සෝවියට් සභා උද්ගතවූයේ කිසිම ව්‍යවස්ථාවකින් තොරවය. ඒවා අවුරුද්දකට අධික කාලයක් (1917 වසන්තයේ පටන් 1918 ග්‍රීෂ්ම කාලය දක්වා) එසේ ව්‍යවස්ථාවක් නොමැතිව පැවතුනි. පීඩිතයන්ගේ මෙම ස්වාධීන සර්වබලධාරී (එය සර්වග්‍රාහී නිසා) සංවිධානයට විරුද්ධව ධනපතියන් දැක්වූ නපුරු කෝපයද සෝවියට් සභාවලට විරුද්ධව ධනපතියන් ගෙනගිය සටන, එනම්, අනුකම්පා විරහිත, ආත්මාර්ථකාමී සහ නිහීන සටනද, අවසාන වශයෙන් (කැඩෙට්වරුන්ගේ පටන් දක්ෂිණ සමාජවාදී-විප්ලවවාදීන් දක්වා, මිල්යුකොව්ගේ පටන් කෙරෙන්ස්කි දක්වා) ධනපතියන් කර්නිලව් කැරැල්ලට[33] විවෘත ලෙස සම්බන්ධ වීමද, යන මේ සියල්ල නිසා ධනපතියන් සෝවියට් සභාවලින් විධිමත් ලෙස පිටමං කිරීමේ මාර්ගය සකස් විය.

කෞට්ස්කි කර්නිලව් කැරැල්ල ගැන අසා ඇත. නමුත්, ඉතිහාසයේ

සත්‍ය කරුණු සහ ආඥදායකත්වයේ ආකෘති නිර්ණය කරන අරගලයේ මාර්ගය සහ ආකෘති සැලකිල්ලට නොගෙන ඔහු ගර්වයෙන් ඉවත හැරෙයි: ''පිරිසිදු'' ප්‍රජාතන්ත්‍රය හා සම්බන්ධ ප්‍රශ්නයක් වූ කල හැබෑවටම සත්‍ය කරුණු ගැන සැලකිල්ලක් දැක්විය හැක්කේ කාටද? ධනපතියන්ට ඡන්ද බලය අහිමි කිරීම ගැන කෞට්ස්කි කරන ''විවේචනය'' එතරම් මියුරු බොළඳ ස්වභාවයකින් අලංකෘත වී ඇත්තේ එබැවිනි. නමුත්, එම බොළඳ ස්වභාවය ළදරුවෙකු තුළ දක්නා කල ලගන්නා සුලු නමුත්, මානසික දුර්වලත්වයකින් පෙළෙන බවට තවමත් නිල සහතිකයක් නොමැති මිනිසෙක් කෙරෙහි එය දක්නා කල, එය උපදවන්නේ පිළිකුලකි.

''සර්වජන ඡන්දය යටතේ තමන් ඉතා සුළු අල්පතරයක් වන බව ධනපතියන්ට පෙනී ගියේ නම් ඔවුන් වැඩි කැමැත්තකින් ඔවුන්ගේ ඉරණම පිළිගනු ඇත'' (පිටුව 33).... මන බඳිනා කථාවක් නොවේද? පීඩිත බහුතරයේ කැමැත්ත සැලකිල්ලට ගනිමින් ඉඩම් හිමියන් හා ධනපතියන් කටයුතු කළ අවස්ථා රැසක්ම දක්ෂ කෞට්ස්කි ඉතිහාසයෙන් හා ජීවිතය ගැන තමන් කළ නිරීක්ෂණවලින් සොයාගෙන ඇතුවාට සැකයක් නැත. දක්ෂ කෞට්ස්කි කියන්නේ ''විරුද්ධ පාර්ශවයක්'', එනම්, පාර්ලිමේන්තු අරගලය තිබිය යුතු බවය. ''විරුද්ධ පාර්ශවය'' — කෞට්ස්කි (34 වැනි පිටුවේ හා වෙනත් තැන්වල) කියා ඇති දෙයෙහි පදගත අර්ථය එයය.

මා ප්‍රිය උගත් ඉතිහාසඥයා සහ දේශපාලනඥයාණනි! ''විරුද්ධ පාර්ශවය'' යනු සාමකාමී අරගලයට සහ පාර්ලිමේන්තුවාදී අරගලයට පමණක් අයත් වන සංකල්පයක් බව, එනම්, විප්ලවවාදී නොවන තත්වයකට ගැලපෙන සංකල්පයක් බව, විප්ලවයක් නොතිබීමට ගැලපෙන සංකල්පයක් බව දැන ගත්තාට ඔබට හානියක් නොවනු ඇත. විප්ලවය අවස්ථාවේ ඇතිවන සිවිල් යුද්ධයේදී නිර්දය සතුරෙකුට මුහුණ දීමට අපට සිදුවේ. ප්‍රතිගාමී අඳෝනාකාරයන් සහ කෞට්ස්කි මෙන් යුද්ධයෙන් බියපත්වන සුළු ධනපතියන් සිටීමෙන් එම සත්‍යය වෙනස් නොවේ. ධනපතියන් අපරාධ කිරීමට සූදානම්ව සිටින විට, නිදසුනක් ලෙසට ධනපතියන් ඔවුන්ගේ ආධාරයට විදේශ රාජ්‍යයන් කැඳවමින් සහ එම රාජ්‍යයන් සමග එක්ව විප්ලවයට විරුද්ධව කුමන්ත්‍රණය කරමින් සිටින විට, සිවිල් යුද්ධයට සම්බන්ධ ප්‍රශ්න ''විරුද්ධ පාර්ශවයේ'' දෘෂ්ටි කෝණයෙන් පරීක්ෂා කිරීම යනු හුදෙක්ම කෝලමකි. ගොගොල්ගේ පෙත්‍රෂ්කා[36] ශෛලියෙන් ඉතිහාසය ගැන නොසලකන සෑම පුද්ගලයෙකුටම, වර්සයිල්ස් මිනිසුන්ගෙන් සහ ඔවුන් බිස්මර්ක් සමග කළ ගනු දෙනු වලින් ඒත්තුයන කිසියම් අර්ථයක් තිබිය යුතුය. විප්ලවවාදී නිර්ධන පංතිය කළ යුත්තේ ''හිස අවුල් කරගත් උපදේශක'' කෞට්ස්කි



මෙන් නිදිතොප්පිය පැළඳ ගැනීම හා දූතව්, ක්‍රස්නොව් සහ චෙක් ප්‍රතිවිප්ලවවාදී කැරළි කරුවන්[37] සංවිධානය කරමින්ද, කඩාකප්පල්කාරයින්ට කෝටි ගණනින් මුදල් ගෙවමින්ද, සිටින ධනපතියන් නීත්‍යානුකූල ''විරුද්ධ පාර්ශවය'' ලෙස සැලකීමය. අඳෝමැයි, මොනතරම් ගැඹුරු දහමක්ද!

කෞට්ස්කි උනන්දු වන්නේ ප්‍රශ්නයේ විධිමත් නීතිමය අංශය ගැන පමණකි. සෝවියට් ව්‍යවස්ථාව ගැන වූ ඔහුගේ විවරණයන් කියවන විට, අයෙකුට නිරායාසයෙන්ම බේබෙල්ගේ මෙම වචන මතක්වේ: නීතිඥයෝ වූ කලී නොමුහුන් ප්‍රතිගාමීන් වෙති. කෞට්ස්කි මෙසේ ලියයි: ''යථාර්ථවශයෙන් බලන කල ධනපතියන්ට පමණක් ඡන්ද බලය අහිමි කළ නොහැකිය. වචනයේ නීත්‍යානුකූල අර්ථය අනුව ධනපතියෙක් යනු කවරෙක්ද? දේපල හිමියෙක්ද? ආර්ථික ප්‍රගතිමාර්ගයේ බොහෝ ඉදිරියට ගිය සහ අතිවිශාල නිර්ධන පංතියක් සිටින ජර්මනිය වැනි රටක පවා, සෝවියට් සමූහාණ්ඩුවක් පිහිටුවීම නිසා විශාල ජනකායකට ඡන්ද බලය අහිමි වනු ඇත. 1907 වර්ෂයේදී ජර්මන් අධිරාජ්‍යයේ කෘෂිකර්මාන්තය, කර්මාන්තය හා වාණිජය යන මහා රැකියා කොට්ඨාශ තුනෙහි නියුතු වූවන් ඔවුන්ගේ පවුල්ද සමග ගත්විට ඔවුන්ගේ සංඛ්‍යාව, වේතන උපයන්නන් හා වැටුප් ලබන සේවකයින් තුන්කෝටි පණස් ලක්ෂයක්ද, ස්වාධීන අය එක්කෝටි හැත්තෑ ලක්ෂයක්ද පමණ විය. එනිසා පක්ෂයක් වේතන කම්කරුවන් බහුතරයක් සහිතව සිටියත්, එය සමස්තයක් වශයෙන් මුළු ජනගහනය අතර අල්පතරයක් වන්නට පිළිවන'' (පිටුව 33).

මෙය කෞට්ස්කි තර්ක කරන ආකාරය දක්වන නිදර්ශනයකි. මෙය ධනපති පංතියේ ප්‍රතිවිප්ලවවාදී කෙඳිරි ගෑමක් නොවේද? කෞට්ස්කි මහතාණනි, රුසියානු ගොවි ජනතාවගෙන් අතිබහුතරය කුලී ශ්‍රමකරුවන් සේවයෙහි නොයොදන අතර, එනිසා ඔවුන්ට ඡන්ද බලය අහිමි නොවන බව ඔබ ඉතා හොඳින් දැන සිටියදීම, ස්වාධීන අය සියලු දෙනාම ඡන්ද බලය අහිමිවන ගනයෙහි ලූයේ මන්ද? මෙය බොරු කිරීමක් නොවේද?

උගත් අර්ථ ශාස්ත්‍රඥයාණනි, 1907 වර්ෂය සඳහාවූ එම ජර්මන් සංඛ්‍යා ලේඛන වාර්තාවලම සඳහන් වන හා ඔබ ඉතා හොඳින් දන්නා කරුණු, එනම්, ගොවිපළවල විශාලත්වය අනුව කෘෂිකර්මාන්තයේ සේවය කරන කුලී ශ්‍රමකරුවන් සම්බන්ධ තොරතුරු උපුටා නොදැක්වූයේ මන්ද? සූරාකන්නන් කොතරම් සංඛ්‍යාවක් සිටිත්ද යන්න සහ ජර්මන් සංඛ්‍යාලේඛනවල සඳහන් ''ගොවීන්'' මුළු ගණන සමග සසඳන කල සූරාකන්නන් කොතරම් අල්ප පිරිසක්ද යන්න ජර්මන් කම්කරුවන්ට හා ඔබේ පොත කියවන අයට වටහාගත හැකිවනු පිණිස එම කරුණු උපුටා නොදැක්වූයේ මන්ද?

ඔබ එසේ නොකළේ ඔබේ පිළ මාරු කිරීමේ හේතුවෙන් ඔබ ධනපතියන්ගේ බොරු වර්ණනාකාරයෙක් වී සිටින හෙයිනි.

ධනපතියා යන්න නීත්‍යානුකූල ලෙස පැහැදිලි නැතැයි තර්ක කරන කෞට්ස්කි, සෝවියට් ව්‍යවස්ථාවේ ''අත්තනෝමතිකත්වය'' ගැන පිටු කීපයකම ගර්ජනා කරයි. අළුත් (මධ්‍ය කාලීන යුගයට අළුත්) ධනපති ව්‍යවස්ථාවක් සකස් කර දියුණු කර ගැනීම සඳහා බ්‍රිතාන්‍ය ධනපතියන් ශතවර්ෂ ගණනක් ගැනීම ගැන ''බරපතල උගතාගේ'' විරුද්ධත්වයක් නැත. නමුත් දස විද්‍යාවේ නියෝජිතයා වන ඔහු අපට, රුසියාවේ කම්කරුවන්ට හා ගොවීන්ට, කාලයක් නොදෙයි. මාසකීපයක් තුළදී, අකුරටම අංග සම්පූර්ණ කළ ව්‍යවස්ථාවක් අපට තිබිය යුතුයයි ඔහු අපේක්ෂා කරයි...

...''අත්තනෝමතිකත්වය!'' එවැනි දෝෂාරෝපනයක අන්තර්ගතව ඇත්තේ ධනපති පංතියට කරන කොතරම් විශාල බැල මෙහෙවරක්ද, මොනතරම් අන්ත මොට්ට අතිපණ්ඩිත කමක්ද යන්න මඳක් සිතා බලන්න. කම්කරුවන්ට පීඩා කිරීම සඳහා, දුප්පතාගේ අත් පා බැඳ දැමීම සඳහා සහ පොදු වැඩ කරන ජනතාවගේ මාවත අවුරන අවහිර සහ බාධක දහස් ගණන් පැනවීම සඳහා, සම්පූර්ණයෙන්ම ධනපති හා බොහෝ විට ප්‍රතිගාමී නීතිඥයන්, ශතවර්ෂ නැතහොත් දශක ගණන් තිස්සේ, ඉතාමත් විස්තරාත්මක රීති හා රෙගුලාසි සකස් කරන කල, නීති සහ නීති අටුවා වෙළුම් දුසිම් ගණන් හා සිය ගණන් ලියන කල, ධනපති ලිබරල්වාදීන්ට සහ කෞට්ස්කි මහතාට එහි ''අත්තනෝමති-කත්වයක්'' පෙනෙන්නේ නැත. එය ''නීතිය'' සහ ''සාමය'' ය! දුප්පතුන් මර්දනය කිරීමේ මාර්ග සියල්ලම සිතා බලා ලියා තබා ඇත. කම්කරුවාට සහ සාමාන්‍ය ගොවියාට මෙම නීති නැමති කටු කම්බි වලල්ල බිඳගෙන යා නොහෙන සේ නීති විග්‍රහ කිරීමට දත් නීතිඥයන් හා නිලධාරීන් ඇත. එම නීතිඥයන් හා නිලධාරීන් දහස් ගණනින් ඇත (නමුත් කෞට්ස්කි ඔවුන් ගැන වචනයක්වත් නොකියයි. සමහර විට ඔහු ඒ ගැන නොකියන්නේ නිලධාරිවාදී යන්ත්‍ර සුන්කිරීම අතිශයින් වැදගත් ලෙස මාක්ස් විසින් සලකන ලද නිසා විය හැකිය). ධනපති පංතිය මෙසේ කරන විට එය ''අත්තනෝමතිකත්වය'' නොවේ. එය, ජනතාවගේ ලේ උරා බොන නින්දිත සහ ආත්මාර්ථකාමී සූරාකන්නන්ගේ ආඥාදායකත්වය නොවේ! කිසිසේත්ම නැත! එය වූ කලි, දිනෙන් දින වැඩි වැඩියෙන් පිරිසිදු වන ''පිරිසිදු ප්‍රජාතන්ත්‍රවාදය'' ය.

නමුත් දැන් අධිරාජ්‍යවාදී යුද්ධය නිසා, දේශසීමාවෙන් ඔබ්බෙහි ස්වකීය සොහොයුරන් හා සම්බන්ධ විය නොහැකිව සිටින, වෙහෙසෙන සහ සූරාකනු ලබන පංති, තමන්ගේම සෝවියට් සභා ගොඩනගාගෙන ධනපතියන් විසින් පීඩාවට පත්කරනු, යටපත් කරනු හා මොට්ට කරනු ලැබූ ඒ ජනතාවට, දේශපාලන ඉදිකිරීමේ කටයුත්ත භාරගැනීමට එන්නැයි කැඳවුම් කර තිබෙන විට, එම ජනතාව නව නිර්ධන පංති රාජ්‍යයක් ගොඩනැගීම තමන්ම අරඹා තිබෙන විට, අතිශය වේගයෙන් කෙරෙන අරගලයේ තාපය මධ්‍යයේ, සිවිල් යුද්ධයේ, ගිනිදළු අසු අස්සේ, සූරාකන්නන් රහිත රාජ්‍යයේ මූලික ප්‍රතිපත්තිවල දළ සේයා සටහන් අඳින විට, ධනපතියන් සියලු දෙනාම, ඒ කුඩැල්ලන් බුරුත්තම, ''අත්තනෝමතිකත්වය'' ගැන ගෝරනාඩු කරන අතර කෞට්ස්කි එය දෝංකාර දෙවන්නේය. ඇත්තෙන්ම, මේ මෝඩ ජනයා, මෙම කම්කරුවන් හා ගොවීන්, මෙම ''හැතිකරය'' තමන්ගේ නීති තේරුම් කරන්නේ කෙසේද? උගත් නීතිඥයන්ගේ, ධනපති ලේඛකයන්ගේ, කෞට්ස්කිලාගේ සහ ඥානවන්ත පැරණි නිලධාරීන්ගේ අනුශාසනා නොමැතිව මෙම සාමාන්‍ය ශ්‍රමකරුවන් යුක්තිය පිළිබඳ හැඟීමක් ඇති කරගන්නේ කෙසේද?

කෞට්ස්කි, මගේ 1918 අප්‍රියෙල් 28 දින කථාවෙන්[38] මෙම වචන උපුටා දක්වයි: ''මැතිවරණ පැවැත්වීමේ පරිපාටිය හා කාලවේලාව ජනතාවම තීරණය කරති.'' නැවත කෞට්ස්කි ''පිරිසිදු ප්‍රජාතන්ත්‍රවාදියා'' මෙයින් මෙසේ නිගමනය කරයි:

''....ඡන්දදායකයන්ගේ රුස්වීම ඔවුන් කැමති පරිද්දෙන් මැතිවරණ පරිපාටිය තීරණය කරන බව මෙයින් පෙනේ. එනිසා අත්තනෝමති-කත්වයත්, නිර්ධන පංති පිරිස් තුළම වන විරුද්ධපාක්ෂික කොටස් ඉවත් කිරීමේ අවස්ථාත්, සීමාන්තයටම ගෙනයනු ලැබෙනු ඇත'' (පිටුව 37).

හොඳයි. වැඩවර්ජනයක් අවස්ථාවේදී ''වැඩ කිරීමට කැමති'' කම්මැලි නැති කම්කරුවන් පොදු ජනතාව විසින් හිරිහැරයට පත් කරනු ලැබීම ගැන උඩුබිරුලමින් ධනපතියන්ගේ කුලී ලබා ඔවුන් වෙනුවෙන් ලියන එකෙකුගේ කථාවට වඩා මෙය වෙනස් වන්නේ කෙසේද? '' ''පිරිසිදු'' ධනපති ප්‍රජාතන්ත්‍රවාදය යටතේ මැතිවරණ පරිපාටිය නියම කිරීමේ ධනපති නිලධාරිවාදී ක්‍රමය අත්තනෝමතික නොවන්නේ කෙසේද? තමන්ගේ යුග පැරණි සූරාකන්නන්ට විරුද්ධව සටන් කරනු පිණිස නැඟී සිටින සහ දිවි නොතකන මෙම අරගලයේදී අධ්‍යාපනය සහ පන්නරය ලබන පොදු ජනතාව අතර පවතින යුක්තිය පිළිබඳ හැඟීම, ධනපති දුර්මතයන් යටතේ ඇති දැඩි කෙරුණු නිලධාරීන්, බුද්ධිමතුන් සහ නීතිඥයන් අතලොස්සෙහි යුක්තිය පිළිබඳ හැඟීමට වඩා අඩුවන්නේ කෙසේද?

කෞට්ස්කි නියම සමාජවාදියෙකි. පවුලක මෙම ඉතා ගෞරවනීය පීතෘවරයාගේ, මෙම ඉතා අවංක පුරවැසියාගේ අවංකභාවය ගැන සැක නොසිතන්න. ඔහු කම්කරුවන්ගේ ජයග්‍රහණයේ, නිර්ධන පංති විප්ලවයේ දැඩි සහ අවබෝධ සහිත ආධාරකරුවෙකි. ඔහු ඉල්ලා සිටින එකම දෙය නම් — පොදුජනතාව ගමනේ යෙදෙන්නට පටන් ගන්නට පෙර, ඔවුන් සූරාකන්නන්ට විරුද්ධව භයානක සටනක් පටන් ගන්නට පෙර, එමෙන්ම, ඒකාන්ත වශයෙන්ම සිවිල් යුද්ධය නොමැතිව — විප්ලවයේ සංවර්ධනය සඳහා, පැණිරස කථා කියන සුළුධනපති බුද්ධිමතුන් සහ නිදි තොප්පි පැළඳගත් අමනයන් විසින් සාමාන්‍ය සහ නිශ්චිත ස්වභාවයේ රීති මාලාවක් ප්‍රථමයෙන් සකස් කරනු ලැබිය යුතු බවය....

දක්ෂිණාංශික සමාජවාදී-විප්ලවවාදී පක්ෂයේ සහ මෙන්ෂෙවික්වරුන්ගේ නියෝජිතයන් සෝවියට් සභාවලින් නෙරපා දැමීමට සෝවියට් සභාවල සමස්ත රුසියා මධ්‍යම විධායක කාරක සභාව 1918 ජූනි 14 දින තීරණය කළේයයි අපගේ බොහෝ උගත් ජුදස් ගොලොව්ලියොව්[39] බලවත් සදචාරාත්මක කෝපයකින් යුතුව ජර්මන් කම්කරුවන්ට කියයි. ''මෙම පියවර නිශ්චිත චෝදනාවලට වැරදිකරුවන් වූ නිශ්චිත පුද්ගලයන්ට විරුද්ධව එල්ල කළ එකක් නොවේ යයි ජුදස් කෞට්ස්කි ලියන්නේ උත්තම උදහසේ අග්නියෙන් දැවෙමිනි... සෝවියට් සභා මන්ත්‍රීන්ගේ විශේෂ මුක්ති අයිතිවාසිකම් ගැන එකම වචනයක්වත් සෝවියට් සමුහාණ්ඩුවේ ව්‍යවස්ථාවෙහි සඳහන්ව නැත. සෝවියට් සභාවලින් නෙරපන්නේ නිශ්චිත පුද්ගලයන් නොව නිශ්චිත පක්ෂ ය'' (පිටුව 37).

ඔව්. මෙයනම් ඉවසුම් නොදෙන ලෙසට, ඇත්ත වශයෙන්ම භයානක ආකාරයෙන් පිරිසිදු ප්‍රජාතන්ත්‍රවාදයෙන් පිට පැනීමකි. අපේ විප්ලවවාදී ජුදස් කෞට්ස්කි විප්ලවය කරන්නේ එම පිරිසිදු ප්‍රජාතන්ත්‍රවාදයේ රීති අනුවය. රුසියානු බොල්ෂෙවික්වරුන් වන අප කළයුතුව තිබුණේ ප්‍රථමයෙන්ම සවින්කොව් සහ සමාගමට, ලිබර්දන්ලා[40], පොත්‍රෙසොව්ලා (ක්‍රියාකාරීන්)[41] සහ සමාගමට විශේෂ මුක්ති හිමිකම් දීමය. ඊළඟට, චෙක් ප්‍රතිවිප්ලවවාදී සිවිල් යුද්ධයට එකතුවීම හෝ, එසේ නැතහොත්, තමන්ගේම රටේ කම්කරුවන්ට විරුද්ධව, උක්‍රේනියාවේදී හෝ ජෝර්ජියාවේදී ජර්මන් අධිරාජ්‍යවාදී පෙරමුණට එකතුවීම හෝ දඬුවම් ලැබිය යුතු වරදක් බව ප්‍රකාශයට පත් කරමින් අපරාධ නීති සංග්‍රහයක් සකස් කළ යුතුව තිබුණි. මෙම අපරාධ නීති සංග්‍රහය අනුව ''නිශ්චිත පුද්ගලයන්'' සෝවියට් සභාවලින් නෙරපීමේ අයිතිය පිරිසිදු ප්‍රජාතන්ත්‍රවාදයානුකූලව අපට ලැබෙන්නේ ඉන් පසුව පමණකි. අපගේ එම නිවැරැදි අපරාධ නීති සංග්‍රහය නිසි ලෙස සකස් කර ගන්නා තෙක්, සවින්කොව්ලා, පොත්‍රෙසොව්ලා සහ ලිබර්දන්ලා මගින් (නැතහොත් ඔවුන්ගේ උද්ඝෝෂණයට



ස්තුති වන්නට) බ්‍රිතාන්‍ය සහ ප්‍රංශ ධනපතියන්ගේ මුදල් ආධාර ලබන චෙක්වරුන් සහ උක්‍රේනියානු සහ තිබිලිසි මෙන්ෂෙවික්වරුන් මගින් ජර්මන් මුනිස්සන් උණ්ඩ ලබන ක්‍රස්නොව් සන්සුන්ව වාඩිවී බලා සිටිනු ඇති බවත්, එකෙක් සැබැවින්ම පිරිසිදුතම ප්‍රජාතන්ත්‍රවාදීන් මෙන් ''විරුද්ධ පාර්ශවයක'' කාර්ය කොටසට සීමා වී සිටිනු ඇති බවත් කිවමනා නොවේ''....

''ලාභ ඉපයීමේ අපේක්ෂාවෙන් කුලී ශ්‍රමය සේවයෙහි යොදවාගන්නා'' සියලු දෙනාටම සෝවියට් ව්‍යවස්ථාව මගින් ඡන්ද බලය අහිමි කර තිබීම ගැන කෞට්ස්කිගේ හදවත තුළ පැන නගින්නේ ඊට වඩා අඩු සදචාරාත්මක කෝපයක් නොවේ. ''ගෙදර වැඩකරන අයෙක්, නැතහොත්, එක පුහුණු ශිල්පියෙක් පමණක් සේවයෙහි යොදවා ගන්නා සුළු සේව්‍යයෙක් නිර්ධන පංතිකයෙක්ම ලෙසට ජීවත්වන හා හඟින තත්වයේ සිටීමට ඉඩ තිබෙන නමුත් ඔහුට ඡන්දයක් නැතැ'' යි කෞට්ස්කි ලියයි (පිටුව 36).

''පිරිසිදු ප්‍රජාතන්ත්‍රවාදයෙන්'' මොනතරම් පිටපැනීමක්ද! මොන අසාධාරණයක්ද! ඉතාමත් අනුකම්පා විරහිත ලෙස හා අල්ලා මිරිකාගත් ස්වභාවයෙන් ශ්‍රමය සූරාකන්නේ සුළු සේව්‍යයන් යයි මේ දක්වාම මාක්ස්වාදීන් සිතූ බව හා දහසක් කරුණුවලින් එය සනාථ වී තිබෙන බව සත්‍යයකි. නමුත් අපගේ ජුදස් කෞට්ස්කි සුළු සේව්‍යයන් ගන්නේ පංතියක් ලෙසට නොවේ (ඒ විනාශකාරී පංති අරගලයේ න්‍යාය නිර්මාණය කළේ කවුද?). ඔහු සුළු සේව්‍යයන් ගන්නේ තනි පුද්ගලයන්, නැතහොත්, ''නිර්ධන පංතිකයන් ලෙසටම ජීවත්වන හා හඟින'' සූරාකන්නන් ලෙසටය. මීට බොහෝ කලකට ඉහතදී මිය ගොස් වලලා දමන ලදැයි සලකන ලද ''සකසුරුවම් ඇග්නස්'' නැවතත් කෞට්ස්ගේ පෑනෙන් පණ ලබා සිටී. මෙම ''සකසුරුවම් ඇග්නස්'' නිර්මාණය කර ජර්මන් සාහිත්‍යයට ඇතුළත් කෙරුණේ ඒ ''පිරිසිදු'' ප්‍රජාතන්ත්‍රවාදියා වූ ධනපති ඉයුගින් රිහ්තර් විසින් දශක ගණනකට ඉහතදීය. නිර්ධන පංති ආඥාදායකත්වය නිසා, සූරාකන්නන්ගේ ප්‍රාග්ධනය රාජසන්තක කිරීම නිසා, කිව නොහැකි තරම් මහා ව්‍යසනයන් සිදුවනු ඇතැයි අනාවැකි ප්‍රකාශ කළ ඔහු අහිංසක ගතියක් පාමින් මෙසේ ප්‍රශ්න කළේය: වචනයේ නීත්‍යානුකූල අර්ථය අනුව ධනපතියා යනු කවරෙක්ද? ඔහු නිදර්ශනයක් කොට ගත්තේ දුප්පත් සහ සකසුරුවම් සහිත මැහුම්කාරියකි (''සකසුරුවම් ඇග්නස්''). දුෂ්ඨ ''නිර්ධන පංති ආඥාදායකයෝ'' ඇගේ අන්තිම තඹයත් උදුරා ගනිති. පිරිසුදු ප්‍රජාතන්ත්‍රවාදී ඉයුගින් රිහ්තර්ගේ මෙම ''සකසුරුවම් ඇග්නස්ට'' සියලුම ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් විහිළු කළ කාලයක් විය. නමුත් ඒ බොහෝ ඉහතදී විය. ඒ තමන්ගේ

පක්ෂය තුළ ජාතික ලිබරල්වාදීන්[42] සිටින බව ඉතා අවංක හා විවෘත ලෙස පිළිගත් බෙබෙල් ජීවමානව සිටි කාලයේ විය. ඒ බොහෝ ඉහත, කෞට්ස්කි ද්‍රෝහියෙක් වීමට පෙර කාලයක විය.

දැන් ''එක පුහුණු ශිල්පියෙක් පමණක් සේවයෙහි යොදවා ගන්නා, නිර්ධන පංතිකයෙක්ම ලෙසට ජීවත්වන හා හඟින සුළු සේවායයා'' වේශයෙන් ''සකසුරුවම් ඇග්නස්'' නැවතත් පණ ලබා ඇත. දුෂ්ඨ බොල්ෂෙවික්වරු ඔහුට අසාධාරණකම් කරති. ඔහුගේ ඡන්දය අහිමි කරති. කෞට්ස්කි කියන පරිදි, නිදසුනක් වශයෙන් මෙම හෝ අනිත් පැක්ටරියට සම්බන්ධ දූප්පත් සුළු සේවායයෙක්, විශේෂයක් ලෙසින්, සූරා කන්නෙක් නොවේ නම්, ඔහු ඇත්ත වශයෙන්ම '''‘නිර්ධන පංතිකයෙක්ම ලෙසට ජීවත්වන හා හඟින'' අයෙක් වේනම්, එවැන්නෙක් තමන්ගේ පිරිස අතරට වැද්ද ගැනීම සෝවියට් සමූහාණ්ඩුවේ තිබෙන සෑම ''ඡන්දදායකයන්ගේ රැස්වීමකටම'' කළහැකි බව ඇත්තය. නමුත් ලිඛිත නීති සංග්‍රහයක් නොමැතිව කටයුතු කරන (මොනතරම් භයානකද!) සාමාන්‍ය කම්කරුවන් එක් එක් අවස්ථාවේ පවත්වන පැක්ටරි රැස්වීමකට තිබෙන ජීවිතය පිළිබඳ දැනුම ගැන, සාධාරණත්වය පිළිබඳ හැඟීම ගැන කෙනෙකුට විශ්වාසය තැබිය හැකිද? එබැවින්, ''සකසුරුවම් ඇග්නස්ට'' සහ ''නිර්ධන පංතිකයෙක්ම ලෙසට ජීවත්වන හා හඟින සුළු සේවායයාට'' කම්කරුවන්ගෙන් අසාධාරණකම් ඇතිවීමේ අන්තරායට මුහුණ දෙනවාට වඩා, කුලී ශ්‍රමය යොදවන සියලුම සූරා කන්නන්ට ඡන්ද බලය දීම හොඳ නොවේද?

*   *   *

සූරාකන්නන්ට ඡන්ද බලය අහිමි කිරීම ගැන පිළිකුල් සහගත ද්‍රෝහී තක්කඩියන්, ධනපතියන්ගේ සහ සමාජ-ජාත්‍යාන්මාදවාදීන්ගේ* අත්පොළසන් ලබාගනිමින් අපගේ සෝවියට් ව්‍යවස්ථාවට පරිභව කළාවේ! එය කදිමය. එවිට යුරෝපයේ විප්ලවවාදී කම්කරුවන් සහ සමාජවාදයේ පැරණි නායකයන් වූ හා සමාජවාදය පාවාදුන් අය වන ෂෙයිඩමාන්ලා හා කෞට්ස්කිලාත්, රෙනොදෙල්ලා හා ලොංගේලාත්,

* ''ෆ්‍රැන්පර්ටර් සේතුං''[43] පත්‍රයේ (අංක 293 — 1918 ඔක්තෝබර් 22 දින) ප්‍රධාන ලිපියක් දැන් මොහොතකට පෙර කියෙව්වෙමි. කෞට්ස්කිගේ පොතෙහි සම්පිණ්ඩනයක් එහි ඉතා උනන්දුවෙන් ඉදිරිපත් කර තිබේ. මෙම ව්‍යාපාර විනිමය පොළෙහි නිල පත්‍රය සතුටු වී ඇත. ඒ අනුව, ෂෙයිඩමාන්ලාගේ නිල පත්‍රය වන ''පෝර්වර්ට්ස්''[44] ද කෞට්ස්කි ලියා ඇති සෑම පේළියකටම[45] පාහේ එකඟ වන බව එහි විශේෂ ලිපියකින් පවසා ඇති බව සහෝදරයෙක් මට බර්ලිනයෙන් දන්වා එවා තිබීම පුදුමයක් නොවේ. ඉත සිතින් ශුභ පතමු!



හෙන්ඩර්සන්ලා හා රැම්සේ මැක්ඩොනල්ඩ්ලාත් අතර භේදය ඉක්මන් සහ පුළුල් වෙනවා ඇත.

පීඩිත පංති පොදු ජනතාව, පංති විඥනය ඇති සහ අවංක විප්ලවවාදී නිර්ධන පංතික නායකයන් අපගේ පැත්ත ගෙන සිටිනු ඇත. එවැනි නිර්ධන පංතිකයන්ට හා එවැනි ජනයාට අපගේ සෝවියට් ව්‍යවස්ථාව ගැන දැනගන්නට සැලැස්වූ පමණින්, ඔවුන් එක්වරම මෙසේ පවසනු ඇත: මොවුහු නම් ඇත්තෙන්ම අපේ ජනයා වෙති. මෙය නියම කම්කරු පක්ෂයක්ය. මෙය නියම කම්කරු ආණ්ඩුවක්ය. ඉහත සඳහන් නායකයන් සියලු දෙනාම කළේ ප්‍රතිසංස්කරණ ගැන කථා කරමින් ජනතාව රැවටීමය. නමුත් මේ ආණ්ඩුව එසේ කරන්නේ නැත. එය සූරා කන්නන්ට විරුද්ධව සැබෑ උනන්දුවකින් සටන් කරයි. එය සැබෑ උවමනාවකින් විප්ලවයක් කරමින්, කම්කරුවන්ගේ පූර්ණ විමුක්තිය සඳහා සටන් කරයි''.

අවුරුද්දක ''අත්දැකීමෙන්'' පසුව සෝවියට් සභා සූරාකන්නන්ගේ ඡන්ද බලය අහිමි කර ඇතැයි යන කරුණෙන් පෙනෙන්නේ සෝවියට් සභා සැබැවින්ම පීඩිතයින්ගේ සංවිධාන බවයි. ඒවා සමාජ-අධිරාජ්‍යවාදීන්ගේ සහ ධනපති පංතියට විකුණුනු සමාජ-සමාදනවාදීන්ගේ සංවිධාන නොවන බවයි. සෝවියට් සභා සූරාකන්නන්ගේ ඡන්ද බලය අහිමිකර ඇතැයි යන කරුණෙන් පෙනෙන්නේ, ඒවා ධනපතියන් සමග සුළු ධනපතියන් ඇතිකර ගන්නා සම්මුතියේ ආයතන නොව, (කෞට්සකිලා, ලොංගේලා සහ මැක්ඩොනල්ඩ්ලා කරන) පාර්ලිමේන්තු දෙඩවිල්ලේ ආයතන නොව, සූරාකන්නන්ට විරුද්ධව ජීවිතයත් මරණයත් අතර අරගලයක් කරමින් සිටින නියම විප්ලවවාදී නිර්ධන පංතියේ ආයතන බවයි.

''කෞට්ස්කිගේ පොත ගැන මෙහි කිසිම ප්‍රසිද්ධියක් නැතැ'' යි බර්ලිනයේ සිටින, තොරතුරු හොඳින් දත් සහෝදරයෙක් දින කීපයකට පෙර (අද ඔක්තෝබර් 30 දිනය) මට ලියා එවීය. දැන් බොහෝ කලක සිට දුගඳ ''වහනය වන මළ කුණක්'' වී තිබෙන මෙම ''යුරෝපීය'' — අධිරාජ්‍යවාදී සහ ප්‍රතිසංස්කරණවාදී යනුවෙන් කියවන්න — සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය මඩේ පාගා දැමීම සඳහා මෙම පොත මිළට ගෙන පංති විඥනය ඇති කම්කරුවන් අතර නොමිලේ බෙදා දීම සඳහා මුදලින් දහස් ගණනක් වැය කිරීමට මැළි නොවන සේ ජර්මනියේ සහ ස්විට්සර්ලන්තයේ සිටින අපේ තානාපතිවරුන්ට උපදෙස් දෙනු කැමැත්තෙමු.

*   *   *

''නිදසුනක් ලෙසට ස්විට්සර්ලන්තය වැනි පැරණි ප්‍රජාතන්ත්‍රවාදී රටවල පවා'' ''නව න්‍යායට'' (පැරිස් කොමියුනය ගැන මාක්ස් හා එංගල්ස්

කළ විග්‍රහයට අත තැබීමට පවා බිය වන ඔහු බොල්ෂෙවික්වාදය හඳුන්වන්නේ එසේය) ''ආධාරකරුවන් සිටීම'' ගැන කෞට්ස්කි ඔහුගේ පොතෙහි අවසානයේ, එනම් 61 සහ 63 පිටුවල මහත් සේ දුක් වෙමින් වැළපෙයි. ''ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් මෙම න්‍යාය පිළිගන්නේ කෙසේද'' යන්න කෞට්ස්කිට ''කිසිසේත් වටහාගත හැකි නොවේ''.

නැත. එය පහසුවෙන් වටහා ගත හැකිය. මන්ද යත්, යුද්ධයේ බරපතල පාඩම් ලැබීමෙන් පසුව,විප්ලවවාදී පොදු ජනතාවට ෂෙයිඩමාන්ලා හා කෞට්ස්කිලා පිළිකුල් වූ හා එපාවූ තත්වයට පත්වෙමින් සිටින හෙයිනි. ''අපි'' නිතරම ප්‍රජාතන්ත්‍රවාදයට පක්ෂව සිටියෙමු. නමුත් හිටි අඩියේම එය අත් හරින ලෙස අපට කියනු ලැබේ! කෞට්ස්කි එසේ ලියයි.

සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ අවස්ථාවාදීන් වන ''අපි'' නිතරම නිර්ධන පංති ආඥාදායකත්වයට විරුද්ධ වුයෙමු. කොල්බ් සහ සමාගම මීට බොහෝ ඉහතදී මේ බව ප්‍රකාශයට පත් කළහ. මෙය ඉතා හොඳින් දන්නා කෞට්ස්කි, බර්න්ෂ්ටයින්ලාගේ සහ කොල්බ්ලාගේ ''රංචුවට ආපසු පැමිණ ඇතැ'' යි යන කරුණ තමන්ගේ පාඨකයන්ගෙන් වසං කළ හැකියයි ඔහු බලාපොරොත්තුවන්නේ ප්‍රතිඵල විරහිත ලෙසය.

විප්ලවවාදී මාක්ස්වාදීන් වන ''අපි'' ''පිරිසිදු'' ධනපති ප්‍රජාතන්ත්‍රවාදය පිළිබඳ බොරු මුහුණක් පෙන්වා නැත්තෙමු. කවුරුත් දන්නා ලෙසට 1903 දී ප්ලෙහානව් විප්ලවවාදී මාක්ස්වාදියෙක්ව සිටියේය (නමුත් පසුව ඔහු ගත් අවාසනාවන්ත නැඹුරුව නිසා ඔහු රුසියානු ෂෙයිඩමාන් කෙනෙකුගේ තත්වයට පත්විය). විප්ලවය කිරීමේදී අවශ්‍ය වන්නේ නම් නිර්ධන පංතිය ධනපතියන්ට ඡන්ද බලය අහිමි කරනු ඇති බවත්, ප්‍රතිවිප්ලවවාදී යයි පෙනෙන ඕනෑම පාර්ලිමේන්තුවක් විසිරුවා හරිනු ඇති බවත්, එම වර්ෂයේදී ස්වකීය වැඩ පිළිවෙළ සම්මත කරමින් සිටි අපගේ පක්ෂ සම්මේලනයේදී ප්ලෙහානව් ප්‍රකාශ කළේය[46]. මාක්ස්වාදයට ගැළපෙන එකම අදහස මෙයයි. ඕනෑම කෙනෙකුට එය පැහැදිලි වනු ඇත. මා ඉහත උපුටා දැක්වූ මාක්ස්ගේ හා එංගල්ස්ගේ ප්‍රකාශවලින්ද ඒ බව පෙනේ. මාක්ස්වාදයේ ප්‍රතිපත්ති සියල්ලෙන්ම එය ප්‍රත්‍යක්ෂ ලෙස පැහැදිලි වන්නේය.

ධනපති පංතිය හමුවේ යටහත් පහත් කම් දක්වමින්, තමන් ධනපති පාර්ලිමේන්තුවට සුදුසු වන සේ වෙනස් වෙමින්, නවීන ප්‍රජාතන්ත්‍රවාදයේ ධනපති ස්වභාවය ගැන නිහඬ වෙමින්, එය පුළුල් කරන සේ පමණක්, එය එහි තර්කානුකූල අවසානය දක්වා ගෙනයන සේ පමණක් ඉල්ලමින්, සියලුම ජාතීන්ගේ කෞට්ස්කිවාදීන් ජනතාවට කරන කථා, විප්ලවවාදී මාක්ස්වාදීන් වන ''අපි'' කිසි කලෙකත් නොපැවැත්වුයෙමු.



''අපි'' ධනපති පංතියට මෙසේ කීවෙමු: සූරාකන්නන් හා වංචනිකයින් වන නුඹලා ප්‍රජාතන්ත්‍රවාදය ගැන කථා කරන්නහුය. නමුත් ඒ අතරම, පීඩිත ජනතාව දේශපාලනයට සහභාගිවීමෙන් වැලැක්වීම පිණිස බාධක දහස් ගණන් ඉදි කරන්නහුය. අපි නුඹලා කියන දේ එසේ ගනිමින්, මෙම ජනතාවගේ යහපත පිණිස නුඹලා බලයෙන් පහකර දැමීමේ අරමුණ ඇතිව මෙම ජනතාව විප්ලවයට සූදනම් කරනු සඳහා නුඹලාගේ ප්‍රජාතන්ත්‍රය පුළුල් කරන ලෙස බල කරමු. නමුත්, සූරාකන්නන් වන නුඹලා ප්‍රතිරෝධය දැක්වීමට උත්සාහ දරතොත්, අපි නිර්දය ලෙස නුඹලා මර්දනය කරන්නෙමු. එවිට අපි නුඹලාගේ අයිතිවාසිකම් සියල්ල අහිමි කරන්නෙමු. එපමණක් නොව, නිර්ධන පංති සමූහාණ්ඩුවේ සූරා කන්නන්ට අයිතිවාසිකම් නොමැති නිසා, අපි නුඹලාට පාන් නොදෙන්නෙමු. අපි ෂෙයිඩමාන් නැතහොත් කෞට්ස්කි ශෛලියෙන් නොව, ඉත සිතින්ම සමාජවාදීන් වන නිසා සූරාකන්නන්ට ගින්දර හා ජලය පවා අහිමි කරන්නෙමු.

විප්ලවවාදී මාක්ස්වාදීන් වන ''අප'' කීවේ සහ කියන්නේ එයයි. ෂෙයිඩමාන්ලා සහ කෞට්ස්කිලා ද්‍රෝහීන්ට හිමි කසළ වළට වැටෙනු ඇති අතර, පීඩිත පංති ජනතාව අපට ආධාර දෙනු ඇත්තේ සහ අප සමග සිටිනු ඇත්තේ එනිසාය.

## ජාත්‍යන්තරවාදය යනු කුමක්ද?

කෞට්ස්කි ජාත්‍යන්තරවාදියෙක් බව ඔහුට සම්පූර්ණයෙන්ම විශ්වාසය. ඔහු තමා ජාත්‍යන්තරවාදියෙක් ලෙසට හඳුන්වා ගනියි. ඔහු ෂෙයිඩමාන්ලා හඳුන්වන්නේ ''ආණ්ඩුවේ සමාජවාදීන්'' යනුවෙනි. කෞට්ස්කි පිළිගන්නේ කුමණ ''ජාත්‍යන්තරවාදයක්'' ද යන්න මෙන්ෂෙවික්වරුන් ආරක්ෂා කිරීමේදී (ඔහු ඔවුන් කෙරෙහි තමන්ගේ සහයෝගිතාවය විවෘත ලෙස පළ නොකරන අතර ඔවුන්ගේ අදහස් එලෙසින්ම ප්‍රකාශ කරයි) ඔහු සුපැහැදිලි ලෙස පෙන්වා ඇත. තවද, මෙහිදී කෞට්ස්කි තනිව නොසිටින අතර, ඔහු දෙවැනි ජාත්‍යන්තරයේ වාතාවරණය යටතේ නොවැලැක්විය හැකි ලෙස වර්ධනය වූ උපනතියක් (ප්‍රංශයේ ලොංගේ, ඉතාලියේ තුරාටි, ස්විට්සර්ලන්තයේ නොබ්ස් සහ ග්‍රිම්, ග්‍රෙබර් සහ නයින්, බ්‍රිතාන්‍යයේ රැම්සේ මැක්ඩොනල්ඩ් ආදීන්) වෙනුවෙන් කථාකරන නිසා කෞට්ස්කිගේ ''ජාත්‍යන්තරවාදය'' ගැන විමසා බැලීම උපදේශාත්මක වනු ඇත.

මෙන්ෂෙවික්වරුන්ද ට්සිමර්වෝල්ඩ් සම්මේලනයට[47] සහභාගි වූ

බව අවධාරණය කර (නිසැකවම ඩිප්ලෝමාවකි...නමුත් එය කුණු තැවරුන එකකි) කීමෙන් අනතුරුව, කෞට්ස්කි ඔවුන්ගේ අදහස් ඉදිරිපත් කර, ඒවා සමග පහත සඳහන් ආකාරයෙන් එකඟත්වය පළ කරයි.

''...මෙන්ෂෙවික්වරුන් අපේක්ෂා කළේ පොදු සාමයකි. සියලුම යුද්ධකාරීන් මෙම සටන් පාඨය පිළිගත යුතුයයි ඔවුහු අපේක්ෂා කළහ: රටවල් අල්ලා ගැනීමෙන් තොරව හා වන්දි ගැනීමෙන් තොරව මෙය ඉටුකරගන්නා තෙක් මෙම අදහසේ හැටියට, රුසියානු හමුදාව සටනට සූදානමින් සිටිය යුතුවිය. නමුත් අනිත් අතට කුමණ කැපකිරීමක් යටතේ හෝ වහාම සාමය ඇති කරන ලෙස බොල්ෂෙවික්වරු ඉල්ලූහ. අවශ්‍ය නම් වෙනම සාමයක් ඇති කරගැනීමට ඔවුහු සූදානම්ව සිටියහ. ඒ වනවිට හමුදාවේ අසංවිධාන ස්වභාවය නරක තත්වයක පැවති අතර, එය තවත් උග්‍ර කිරීමෙන් බලෙන් එම වෙනම සාමය ඇති කරවීමට ඔවුහු උත්සාහ ගත්හ (පිටුව 27). කෞට්ස්කිගේ මතයේ හැටියට බොල්ෂෙවික්වරුන් බලය නොගත යුතුව තිබුණි. ඔවුන් ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයකින් සෑනසී සිටිය යුතුව තිබුණි.

මේ අනුව බලන කල, කෞට්ස්කිගේ සහ මෙන්ෂෙවික්වරුන්ගේ ජාත්‍යන්තරවාදයේ අර්ථය මෙසේය: අධිරාජ්‍යවාදී ධනපති ආණ්ඩුවෙන් ප්‍රතිසංස්කරණ ඉල්ලීම. නමුත් දිගටම එම ආණ්ඩුවට ආධාර කිරීම සහ යුද්ධය කරන සියල්ලන්ම රටවල් අල්ලා ගැනීමෙන් තොරව සහ වන්දි ගැනීමෙන් තොරව යන සටන් පාඨය පිළිගන්නාතෙක් මෙම ආණ්ඩුව කරගෙන යන යුද්ධයට ආධාර කිරීම. තමන් ''පීතෘ භූමිය ආරක්ෂා කිරීමට'' පක්ෂ බව ප්‍රකාශ කළ තුරාටි, කෞට්ස්කිගේ ආධාර කරුවෝ (හාස්සේ සහ වෙනත් අය) සහ ලොංගේ සහ සමාගම නිතර නිතර මෙම අදහස ඉදිරිපත් කළහ.

න්‍යායික වශයෙන් මෙයින් පෙනෙන්නේ සමාජ-ජාත්‍යොන්මාදවාදයෙන් ඈත්වීමට අයෙක් අපොහොසත්ව හා පීතෘභූමිය ආරක්ෂා කිරීමේ ප්‍රශ්නයේදී අවුලට පත්ව සිටින බවය. දේශපාලන වශයෙන් එයින් අදහස් වන්නේ ජාත්‍යන්තරවාදය වෙනුවට සුළු ධනපති ජාතිකවාදය ආදේශ කිරීමය, විප්ලවය අත්හැර ප්‍රතිසංස්කරණ කාරයන්ගේ කඳවුරට පැන යාමය.

නිර්ධන පංතියේ දෘෂ්ටි කෝණයෙන් බලන කල ''පීතෘභූමිය ආරක්ෂා කිරීම'' පිළිගැනීම යනු වර්තමාන යුද්ධය සාධාරණ කර දැක්වීමකි. එය යුක්ති සහගත යයි පිළිගැනීමකි. නමුත්, කිසියම් අවස්ථාවක සතුරු හමුදා රඳවා තිබෙන රට කුමක් වුවත් — එය මගේ රට, නැතහොත්, වෙනත් රටක් වුවත් — යුද්ධය (කෙරෙන්නේ රාජාණ්ඩුවක් යටතේ වුවත්, සමූහාණ්ඩුවක් යටතේ වුවත්, එය) අධිරාජ්‍යවාදී යුද්ධයක්ව පවතින හෙයින්, පීතෘ භූමිය ආරක්ෂා කිරීම පිළිගැනීම යනු, සත්‍ය වශයෙන්ම, අධිරාජ්‍යවාදී කොල්ලකාරී ධනපතියන්ට ආධාර දීමක් සහ සමාජවාදය සම්පූර්ණයෙන්ම පාවාදීමක් වන්නේය. රුසියාවේ, කෙරෙන්ස්කි යටතේ පවා, ධනපති ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුව යටතේ පවා, පාලක පංතියක් ලෙසට ධනපතියන් විසින් යුද්ධය කෙරුණු හෙයින් (යුද්ධ යනු දේශපාලනය ඉදිරියට ගෙනයාමකි), එය තවදුරටත් අධිරාජ්‍යවාදී යුද්ධයක්ම විය. තවද, ලෝකය බෙදා වෙන් කර ගැනීම සහ වෙනත් රටවල් කොල්ල කෑම සඳහා බ්‍රිතාන්‍ය සහ ප්‍රංශය සමග සාර් ඒ කාලයේ ඇති කරගත් රහස් ගිවිසුම් යුද්ධයේ අධිරාජ්‍යවාදී ස්වභාවය ගැන සිත්කාවදින ලෙස කියාපාන සාක්ෂියක් විය.

යුද්ධය ආරක්ෂක, නැතහොත්, විප්ලවවාදී යුද්ධයකැයි කියමින් මෙන්ෂෙවිකයෝ ඉතාමත් නින්දිත ලෙස ජනතාව රැවටූහ. එසේම, මෙන්ෂෙවිකයන්ගේ ප්‍රතිපත්තිය අනුමත කිරීමෙන් කෞට්ස්කි කරන්නේ ජනතාව රැවටීම අනුමත කිරීමය. ඔහු එයින් කරන්නේ, කම්කරුවන් උපායෙන් රවටා ඔවුන් අධිරාජ්‍යවාදයේ රථයට බැඳීම පිණිස ප්‍රාග්ධනයට ආධාර කරමින් සුළු ධනපතියන් ඉටු කළ කාර්ය කොටස අනුමත කිරීමය. සටන් පාඨයක් ඉදිරිපත් කිරීම නිසා තත්වය වෙනස් වෙතැයි (යන විකාර අදහස ජනතාවට ඒත්තු ගැන්වීමට උත්සාහ කිරීමෙන්) පෙන්වීමෙන් කෞට්ස්කි ඔහුටම ස්වභාව නිරූපී සේ ගැලපෙන සුළු ධනපති අමන ප්‍රතිපත්තියක් අනුගමනය කරයි. ධනපති ප්‍රජාතන්ත්‍රයේ මුළු ඉතිහාසයම මෙම මායා මතය නිෂ්ප්‍රභා කරන්නකි. ධනපති ප්‍රජාතන්ත්‍රවාදීහු නිතරම ජනතාව රැවටීමට විවිධාකාර ''සටන්පාඨ'' ඉදිරිපත් කළහ. මෙහිදී වැදගත් කාරණය වන්නේ ඔවුන්ගේ අවංකත්වය පරීක්ෂා කර බැලීමය. ඔවුන්ගේ වචන ඔවුන්ගේ ක්‍රියාවන් සමග සසඳා බැලීමය. විඥානවාදී, නැතහොත්, බොරුකාර වාක්‍ය ඛණ්ඩ වලින් සෑනසී නොසිට පංතිමය යථාර්ථය සොයා ගැනීමය. බොරු කාරයන්, නැතහොත් වදන් හරඹ කාරයන්, එසේත් නැතහොත්, සුළු ධනපති අමනයන් යම් යම් අනුවේදනීය ''සටන් පාඨ'' ඉදිරිපත් කළ පමණින් අධිරාජ්‍යවාදී යුද්ධයක අධිරාජ්‍යවාදී ස්වභාවය කෙළවර වන්නේ නැත. එය කෙළවර වන්නේ අධිරාජ්‍යවාදී යුද්ධය කරන හා දශලක්ෂ ගණන් ආර්ථික නූල්වලින් (හා ලනුවලින් පවා) එම යුද්ධයට බැඳී තිබෙන පංතිය සැබැවින්ම බලයෙන් පහ කොට, ඒ වෙනුවට රජයේ ප්‍රධාන ස්ථානයට නියම විප්ලවවාදී පංතිය වන නිර්ධන පංතිය පත්කළ හොත් පමණකි. අධිරාජ්‍යවාදී යුද්ධයකින් හා එමෙන්ම අධිරාජ්‍යවාදී කොල්ලකාරී සාමයකින්ද මිදීයාමේ වෙනත් මාර්ගයක් නොමැත.

මෙන්ෂෙවික්වරුන්ගේ විදේශ ප්‍රතිපත්තිය අනුමත කිරීමෙන් හා එය

ජාත්‍යන්තරවාදී සහ ෂයිමර්වෝල්ඩ්වාදී යයි කීමෙන්, කෞට්ස්කි ප්‍රථමයෙන් අවස්ථාවාදී ෂයිමර්වෝල්ඩ් බහුතරයේ අන්ත ජරා ස්වභාවය හෙළිදරව් කරයි. (වාම ෂයිමර්වෝල්ඩ්වාදීන්[48] වන අප එක්වරම එබඳු බහුතරයකින් වෙන්වීම පුදුමයට කරුණක් නොවේ!) තවද දෙවැනිව — ප්‍රධාන කරුණ එයයි — ඔහු නිර්ධන පංති ස්ථාවරයේ සිට සුළු ධනපති පංතියේ ස්ථාවරයට මාරුවන බවත්, විප්ලවවාදී ස්ථාවරයේ සිට ප්‍රතිසංස්කරණවාදී ස්ථාවරයට මාරුවන බවත්, එයින් හෙළිදරව් කරයි.

අධිරාජ්‍යවාදී ධනපති පංතිය විප්ලවවාදී ලෙස බලයෙන් පහකර දැමීම සඳහා නිර්ධන පංතිය සටන් කරයි. සුළු ධනපති පංතිය අධිරාජ්‍යවාදයට කීකරු වන අතරම, එය ප්‍රතිසංස්කරණවාදී ලෙස ''වැඩි දියුණු කරනු'' සඳහා, එයට උපයෝජනය වීම සඳහා සටන් කරන්නේය. කෞට්ස්කි තවමත් මාක්ස්වාදියෙකුව සිටියදී, 1909 දී, ඔහුගේ ''බලයට මාවත'' ලියන විට ඔහු ඉදිරිපත් කළේ යුද්ධය නිසා අනිවාරණීය වශයෙන්ම විප්ලවයට මඟ පෑදෙනු ඇතැයි යන අදහසය. ඔහු විප්ලව යුගයක ආරම්භය ගැන කථා කළේය. 1912 වර්ෂයේ නිකුත් කෙරුණු බාසල් ප්‍රකාශනය, ජර්මන් සහ බ්‍රිතාන්‍ය කණ්ඩායම් අතර 1914 දී සැබැවින්ම ආරම්භ වූ ඒ යුද්ධයම සමග සම්බන්ධ කොට පැහැදිලි හා නිශ්චිත ලෙසම නිර්ධන පංති විප්ලවයක් ගැන කියයි. නමුත් 1918 දී යුද්ධය හා සම්බන්ධය ඇතිව විප්ලව ආරම්භ වූ පසු, කෞට්ස්කි කළේ එම විප්ලවවල අනිවාරණීය ස්වභාවය විස්තර කිරීම නොවේ — විප්ලවකාරී උපක්‍රම ගැන හා විප්ලවවලට සූදානම්වීමේ මාර්ග සහ මාධ්‍ය ගැන කල්පනා කිරීම හා සිතා බැලීම නොවේ. ඒ වෙනුවට ඔහු කළේ, මෙන්ෂෙවිකයන්ගේ ප්‍රතිසංස්කරණවාදී උපක්‍රම ජාත්‍යන්තරවාදය ලෙස විස්තර කිරීමට පටන් ගැනීමයි. මෙය පිළ හැර යාමක් නොවේද?

මෙන්ෂෙවික්වරුන් හමුදාවේ යුද්ධ ශක්තිය පවත්වා ගැනීම පිණිස බල කිරීම ගැන කෞට්ස්කි ඔවුන්ට ප්‍රශංසා කරයි. අනිත් අතට, ඒ වන විටත් සෑහෙන තරම් අසංවිධානව තිබුණු ''යුද්ධ හමුදාවේ අසංවිධානය'' වැඩි කිරීම ගැන ඔහු බොල්ෂෙවික්වරුන්ට දෝෂාරෝපනය කරයි. මෙහි අර්ථය, ප්‍රතිසංස්කරණවාදයට ප්‍රශංසා කිරීම සහ අධිරාජ්‍යවාදී ධනපතියන්ට කීකරුවීමත්, විප්ලවයට දෝෂාරෝපනය කර එය අත්හැර දැමීමත් වන්නේය. මන්දයත්, හමුදාවේ යුද්ධ ශක්තිය පවත්වා ගැනීම යන්නෙන්, අදහස් වන්නේ එය සමූහාණ්ඩුවාදී වූවත් ධනපතියන්ගේම අණසක යටතේ තබා ගැනීම වන හෙයිනි. මෙම සමූහාණ්ඩු යුද්ධ හමුදාවේ නිලධාරීන් කර්නිලව් පිරිසේ අය වන නිසා, එහි කර්නිලව් ජීවගුණය ආරක්ෂා වූ බව කවුරුත් දනිති. සිදුවීම්වල ඉදිරි ගමන අනුව එය සනාථ වී තිබේ. ධනපති නිලධාරීන් කර්නිලව් පිරිසේ පුද්ගලයන් වීමෙන්



වැලකීමේ හැකියාවක් ඔවුන්ට නොවීය. අධිරාජ්‍යවාදය දෙසට, නිර්ධන පංතිය බලහත්කාරයෙන් මර්දනය කිරීම දෙසට ඇදී යාමෙන් වැලකීමට ඔවුන්ට නොපුළුවන් විය. ව්‍යවහාරයේදී මෙන්ෂෙවික් උපක්‍රමවල එකම අදහස වූයේ අධිරාජ්‍යවාදී යුද්ධයේ පදනම් සියල්ලම සහ ධනපති ආඥාදායකත්වයේ පදනම් සියල්ලම නොබිඳ තිබෙන්නට හැරීම, විස්තර කරුණුවලට අණ්ඩ දැමීම සහ ඉතා සුළු කරුණු (''ප්‍රතිසංස්කරණ'') කීපයක් සම්බන්ධයෙන් වූ පළුදු මැටියෙන් වැසීමය.

අනිත් අතට, යුද්ධ හමුදාව අසංවිධාන වීමෙන් තොරව එකද මහා විප්ලවයක්වත් කිසිම කලෙකත් සිදු වී නැත. සිදුවිය හැක්කේද නොවේ. ඒ මන්ද? පැරණි පාලන ක්‍රමයට රුකුල් දෙන්නා වූද, ප්‍රාග්ධනයේ පාලනය නගාසිටුවා තබන හා ප්‍රාග්ධනයට කීකරුවීමේ හා යටත් වීමේ දීන ජීවගුණය වැඩ කරන ජනතාව අතර පවත්වා ගන්නා හා ඇති කරන ධනපති විනයේ ඉතාමත් දැඩි වූ බලපවුර වන්නාවූද, ඉතාමත් දරදඬු අවිය යුද්ධ හමුදාව වන හෙයිනි. යුද්ධ හමුදාව සමග එක පෙළට කම්කරුවන් ආයුධ සන්නද්ධව සිටීම, ප්‍රතිවිප්ලවයට කිසි කලෙකත් ඉවසිය හැක්කක් නොවීය. ප්‍රතිවිප්ලවය කිසිකලෙකත් එය ඉවසන්නේද නැත. ප්‍රංශයේ කම්කරුවන් සෑම විප්ලවයකටම පසු මතු වූයේ ආයුධ සන්නද්ධව යයි එංගල්ස් ලීවේය: ''එනිසා, රාජ්‍යයේ මුදුන් තැන සිටි ධනපති පංතියේ ප්‍රථම ආඥාව වූයේ කම්කරුවන් නිරායුධ කිරීමය.[49]'' ආයුධ සන්නද්ධ කම්කරුවන් නව යුද්ධ හමුදාවක කලලයද, නව සමාජ ක්‍රමයක සංවිධිත න්‍යෂ්ටියද විය. ධනපති පංතියේ ප්‍රථම ආඥාව වූයේ මෙම න්‍යෂ්ටිය කුඩුකර දැමීම සහ එය වර්ධනය වීම වැලැක්වීමය. මාක්ස් සහ එංගල්ස් නැවත නැවතත් අවධාරණය කළ පරිදි, සෑම ජයග්‍රාහී විප්ලවයකම ප්‍රථම ආඥාව වූයේ පැරණි යුද්ධ හමුදාව සුන්කර, විසුරුවා හැර, ඒ වෙනුවට අළුත් යුද්ධ හමුදාවක් ආදේශ කිරීමය.[50] නව සමාජ පංතියක් බලයට පත් වීම සඳහා නැඟී යන ගමනේදී, පැරණි යුද්ධ හමුදාව සම්පූර්ණයෙන්ම කඩා විසුරුවා හරිමින් (මෙහිදී ප්‍රතිගාමීයෝ, නැතහොත්, හුදෙක්ම බියසුලු අමනයෝ ''අසංවිධානය'' යයි කෑගසති) මිස, යුද්ධ හමුදාවක් නැති ඉතාමත් දුෂ්කර හා වේදනා සහිත කාලයක් පසුකිරීමෙන් (ප්‍රංශ මහා විප්ලවය එවැනි වේදනා සහගත කාලයක් පසු කළේය) සහ දුෂ්කර සිවිල් යුද්ධය මධ්‍යයේ ක්‍රම ක්‍රමයෙන් නව පංතියේ නව යුද්ධ හමුදාවක්, නව විනයක්, නව යුද්ධ සංවිධානයක් ගොඩ නැඟීමෙන් මිස, එයට වෙනත් ආකාරයකින් බලයට පත්වීමේ හා එය තහවුරු කර ගැනීමේ හැකියාවක් කිසි කලෙකත් නොවීය. දැනුදු නැත. ඉහතදී ඉතිහාසඥ කෞට්ස්කිට මෙය වැටහී තිබිණ. කෞට්ස්කි ද්‍රෝහියාට දැන් එය අමතක වී ඇත.

කෞට්ස්කි, රුසියානු විප්ලවයේදී මෙන්ෂෙවික්වරුන් අනුගමනය

කළ උපක්‍රම අනුමත කරන්නේ නම්, ෂෙයිඩමාන්ලා "ආණ්ඩු සමාජවාදීන්" ලෙසට හැඳින්වීමට ඔහුට තිබෙන අයිතිය කුමක්ද? කෙරෙන්ස්කිට ආධාර කිරීමෙන් සහ ඔහුගේ ඇමති මණ්ඩලයට එකතු වීමෙන් මෙන්ෂෙවික්වරුද ආණ්ඩු සමාජවාදීන් වූහ. අධිරාජ්‍යවාදී යුද්ධය කරන්නේ කුමණ පාලක පංතිය ද යන ප්‍රශ්නය මතු කිරීමට කෞට්ස්කි උනන්දු වූයේ නම්, ඔහුට මෙම නිගමනයෙන් මග හැරිය නොහැකිව තිබුණි. නමුත් කෞට්ස්කි පාලක පංතිය ගැන ප්‍රශ්නය මතු කිරීමෙන් වැලකෙයි. මාක්ස්වාදියෙක් අනිවාර්ය වශයෙන්ම එය මතුකළ යුතු නමුත්, එය මතු කළ පමණින්ම ඔහු ද්‍රෝහියෙක් බව හෙළිදරව් වන නිසා ඔහු එය මග හරියි.

ජර්මනියේ කෞට්ස්කි ආධාර කරුවෝද, ප්‍රංශයේ ලොංගේ ආධාරකරුවෝද, ඉතාලියේ තුරාටි සහ සමාගමද, මෙසේ තර්ක කරති: ජාතීන්ගේ සමානත්වයක් හා නිදහසද, ඔවුන්ගේ ස්වාධිපත්‍යයද තිබිය යුතුය යන්න සමාජවාදයෙන් අදහස් වේ. එනිසා අප රටට පහර දෙන විට, නැතහොත්, සතුරු හමුද අපගේ දේශය ආක්‍රමණය කරන විට, තම රට ආරක්ෂා කිරීම සමාජවාදීන්ගේ අයිතිය හා යුතුකම වන්නේය. නමුත්, න්‍යායික වශයෙන් බලන කල එවැනි තර්කයක් සමාජවාදයට තනිකරම අවමාන කිරීමක්, නැතහොත්, වංචාකාරී කපටිකමක් වේ. නමුත් ප්‍රායෝගික දේශපාලනයේ දෘෂ්ටි කෝණයෙන් බලන කල, එය, යුද්ධයේ සමාජ සහ පංති ස්වභාවය ගැන සහ ප්‍රතිගාමී යුද්ධයක් සමයේදී විප්ලවවාදී පක්ෂයේ කර්තව්‍යයන් ගැන හැඟීමක් පවා නැති ඉතාමත් නූගත් පිටිසරයාගේ තර්කය සමග සම්පාත වන්නේය.

සමාජවාදය, ජාතීන්ට විරුද්ධ ප්‍රචණ්ඩත්වයට විරුද්ධ වේ. ඒ ගැන විවාදයක් නැත. නමුත් සමාජවාදය මිනිසුන්ට විරුද්ධ ප්‍රචණ්ඩත්වයට පොදු වශයෙන් විරුද්ධයය. එසේ වුවත් ඒ අනුව සමාජවාදීහු විප්ලවවාදී ප්‍රචණ්ඩත්වයට විරුද්ධ වෙතියි යන නිගමනයට, ක්‍රිස්තියානි අරාජිකවාදීන් සහ තොල්ස්තෝයිවාදීන්[51] හැර අන් කිසිවෙක් එළඹ ගෙන නැත. එනිසා ප්‍රතිගාමී ප්‍රචණ්ඩත්වය විප්ලවවාදී ප්‍රචණ්ඩත්වයෙන් වෙන් කරන කොන්දේසි පරීක්ෂා නොකර සාමාන්‍යයෙන් "ප්‍රචණ්ඩත්වය" ගැන කථා කිරීම එක්කෝ විප්ලවය අත්හැර දමන අමනයෙක් වීමකි. නැතහොත්, එය හුදෙක්ම විතණ්ඩවාදය මගින් තමන් හා අන් අයද රැවටීමකි.

ජාතීන්ට විරුද්ධ ප්‍රචණ්ඩත්වයට ද එය අදළ වන්නේය. සෑම යුද්ධයක්ම ජාතීන්ට විරුද්ධව ප්‍රචණ්ඩත්වය යෙදීමකි. නමුත් එය, සමාජවාදීන් විප්ලවවාදී යුද්ධයට පක්ෂ තත්වයක් ගැනීමට බාධාවක් නොවේ. සමාජවාදියෙක් (හේ පිළ අත්හැර දැමූවෙක් නොවේ නම්) හමුවේ මතු වන මූලික ප්‍රශ්නය වන්නේ යුද්ධයේ පංති ස්වභාවය පිළිබඳ



ප්‍රශ්නයයි. 1914–1918 අධිරාජ්‍යවාදී යුද්ධය, ලෝකය බෙද ගැනීම සඳහා, කොල්ලකාගත් වස්තුව බෙදාගැනීම සඳහා සහ කුඩා හා දුර්වල ජාතීන් කොල්ලකෑමත්, ඒවායේ බෙල්ල හිර කිරීමත් සඳහා අධිරාජ්‍යවාදී ධනපතියන් කණ්ඩායම් දෙකක් අතර කෙරුනු යුද්ධයකි. ඇති වෙන්නට යන යුද්ධය ගැන 1912 බාසල් ප්‍රකාශනයෙන් අගය කරන ලද්දේ මෙපරිද්දෙනි. එම තක්සේරුව සත්‍ය සිදුවීම්වලින් සනාථ වී තිබේ. මෙම අදහසෙන් ඈත්වන තැනැත්තේ කවුරු වුවත්, ඔහු සමාජවාදියෙක් නොවේ.

ජර්මානුවෙක් විල්හෙල්ම් යටතේ සිටිමින් හෝ ප්‍රංශුවෙක් ක්ලෙමන්සෝ යටතේ සිටිමින් හෝ "සතුරෙක් මගේ රට ආක්‍රමණය කර තිබෙන නිසා එය ආරක්ෂාකිරීම මගේ අයිතිය හා යුතුකම වන්නේය" යනුවෙන් කියතොත්, ඔහු තර්ක කරන්නේ සමාජවාදියෙක් ලෙසට නොව, ජාත්‍යන්තරවාදියෙක් ලෙසට නොව, නිර්ධන පංතිකයෙක් ලෙසට නොව සුළු ධනපති-ජාතිකවාදියෙක් ලෙසටය. එසේ වන්නේ, මෙම තර්කය ප්‍රාග්ධනයට විරුද්ධව කම්කරුවන් ගෙනයන විප්ලවවාදී පංති අරගලය නොසලකා හරින්නක් වන හෙයිනි. යුද්ධය සමස්තයක් වශයෙන් ගෙන ලෝක ධනපති පංතියේ හා ලෝක නිර්ධන පංතියේ දෘෂ්ටි කෝණය අනුව ඒගැන තක්සේරු කිරීම නොසලකා හරින්නක් වන හෙයිනි. නැතහොත්, ජාත්‍යන්තරවාදය නොසලකා හරින්නක් වන හෙයිනි. ඒ අනුව එහි ඉතිරිව ඇත්තේ කාලකණ්ණි සහ පටු ජාතිකවාදය පමණක් වන හෙයිනි. මගේ රටට වරදක් කරනු ලැබේ. මා සලකන්නේ ඒ ගැන පමණකි. මෙම තර්කයේ අදහස එයයි. සුළු ධනපති-ජාතිකවාදී පටු ස්වභාවය ඇත්තේද එහිය. එය වූ කලී, සමාජවාදය ප්‍රචණ්ඩත්වයට විරුද්ධ නිසා 'මම සිරගෙයි වැටෙනවාට වඩා ද්‍රෝහියෙක් වීමට කැමැත්තෙමි' යනුවෙන් අයෙක් පුද්ගලික ප්‍රචණ්ඩත්වය සම්බන්ධයෙන්, නැතහොත්, පුද්ගලයෙකුට විරුද්ධ ප්‍රචණ්ඩත්වය සම්බන්ධයෙන්, තර්ක කිරීමට ඉඳුරාම සමාන වූවකි.

"සමාජවාදය, ජාතීන්ට විරුද්ධ ප්‍රචණ්ඩත්වයට පටහැණිය. එනිසා මගේ රට ආක්‍රමණය කරන විට මම ආත්මාරක්ෂාවෙහි යෙදෙන්නෙමි." එසේ කියන ප්‍රංශුවා වේවා, ජර්මානුවා වේවා, ඉතාලියානුවා වේවා, හේ සමාජවාදය හා ජාත්‍යන්තරවාදය පාවා දෙන්නෝ වෙයි. මන්ද යත්, එවැනි මිනිසෙකුට පෙනෙන්නේ ඔහුගේ "රට" පමණක් වන හෙයිනි. ඔහු අන්සියල්ලටම වඩා ඉහළින් "ඔහුගේම"... ධනපති පංතිය තබන හෙයිනි. යුද්ධය අධිරාජ්‍යවාදී යුද්ධයක් කරන සහ ඔහුගේ ධනපති පංතිය අධිරාජ්‍යවාදී මංකොල්ලයේ පුරුකක් කරන ජාත්‍යන්තර සම්බන්ධකම් ගැන ඔහු කල්පනාකර නොබලන බැවිනි.

සියළුම අමනයෝ, සියළුම මෝඩ සහ නූගත් පිටිසරයෝ, ද්‍රෝහී

කෞට්ස්කිගේ ආධාර කරුවන් මෙන්, ලොංගේ ගේ ආධාරකරුවන් මෙන්, තුරාටි සහ සමාගම මෙන්, මෙසේ තර්ක කරති: "සතුරා මගේ රට ආක්‍රමණය කර ඇත. වෙනත් කිසිවක් ගැන මම නොසලකමි."*

සමාජවාදියා, විප්ලවවාදී නිර්ධන පංතිකයා, ජාත්‍යන්තරවාදියා වෙනත් ආකාරයකට තර්ක කරයි. ඔහු මෙසේ කියයි: "ප්‍රහාරකයා කවුද, නැතහොත්, සතුරා කඳවුරු බැඳගෙන සිටින්නේ කාගේ රටෙහිද යන්න අනුව යුද්ධයෙහි ස්වභාවය (එය ප්‍රතිගාමීද, නැතහොත්, විප්ලවවාදීද යන්න) තීරණය වන්නේ නොවේ. එය තීරණය වන්නේ යුද්ධය කරන්නේ කුමණ පංතියද, යුද්ධයෙන් ඉදිරියට ගෙන යන්නේ කුමණ දේශපාලනයක්ද යන්න අනුවය. යුද්ධය, ප්‍රතිගාමී අධිරාජ්‍යවාදී යුද්ධයක් නම්, නැතහොත්, අධිරාජ්‍යවාදී, අති කෑදර, කොල්ලකාරී, ප්‍රතිගාමී, ධනපති කණ්ඩායම් දෙකක් අතර කෙරෙන යුද්ධයක් නම්, එවිට සෑම ධනපති පිරිසක්ම (කුඩාම රටක පවා) මංකොල්ලයේ කොටස් කරුවෝ වෙති. එහිදී, විප්ලවවාදී නිර්ධන පංතියේ නියෝජිතයෙක් ලෙසට මගේ යුතුකම වන්නේ, ලෝක ඝාතනයේ මහා භීතියෙන් ගැලවීමේ එකම මාර්ගය ලෙසට ලෝක නිර්ධන පංති විප්ලවයට සූදනම් වීමයි. මා තර්ක කළ යුත්තේ 'මගේ' රටේ ස්ථාවරය අනුව නොවේ (එසේ කියන්නේ, එය, තමන් අධිරාජ්‍යවාදී ධනපති පංතිය අතෙහි තිබෙන කෙළිබඩුවක් පමණක් වන බැව් නොදන්නා කාලකණ්ණි, මෝඩ, සුළු ධනපති-ජාතිකවාදියෙකුගේ තර්කය වන හෙයිනි). නමුත් මා තර්ක කළ යුත්තේ ලෝක නිර්ධන පංති විප්ලවය සූදනම් කිරීම, එය ගැන ප්‍රචාරය කිරීම හා එය කඩිනම් කිරීම සම්බන්ධයෙන් මගෙන් ඉටුවිය යුතු කොටසේ ස්ථාවරයෙනි."

ජාත්‍යන්තරවාදය යන්නෙහි අර්ථය එයයි. ජාත්‍යන්තරවාදියාගේ, විප්ලවවාදී කම්කරුවාගේ, සැබෑ සමාජවාදියාගේ යුතුකම එයයි.

---

*සමාජ-ජාත්‍යොන්මාදවාදීහු) ෂෙයිඩමාන්ලා, රෙනෝදෙල්ලා, හෙන්ඩර්සන්ලා, ගොම්පර්ස්ලා සහ සමාගම) යුද්ධ කාලය තුළ "ජාත්‍යන්තරය" ගැන කථා කිරීම එක හෙළාම ප්‍රතික්ෂේප කරති. ඔවුහු තම "තමන්ගේ" ධනපති පංතියේ සතුරන්,... සමාජවාදයට "ද්‍රෝහීන්" සේ සලකති. ඔවුහු ඔවුන්ගේ ධනපති පංතිය ගෙනයන රටවල් අල්ලාගැනීමේ ප්‍රතිපත්තියට ආධාර කරති. සමාජ-සමාදනවාදීහු (එනම් වචනයෙන් සමාජවාදීන් සහ භාවිතයේදී සුළු ධනපති සමාදනවාදීන් වන අය) නොයෙක් ආකාර "ජාත්‍යන්තරවාදී" අදහස් ප්‍රකාශ කරති. රටවල් අල්ලා ගැනීම ආදියට විරුද්ධත්වය පළ කරති. නමුත් භාවිතයේදී ඔවුහු දිගටම ඔවුන්ගේ අධිරාජ්‍යවාදී ධනපතියන්ට ආධාර කරති. මෙම දෙවර්ගය අතර වෙනස නොවැදගත්ය. එය, එකෙකුගේ මුව අග මිහිරිවදන්ද, තවත් එකෙකුගේ මුව අග තිත්ත කථාද, ඇති ධනපතියන් දෙදෙනෙකු අතර වෙනස මෙනි.



කෞට්ස්කි ද්‍රෝහියාට "අමතකවී" තිබෙන හෝඩිය එයයි. තවද, ඔහු සුළු ධනපති ජාතිකවාදීන්ගේ (රුසියාවේ මෙන්ෂෙවික්වරුන්ගේ, ප්‍රංශයේ ලොංගේ ගේ[52] ආධාර කරුවන්ගේ, ඉතාලියේ තුරාටිලාගේ සහ ජර්මනියේ හාස්සේ සහ සමාගමේ) උපක්‍රම අනුමත කිරීමේ සිට බොල්ෂෙවික්වරුන් විවේචනය කිරීම දක්වා යනවිට ඔහු පිළ අතහැර යන ගමන තව තවත් පැහැදිලි සේ පෙනෙන්නේය. ඔහුගේ විවේචනය මෙන්න:

"බොල්ෂෙවික් විප්ලවය පදනම් වූයේ, එය පොදු යුරෝපීය විප්ලවයේ ආරම්භය වනු ඇතැයි, නැතහොත්, රුසියාවේ එඩිතර ක්‍රියාරම්භකත්වය අනුව මුළු යුරෝපයේම නිර්ධන පංතිකයන් නැගී සිටීමට පෙළඹෙනු ඇතැයි යන උපකල්පනය මතය.

"මෙම උපකල්පනය අනුව නම්, වෙනම ඇතිකර ගන්නා රුසියානු සාමයේ ආකෘතිය කුමක්ද, රුසියානු ජනතාවට එයින් විඳින්නට සිදුවන දුෂ්කරතාවයන් හා භූමි අලාභයන් (පදගත අර්ථයෙන්: අංග ඡේදනය, නැතහොත්, විකලාංගකරණය, Verstümmelungen මොනවාද, එය ජාතීන්ගේ ස්වාධිපත්‍යය යන්නෙහි අර්ථ නිරූපනය කරන්නේ කෙසේද, යනු වැදගත් නොවේ. රුසියාවට තමන්ගේ ආරක්ෂාව සලසා ගත හැකි වේද, නැද්ද යන්නාද ඒ වකවානුවේ වැදගත් නොවීය. මෙම අදහසේ හැටියට රුසියානු විප්ලවයට හොඳම රැකවරණය වූයේ යුරෝපීය විප්ලවයයි. ඒ අනුව, යුරෝපීය විප්ලවය කරණකොට ගෙන, ඉහතදී රුසියානු දේශභූමියේ විසූ ජාතීන් සියල්ලටම සම්පූර්ණ සහ නියම ස්වාධිපත්‍යය ලැබෙනු ඇතැයි අදහස් කරන ලදී.

"යුරෝපයේ සමාජවාදය ස්ථාපිත කර තහවුරු කරමින් යුරෝපයේ ඇතිවන විප්ලවයක්, රුසියාවේ ආර්ථික නොදියුණුකම නිසා එහි සමාජවාදී නිෂ්පාදන ක්‍රමය ඇතිකිරීමට හරස්ව මතුවන බාධක ඉවත් කිරීමේ මාධ්‍යයක්ද වනු ඇත.

"මෙය ඉතා තර්කානුකූල හා ඉතා බුද්ධිමත් විය. නමුත් එසේ වූයේ, ප්‍රධාන උපකල්පනය, එනම්, රුසියානු විප්ලවය විසින් නොවරදවාම යුරෝපීය විප්ලවයක් මුදා හරිනු ලැබෙතැයි යන්න, එසේම පිළිගතහොත් පමණකි. නමුත් එය සිදු නොවුවහොත්?

" මේ දක්වා මෙම උපකල්පනය සනාථ වී නැත. තවද රුසියානු විප්ලවය අත්හැර දැමීම හා එය පාවා දීම ගැන දැන් යුරෝපයේ නිර්ධන පංතිකයින්ට චෝදනාද කරනු ලැබේ. යුරෝපීය නිර්ධන පංතියේ හැසිරීම ගැන වගකීම පැවරිය හැක්කේ කාවෙතද? ඒ අනුව බලන කල මෙය කවුරුන්දැයි නොදත් පුද්ගලයන් වෙත කරන චෝදනාවකි" (පිටුව 28).

ඊළඟට, මාක්ස්, එංගල්ස්, හා බේබෙල්, ඔවුන් අපේක්ෂාකළ විප්ලවයේ ආරම්භය ගැන වරකට වඩා වැරදි වැටහීමක් ඇතිව සිටි අතර ඔවුන් කිසි කලෙකත් විප්ලවය කිසියම් "නිශ්චිත දිනක" ඇතිවෙතැයි යන විශ්වාසය මත ඔවුන්ගේ උපක්‍රම පදනම් නොකළ බව දීර්ඝ ලෙස විස්තර කරන කෞට්ස්කි කියන්නේ, බොල්ෂෙවික්වරුන් "සියල්ලම

එක එක කොළයක් මත, එනම්, පොදු යුරෝපීය විප්ලවයක් මත ඔට්ටු තැබූ'' බවයි.

අප, කෞට්ස්කිගෙන් උපුටාගත් මෙම දීර්ඝ ඡේදය උවමනාවෙන්ම ගෙන හැර දක්වූයේ, මාක්ස්වාදය යයි කියා ඔහුගේ වැදගැම්මකට නැති සහ ප්‍රතිගාමී අමන මත ඉදිරිපත් කිරීමෙන් මාක්ස්වාදය නමින් බොරුවක් ඉදිරිපත් කිරීමට ඇති කෞට්ස්කිගේ ''කුසලතාවය'' අපගේ පාඨකයන්ට පෙන්නුම් කිරීමේ අදහසිනි.

ප්‍රථමව, පැහැදිලිව පෙනෙන මෝඩ අදහසක් ප්‍රතිපාක්ෂිකයෙකුගේ ඇඟේ ගසා, ඊළඟට එම අදහස නිෂ්ප්‍රභා කිරීමේ රැවටිල්ල භාවිතා කරන අය, කිසි හපන් කමක් ඇති මිනිසුන් නොවෙති. බොල්ෂෙවික්වරු ඔවුන්ගේ උපක්‍රම පදනම් කළේ නිශ්චිත දිනයක් වන විට වෙනත් රටවල විප්ලවයක් ඇතිවේය යන බලාපොරොත්තුව මත නම්, එය ඒකාන්ත වශයෙන්ම මෝඩකමක් වන්නට තිබිණ. නමුත්, බොල්ෂෙවික් පක්ෂය කිසි කලෙකත් එවැනි මෝඩකමක් කිරීමේ වරදට නොවැටුනහ. අප මෙම මෝඩ අදහස දරන්නේ නැති බව මම ඇමෙරිකානු කම්කරුවන්ට ලියූ (1918 අගෝස්තු 20 දින) ලිපියෙන් එකහෙළාම ප්‍රකාශ කෙළෙමි. අප ඇමෙරිකානු විප්ලවය ගැන බලාපොරොත්තු තබන නමුත්, එය කිසියම් නිශ්චිත දිනක සිදුවෙතැයි අදහස් නොකරන බව එහි සඳහන් කෙළෙමි. මම වාම සමාජවාදී-විප්ලවවාදීන්[53] සහ ''වාම කොමියුනිස්ට්වාදීන්''[54] සමග කළ විවාදයේදී ද (1918 ජනවාරි — මාර්තු) මෙම අදහසම එක් වරකට වැඩියෙන් විස්තර සහිතව පැහැදිලි කෙළෙමි. සුළු,... ඉතා සුළු හොර ලියවිල්ලක් යෙදූ කෞට්ස්කි, බොල්ෂෙවික්වරුන් ගැන කරන ඔහුගේ විවේචනය ඇත්ත වශයෙන්ම එය මත පදනම් කළේය. නිශ්චිත දිනයක නොව, තරමක් නුදුරු කාලයක යුරෝපීය විප්ලවය ඇතිවීමේ අපේක්ෂාව මත පදනම් කෙරුණු උපක්‍රම සහ නිශ්චිත දිනයක යුරෝපීය විප්ලවය ඇතිවීමේ අපේක්ෂාව මත පදනම් කෙරුණු උපක්‍රම යන දෙක, එකට පැටලූ කෞට්ස්කි, එයින් කළේ සුළු සොරකමකි. ඉතා සුළු සොරකමකි!

ඉහත අවසානයට සඳහන් උපක්‍රම මෝඩය. පළමුවෙන් සඳහන් කළ උපක්‍රම සෑම මාක්ස්වාදියෙකුම, විප්ලවවාදී නිර්ධන පංතිකයෙකුම සහ ජාත්‍යන්තරවාදියෙකුම විසින් අවශ්‍යයෙන්ම පිළිගත යුතු වන්නේය. ඒවා අවශ්‍යයෙන්ම පිළිගතයුතු වන්නේ සියලු යුරෝපීය රටවලම වූ යුද්ධයෙන් ඇති වූ වාස්තවික තත්වයන් නියම මාක්ස්වාදී ආකාරයෙන් සැලකිල්ලට ගන්නා සහ නිර්ධන පංතියේ ජාත්‍යන්තර කර්තව්‍යයන්ට අනුකූලවන එකම උපක්‍රම ඒවා වන හෙයිනි.

සුළු ප්‍රශ්නයක් ගැන බොල්ෂෙවික්වරුන් අතින් සිදුවිය හැකි වූ,



එහෙත්, ඔවුන් නොකළ වරදක්, විප්ලවවාදී උපක්‍රමවල පොදු පදනම් පිළිබඳ වැදගත් ප්‍රශ්නයක් වෙනුවට ආදේශ කිරීමේ මාර්ගයෙන් කෞට්ස්කි දක්ෂ ලෙස සියලුම විප්ලවවාදී උපක්‍රම සම්පූර්ණයෙන්ම අත් හැර දමන්නේය!

දේශපාලනයෙහිදී ද්‍රෝහියෙක් වන කෞට්ස්කි, විප්ලවවාදී උපක්‍රම සඳහා තිබිය යුතු න්‍යායික පූර්වාවශ්‍යතාවයන් ගැන ප්‍රශ්නය ඉදිරිපත් කිරීමට පවා අපොහොසත් වන්නේය.

දෙවැනිව, විප්ලවීය තත්වයක් පවතින්නේ නම්, යුරෝපීය විප්ලවයක් ගැන බලාපොරොත්තු තැබීම මාක්ස්වාදියෙකුගෙන් අවශ්‍යයෙන්ම ඉටුවිය යුත්තකි. විප්ලවවාදී තත්වයක් පවතින විට හා විප්ලවවාදී තත්වයක් නොපවතින විට සමාජවාදී නිර්ධන පංතිය අනුගමනය කරන උපක්‍රම එකක්ම විය නොහැකිය යනු මාක්ස්වාදයේ අයන්න, ආයන්න මෙනි.

මාක්ස්වාදියෙක් අවශ්‍යයෙන්ම ඇසිය යුතු මෙම ප්‍රශ්නය මතු කිරීමට තරම් කෞට්ස්කි උනන්දු වූයේ නම්, ඊට ලැබෙන පිළිතුර තමාට ඒකාන්ත වශයෙන්ම පටහැණි බව ඔහුට පෙනී යන්නට තිබිණි. යුරෝපීය යුද්ධයකින් විප්ලවීය තත්වයක් උද්ගත වෙතැයි යන්න ගැන, යුද්ධය ඇතිවන්නට බොහෝ ඉහතදීම සියලුම මාක්ස්වාදීහු සහ සමාජවාදීහු එකඟව සිටියහ. කෞට්ස්කි ද්‍රෝහියෙක් වන්නට පෙර, ඔහුම 1902 දී (ඔහුගේ ''සමාජ විප්ලවය'' මගින්) සහ 1909 දී (ඔහුගේ ''බලයට මාවත'') මගින් එය පැහැදිලිවම හා නිශ්චිතවම පිළිගත්තේය. මුළු දෙවැනි ජාත්‍යන්තරයේම නාමයෙන් එය බාස්ල් ප්‍රකාශනයෙන්ද පිළිගන්නා ලදී. එනිසා, මේ හා සම්බන්ධයෙන් බාස්ල් ප්‍රකාශනයෙහි අඩංගු කරුණු වසංගතයක් සේ සලකන කලෙක මෙන්, සියලුම රටවල සමාජ-ජාතෛත්‍යාන්මාදවාදීන් සහ කෞට්ස්කි ආධාර කරුවන් (''මධ්‍යස්ථවාදීන්,'' එනම්, විප්ලවවාදීන් සහ අවස්ථාවාදීන් අතර එහා මෙහා වැනෙන අය) ඒවා මග හැරීම පුදුමයක් නොවේ!

එනිසා, යුරෝපයේ විප්ලවීය තත්වයක් ඇතිවීම අපේක්ෂා කිරීම බොල්ෂෙවික්වරුන්ගේ උමතුවක් නොව, සියලුම මාක්ස්වාදීන්ගේ පොදු මතය විය. මෙම අවිවාදී සත්‍යය මග හැර යාමේ වෑයමක යෙදෙන කෞට්ස්කි, බොල්ෂෙවික්වරු ''නිතරම ප්‍රචණ්ඩත්වයේ සර්වබලධාරිත්වය සහ අධිෂ්ඨානය කෙරෙහි විශ්වාසය තැබූහ'' යි යන වැනි වාක්‍ය ඛණ්ඩ උපයෝගි කරන්නා විට, ඔහු කරන්නේ, විප්ලවීය තත්වය ගැන ප්‍රශ්නය මතුකිරීමෙන් නින්ද සහගත ලෙස මග හැරීමක් වන ඔහුගේ එම ප්‍රශ්නයෙන් පැනයාම සැඟවීමට, හූදෙක් ගිගුම් දෙන සහ හිස් වදනක් ඇද බෑම පමණකි.

තවත් ප්‍රශ්නයකි. විප්ලවීය තත්වයක් සැබැවින්ම ඇති වී තිබේද? නැද්ද? කෞට්ස්කි මෙම ප්‍රශ්නයවත් ඇසීමට අපොහොසත් විය. ආර්ථික

සාධක මෙම ප්‍රශ්නයට පිළිතුරක් සපයයි: යුද්ධය නිසා සෑම තැනකම ඇති වී තිබෙන සාගතයෙන් සහ විනාශයෙන් අදහස් වන්නේ විප්ලවීය තත්වයක් ඇති බවයි. දේශපාලන සාධකද පිළිතුරක් සපයයි: 1915 වර්ෂයේ පටන්ම සියලුම රටවල පැරණි සහ දිරාගිය සමාජවාදී පක්ෂ තුළ භේදවීමේ ක්‍රියාදමයක්, නැතහොත්, නිර්ධන පංති පොදු ජනකාය සමාජ-ජාත්‍යොන්මාදවාදී නායකයන් කෙරෙන් ඉවත්ව වමට, විප්ලවවාදී අදහස් සහ හැඟීම් වෙතට, විප්ලවවාදී නායකයන් වෙතට යාමේ ක්‍රියාදමයක් දක්නට ලැබුණි.

කෞට්ස්කි ඔහුගේ පොත ලියමින් සිටි 1918 අගෝස්තු 5 දිනයෙහිදී, මෙම කරුණු නොදක සිටිය හැකිව තිබුණේ විප්ලවයට මහත් බියක් දක්වන සහ එය පාවාදෙන අයෙකුට පමණකි. දැන්, 1918 ඔක්තෝබර් මස අග වන විට යුරෝපීය රටවල් ගණනාවකම විප්ලවය වර්ධනය වෙමින් පවතී. එපමණක් නොව, එය සෑම දෙනාගේම ඇස් ඉදිරිපිට හා ඉතා සීඝ්‍රයෙන් සංවර්ධනය වෙයි. තවමත් මාක්ස්වාදියෙකු ලෙසට සැලකීම අපේක්ෂා කරන "විප්ලවවාදී" කෞට්ස්කි, අදූරදර්ශී අමනයෙක් බව ඔප්පු විය. 1847 දී මාක්ස්ගේ සමච්චලයට භාජනය වූ අමනයන් මෙන්ම, මොහුද, ළඟාවෙමින් පවතින විප්ලවය දැකීමෙහි අපොහොසත් විය!

ඊළඟට තුන්වැනි කරුණ.

තුන්වැනිව, යුරෝපයේ විප්ලවීය තත්වයක් පවතින විට අනුගමනය කළයුතු විප්ලවීය උපක්‍රමවල විශේෂ අංග ලක්ෂණ විය යුත්තේ මොනවාද? මාක්ස්වාදියෙක් අවශ්‍යයෙන්ම මෙම ප්‍රශ්නය ඇසිය යුත්තේය. නමුත් ද්‍රෝහියෙක් බවට පත්වූ කෞට්ස්කි මෙම ප්‍රශ්නය ඇසීමට බිය විය. කෞට්ස්කි හරියටම සුළු ධනපතියෙක් ලෙසට, අමනයෙක් ලෙසට, නැතහොත් අඥාන ගොවියෙක් ලෙසට තර්ක කරයි: "පොදු යුරෝපීය විප්ලවයක්" ආරම්භ වී තිබේද? නැද්ද? එය ආරම්භ වී තිබේ නම්, ඔහුත් විප්ලවවාදියෙක් වීමට සූදානම්ය! නමුත්, එය එසේ නම්, සෑම තක්කඩියෙක්ම (දැන් ජයග්‍රාහී බොල්ෂෙවික්වරුන්ට සමහර විට ඇලී සිටින තක්කඩින් මෙන්) තමන් විප්ලවවාදියෙක් බව ප්‍රකාශයට පත් කරනු ඇත!

එය ආරම්භ වී නැත්නම් කෞට්ස්කි විප්ලවයට ඔහුගේ පස්ස හරවනු ඇත! විප්ලවවාදියෙක් අමනයෙකුගෙන් හා සුළු ධනපතියෙකුගෙන් වෙනස් වන්නේ, විප්ලවය මුහුකුරා යාම අවශ්‍ය බව නූගත් පොදු ජනතාවට දේශනා කිරීමටත්, එය අනිවාරණීය බව ඔප්පු කිරීමටත්, එමගින් වන යහපත ජනතාවට පැහැදිලි කර දීමටත්, නිර්ධන පංතිය සහ වැඩ කරන සියලු ජනතාව ඒ සඳහා සූදානම් කිරීමටත් ඔහුට ඇති හැකියාව නිසාය



යන සත්‍යය ගැන අල්ප මාත්‍ර හෝ වැටහීමක් කෞට්ස්කිට තිබෙන බවක් පෙනෙන්නේ නැත.

කෞට්ස්කි බොල්ෂෙවික්වරුන් පිට මෝඩකමක්, නැතහොත්, 'ඔවුහු සියල්ල එක කොළයක් මත, එනම්, නිශ්චිත දිනයක යුරෝපීය විප්ලවයක් ආරම්භ වෙතැයි යන්න මත ඔට්ටු තැබූහ' යි යන්න පැටවූ නමුත්, මෙම මෝඩ කියමන ආපසු කෞට්ස්කි වෙතම කැරකී ගියේය. මන්දයත්, 1918 අගෝස්තු 5 දින වනවිට යුරෝපීය විප්ලවයක් ආරම්භ වී නම් බොල්ෂෙවික්වරුන් නිවැරදි වන්නට තිබිණි යන්න ඔහුගේ මෙම තර්කයෙන් නිගමනය වන බැවිනි! කෞට්ස්කි ඔහුගේ පොත ලියමින් සිටි කාලය ලෙසට සඳහන් කරන දිනය එයයි. නමුත්, මෙම අගෝස්තු 5 වැනි දිනෙන් සති කීපයකට පසුව, යුරෝපීය රටවල් ගණනාවකම විප්ලවය සමීප වෙමින් තිබෙන බව පැහැදිලි වූ පසු, කෞට්ස්කිගේ ද්‍රෝහීත්වයද, ඔහු මාක්ස්වාදය විකෘති කිරීමට කළ සියල්ලද, තර්ක කිරීමට, නැතහොත්, ප්‍රශ්නය ඉදිරිපත් කිරීමට පවා ඔහුගේ ඇති අසමර්ථභාවයද, ඒවායේ සකල අලංකාරයෙන්ම ප්‍රදර්ශනය විය!

යුරෝපයේ නිර්ධන පංතිකයින්ට ද්‍රෝහීත්වයේ චෝදනාව එල්ලකරන විට එය කවුරුන්දැයි නොදන්නා මිනිසුන්ට කරන චෝදනාවකැයි කෞට්ස්කි ලියා තිබේ.

කෞට්ස්කි මහතාණනි, ඔබට වැරදී ඇත! කණ්ණාඩියකින් බලන්න, මෙම චෝදනාවට ඉලක්ක වූ ඒ "කවුරුන්දැයි නොදන්නා මිනිසුන්" එවිට ඔබට පෙනෙනු ඇත. බොළඳ කමක් ආරූඪ කරගන්නා කෞට්ස්කි, චෝදනාව ඉදිරිපත් කළේ කවුද, එහි අර්ථය කුමක්ද යන්න නොවැටහෙන බවක් පෙන්වීමට වෑයම් කරයි. නමුත් චෝදනාව ඉදිරිපත් කර ඇත්තේ හා ඉදිරිපත් කරන්නේ ජර්මන් "වාම" වාදීන්, ස්පාර්ටකස්වරුන්,[55] ලිබ්ක්නෙහ්ට් හා ඔහුගේ මිතුරන් බව කෞට්ස්කි ඇත්ත වශයෙන්ම ඉතා හොඳින් දන්නේය. ජර්මන් නිර්ධන පංතිය පින්ලන්තයේ, උක්‍රේනියාවේ, ලත්වියාවේ සහ එස්තෝනියාවේ ගෙල මිරිකූ විට, එය කළේ රුසියානු (හා ලෝක) විප්ලවය පාවාදීමක්ය යන කරුණ ගැන පැහැදිලි වැටහීමක් එම චෝදනාවෙන් ප්‍රකාශිත වේ. මෙම චෝදනාව එල්ල කරනු ලබන්නේ, නිතරම පෑගීමට පත්ව සිටින පොදු ජනතාව වෙත නොවේ. එය මූලික වශයෙන් හා ප්‍රථමයෙන්ම එල්ල කරනු ලබන්නේ, පොදු ජනතාවට ඔවුන්ගේ අකර්මන්‍යභාවයෙන් ගොඩ එනු හැකිවනු පිණිස ඔවුන් අතර විප්ලවවාදී උද්ඝෝෂණය, විප්ලවවාදී ප්‍රචාරය හා විප්ලවවාදී වැඩ කිරීමේ ස්වකීය යුතුකම ඉටු නොකළ, නමුත්, පීඩිත පංති තුළ ගැඹුරු අභ්‍යන්තරයේ නිතර දැල්වෙමින් පවතින විප්ලවවාදී සහජාසයන්ට හා අපේක්ෂාවන්ට විරුද්ධව ඇත්ත වශයෙන්ම වැඩ කළ, ෂෙයිදමාන්ලා සහ කෞට්ස්කිලා

වැනි ඒ නායකයන් වෙතය. දරදඬු ලෙසින්, ගොරහැඩි ලෙසින්, නිර්ලජ්ජිත ලෙසින් සහ බොහෝ අවස්ථාවල ආත්මාර්ථකාමී අදහස් ඉටුකර ගැනීම සඳහා නිර්ධන පංතිය පාවාදුන් ෂෙයිදමාන්ලා ධනපතියන්ගේ පැත්තට පලා ගියහ. කෞට්ස්කි සහ ලොංගේගේ ආධාරකරුවන්ද කළේ එයමය. වෙනසකට ඇත්තේ, ඔවුන් පැකිලෙමින්, නැවති නැවතී සහ එම අවස්ථාවේදී වඩාත් ශක්තිමත් අය දෙස බියගුළු ලෙස බැලුම් හෙලමින් එසේ කිරීමය. යුද්ධය කාලයේ කෞට්ස්කි කළ සියලුම ලියවිලි වලින් ඔහු උත්සාහ කළේ, විප්ලවවාදී ජීවගුණය පෝෂණය කරනවා හා දල්වනවා වෙනුවට එය නිවාදැමීමටය.

යුරෝපයේ නිර්ධන පංතිය රුසියානු විප්ලවය පාවා දුන්හයි යන "චෝදනාවෙහි" දැවැන්ත න්‍යායික වැදගත්කම සහ ඊටත් වඩා එහි ඇති උද්ඝෝෂණික සහ ප්‍රචාරක වටිනාකම ගැන පවා කෞට්ස්කිට වටහා ගත නොහැකි වීම, ජර්මන් නිල සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ "සාමාන්‍ය" නායකයාගේ අමන මන්ද බුද්ධිකභාවයේ ඓතිහාසික සිහිවටනයක් සේ පවතිනු ඇත! ෂෙයිදමාන්ලා සහ කෞට්ස්කිලා ඉවත දමා, එවැනි නායකයන් පසෙකට තල්ලුකර දමා, මිනිසුන් මොට්ටයන් කරන සහ දුර්වල කරන ඔවුන්ගේ ප්‍රචාරයෙන් නිදහස්වන සේද, ඔවුන් නොතකා, ඔවුන් නොමැතිව කැරළි ගසා නැගී සිටින සේද, ඔවුන්ගේ හිස් ගෙඩිවලට ඉහළින් විප්ලවය කරා ගමන් ගන්නාසේද, ජර්මන් කම්කරුවන් වෙත තමන්ගේ ආයාචනය කිරීම සඳහා, සමාජවාදය පාවා නොදුන් ජර්මන් සමාජවාදීන්ට, ලිබ්ක්නෙහ්ට්ට සහ ඔහුගේ මිතුරන්ට, ජර්මන් අධිරාජ්‍යයේ පුවත්පත් පාලනය යටතේ උපයෝගි කරගත හැකි වූ එකම ක්‍රමය සමහර විට මෙම "චෝදනාව" බව කෞට්ස්කිට වැටහෙන්නේ නැත!

කෞට්ස්කිට මෙය තේරෙන්නේ නැත. එසේ වූ කල, බොල්ෂෙවික්වරුන්ගේ උපක්‍රම ඔහුට වැටහෙන්නේ කෙසේද? විප්ලවය අත්හැර දමන පුද්ගලයෙක්, ඉතාමත් "දුෂ්කර" විප්ලවවලින් එකකට අදළව විප්ලවයේ සංවර්ධනයේ කොන්දේසි ගැන කිරා බලනු හා තක්සේරු කරනු ඇතැයි යනු සාමාන්‍යයෙන් අපේක්ෂා කළ හැකිද?

බොල්ෂෙවික් උපක්‍රම නිවැරදි විය. ලෝක විප්ලවයක් කෙරෙහි ඇති නිවට බියක් මත නොව, එය ගැන දරන අමන "අවිශ්වාසයක්" මත නොව, අන් කිසිවක් ගැන "කිසිත් නොතකා" අයෙක් "තමන්ගේම" පිතෘභූමිය (අයෙක් තමන්ගේම ධනපති පංතියේ පිතෘභූමිය) අරක්ෂා කිරීමට ඇති අභිලාෂය මත නොව, යුරෝපයේ පවතින විප්ලවීය තත්වය ගැන කරන ලද නිවැරදි (සහ යුද්ධයට පෙර, සමාජ-ජාතොයාන්මාදවාදීන් සහ සමාජ-සමාදනවාදීන් පිළ අත්හැර යාමට පෙර සියල්ලන්ම විසින් පිළිගන්නා ලද) තක්සේරුවක් මත එම උපක්‍රම පදනම් වූ හෙයින් ඒවා පමණක් ජාත්‍යන්තරවාදී ප්‍රතිපත්ති විය. සියලුම රටවල විප්ලවයේ සංවර්ධනය, ආධාරය හා ප්‍රබෝධය පිණිස එක රටක් තුළ කළ හැකි උපරිම මෙහෙය මෙම උපක්‍රමවලින් ඉටු වූ හෙයින් ජාත්‍යන්තරවාදී උපක්‍රම වූයේ ඒවා පමණකි. බොල්ෂෙවික්වාදය (කිසිසේත් රුසියානු බොල්ෂෙවික්වරුන්ගේ සුදුසු කමක් නිසා නොව, ව්‍යවහාරයේදී විප්ලවවාදී වන උපක්‍රම කෙරෙහි සෑම තැනෙකම ජනතාව දක්වන බලවත් අනුකූලතාවය නිසා) ලෝක බොල්ෂෙවික්වාදය වී ඇති හෙයින්ද, එය සමාජ-ජාතොයාන්මාදවාදයට සහ සමාජ-සමාදනවාදයට වඩා වෙනස් අදහසක්, න්‍යායක්, වැඩ පිළිවෙළක් හා උපක්‍රම ඉදිරිපත් කර ඇති හෙයින්ද, මෙම උපක්‍රම නිවැරදි බව ඒවායේ ඉමහත් සාර්ථකත්වයෙන් ඔප්පු වී තිබේ. "සමගිය" ගැන සිහින දකිමින් සහ මළ සිරුරකට පණ දීමට වෑයම් කරමින්, මෙතැන් සිට ඔවුනොවුන් සමග රණ්ඩු කරගනු ඇති, ෂෙයිදමාන්ලාගේ සහ කෞට්ස්කිලාගේ, රෙනෝදෙල්ලාගේ සහ ලොංගේලාගේ, හෙන්ඩර්සන්ලාගේ සහ මැක්ඩොනල්ඩ්ලාගේ පැරණි, කුණු වූ ජාත්‍යන්තරයට බොල්ෂෙවික්වාදය දුන්නේ මාරක පහරකි. බොල්ෂෙවික්වාදය, තුන්වැනි ජාත්‍යන්තරයක් සඳහා, නියම නිර්ධන පංති සහ කොමියුනිස්ට් ජාත්‍යන්තරයක් සඳහා, දෘෂ්ටිමය සහ උපක්‍රමීය අත්තිවාරම් නිර්මාණය කර තිබේ. එම ජාත්‍යන්තරය සන්සුන් යුගයේ ජයග්‍රහණයන් සහ ආරම්භ වී තිබෙන විප්ලව යුගයේ අත්දැකීම් යන දෙකම සැලකිල්ලට ගන්නවා ඇත.

බොල්ෂෙවික්වාදය නිසා "නිර්ධන පංති අඥාදයකත්වය" ලෝකය මුළුල්ලෙහිම ජනප්‍රිය විය. එය එම වචන ලතින් භාෂාවෙන් රුසියානු බසටද, ඊළඟට ලෝකයේ සියලුම භාෂාවලටද පරිවර්තනය කළේය. එසේම, එය, නොදියුණු රටක වුවද සිටින, පළපුරුදුකම්, අධ්‍යාපනය හා සංවිධාන පුරුදුකම් අඩුම කම්කරුවනට හා ගොවිජනතාවකට පවා, යෝධ දුෂ්කරතාවයන් මධ්‍යයේ සහ (මුළු ලෝකයේම ධනපතියන්ගේ ආධාරය ලත්) සූරාකන්නන්ට විරුද්ධව කරන අරගලයක් මධ්‍යයේ, මුළු අවුරුද්දක් තිස්සේම වැඩකරන ජනතාවගේ බලය පවත්වා ගැනීමටත්, ලෝකයේ ඉහත තිබුණු ප්‍රජාතන්ත්‍රයන් සියල්ලටම වඩා අපරිමිත තරම් උසස් හා පුළුල් ප්‍රජාතන්ත්‍රයක් නිර්මාණය කිරීමටත්, ප්‍රායෝගික ලෙස සමාජවාදය ගොඩනැගීම සඳහා කෝටි සංඛ්‍යාත කම්කරු හා ගොවි ජනතාවන් කරන වැඩ ආරම්භ කිරීමටත්, හැකියාව තිබුණු බව සෝවියට් ආණ්ඩුවේ නිදර්ශනයෙන් පෙන්වා දී තිබේ.

මෙතෙක් ලෝකයේ වෙනත් කිසිම රටක, කිසිම පක්ෂයකට නොහැකි වූ තරම් බලවත් ලෙසින්, බොල්ෂෙවික්වාදය යුරෝපයේ සහ

ඇමෙරිකාවේ විප්ලවයේ සංවර්ධනය සඳහා ඇත්ත වශයෙන්ම ආධාර කර ඇත. ෂෙයිදමාන්ලාගේ සහ කෞට්ස්කිලාගේ උපක්‍රම අනුව, අධිරාජ්‍යවාදී යුද්ධයෙන් සහ අධිරාජ්‍යවාදී ධනපති පංතියට බැඳුනු වේතන-වහල් භාවයෙන් මිදීමක් තමන්ට නොසැලසුන බව හා මෙම උපක්‍රම සියලුම රටවලට ආදර්ශයක් සේ ගැනීමට නොසුදුසු බව මුළු ලෝකයේම කම්කරුවන් දිනපතාම වඩ වඩාත් පැහැදිලි ලෙස අවබෝධ කරගන්නා අතර, බොල්ෂෙවික්වාදය, යුද්ධයේ මහා භීතියෙන් හා අධිරාජ්‍යවාදයෙන් මිදීමේ නිවැරදි මාවත පෙන්වා ඇති බවත්, එය සියල්ලන්ගේම උපක්‍රම සඳහා ආදර්ශයක් ලෙසට ගැනීමට සුදුසු බවත් සියලුම රටවල කම්කරු පොදු ජනතාව දිනපතාම වඩ වඩාත් හොඳින් අවබෝධ කර ගනිති.

පොදු යුරෝපීය විප්ලවය පමණක් නොව, ලෝක නිර්ධන පංති විප්ලවයද හැමගේම ඇස් හමුවේ මුහුකුරා යමින් පවතී. රුසියාවේ නිර්ධන පංතියේ ජයග්‍රහණය එයට අනුබලයක්, ආධාරයක් හා එය ඉක්මන් කිරීමක් විය. මේ සියල්ල සමාජවාදයේ පූර්ණ ජයග්‍රහණය සඳහා ප්‍රමාණවත් නොවේයයි ඔබ කියන්නෙහිද? ඇත්තෙන්ම එය ප්‍රමාණවත් නොවේ. තනි රටකට ඊට වඩා යමක් කළ නොහැකිය. නමුත් සෝවියට් ආණ්ඩුවට ස්තුති වන්නට මෙම එක රට කර තිබෙන ප්‍රමාණය කොතරම්දයත්, හෙට, නිදසුනක් ලෙසට — වියහැකි අන්ත අයහපත වෙනු ඇතැයි සිතමු — ජර්මන් සහ ඉංග්‍රිසි-ප්‍රංශ අධිරාජ්‍යවාදීන් අතර එකඟත්වයක් ඇති වී, ලෝක අධිරාජ්‍යවාදය විසින් රුසියාවේ සෝවියට් ආණ්ඩුව මැඩලනු ලැබුවත්, එසේ වුවත්, සෝවියට් උපක්‍රම සමාජවාදයට ඉමහත් සෙතක් සලසා ඇති බවත්, අනභිභවනීය ලෝක විප්ලවයේ වර්ධනයට ආධාර කර තිබෙන බවත් පෙනී යනු ඇත.

## ''ආර්ථික විශ්ලේෂණය'' මුවාවෙන් ධනපති පංතියට සේවය කිරීම

ඉහත කියන ලද පරිදි, කෞට්ස්කිගේ පොතෙහි සන්ධාරය එහි නමෙන් පිළිබිඹු වීමට නම්, එය නම් කළ යුතුව තිබුණේ ''නිර්ධන පංති ආඥාදායකත්වය'' යනුවෙන් නොව, ''බොල්ෂෙවික්වරුන්ට විරුද්ධව ප්‍රහාරයේ ප්‍රතිරාවයක්'' යනුවෙනි.

රුසියානු විප්ලවයේ ධනපති ස්වභාවය ගැන මෙන්ෂෙවික්වරුන් ඉදිරිපත් කළ පැරණි ''න්‍යායයන්'', එනම්, මාක්ස්වාදය ගැන මෙන්ෂෙවික්වරුන් කළ පැරණි විකෘතිය (1905 දී කෞට්ස්කි එය ප්‍රතික්ෂේප කළේය!), දැන් අපගේ න්‍යායවාදියා විසින් නැවතවරක් නව මුහුණුවරකින් ඉදිරිපත් කරනු ලැබේ. රුසියානු මාක්ස්වාදීන් මෙය කොතරම් අසා තිබුණත්, අපට මෙම ප්‍රශ්නය ගැන කරුණු විස්තර කිරීමට සිදුවී තිබේ.

රුසියානු විප්ලවය ධනපති විප්ලවයකැයි 1905 ට පෙර රුසියාවේ මාක්ස්වාදීහු කීහ. මාක්ස්වාදය වෙනුවට ලිබරල්වාදය ආදේශ කරමින් මෙන්ෂෙවික්වරු එයින් මෙම නිගමනයට බැස ගත්හ: එනිසා නිර්ධන පංතිය, ධනපති පංතියට පිළිගත හැකි සීමාව ඉක්මවා, ඉන් ඔබ්බට නොයා යුතු අතර, ධනපතියන් සමග සම්මුතිගත වීමේ ප්‍රතිපත්තියක් අනුගමනය කළ යුතුය. එය ධනපති-ලිබරල් න්‍යායකැයි බොල්ෂෙවික්වරු කීහ. ධනපතියෝ හැකි තාක් දුරට රාජාණ්ඩුව, ඉඩම් හිමි ක්‍රමය යනාදිය ආරක්ෂා කරගන්නා අතරම, විප්ලවවාදී නොවන, ප්‍රතිසංස්කරණවාදී ක්‍රියාමාර්ගයක් අනුව රාජ්‍යය විෂයෙහි ප්‍රතිසංස්කරණ ඇති කිරීමට උත්සාහ කරමින් සිටියහ. නිර්ධන පංතිය, ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයේ අවසානය දක්වා එම විප්ලවය ගෙනයා යුතුය. එහිදී තමන් ධනපති පංතියේ ප්‍රතිසංස්කරණවාදයෙන් ''බැඳෙනු'' නොදීමට නිර්ධන පංතිය වග බලාගත යුතුය. බොල්ෂෙවික්වරුන් විස්තර කළ ලෙසට ධනපති විප්ලවයේදී පංති බලවේග පෙළ ගැස්ම මෙසේ විය: ගොවි ජනතාව තමන් පැත්තට දිනාගන්නා නිර්ධන පංතිය, ලිබරල් ධනපතියන් මධ්‍යස්ථ කොට, රාජාණ්ඩුව, මධ්‍යතනවාදය සහ ඉඩම්හිමි ක්‍රමය සම්පූර්ණයෙන්ම විනාශ කරනු ඇත.

විප්ලවයේ ධනපති ස්වභාවය පෙන්නුම් කෙරෙන්නේ නිර්ධන පංතිය සහ පොදු වශයෙන් ගොවි ජනතාව අතර වන සන්ධානයෙනි. එසේ වන්නේ ගොවි ජනතාව පොදු වශයෙන් වෙළඳ භාණ්ඩ නිෂ්පාදනය පදනම් කොට ගෙන පවතින සුළු දේපල හිමියන් වන හෙයිනි. එතෙකින් නොනවතින නිර්ධන පංතිය මුළු මහත් අර්ධ-නිර්ධන ජනකායම (වැඩ කරන සහ සූරාකෑමට බඳුන් වූ සියලු ජනයා) තමන් පැත්තට දිනාගෙන, මධ්‍යම ගොවි ජනයා මධ්‍යස්ථ කොට, ධනපති පංතිය බලයෙන් නෙරපනු ඇතැයි බොල්ෂෙවික්වරු ඊළඟට එකතු කළහ. මෙය සමාජවාදී විප්ලවය වනු ඇත. එය ධනපති ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයට වඩා වෙනස්ය. (මා 1905 වර්ෂයේ පළ කළ ''උපක්‍රම දෙක'' බලන්න. 1907 දී සාන්ත පීටර්ස්බර්ග්හිදී පළ කෙරුණු ''දොළොස් අවුරුද්ද'' කෘතියට එකතු කර එය නැවත පළ කරන ලදී.)

කෞට්ස්කි 1905 විවාදයට අනියමින් සම්බන්ධ විය.[56] එවකට මෙන්ෂෙවික්වරයෙකුව සිටි ප්ලෙහානව් නැගූ ප්‍රශ්නයකට පිළිතුරු දෙමින් ඔහු ප්ලෙහානව්ට සාරාර්ථ වශයෙන් විරුද්ධ මතයක් ප්‍රකාශ කළේය.

එම වකවානුවේදී මෙය බොල්ෂෙවික් පුවත්පත්වල විශේෂ සමච්චලයට ඉලක්ක විය. නමුත් දැන් එකල විවාද ගැන කෞට්ස්කි වචනයක් හෝ නොතෙපලයි (ඔහු ඒ ගැන නොකියන්නේ තමන් කියන දේ තමන්ගේම ප්‍රකාශයන්ගෙන් බොරු වනු ඇතැයි බියෙනි). ඒ අනුව ඔහු ඇති කරන්නේ කාරණයෙහි හරය වටහා ගැනීමට ජර්මන් පාඨකයාට කිසිසේත් ඉඩක් නොලැබෙන තත්වයකි. තමා 1905 දී පක්ෂ වූයේ කම්කරු පක්ෂය ගොවිජනතාව සමග ඇති කර ගන්නා සන්ධානයකට බවත්, ලිබරල් ධනපතියන් සමග ඇති කර ගන්නා සන්ධානයකට නොවන බවත්, තමා එම සන්ධානයට පක්ෂ වූයේ කුමණ කොන්දේසි මතද යනුත්, ඒ සඳහා තමා සටහන්ගත කළ වැඩ පිළිවෙළ ගැනත්, 1918 දී ජර්මන් කම්කරුවන්ට කීමේ හැකියාව කෞට්ස්කිට නැත.

''ආර්ථික විශ්ලේෂණයක'' මුවාවෙන් තමන්ගේ පැරණි ප්‍රතිෂ්ඨාවෙන් පසුබසින හා ''ඓතිහාසික භෞතිකවාදය'' ගැන සාඩම්බරයෙන් දෙඩන කෞට්ස්කි, දැන් කම්කරුවන් ධනපති පංතියට යටත් කිරීම ගැන කථා කරයි. ඒ අතරම ඔහු මෙන්ෂෙවික්වර මාස්ලව්ගෙන් උපුටා ගත් කියමන් පිටිවහල් කොට ගනිමින් මෙන්ෂෙවිකයන්ගේ පැරණි ලිබරල් අදහස් නැමති හපය වමාරා කයි. රුසියාවේ නොදියුණුකම පිළිබඳ අළුත් අදහස ඔප්පු කිරීමට එම උපුටාගත් කොටස් උපයෝගි කර ගනු ලැබේ. නමුත් නව අදහස අනුව එළඹෙන්නේ, ධනපති විප්ලවයකදී අයෙක් ධනපති පංතියට වඩා ඔබ්බට නොයා යුතුය යන පැරණි නිගමනය වෙතමය! එපමණක් නොව, එසේ කරන්නේ 1789–1793 ප්‍රංශයේ ධනපති විප්ලවය හා 1848 ජර්මනියේ ධනපති විප්ලවය සසඳමින් මාක්ස් සහ එංගල්ස් කියා ඇති සියල්ල නොසලකමිනි.[57]

කෞට්ස්කිගේ ''ආර්ථික විශ්ලේෂණයේ'' ප්‍රධාන ''සන්ධාරය'' ගැන සඳහන් කිරීමට පෙර, ඔහුගේ මුල් වාක්‍යවලින්ම පෙනීයන, කුහුල් වඩන තරම් ව්‍යාකූල සහ නොගැඹුරු චින්තනය ගැන සටහන් කර ගනිමු:

''රුසියාවේ ආර්ථික පදනම මේ දක්වාම නියෝජනය වන්නේ කෘෂිකර්මාන්තයෙන් සහ විශේෂයෙන්ම කුඩා ගොවිජන ගොවිතැනින්'' යයි ද ඔවුන් ජනගහණයෙන් $^4/_5$ ක් සමහරවිට $^3/_6$ ක් වේ යයිද අපගේ ''න්‍යායවාදියා'' ප්‍රකාශයට පත් කරයි (පිටුව 45). ප්‍රථමයෙන්ම, මෙම සුළු නිෂ්පාදකයන් රාශිය අතර සූරාකන්නන් කී දෙනෙක් සිටිත්දැයි ඔබ කල්පනා කර තිබේද? මගේ හිතවත් න්‍යායවාදියානෙනි. ඇත්තෙන්ම එය මුළු සංඛ්‍යාවෙන් සියයකට දහයකට වැඩිවිය නොහැකිය. නගරවල මහා පරිමාණ නිෂ්පාදනය වඩාත් ඉහළ මට්ටමකට වර්ධනය වී ඇති නිසා එහි මෙම ප්‍රමාණය තවත් අඩු ය. විශ්වාස නොකළ හැකි තරම් ඉහළ සංඛ්‍යාවක් නිදසුන් කොට ගනිමු: සුළු නිෂ්පාදකයන්ගෙන් පහෙන්



කොටසක් ඡන්ද බලය අහිමි වූ සූරා කන්නන් වෙතියි සිතමු. එය එසේ වුවත්, පස්වැනි සෝවියට් සභා සම්මේලනයේදී බොල්ෂෙවික්වරුන්ට තිබුණු ඡන්ද සියයට 66 ජනගහනයෙන් බහුතරයක් නියෝජනය කළ බව පෙනේ. සෝවියට් බලයට පක්ෂපාත සමාජවාදී-විප්ලවවාදීන් සැලකියයුතු කොටසක් නිතරම සිටි බව මෙයට එකතු කළ යුතු වේ. සමාජවාදී-ප්‍රජාතන්ත්‍රවාදීහු සියලු දෙනාම ප්‍රතිපත්තියක් වශයෙන් සෝවියට් බලයට පක්ෂ වූහ. ඔවුන්ගෙන් කොටසක් 1918 ජූලි මාසයේදී අතිධාවනකාරී කැරැල්ලක් ආරම්භ කළ විට, එම පැරණි පක්ෂයෙන් අළුත් පක්ෂ දෙකක් වන ''නරෝද්නික් කොමියුනිස්ට්වරු'' සහ වාම සමාජවාදී-විප්ලවවාදීන් බිඳී වෙන් වූහ[58] (පැරණි පක්ෂය ආණ්ඩුවේ වැදගත් තනතුරු සඳහා ඉදිරිපත් කරන ලද ප්‍රමුඛ සමාජවාදී-ප්‍රජාතන්ත්‍රවාදීන් අතුරෙන්, නිදසුනක් ලෙසට, සක්ස් මෙම ප්‍රථම පක්ෂයටද, කලෙගායෙව් දෙවැන්නටද අයත් වේ). එනිසා බොල්ෂෙවික්වරුන්ට ඇත්තේ ජනගහණයෙන් අල්පතරයක සහයෝගය පමණකැයි යන අන්ත බොරු ප්‍රබන්ධය කෞට්ස්කි අතින්ම, වැරදීමකින් නිෂ්ප්‍රභා වී තිබේ.

දෙවැනිව, මගේ හිතවත් න්‍යායවාදියාණනි, කුඩා ගොවි නිෂ්පාදකයා අනිවාරණීය වශයෙන්ම නිර්ධන පංතිය සහ ධනපති පංතිය අතර එහා මෙහා වැනෙමින් සිටින්නේය යන කරුණ ගැන ඔබ කල්පනා කර බලා තිබේද? නූතන යුරෝපා ඉතිහාසයෙන් සනාථ වී තිබෙන මෙම මාක්ස්වාදී සත්‍යය ඉතා පහසුවෙන් කෞට්ස්කිට ''අමතක'' විය! ඔහුට එය අමතක වූයේ, ඔහු නැවත නැවතත් ඉදිරිපත් කරන මෙන්ෂෙවික් ''න්‍යාය'' එම සත්‍යය හමුවේ බිඳ හැළෙන හෙයිනි. කෞට්ස්කිට මෙය ''අමතක'' නොවිණි නම්, කුඩා ගොවි නිෂ්පාදකයන් ඉතා වැඩි සංඛ්‍යාවක් සිටින රටක නිර්ධන පංති ආඥාදායකත්වයක් අවශ්‍ය බව ප්‍රතික්ෂේප කිරීමේ ඉඩක් ඔහුට නොතිබුණි.

අපි අපේ න්‍යායවාදියාගේ ''ආර්ථික විශ්ලේෂණයේ'' ප්‍රධාන සන්ධාරය පරීක්ෂාවට භාජනය කරමු.

සෝවියට් බලය ආඥාදායකත්වයකැයි යනු අවිවාදී කරුණකැයි කෞට්ස්කි කියයි. ''නමුත් එය නිර්ධන පංතියේ ආඥාදායකත්වයක්ද?', (පිටුව 34).

''සෝවියට් ව්‍යවස්ථාව අනුව, නීති සම්පාදනයට සහ පරිපාලනයට සහභාගිවීමේ අයිතිවාසිකම් ඇති පිරිසෙන් බහුතරය වන්නේ ගොවි ජනතාව ය. නිර්ධන පංති ආඥාදායකත්වය ලෙසට අපට ඉදිරිපත් කර තිබෙන දෙය — සසංගත ලෙස ක්‍රියාත්මක කෙරේ නම් සහ යථාර්ථ වශයෙන් පක්ෂයක් විසින් පමණක් ක්‍රියාත්මක කරනු ලැබිය හැකි එක පංතියක ආඥාදායකත්වය එම පංතිය විසින් සෘජු ලෙස ක්‍රියාත්මක කරනු ලැබේ නම් — ගොවි ජනතාවගේ ආඥාදායකත්වයක් වනු ඇත'' (පිටුව 35).

එතරම් ගම්භීර සහ හුරුබුහුටි තර්කයක් ඉදිරිපත් කිරීමෙන් අමන්ද-නන්දයට පත් අපේ කෞට්ස්කි, සිනා රසය ඉපදවීමේ වැයමක යෙදෙමින් මෙසේ කියයි: "එනිසා ඉතාමත් වේදනා රහිත ලෙස සමාජවාදය ඇති කිරීම වඩාත් හොඳින් සහතික වන්නේ, එය ගොවිජනතාවට භාරදීමෙන් බව පෙනෙනු ඇත" (පිටුව 35).

වැඩි ධාන්‍ය මිළ, නාගරික කම්කරුවන්ට අඩු වේතන, යනාදිය ගැන ගොවි ජනයා උනන්දුවක් දක්වතියි යන නව අදහස ඔප්පු කිරීමට අපගේ න්‍යායවාදියා ඉතාමත් විස්තරාත්මක ලෙස කරුණු දක්වමින් සහ අර්ධ ලිබරල්වාදී මාස්ලව්ගේ ඉතාමත් වියත් වදන් උපුටා දක්වමින් දරන්නේ මහත් වෙහෙසකි. යුද්ධයෙන් පසු කාල පරිච්ඡේදයට අදළ සැබැවින්ම අළුත් අංගලක්ෂණ ගැන, නිදසුනක් ලෙසට, ගොවිජනයා ඔවුන්ගේ ධාන්‍ය සඳහා මුදල් නොව භාණ්ඩ ඉල්ලීම සහ මුදල් කොතරම් දුන්නත් උවමනා තරම් ලබා ගැනීමට නැති ගොවි උපකරණ ලබා ගැනීමේ අපහසුව ගැන අපගේ කතුවරයා යොමු කරන අවධානය අඩු වූ තරමට, මෙම අළුත් අදහස් ඉදිරිපත් කිරීම වඩාත් වෙහෙසකාරී බව මෙහි ලා සඳහන් කරමු. නමුත් ඒ ගැන වැඩි විස්තර පසුවට තබමු.

ආඥාදායකත්වය, නැතහොත්, සමාජවාදය ඇති කිරීමේ කටයුතු, සුළු ධනපති ගොවිජනතාවට භාර දීම ගැන කෞට්ස්කි බොල්ෂෙවික්-වරුන්ට, නිර්ධන පංතියේ පක්ෂයට චෝදනා කරයි. කදිමයි, කෞට්ස්කි මහතාණෙනි! ඔබේ උගත් මතයේ හැටියට නිර්ධන පංති පක්ෂය සුළු ධනපති ගොවි ජනතාව කෙරෙහි දක්විය යුතුව තිබුණු ආකල්පය කුමක්ද?

අපගේ න්‍යායවාදියා මේ ගැන කිසිවක් නොකියා සිටීමට කැමති විය. ඔහු ඒ ගැන කිසිවක් නොකීවේ මෙම ආප්තෝපදේශය ගැන සිතේ ඇතිව විය හැකිය: "කථාව රිදී මෙනි. නිහඬව සිටීම රත්තරන් මෙනි." නමුත් පහත සඳහන් පරිදි තර්ක කිරීමෙන් ඔහු තම රහස හෙළිදරව් වීමට ඉඩ තබයි:

"සෝවියට් සමූහාණ්ඩුවේ ආරම්භයේදී ගොවි සෝවියට් සහා පොදුවශයෙන් ගොවිජනතාවගෙන් සැදුනු සංවිධාන විය. දැන් මෙම සමූහාණ්ඩුව ප්‍රකාශ කරන්නේ, සෝවියට් සභා නිර්ධන පංතිකයන්ගේ සහ දුප්පත් ගොවීන්ගේ සංවිධාන වන බවයි. සෝවියට් සභාවලට තෝරාපත් කිරීම්වලදී පොහොසත් ගොවීන්ට ඡන්ද බලය අහිමි කරනු ලැබේ. දුප්පත් ගොවියා යනු 'නිර්ධන පංති ආඥාදායකත්වය' යටතේ කෙරෙන සමාජවාදී ගොවිජන ප්‍රතිසංස්කරණයේ ස්ථාවර සහ බහුල නිෂ්පාදිතයක් බව මෙයින් පිළිගනු ලැබේ" (පිටුව 48).

මොන තරම් දරුණු උපහාසයක්ද! එය රුසියාවේ ඕනෑම ධනපති-යෙකුගෙන් ඇසිය හැකි වර්ගයේ උපහාසයකි: සෝවියට් සමූහාණ්ඩුව විසින් දුප්පත් ගොවි ජනතාවගේ පැවැත්ම විවෘත ලෙස පිළිගැනීම ගැන ඔවුහු උසුළු විසුළු කරති, උපාරුව පළ කරති. ඔවුහු සමාජවාදයට සමච්චල් කරති. එය ඔවුන්ගේ අයිතිවාසිකම ය. නමුත්, ඉතාමත් ව්‍යසනදායක යුද්ධයක් කෙරුණු හතර අවුරුද්දකින් පසුව රුසියාවේ දුප්පත් ගොවීන් සිටීම (ඔවුන් තවත් බොහෝ කලක් ගත වන තෙක් සිටිනු ඇත) ගැන උසුළු විසුළු කරන "සමාජවාදියෙක්" ජාතක විය හැකි වූයේ ද්‍රෝහිකම රජකළ කාලයේදී පමණකි.

ඔහු තවදුරටත් මෙසේ කියයි:

"...සෝවියට් සමූහාණ්ඩුව පොහොසත් හා දුප්පත් ගොවීන් අතර සම්බන්ධයට ඇඟිලි ගසයි, එහෙත් ඒ ඉඩම් නැවත බෙදීම මගින් නොවේ. නගරවල පාන් හිඟය ලිහිල් කරනු පිණිස, පොහොසත් ගොවියාගේ අතිරික්ත ධාන්‍ය තොග අත්පත් කර ගැනීමට ආයුධ සන්නද්ධ කම්කරු කණ්ඩායම් ගම්බද පෙදෙස් වලට යවනු ලැබේ. එම තොගවලින් කොටසක් නාගරික ජනගහනයටත් අනිත් කොටස දුප්පත් ගොවියන්ටත් දෙනු ලැබේ" (පිටුව 48).

එබඳු පියවරක් විශාල නගරවල වටපිටාවෙන් ඔබ්බට ව්‍යාප්ත කර තිබීම ගැන (අපි එය මුළු රටෙහිම ක්‍රියාත්මක කර ඇත්තෙමු) කෞට්ස්කි, ඒ සමාජවාදියා හා මාක්ස්වාදියා, බලවත් සේ උරණ වී සිටින බව සැබවි. අමනයෙකුට සුදුසු අසමසම, අනුපමේය සහ පුදුමාකාර සන්සුන් කමකින් (නැතහොත් ඔළමොට්ටල කමකින්) කෞට්ස්කි මෙසේ දේශනා කරයි... "නිෂ්පාදනය ප්‍රකෘතිමත් වීම සඳහා ඊට සාමය හා සුරක්ෂිතතාවය හදිසි අවශ්‍යතාවයක් වී තිබෙන අතර, එය (පොහොසත් ගොවීන් අසන්තක කිරීම) නිෂ්පාදන ක්‍රියාදමයට නව නොසන්සුන් කම් හා සිවිල් යුද්ධ ස්වභාවයක් ඇතුල් කරයි" (පිටුව 49). (නිෂ්පාදන ක්‍රියාදමයට සිවිල් යුද්ධය ඇතුල් කිරීම — එය නම් අද්භූත දෙයකි!)

ඇත්ත තමයි. ස්වකීය අතිරික්ත ධාන්‍ය තොග සඟවා තබන, ධාන්‍ය ඒකාධිකාර නීතිය කඩාකප්පල් කරන සහ නාගරික ජනගහනය සාගතයට පත් කරන සූරාකන්නන්ට හා ධාන්‍යවලින් ලාභ ගරන්නන්ට සාමය හා සුරක්ෂිතතාවය පිළිබඳ මාතෘකාව ගැන ඒ මාක්ස්වාදියා සහ සමාජවා-දියා වන කෞට්ස්කි සුසුම් ලෑ යුතු බව සහ කඳුළු සැලිය යුතු බව සැබෑය. "අපි සියලු දෙනාම සමාජවාදීන්, මාක්ස්වාදීන් සහ ජාත්‍යන්තරවාදීන් වෙමු" යි කෞට්ස්කිලා, හෙන්රිහ් වෙබර්ලා (වියනා), ලොංගේලා (පැරිස්), මැක්ඩොනල්ඩ්ලා (ලන්ඩන්) යනාදීහු එක්වර ගායනා කරති. "අපි සියලු දෙනාම කම්කරු පංති විප්ලවයකට පක්ෂ වෙමු. නමුත්... අප කැමති වන්නේ, ධාන්‍යවලින් ලාභ ගරන්නන්ගේ සාමය හා සුරක්ෂිතතාවය උල්ලංඝනය නොකරන විප්ලවයකටය! තවද, අපි ධනපති

පංතියට මෙසේ හීන දීන වීම, 'නිෂ්පාදන ක්‍රියාදමය' ගැන කරන 'මාක්ස්වාදීන්ගේ' සඳහනකින් මුවා කරන්නෙමු.'' මෙය මාක්ස්වාදය නම්, ධනපති පංතියට දසකම් කිරීම යනු කුමක්ද?

අපගේ න්‍යායවාදියා එළඹෙන්නේ කොතැනටදැයි බලන්න. ගොවිජනයාගේ ආඥාදයකත්වය නිර්ධන පංතියේ ආඥාදයකත්වය ලෙස ඉදිරිපත් කිරීම ගැන ඔහු බොල්ෂෙවික්වාදීන්ට චෝදනා කරයි. නමුත් ඒ අතරම, ගම්බද දිස්ත්‍රික්කවලට සිවිල් යුද්ධය ඇතුල් කිරීම ගැන (එය අපේ ගෞරවයට හේතුවෙතැයි අපි සිතමු), එසේම, තමන් ''නිර්ධන පංතියේ සහ දුප්පත් ගොවි ජනතාවගේ ආඥාදයකත්වය'' ක්‍රියාත්මක කරන බව ප්‍රසිද්ධියේ ප්‍රකාශ කරන්නා වූද, එම ගොවිජනතාවට ආධාර කරන්නාවූද, ලාභ ගරන්නන් ධාන්‍ය ඒකාධිකාර නීතිය උල්ලංඝනය කරමින් සඟවා තබන අතිරික්ත ධාන්‍ය තොග ඔවුන්ගෙන් ගෙන රාජ්‍ය සන්තක කරන්නාවූද, ආයුධ සන්නද්ධ කම්කරු කණ්ඩායම් ගම්බද පෙදෙස්වලට යැවීම ගැන ඔහු අපට චෝදනා කරයි.

එක් අතකින් අපගේ න්‍යායවාදියා, පිරිසිදු ප්‍රජාතන්ත්‍රයට පක්ෂ, එසේම වැඩ කරන සහ සූරාකනු ලබන ජනතාවගේ නායකයා වන විප්ලවවාදී පංතිය ජනගහනයෙන් බහුතරයට (එනිසා, ඊට ඇතුළු සූරාකන්නන්ටද) යටත් කිරීමට පක්ෂ ස්ථාවරයක් ගනියි. අනිත් අතට, අපට විරුද්ධව ඉදිරිපත් කරන තර්කයක් වශයෙන් ඔහු කියන්නේ විප්ලවය කෙරෙහි ධනපති අංගලක්ෂණ අනිවාරණීය ලෙසටම තිබිය යුතු බවය. මෙහි ධනපති යන්න යෙදෙන්නේ සමස්තයක් වශයෙන් ගොවි ජනතාව ධනපති සමාජ සම්බන්ධකම් මත පිහිටා ඇති හෙයිනි. ඒ අතරම ඔහු නිර්ධන පංතියේ පංතිමය, මාක්ස්වාදී දෘෂ්ටි කෝණයට පක්ෂ බවක් පෙන්වයි!

''ආර්ථික විශ්ලේෂණයක්'' වෙනුවට මෙහි ඇත්තේ මුල් පෙළේ අවුල් ජාලයකි. මාක්ස්වාදය වෙනුවට මෙහි ඇත්තේ, ලිබරල් උගැන්වීම්වලින් අවුලා ගත් කැබලි සහ ධනපතියන්ට හා කුලාකයන්ට දසභාවය දේශනා කිරීමකි.

කෞට්ස්කි මෙතරම් තදින් පැටලී සිටින ප්‍රශ්නය, බොල්ෂෙවික්වරුන් විසින් 1905 තරම් ඈත කාලයකදී පැහැදිලි කරන ලද්දකි. ඔව්, අප සමස්තයක් වශයෙන් මුළු ගොවි ජනතාවම සමග ගමන් ගන්නා තෙක් අපගේ විප්ලවය ධනපති විප්ලවයක් වන්නේය. මෙය අපට ඉතාමත් නිරවුල් සේ පැහැදිලි වී ඇත. 1905 පටන් සිය දහස් ගණන් වාරවලදී අපි මෙය කියා ඇත්තෙමු. ඓතිහාසික ක්‍රියාදමයේ මෙම අවශ්‍යයෙන්ම තිබිය යුතු අවධියට උඩින් පැන යාමට හෝ එය ආඥාවන් මගින් අවලංගු කිරීමට හෝ අපි කිසි කලෙකත් ප්‍රයත්න නොදැරුවෙමු. මෙම කරුණ



මුල් කරගෙන අප ''හෙළිදරව් කිරීමට'' කෞට්ස්කි දරන පරිශ්‍රමයෙන් සිදු වන්නේ ඔහුගේම සිතෙහි ඇති වියවුල සහ ඔහු ද්‍රෝහියෙක් වීමට පෙර 1905 දී ලියූ දේ ගැන මතක් කිරීමට ඇති ඔහුගේ බිය හෙළිදරව් වීම පමණකි.

කෙසේ හෝ වේවා, 1917 අප්‍රියෙල් මාසයේදී, ඔක්තෝබර් විප්ලවයට බොහෝ පෙර, අප බලයට පත් වීමට බොහෝ ඉහතදී අපි ප්‍රසිද්ධ ලෙස මෙසේ ප්‍රකාශ කළෙමු. ජනතාවට මෙසේ පැහැදිලි කර දුන්නෙමු: රට ඉදිරියට ගමන් කර තිබෙන නිසා, ධනපති ක්‍රමය දියුණු වී තිබෙන නිසා, ව්‍යසනය අති දැවැන්ත පරිමාණයක් ගෙන තිබෙන නිසා, ඒ අනුව (කෙනෙක් කැමති වුවත්, නැතත්) සමාජවාදය වෙත යන පියවරයන් ගන්නා සේ බල කෙරෙන නිසා, විප්ලවයට මෙම අවධියෙන් ඔබ්බට නොයා නැවතිය හැකි නොවේ. එයට හේතුව, යුද්ධයෙන් හෙම්බත් වුනු රට ඉදිරියට ගෙන යාමේ, එය මුදා ගැනීමේ සහ වැඩ කරන හා සූරා කනු ලබන ජනතාවගේ දුක් වේදනා අඩු කිරීමේ වෙනත් මගක් නොතිබීමය.

කාරණා සිදු වූයේ හරියටම අප කී ආකාරයටමය. විප්ලවය ගමන් ගත් මාර්ගය අනුව, අප තර්ක කළ ආකාරය නිවැරදි බව සනාථ විය. ප්‍රථමයෙන් ''මුළු'' ගොවි ජනතාවත් සමග රාජාණ්ඩුවට විරුද්ධව, ඉඩම් හිමියන්ට විරුද්ධව සහ මධ්‍යතනවාදයට විරුද්ධවය (ඒ තාක් දුරට විප්ලවය ධනපති, නැතහොත්, ධනපති ප්‍රජාතන්ත්‍රවාදී වන්නේය). ඊළඟට, දුප්පත් ගොවි ජනතාව සමග, අර්ධ නිර්ධනයන් සමග, සූරා කනු ලබන සියලු දෙනාම සමග, ගම්බද පොහොසතුන්, කුලාකයන්, ලාභ ගරන්නන් ඇතුළු ධනපති ක්‍රමයට විරුද්ධවය. ඒතාක් දුරට විප්ලවය සමාජවාදී විප්ලවයක් වන්නේය. මෙහි පළමුවැන්න හා දෙවැන්න අතර කෘතිම චීන මහා ප්‍රාකාරයක් ඉදිකිරීමටද, නිර්ධන පංතියේ සූදනාමේ මට්ටම සහ දුප්පත් ගොවිජනතාව සමග ඇති එහි සමගියේ මට්ටම හැර වෙනත් මොනයම් හෝ දෙයකින් ඒවා වෙන් කර තැබීමටද ප්‍රයත්න දැරීම මාක්ස්වාදය භයානක ලෙස විකෘති කිරීමකි. එය පිරිහෙළීමකි. එය වෙනුවට ලිබරල්වාදය ආදේශ කිරීමකි. එහි අර්ථය වූකලී, මධ්‍යතනවාදය සමග සසඳන කල ධනපති පංතියේ ප්‍රගතිශීලී ස්වභාවය ගැන අර්ධ විද්‍යාත්මක ලෙස සඳහන් කිරීම මගින්, නිර්ධන පංතියට විරුද්ධව, ප්‍රතිගාමී ලෙස ධනපති පංතිය ආරක්ෂා කිරීම හොර රහසින් වැද්ද ගැනීමක් වේ.

කම්කරු හා ගොවි පොදු ජනතාව එක්සත් කිරීම හා දේශපාලන ජීවිතයට අද්දා ගැනීම තුළින් සෝවියට් සභා ''ජනතාවට'' ඉතාමත් සමීපව තිබෙන (මාක්ස් 1871 දී නියම ජනතා විප්ලවයක් ගැන කථා කළ අර්ථයෙන්)[59] ජනතාවගේ දේශපාලන වැඩීම හා සංවර්ධනයත්, ඔවුන්ගේ

පංතිමය මුහුකුරා ගිය ස්වභාවයත් පෙන්නුම් කරන, ඉතාමත් සංවේදී වායුපීඩනමානය ලෙස ක්‍රියාත්මක වන නිසා, ඒවා අතිශයින්ම උසස් ආකෘතියක සහ වර්ගයක ප්‍රජාතන්ත්‍රයක් නියෝජනය කරන බව මෙහිලා සඳහන් කරමු. සෝවියට් ව්‍යවස්ථාව කිසියම් ''සැලැස්මක්'' අනුව සකස් කරන ලද්දේ නොවේ. එය පොත් කාමරයක් තුළ සකස් කරන ලද්දේ නොවේ. එය ධනපති නීතිඥයන් විසින් වැඩකරන ජනතාව මත පටවන ලද්දක් නොවේ. නැත. මෙම ව්‍යවස්ථාව, පංති අරගලයේ සංවර්ධනයත් සමග, පංති විරෝධතාවයන් මෝරා ගිය අනුපාතය අනුව, වැඩී ගිය එකකි. කෞට්ස්කිට පිළිගැනීමට සිදුවී තිබෙන කරුණුවලින්ම මෙය ඔප්පු වේ.

මුලදී, සෝවියට් සභා මුළු ගොවි ජනතාවම සමස්තයක් ලෙසට වැළඳගත්තේ විය. ඒවායේ නායකත්වය කුලාකයන්, පොහොසතුන්, ධනපතියන් සහ සුළු ධනපති බුද්ධිමතුන් අතට පත් වූයේ, දුප්පත් ගොවිජනතාවගේ නොමේරූ ස්වභාවය, නොදියුණුකම හා නොදැනුවත්කම නිසාය. එය සුළු ධනපතියන්, මෙන්ෂෙවික්වරුන් සහ සමාජවාදී-විප්ලවවාදීන් ප්‍රබලව සිටි කාලය විය (මේ දෙපිරිසෙන් එකක් හෝ සමාජවාදීන් ලෙස සලකනු හැක්කේ මෝඩයින්ට, නැතහොත්, කෞට්ස්කි වැනි ද්‍රෝහීන්ට පමණකි). සුළු ධනපති පංතිය අනිවාර්යණීය වශයෙන්ම හා නොවැලැක්විය හැකි ලෙසටම ධනපති පංතියේ ආඥාදායකත්වයත් (කෙරෙන්ස්කි, කර්නිලව්, සවින්කොව්) සහ නිර්ධන පංති ආඥාදායකත්වයත් අතර එහා මෙහා වැනුනෝය. එසේ වූයේ සුළු ධනපති පංතියේ ආර්ථික තත්වයේ මූලික අංග ලක්ෂණයන් හේතු කොට ගෙන, එය කිසිවක් ස්වාධීන ලෙස කිරීමෙහි අපොහොසත් වන බැවිනි. රුසියානු විප්ලවය ගැන විග්‍රහයක යෙදෙන කෞට්ස්කි, ධනපති පංතියේ ආධිපත්‍යය වසං කිරීමට හා ජනතාව රැවටීමේ මාර්ගයක් ලෙසට ධනපතියන්ට ප්‍රයෝජනවත්වන ''ප්‍රජාතන්ත්‍රවාදය'' ගැන වූ නීතිමය හා විධිමාත්‍ර සංකල්පයට පමණක් ඔහුගේ එම විග්‍රහය සීමා කිරීමෙන්ද, එමෙන්ම, ''ප්‍රජාතන්ත්‍රවාදය'' යන්නෙන් භාවිතයේදී සමහරවිට අදහස් කෙරෙන්නේ ධනපති පංතියේ ආඥාදායකත්වයත්, සමහර විට එම ආඥාදායකත්වයට යටත් වන සුළු ධනපති පංතියේ බෙලහීන ප්‍රතිසංස්කරණවාදයත්, යනාදිය බව අමතක කිරීමෙන්ද, මාක්ස්වාදය සම්පූර්ණයෙන්ම අත්හැර දමන බව මෙහිදී සඳහන් කළ යුතුය. කෞට්ස්කි කියන ලෙසට, ධනපති රටක ධනපති පක්ෂ තිබුණේය. බහුතරයට, නැතහොත්, නිර්ධන පංති පොදු ජනකායට නායකත්වය දුන් නිර්ධන පංති පක්ෂයක් (බොල්ෂෙවික්වරු) තිබුණේය. නමුත් සුළු ධනපති පක්ෂ තිබුණේ නැත! මෙන්ෂෙවික්වරුන්ට





සහ සමාජවාදී-විප්ලවවාදීන්ට පංතිමය මුල් තිබුණේ නැත — සුළු ධනපති මුල් තිබුණේ නැත!

සුළු ධනපති පංතියේ, මෙන්ෂෙවික්වරුන්ගේ සහ සමාජවාදී-විප්ලවවාදීන්ගේ වැනෙනසුලු භාවය, ජනතාවට කරුණු අවබෝධ වීමටත්, ඔවුන්ගෙන් අති බහුතරය, ඔවුන්ගේ සියලුම ''පහළ කොටස්'' එනම්, නිර්ධන පංතිකයන් සහ අර්ධ නිර්ධන පංතිකයන් සියලු දෙනාම එවැනි නායකයන් කෙරෙන් විකර්ෂණය වීමටත් ආධාරකයක් විය. බොල්ෂෙවික්වරු (1917 ඔක්තෝබර්හිදී පෙට්‍රොග්‍රෑඩ් සහ මොස්කව්) සෝවියට් සභා තුළ වැඩි බලයක් දිනා ගත්හ. සමාජවාදී-විප්ලවවාදීන් සහ මෙන්ෂෙවික්වරුන් අතර භේදය වඩාත් ප්‍රකට ලෙස පෙනෙන්නට විය.

විජයග්‍රාහී බොල්ෂෙවික් විප්ලවයෙන් වැනෙනසුලුභාවය කෙළවර විනි. එයින් රාජාණ්ඩුව සහ ඉඩම්හිමි ක්‍රමය (එය ඔක්තෝබර් විප්ලවයට පෙර විනාශ කර තිබුණේ නැත) සම්පූර්ණයෙන්ම විනාශ කෙරිනි. අපි ධනපති විප්ලවය එහි අවසානය දක්වා ගෙන ගියෙමු. ගොවිජනතාව සමස්තයක් වශයෙන් අපට ආධාර කළහ. සමාජවාදී නිර්ධන පංතිය කෙරෙහි වූ ඔවුන්ගේ විරෝධය එක්වරම ප්‍රකට වීමේ හැකියාවක් නොවීය. සෝවියට් සභා විසින් ගොවිජනතාව පොදු වශයෙන් එක්සත් කරන ලදී. ගොවි ජනතාව අතර පංති බෙදීම් තවත් මෝරා නොතිබිණ. තවමත් එළිමහණට පැමිණ නොතිබිණ.

එම ක්‍රියාදමය 1918 ශරත් සමයේදී ක්‍රියාත්මක විය. චෙක් ප්‍රතිවිප්ලවවාදී කැරැල්ල නිසා කුලාකයෝ ප්‍රබෝධමත් වූහ. කුලාක කැරළි මාලාවක් රුසියාව මුළුල්ලේම පැතිර ගියේය. දුප්පත් ගොවිජනතාවගේ උවමනාවන්, කුලාකයන්ගේ, පොහොසතුන්ගේ සහ ගම්බද ධනපතියන්ගේ උවමනාවන්ට හාත්පසින්ම විරුද්ධ බව දුප්පත් ගොවියෝ පොත්වලින් නොව ජීවිතයෙන්ම උගෙන ගත්හ. අන් සෑම සුළු ධනපති පක්ෂයක්ම මෙන්, ජනතාවගේ වැනෙනසුලුභාවය පිළිබිඹු කළ ''වාම සමාජවාදී-විප්ලවවාදීහු'' 1918 දී භේද වූහ: ඔවුන්ගෙන් එක් කොටසක් චෙක්වරුන් සමග එකතු විය (මොස්කව් කැරැල්ල — මෙහිදී එක පැයකට තැපැල් කාර්යාලය අල්වා ගත් ප්‍රොස්යාන්, බොල්ෂෙවික්වරු බලයෙන් පහ කරන ලදැයි රුසියාවට ප්‍රකාශ කළේය! ඊළඟට, චෙක්වරුන්ට විරුද්ධව සටන් කරමින් සිටි හමුදාවේ ප්‍රධාන අණ දෙන සේනාපති මුරාව්යොව්ගේ ද්‍රෝහිකම, යනාදි ය). ඒ අතර අනිත්, ඉහත සඳහන් කොටස බොල්ෂෙවික්වරු සමග එක්ව සිටියේය.

නගරවල වැඩිවෙමින් පැවති ආහාර හිඟය නිසා, ධාන්‍ය ඒකාධිකාරය පිළිබඳ ප්‍රශ්නයේ වැදගත්කම තියුණු විය (ස්වකීය විශ්ලේෂණය කිරීමේදී න්‍යායවාදී කෞට්ස්කිට මෙය සම්පූර්ණයෙන්ම අමතක විය. ඔහුගේ

විශ්ලේෂණය හුදෙක්ම අවුරුදු දහයකට පෙර මාස්ලව්ගේ ලියවිලිවලින් කුරුටුගා ගත් වැරහැලි වූ කියමන්වල ප්‍රතිරාවයක් පමණකි!).

පැරණි ඉඩම් හිමි හා ධනපති රාජ්‍යය සහ ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුව පවා ගම්බද දිස්ත්‍රික්කවලට ආයුධ සන්නද්ධ කණ්ඩායම් යවා ඇත. එම කණ්ඩායම් සාමාන්‍ය වශයෙන්ම ධනපතියන්ගේ කැමැත්ත ඉටු කළහ. කෞට්ස්කි මේ ගැන දන්නේ නැත! ඔහු එය "ධනපති පංතියේ ආඥාදායකත්වය" සේ සලකන්නේ නැත. දෙවියෝ රකිත්වා! එය පිරිසිදු ප්‍රජාතන්ත්‍රවාදයයි. එය ධනපති පාර්ලිමේන්තුවකින් අනුමත කර තිබේ නම්, විශේෂයෙන්ම එසේ වේ! 1917 ග්‍රීෂ්ම කාලයේදී සහ ශරත් කාලයේදී කෙරෙන්ස්කිලා, ට්සෙරතේලිලා සහ අනිකුත් සමාජවාදී-විප්ලවවාදීන්ද, මෙන්ෂෙවික්වරුන්ද සමග එකතු වූ අවුක්සෙන්තියෙව් සහ මාස්ලව් ඉඩම් කාරක සභාවල සාමාජිකයින් අත් අඩංගුවට ගත් බව කෞට්ස්කි "අසා" නැත. ඔහු ඒ ගැන වචනයක්වත් නොකියයි!

මෙහි ඇති වැදගත් කාරණය නම්, ධනපති පංති ආඥාදායකත්වය ක්‍රියාත්මක කරන ධනපති රාජ්‍යය සේවය කරන්නේ ධනපතියන්ට බව කීමේ හැකියාව එම රාජ්‍යයට නොමැති වීමය. ඇත්ත පැවසීමේ හැකියාවක් එයට නැත. එනිසා වංචාකාරී ලෙස කටයුතු කිරීමට එයට සිදුවේ.

නමුත් පැරිස් කොමියුනය වර්ගයේ රාජ්‍යය, සෝවියට් රාජ්‍යය, විවෘත ලෙස හා අවංක ලෙස ජනතාවට සත්‍ය ප්‍රකාශ කරයි. එය නිර්ධන පංතියේ සහ දුප්පත් ගොවි ජනයාගේ රාජ්‍යයක් වන බව එය ප්‍රකාශ කරයි. මෙම සත්‍යය ප්‍රකාශ කිරීමෙන් එය කෝටි ගණන් අළුත් පුරවැසියන් තමන් පැත්තට දිනා ගනියි.ඔවුහු සෑම ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුවකම යට වී සිටින එහෙත්, සෝවියට් සභා විසින් දේශපාලන ජීවිතයට, ප්‍රජාතන්ත්‍රවාදයට සහ රාජ්‍ය පරිපාලනයට අද්ද ගනු ලබන පුරවැසියන් වෙති. සෝවියට් සමූහාණ්ඩුව ගම්බද දිස්ත්‍රික්කවලට ආයුධ සන්නද්ධ කම්කරු කණ්ඩායම් යවයි. මූලික වශයෙන්ම එසේ යවන්නේ ප්‍රධාන නගරවලින් තෝරාගත් වඩාත් දියුණු කම්කරුවන් ය. මෙම කම්කරුවෝ ගම්බද පෙදෙස්වලට සමාජවාදය ගෙන යති. දුප්පතුන් තමන් පැත්තට දිනා ගෙන ඔවුන් සංවිධානය කර ඔවුන්ට කරුණු අවබෝධ කර දෙති. ධනපතියන්ගේ ප්‍රතිරෝධය මර්දනය කිරීමට ඔවුන්ට ආධාර දෙති.

ගම්බද දිස්ත්‍රික්ක, ඒවායේ "ඔක්තෝබර්" (නිර්ධන පංති) විප්ලවය පසු කරමින් සිටින්නේ මේ දැන් බව, 1918 ග්‍රීෂ්ම සහ ශරත් සෘතු වලදී පමණක් බව තත්වය ගැන දන්නා සහ එම දිස්ත්‍රික්කවලට ගොස් ඇති අය කියති. තත්වය වෙනස් වීමට පටන් ගෙන තිබේ. කුලාක කැරළි මාලාව, දුප්පතුන්ගේ නැගී සිටීම, "දුප්පතුන්ගේ ගොවිජන කාරක සභා"[60] ඇතිවීම හමුවේ පසු බසිමින් පවතී. යුද්ධ සේනාවල හා හමුදාවල කොමිසාර්, නිලධාරී සහ සේනාධිපති තනතුරුවලට පත්වන කම්කරුවන්ගේ සංඛ්‍යාව වැඩිවන්නේය. ජූලි (1918) අර්බුදයෙන්[61] සහ ධනපතියන්ගේ අඳෝනා නිසා බියපත් නිවට සිතක් ඇති කෞට්ස්කි "කුකුල් පැටවෙකු" මෙන් ඔවුන් පසු පස දිවෙමින්, ගොවිජනතාව විසින් බොල්ෂෙවික්වරුන් බලයෙන් පහ කරනු ලැබීමේ අවස්ථාව ළඟ එතැයි කියන විශ්වාසය මොළවමින් මුළු පොතක් ලියමින් සිටිද්දීම, වාම සමාජවාදී-විප්ලවවාදීන් වෙන් වී ඉවත් වීමෙන් බොල්ෂෙවික්වරුන්ට සහයෝගය දෙන පිරිස "පටුවීමක්" (පිටු 37) සිදු වී යයි මෙම නිවටයා සිතද්දීම, ඉඳුරාම එම වකවානුවේම, බොල්ෂෙවික්වරුන්ට සහයෝගය දෙන නියම පිරිස දැවැන්ත පරිමාණයෙන් පුළුල් වෙමින් පැවතියේය. එසේ වූයේ, කෝටි ගණන් ගම්බද දුප්පතුන්, කුලාකයන්ගේ සහ ගම්බද ධනපතියන්ගේ වසඟයෙන් මිදී නිදහස් වෙමින් හා ස්වාධීන දේශපාලන ජීවිතයට පිබිදී එමින් සිටි හෙයිනි.

ගොවි ජනතාව අතරින් අපට සිය ගණන් සමාජවාදී-විප්ලවවාදීන්, කොන්ද පණ නැති මුද්ධිමතුන් සහ කුලාකයන් නැතිව ගියේය. නමුත් අපි දශලක්ෂ සංඛ්‍යාත දුප්පත් ජනතාව දිනා ගත්තෙමු.*

ප්‍රධාන නගරවල නිර්ධන පංති විප්ලවය ඇතිවීමෙන් වර්ෂයකට පසුව, එහි බලපෑම යටතේ සහ එහි ආධාර ඇතිව, දුර බැහැර ගම්බද දිස්ත්‍රික්කවල නිර්ධන පංති විප්ලවය ආරම්භ විය. එසේම එය තීන්දු වශයෙන් සෝවියට් සභාවල සහ බොල්ෂෙවික්වාදයේ බලය තහවුරු කර ඇති බවද, එයට විරුද්ධව නැඟී සිටිය හැකි බලවේගයක් රට තුළ නොමැති බවද එම විප්ලවයෙන් නිශ්චිතව ඔප්පු විය.

සමස්තයක් වශයෙන් මුළු ගොවි ජනතාවම සමග සන්ධානයකට පත් වෙමින් ධනපති ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය සම්පූර්ණ කළ රුසියානු නිර්ධන පංතිය, ගම්බද ජනගහණය බෙදලීමට, නිර්ධන පංතිකයන් සහ අර්ධ නිර්ධන පංතිකයන් තමන් පැත්තට දිනා ගැනීමට සහ ඔවුන් කුලාකයන්ට හා ගොවි ධනපතියන් ඇතුළු ධනපති පංතියට විරුද්ධව එක්සත් කර ගැනීමට සමත් වූ කල, අවසාන වශයෙන් සමාජවාදී විප්ලවයට පා තැබුවේය.

නමුත්, ප්‍රධාන නගරවල හා විශාල කාර්මික මධ්‍යස්ථානවල බො-

---

* හයවැනි සෝවියට් සභා සම්මේලනයේ (1918 නොවැම්බර් 6–9) ඡන්දය ඇති නියෝජිතයන් 967 දෙනෙක් වූ අතර ඉන් 950 දෙනෙක් බොල්ෂෙවික්වරු වූහ. එහි ඡන්දය නොමැති, කථා කිරීමට බලය ඇති නියෝජිතයන් 351 ක් වූ අතර ඉන් 335 ක් බොල්ෂෙවික්වරු වූහ. මේ අනුව මුළු නියෝජිත සංඛ්‍යාවෙන් සියයට අනූ හතක් බොල්ෂෙවික්වරු වූහ.

ල්ෂෙවික් කම්කරුවෝ, පොහොසත් ගොවීන්ට විරුද්ධව ගම්බද දුප්පතුන් තමන් වටා එක්රොක් කර ගැනීමට අසමත් වූහු නම්, ඇත්ත වශයෙන්ම රුසියාව සමාජවාදී විප්ලවයට සුදුසු වන සේ "මුහුකුරා ගොස් නැති" බව එයින් ඔප්පු වන්නට තිබිණි. එසේ වී නම්, ගොවි ජනතාව "අනුපූර්ණ සමස්තයක්" සේ සිටිනු ඇත. නැතහොත්, ගොවිජනතාව කුලාකයන්ගේ, පොහොසතුන්ගේ සහ ධනපතියන්ගේ ආර්ථික, දේශපාලනමය සහ සදචාරමය නායකත්වය යටතේ සිටිනු ඇත. එවිට විප්ලවය ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයේ සීමාවෙන් ඔබ්බට නොයන්නට තිබිණි. (නමුත්, එය එසේ වූවත්, ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය එහි පරිපූර්ණත්වය දක්වා ගෙන ගියේ ඇත්ත වශයෙන්ම නිර්ධන පංතිය පමණක් වූ නිසා, ලෝක නිර්ධන පංති විප්ලවය වඩාත් ළඟා කිරීම සඳහා කිසියම් මෙහෙයක් කළේ නිර්ධන පංතිය පමණක් වූ නිසා සහ පැරිස් කොමියුනයෙන් පසුව සමාජවාදී රාජ්‍යයක් කරා යන දෙවැනි පියවර වූ සෝවියට් රාජ්‍යය නිර්මාණය කළේ නිර්ධන පංතිය පමණක් වූ නිසා, නිර්ධන පංතිය බලය නොගත යුතුව තිබිණැයි යන්න මෙයින් ඔප්පු නොවන බව අමතර වශයෙන් කිව යුතු ය).

නමුත්, අනිත් අතට, ගම්බද දිස්ත්‍රික්කවල පංති බෙදී වෙන්වීම සිදුවන තෙක් නොසිට, එම බෙදීම සූදානම් කිරීමේ හා ක්‍රියාත්මක වන බවට වගබලා ගැනීමේ හැකියාවක් නොමැතිව සිට, 1917 ඔක්තෝබර්-නොවැම්බර් කාලයේදීම ගම්බද දිස්ත්‍රික්කවල සිවිල් යුද්ධයක්, නැතහොත්, "සමාජවාදය ආරම්භ කිරීමක්" ප්‍රකාශයට පත් කරමින් "ආඥවක්" නිකුත් කිරීමට උත්සාහ කළේ නම්, පොදු වශයෙන් ගොවිජනතාව සමග තාවකාලික පෙරමුණක් ඇතිකර නොගෙන, මධ්‍යම ගොවීන්ට සහනයන් ගණනාවක් දීම නොකර එවැනි වෙනත් පියවරයන් නොගෙන, කටයුතු කිරීමට උත්සාහ කළේ නම්, එය මාක්ස්වාදය බ්ලාන්ක්වාදී[62] ශෛලියෙන් විකෘති කිරීමක්ද, අල්පතරයක් තමන්ගේ කැමැත්ත බහුතරය මත බලෙන් පැටවීමට දරන ප්‍රයත්නයක්ද, වන්නට තිබිණි. එසේ කිරීම යනු, සාමාන්‍ය ගොවි විප්ලවයක් තවදුරටත් ධනපති විප්ලවයක්ම වන බව සහ පරිවර්තන සහ පරිවර්තනීය අවධි මාලාවක් පසු නොකර නොදියුණු රටක එය සමාජවාදී විප්ලවය බවට හැරවිය නොහැකි බව වටහා ගැනීමේ නොහැකියාව පෙන්වන න්‍යායික අඥාන කමක් වන්නට තිබුණි.

කෞට්ස්කි, මෙම ඉතාමත් වැදගත් න්‍යායික සහ දේශපාලන ප්‍රශ්නය හා සම්බන්ධ සියල්ලක්ම ව්‍යාකූල කර ඇත. එබැවින්, ඔහු නිර්ධන පංති ආඥදායකත්වයට විරුද්ධව කෑගසමින් ධනපති පංතියට සේවය කරන්නෙක් මිස අන් කවරෙක් හෝ නොවන බව ව්‍යවහාරයෙන් පෙනී ගොස් තිබේ.



* * *

ඊට වඩා, නැතහොත්, එතරම්ම ඉතාමත් වැදගත් හා උනන්දුවක් ගෙන දෙන ප්‍රශ්නයක් සම්බන්ධයෙන්ද කෞට්ස්කි ව්‍යාකූලත්වයක් ඇති කරයි. එම ප්‍රශ්නය මෙසේය: ගොවිජන ප්‍රතිසංස්කරණ — සමාජවාදී ප්‍රතිසංස්කරණ අතුරෙන් ඉතාමත් දුෂ්කර, එහෙත්, වඩාත්ම වැදගත්, එම ප්‍රතිසංස්කරණ — පිළිබඳ ක්ෂේත්‍රයෙහි සෝවියට් සමූහාණ්ඩුවේ නීති සම්පාදන කටයුතු ශක්තිමත් ප්‍රතිපත්ති මත පිහිටුවා තිබුණේද? එම ප්‍රතිසංස්කරණ නිසි ලෙස ක්‍රියාත්මක කරන ලදද? යටත් පිරිසෙයින් ඉතාමත් වැදගත් ලියවිලිවත් අධ්‍යයනය කර, බටහිර යුරෝපීය මාක්ස්වාදියෙක් අපගේ ප්‍රතිපත්තිය ගැන විවේචනයක් ඉදිරිපත් කරන්නේ නම් අපි කෘතඥ වෙමු. මක්නිසාද යත්, එසේ කිරීමෙන් ඔහු අපට මහත් ආධාරයක් කරන අතරම ලෝකය මුළුල්ලේම මුහුකුරා යමින් පවතින විප්ලවයටද ආධාරකාරී වන හෙයිනි. නමුත් විවේචනයක් වෙනුවට කෞට්ස්කි ඉදිරිපත් කරන්නේ, මාක්ස්වාදය ලිබරල්වාදය බවට හරවන සහ ව්‍යවහාරික වශයෙන් බොල්ෂෙවික්වාදය වෙත එල්ලකරන වැඩකට නැති, විෂකැවූ හා පහත් ප්‍රහාරයන් මාලාවක් වන, ඇදහිය නොහැකි තරම් ව්‍යාකූල න්‍යායික අවුල් ජාලයකි. මේ ගැන නිගමනයකට බැස ගැනීමට පාඨකයාටම ඉඩ තබමු:

"විශාල වතුකාර දේපල රැකගත නොහැකි විය. මෙය විප්ලවයේ ප්‍රතිඵලයකි. එය එක්වරම පැහැදිලි විය. විශාල වතු ගොවි ජනගහනයට පවරා දීම නොවැලැක්විය හැකි විය..." (එය ඇත්ත නොවේ, කෞට්ස්කි මහතාණනි. ප්‍රශ්නය කෙරෙහි විවිධ පංති දක්වන ආකල්පය වෙනුවට ඔබ ඔබට "පැහැදිලි" දෙය ආදේශ කරන්නෙහිය. ධනපති පංතියේ සහ සුළු ධනපති පංතියේ එනම්, මෙන්ෂෙවික්වරුන්ගේ හා සමාජවාදී-විප්ලවවාදීන්ගේ සභාග ආණ්ඩුව ලොකු ඉඩම්හිමි දේපල ආරක්ෂා කිරීමේ ප්‍රතිපත්තියක් අනුගමනය කළ බව විප්ලවයේ ඉතිහාසයෙන් පෙනීයේ. මෙය විශේෂයෙන්ම මාස්ලව් පනතින් හා ඉඩම් කාරක සභාවල සාමාජිකයින් අත් අඩංගුවට ගැනීමෙන් ඔප්පු විය.[63] නිර්ධන පංති ආඥදායකත්වය නොමැති වී නම්, ධනපතියන් සමග එක්වූ ඉඩම් හිමියන් පරාජය කිරීමේ හැකියාව "ගොවි ජනගහනයට" නොලැබෙන්නට තිබුණි).

"...නමුත්, එය සිදුවිය යුත්තේ කුමණ ආකෘතියක් අනුවද යන්න ගැන එකඟත්වයක් නොවීය. විවිධ විසඳීම් ගැන සිතන්නට පුළුවන් කම තිබුණි"... (සමාජවාදීන් යනුවෙන් හඳුන්වා ගන්නා අය කවුරු වුවත් එය නොතකා කෞට්ස්කි අන් සියල්ලටම වඩා සැලකිල්ලක් දක්වන්නේ "සමාජවාදීන්" ගේ "සමගිය" ගැනය. ධනපති සමාජයේ ප්‍රධාන පංති

නොවැලැක්විය හැකි ලෙසම විවිධ විසඳුම් වෙත එළඹෙන බව ඔහු අමතක කරයි). "...සමාජවාදී දෘෂ්ටි කෝණයෙන් බලන කල, මහා පරිමාණ වතු රාජ්‍ය දේපල බවට පරිවර්තනය කිරීම සහ මෙතෙක් ඒවායේ වේතන-ශ්‍රමකරුවන් ලෙස සේවයෙහි යොදන ලද ගොවීන්ට සමූපකාර සමිති වශයෙන් සැදී ඒවා ගොවිතැන් කරන්නට ඉඩදීම ඉතාමත් තර්කානුකූල නිගමනය වන්නට තිබුණි. නමුත් එවැනි විසඳුමක් ක්‍රියාත්මක කිරීම සඳහා රුසියාවේ නොසිටි වර්ගයක ගොවිපල් සේවකයන් අවශ්‍ය විය. විශාල වතු රාජ්‍ය දේපල බවට පරිවර්තනය කර, ඒවා කුඩා ඉඩම් කට්ටිවලට බෙදා, ඉඩම් හීන ගොවීන්ට බදු දීම තවත් විසඳීමක් වන්නට තිබුණි. එය කරන ලද්දේ නම්, යටත් පිරිසෙයින් යම් තරමක් දුරට හෝ සමාජවාදී ස්වභාවය ඇති කරන්නට තිබුණි..."

සුපුරුදු ලෙසටම කෞට්ස්කි මෙම සුප්‍රසිද්ධ කියමනට සීමා වෙයි: එක් අතකින් නොපිළිගෙන බැරි අතර අනිත් අතින් නිදහසට කරුණු කිව යුතුය. ඒ ඒ නිශ්චිත තත්වයන් යටතේ, ධනපති ක්‍රමයේ සිට කොමියුනිස්ට් ක්‍රමය වෙත යාමේ පරිවර්තනීය අවස්ථා මොනවා විය යුතු යන්න ගැන කල්පනාවක් නොමැතිව, ඒ එකම යථාර්ථවාදී සහ මාක්ස්වාදී කල්පනාවෙන් තොරව, ඔහු විවිධ විසඳුම් එක පෙළට සිටුවයි. විශාල සංඛ්‍යාවක් නොවන නමුත්, රුසියාවේ ගොවිපල් සේවකයන් සිටිති නමුත්, සෝවියට් ආණ්ඩුව විසින් මතුකරන ලද ප්‍රජා, නැතහොත්, සමූපකාර ස්වභාවයේ ඉඩම් ගොවිතැන් ආකෘතියකට පරිවර්තනය වීමේ ක්‍රමය ගැන ප්‍රශ්නයට කෞට්ස්කි අත තැබුවේවත් නැත. නමුත්, මෙහි ඉතාමත්ම කුතුහල වඩවන දෙය නම්, කුඩා ඉඩම් කට්ටි බදු දීම තුළ "තරමක් දුරට සමාජවාදී ස්වභාවය" පෙනෙන බවට කෞට්ස්කි කරන ප්‍රකාශයයි. යථාර්ථ වශයෙන් මෙය සුළු ධනපති සටන් පාඨයකි. එහි ඇති කිසිම "සමාජවාදී ස්වභාවයක්" නැත. ඉඩම් බදු දෙන "රාජ්‍යය" පැරිස් කොමියුනය වර්ගයේ රාජ්‍යයක් නොවේ නම්, පාර්ලිමේන්තුවාදී ධනපති සමූහාණ්ඩුවක් නම් (කෞට්ස්කි නිතරම අදහස් කරන්නේ නිශ්චිත වශයෙන්ම එවැන්නක් ගැනය) කුඩා කට්ටිවලට බෙද ඉඩම් බදු දීම නියම ලිබරල් ප්‍රතිසංස්කරණයක් වන්නේය.

සෝවියට් ආණ්ඩුව ඉඩම් දේපල පිළිබඳ සියලු පුද්ගලික හිමිකම් අවලංගු කර තිබීම ගැන කෞට්ස්කි වචනයක්වත් කියන්නේ නැත. විශ්වාස කළ නොහැකි තරම් ලිපි හොරයක යෙදෙන ඔහු, සෝවියට් ආණ්ඩුවේ ආඥවල අන්තර්ගත ඉතාමත් වැදගත් කරුණු අත්හැරෙන සේ ඒවා උපුටා දක්වයි.

"නිෂ්පාදන මාධ්‍යයන් සම්බන්ධයෙන් සම්පූර්ණ පෞද්ගලික අයිතිය ඇති කිරීමට සුළු නිෂ්පාදනය උත්සාහ කරන" බව කීමෙන් සහ ඉඩම් කැබලි කිරීම වැලැක්වීමේ හැකියාව තිබුණේ ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයට බව සහතික කිරීමෙන් පසුව (කම්කරුවන් හා ගොවි ජනයා පිළිගත් අධිකාරි බලය සහිත වන්නේ සෝවියට් සභා පමණක් බව සහ ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය වෙක්වරුන්ගේ සහ ඉඩම් හිමියන්ගේ සටන් පාඨය වී ඇති බව සියලු දෙනාම දන්නා රුසියාවේ මෙවැනි සහතික වීමක් සිනාවට හේතු වනු ඇත), කෞට්ස්කි තවදුරටත් මෙසේ කියයි:

"සෝවියට් ආණ්ඩුව මුලින්ම නිකුත් කළ ආඥ අතුරෙන් එකකින් මෙසේ ප්‍රකාශ කර ඇත: 1) ඉඩම් හිමිකම වන්දි ගෙවීමෙන් තොරව වහාම අවලංගු කරනු ලැබේ. 2) ඉඩම් ප්‍රශ්නය ගැන ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයෙන් අවසාන තීරණයක් ගන්නා තෙක්, වතුකාර දේපලත්. රාජකීය,[64] ආශ්‍රම සහ පල්ලි ඉඩම් සියල්ලත් එහිවන ඇති කරන සතුන්, උපකරණ, ගොඩනැගිලි හා ඊට සම්බන්ධ සියල්ලත්, ගොවි නියෝජිතයන්ගේ උයෙස්ද් සෝවියට් සභාවලට අනුබද්ධ වොලොස්ට් ඉඩම් කාරක සභාවල ප්‍රයෝජනය සඳහා ඒවාට භාර දෙනු ලැබේ."

මෙම වගන්ති දෙක පමණක් උපුටා දක්වීමෙන් පසුව කෞට්ස්කි මෙසේ නිගමනය කරයි:

"ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය ගැන කරන සඳහන අවලංගු නීතියක් සේ පැවතියේය. ඇත්ත වශයෙන්, ඉඩම් සම්බන්ධයෙන් තමන් කැමති දෙයක් කිරීම, එක් එක් වොලොස්ට් ප්‍රදේශයේ ගොවිජනයාට හැකි විය" (පිටුව 47).

මෙන්න, කෞට්ස්කිගේ "විවේචනය" පිළිබඳ නිදර්ශනයක්! මෙහි ඔබට දක්නට ඇත්තේ බෙහෙවින්ම වංචාවකට සමාන වන "විද්‍යාත්මක" ලියවිල්ලකි. පුද්ගලික ඉඩම් හිමි කම සම්බන්ධ ප්‍රශ්නයේදී බොල්ෂෙවික්වරු ගොවිජනයා හමුවේ යටත් වූ බවත්, ප්‍රාදේශීය වශයෙන් (එක් එක් වොලොස්ට් ප්‍රදේශයේ) ගොවීන් කැමති පරිද්දෙන් ක්‍රියා කිරීමට බොල්ෂෙවික්වරු ඔවුන්ට ඉඩදුන් බවත් විශ්වාස ගන්නා තැනට මෙයින් ජර්මන් පාඨකයා යොමු කරනු ලැබේ!

නමුත් කෞට්ස්කි උපුටා දක්වන හා ප්‍රථමයෙන්ම නිකුත් කෙරුණු 1917 ඔක්තෝබර් 26 (පැරණි ක්‍රමයට) දින ආඥවට, වගන්ති දෙකක් නොව පහක් ඇතුළත් විය. ඊට අමතරව, "මග පෙන්වීමක් ලෙසට ප්‍රයෝජනවත් වනු" ඇතැයි යනුවෙන් විශේෂයෙන්ම සඳහන් කර එහි ඇතුළත් කරන ලද බලය පැවරීමෙහි තවත් වගන්ති අටක් විය![65]

වතු "ජනතාවට" පවරනු ලබන බවත්, "රාජ්‍ය සන්තක කරන ලද සියලු දේපල වාර්තාගත කොට නිවැරදිව බඩු ලේඛන සකස් කළ යුතු" බවත්, දේපල "තරයේම විප්ලවවාදී ආකාරයෙන් ආරක්ෂා කළ යුතු"

බවත් එම ආඥාවේ තුන්වැනි වගන්තියෙහි සඳහන්ය. ''ඉඩම් පිළිබඳව පෞද්ගලික හිමිකම සදාකාලයටම අහෝසි කරන'' බවත් ''උසස් මට්ටමින් විද්‍යාත්මක ලෙස ගොවිතැන් කරන ඉඩම් බෙදා කැබලි නොකළ යුතු'' බවත් රාජ්‍ය සන්තක කරන ලද වතුවල වන ''ඇති කරන සතුන් හා ගොවි උපකරණ, ඒවායේ ප්‍රමාණය සහ වැදගත්කම අනුව තනිකරම රජයේ, නැතහොත්, කොමියුනයක පරිහරණය සඳහා දියයුතු බව හා ඒ සඳහා වන්දි නොගෙවිය යුතු'' බවත්, ''සියලුම ඉඩම් ජාතික ඉඩම් සමූහයෙහි කොටසක් වියයුතු'' බවත් බලය පැවරීමෙහි ප්‍රකාශකර තිබේ.

එපමණක් නොවේ. ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය විසුරුවා හැරීම (1918 ජනවාරි 5) සමගම තුන්වැනි සෝවියට් සභා සම්මේලනය වැඩ කරන හා සූරා කනු ලබන ජනතාවගේ අයිතිවාසිකම් පිළිබඳ ප්‍රකාශනය අනුමත කළේය. එම ප්‍රකාශනය දැන් සෝවියට් සමූහාණ්ඩුවේ මූලික නීතියෙහි කොටසක් බවට පත්ව තිබේ. ''පෞද්ගලික ඉඩම් හිමිකම මෙයින් අවලංගු කෙරේ'' යනුවෙන්ද, ''ආදර්ශ වතු සහ කෘෂිකාර්මික ව්‍යවසායයන් ජාතික දේපල ලෙසට මෙයින් ප්‍රකාශයට පත් කරනු ලැබේ'' යනුවෙන්ද එම ප්‍රකාශනයේ 2 වැනි වගන්තියේ 1 වැනි ඡේදයෙහි සඳහන්ව ඇත.

එනිසා ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය ගැන වූ සඳහන අවලංගු නීතියක් ලෙසට පැවතියේ නැත. එසේ කියන්නේ ගොවිජනතාවගේ පිළිගැනීමේ හැටියට අතිශයින් වැඩි අධිකාර බලයක් සහිත වෙනත් ජාතික නියෝජිත මණ්ඩලයක් ගොවිජන ප්‍රශ්නය විසඳීම තමන් වෙත පවරා ගත් බැවිනි.

නැවතත්, 1918 පෙබරවාරි 6 (19) දින ඉඩම් සමාජ සන්තක කිරීමේ නීතිය[66] සම්මත කරන ලදී. පුද්ගලික ඉඩම් හිමිකම් සියල්ල අවලංගු කිරීම නැවතත් ස්ථිර කළ එම නීතිය අනුව ඉඩම්ද, පුද්ගලයන් හිමි සියලුම ඇති කරන සතුන් හා උපකරණද පෙඩරල් සෝවියට් ආණ්ඩුවේ පාලනය යටතේ පවතින සෝවියට් අධිකාරවල සුදුසු පරිහරණය සඳහා ඒවාට භාර කරන ලදී. එම නීතියෙන් නියම් කරන ලද පරිදි, ඉඩම් පරිහරණය කිරීමේ යුතුකම් අතර මෙසේද සඳහන් වීය:

''තනි පුද්ගල ගොවිතැන නැති කරමින් සහ සමාජවාදී ගොවිතැනට පරිවර්තනය වීමේ අදහස ඇතිව, ශ්‍රමය හා නිෂ්පාදිතයන් අරපිරිමැස්ම අතින් වඩාත් වාසිදායක ක්‍රමයක් ලෙසට සාමූහික ගොවිතැන සංවර්ධනය කිරීම'' (11 වැනි වගන්තියේ ඉ ඡේදය).

සමාන ඉඩම් බුක්තිය පිළිබඳ ප්‍රතිපත්තිය ස්ථාපිත කරමින්, එම නීතිය ''ඉඩම්වලින් ප්‍රයෝජන ගැනීමේ අයිතිය තිබෙන්නේ කාටද?'' යන මූලික ප්‍රශ්නයට මෙසේ පිළිතුරු සපයයි:



(20 වැනි වගන්තිය). ''රුසියානු සෝවියට් පෙඩරල් සමූහාණ්ඩුව තුළ තිබෙන ඉඩම් මතුපිට කොටස් මහජන සහ පුද්ගලික අවශ්‍යතාවයන් ඉටු කිරීම සඳහා ප්‍රයෝජනයට යොදා ගත හැකිය: අ. (1) සෝවියට් බලයේ (පෙඩරල් මෙන්ම, ප්‍රාන්තීය, ගුබේර්නියා, උයෙස්ද්, වොලොස්ට් හා ග්‍රාමීය) ආයතන මගින් නියෝජනය වන රජයටද (2) මහජන සංවිධානවලටද (ප්‍රාදේශීය සෝවියට් අධිකාරයේ පාලනය යටතේ සහ අවසරය ඇතිව). ආ. සංස්කෘතික සහ අධ්‍යාපන කටයුතු සඳහා: (3) කෘෂිකාර්මික කොමියුන් විසින්, (4) ගොවි සමූපකාර විසින්, (5) ග්‍රාමීය ප්‍රජාවන් විසින්, (6) තනි පවුල් හා පුද්ගලයන් විසින්...''

කෞට්ස්කි සත්‍ය කරුණු සම්පූර්ණයෙන්ම විකෘති කර තිබෙන බව සහ රුසියාවේ නිර්ධන පංති රාජ්‍යයේ ගොවි ප්‍රතිපත්තිය හා ගොවි නීති සම්බන්ධයෙන් සම්පූර්ණයෙන්ම වැරදි අදහසක් ජර්මන් පාඨකයාට දී තිබෙන බවත් කියවන්නාට පෙනෙනු ඇත.

න්‍යායික වශයෙන් වැදගත් මූලික ප්‍රශ්න ඉදිරිපත් කිරීමට පවා කෞට්ස්කි අසමත් විය!

එම ප්‍රශ්න මෙසේය:

(1) සමාන ඉඩම් බුක්තිය සහ

(2) ඉඩම් ජනසතුව — පොදු වශයෙන් සමාජවාදය කෙරෙහි මේ දෙකෙහි ඇති සම්බන්ධය සහ විශේෂයෙන්ම ධනපති ක්‍රමයේ සිට කොමියුනිස්ට් ක්‍රමයට පරිවර්තනය වීම.

(3) කුඩා, විසිරී සිටින ගොවිතැනෙහි සිට මහා පරිමාණ සමූහ ගොවිතැනට පරිවර්තනය වීමේ ආකෘතියක් ලෙසට පොදුවේ ගොවිතැන් කටයුතු කිරීම. සෝවියට් නීති සම්පාදනයෙන් මේ ප්‍රශ්නය සම්බන්ධයෙන් කටයුතු කර තිබෙන ආකාරයෙන් සමාජවාදයේ අවශ්‍යතාවයන් ඉටුවේද?

ප්‍රථම ප්‍රශ්නයට අදාළව පහත සඳහන් මූලික කරුණු දෙක ස්ථාපිත කිරීම අවශ්‍යය: (අ) 1905 අත්දැකීම් සමාලෝචනය කිරීමේදී බොල්ෂෙවික්වරු සමාන ඉඩම් බුක්තිය යන සටන් පාඨයෙහි ප්‍රජාතන්ත්‍රික ලෙස ප්‍රගතිශීලී වූ සහ ප්‍රජාතන්ත්‍රික ලෙස විප්ලවවාදී වූ අර්ථය ගැන පෙන්නුම් කළහ (නිදසුනක් ලෙසට, ප්‍රථම රුසියානු විප්ලවයේ ගොවිජන ප්‍රශ්නය ගැන මා කළ කෘතිය ගැන සඳහන් කළ හැකිය).[67] තවද, ඔවුහු 1917 දී ඔක්තෝබර් විප්ලවයට පෙර මේ ගැන නිශ්චිත ලෙසම කථා කළහ. (ආ) ''ජීවගුණයෙන්'' සමාන ඉඩම් බුක්තියට සදිසි වූ, ඉඩම් සමාජ සන්තක කිරීමේ නීතිය ක්‍රියාත්මක කිරීමේදී බොල්ෂෙවික්වරු ඉතාමත් පැහැදිලි ලෙස හා නිශ්චිත ලෙස මෙසේ ප්‍රකාශ කළහ: මෙය අපේ අදහස නොවේ. අපි මෙම සටන් පාඨයට එකඟ නොවෙමු. නමුත් මෙය ගොවි ජනතා අති බහුතරයෙහි ඉල්ලීම වන නිසා එය ක්‍රියාත්මක කිරීම අපගේ යුතුකම ලෙසට සලකමු. වැඩකරන ජනතාවගේ බහුතරයෙහි අදහස සහ

ඉල්ලීම් යනු වැඩ කරන ජනතාව ස්ව කැමැත්තෙන්ම ඉවත දැමිය යුතු ඒවාය. එවැනි ඉල්ලීම් "අවලංගු" කිරීමට හෝ ඒවාට "උඩින් පැන යාමට" පුළුවන් කමක් නැත. බොල්ෂෙවික්වරුන් වන අපි, ගොවි ජනතාව සුළු ධනපති සටන් පාඨ අත්හැර දමනු දැකීම සහ එම සටන් පාඨවල සිට හැකි තරම් ඉක්මණින් හා හැකි තරම් පහසු ලෙස සමාජවාදී සටන් පාඨ වෙත යනු දැකීම සඳහා ඔවුන්ට ආධාර කරන්නෙමු.

ස්වකීය විද්‍යාත්මක විශ්ලේෂණයෙන් කම්කරු පංති විප්ලවයට ආධාර කිරීමට අපේක්ෂා කළ මාක්ස්වාදී විද්‍යාඥයෙක් පහත සඳහන් ප්‍රශ්නවලට පිළිතුරු දිය යුතුව තිබුණි: ප්‍රථමව, සමාන ඉඩම් බුක්තිය යන්න තුළ, ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය නිමාව දක්වා ගෙන යාම පිළිබඳ ප්‍රජාතන්ත්‍රීය විප්ලවවාදී අර්ථයක් ඇතැයි කීම සත්‍යයක්ද? දෙවැනිව, සුළු ධනපති සමාන ඉඩම් බුක්ති නීතිය සම්මත කිරීමට ස්වකීය ඡන්දවලින් ආධාර කිරීමෙන් (එය ඉතා පක්ෂපාත ලෙස පිළිපැදීමෙන්) බොල්ෂෙවික්වරු නිවැරදි ලෙස ක්‍රියා කළෝද?

න්‍යායික වශයෙන් ප්‍රශ්නයේ අර්බුද කොටස කුමක්ද යන්න දැකීමට පවා කෞට්ස්කි අසමත් විය!

ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයේදී සමාන ඉඩම් බුක්තිය පිළිබඳ අදහසෙහි ප්‍රගතිශීලී සහ විප්ලවවාදී අගයක් ඇතැයි යන්න නිෂ්ප්‍රභා කිරීම කෞට්ස්කිට කිසිකලෙකත් නොහැකි වනු ඇත. එවැනි විප්ලවයකට මීන් ඔබ්බට යා නොහැකිය. මෙම සීමාවට පැමිණීම තුළින් එම විප්ලවය, ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විසඳුම් ප්‍රමාණවත් නොවන බවත්, ඒවායේ සීමාවන් ඉක්මවමින් සමාජවාදයට යායුතු බවත්, වඩාත් පැහැදිලි ලෙස, සීඝ්‍ර ලෙස සහ පහසුවෙන් ජනතාවට හෙළිදරව් කරනු ඇත.

සාර්වාදය සහ ඉඩම් හිමියන් පෙරළා දැමූ ගොවිජනතාව සමාන ඉඩම් බුක්තිය ගැන සිහින දකිමින් සිටිති. ගොවිජනතාව ඉඩම් හිමියන් සහ ධනපති පාර්ලිමේන්තු සමූහාණ්ඩුවාදී රාජ්‍යය යන දෙකෙන්ම නිදහස් වූ පසු ඔවුන් නැවැත්විය හැකි කිසිම බලවේගයක් ලොවෙහි නොවීය. කම්කරුවෝ ගොවි ජනතාවට මෙසේ කියති: සමාන ඉඩම් බුක්තිය යනු සුළු නිෂ්පාදකයා විසින් පරමාදර්ශ කොට ගන්නා ලද ධනපති ක්‍රමය හෙයින්, අපි ඔබට ධනපති ක්‍රමයේ "පරමාදර්ශය" වෙත ළඟාවීමට ආධාර කරමු. ඒ අතරම අපි, එය ප්‍රමාණවත් නොවන බවත් පොදුවේ ගොවිතැන් කිරීම වෙත යාමේ අවශ්‍යතාවයත් ඔබට ඔප්පු කර පෙන්වමු.

නිර්ධන පංතිය ගොවිජනතාවට දුන් මෙම වර්ගයේ නායකත්වය නිවැරදිය යන්න බොරු කිරීමට කෞට්ස්කි දරන ප්‍රයත්නය දෙස බැලීම කුතුහලය අවුස්සන්නකි.



එසේ වුවත්, කෞට්ස්කි සම්පූර්ණයෙන්ම මෙම ප්‍රශ්නය මඟ හැරීමට කැමති විය...

ඊළඟට, සෝවියට් ආණ්ඩුව, එහි ඉඩම් නීතිය මගින් කොමියුන හා සමූපකාර පළමුවැනි ස්ථානයෙහි තබමින් එක එල්ලේම ඒවාට වැඩි වාසියක් සැලසූ බව ජර්මන් පාඨකයන්ගෙන් සැඟවීමෙන් කෞට්ස්කි උවමනාවෙන්ම ඔවුන් රැවටුවේය.

සකල ගොවි ජනතාවම සමග ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයේ අවසානය දක්වා මුළු දුරම, නැවත, දුප්පතුන්, නිර්ධන පංතිකයන් හා ගොවි ජනතාවගේ අර්ධ නිර්ධන කොටස් සමග සමාජවාදී විප්ලවය කරා ඉදිරියට! බොල්ෂෙවික්වරුන්ගේ ප්‍රතිපත්තිය වූයේ එයයි. එසේම එකම මාක්ස්වාදී ප්‍රතිපත්තියද එයයි.

නමුත්, කෞට්ස්කි සම්පූර්ණයෙන්ම අවුලට පත්ව, එකම ප්‍රශ්නයක්වත් වදන්ගත කිරීමෙහි අසමත්ව සිටී! එක් අතකින්, සමාන ඉඩම් බුක්තිය පිළිබඳ ප්‍රශ්නයේදී කම්කරුවන් ගොවිජනතාවගෙන් ඈත් විය යුතුව තිබුණේ යයි කීමට තරම් ඔහු එඩිතර නොවේ. එසේ කීම විකාරයක් බව ඔහුටම වැටහෙන්නේය (එපමණක් නොව, 1905 දී, ඔහු ද්‍රෝහියෙක් වීමට පෙර, විප්ලවයේ ජයග්‍රහණය සඳහා අවශ්‍ය කොන්දේසියක් ලෙසට කම්කරුවන් හා ගොවිජනතාව අතර සන්ධානයක් අවශ්‍ය බව ඔහුම පැහැදිලි ලෙස හා නිශ්චිත ලෙස කීවේය). ඔහු, අනික් අතින් කරන්නේ, සමාජවාදයේ දෘෂ්ටි කෝණය අනුව සමාන ඉඩම් බුක්තිය මනෝරාජික සහ ප්‍රතිගාමී බව "ඔප්පු කරන" එහෙත්, ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයේ දෘෂ්ටි කොණයෙන් බලන කල, සමාන ඉඩම් බුක්තිය සඳහා සුළු ධනපති පංතිය කරන අරගලයේ ඇති ප්‍රගතිශීලී සහ විප්ලවවාදී ස්වභාවය වසං කරන මෙන්ෂෙවික් මාස්ලව්ගේ ලිබරල් බහුබූත අනුකූලතා පූර්වකව උපුටා දැක්වීමය.

කෞට්ස්කි පත්ව සිටින්නේ අන්ත අවුලකටය. ඔහු (1918 දී) රුසියානු විප්ලවයේ ධනපති ස්වභාවය ගැන අවධාරණය කරන බව සටහන් කර ගන්න. ඔහු (1918 දී) ආඥාත්මක ලෙස මෙසේ කියයි: මෙම සීමාවන් ඉක්මවා නොයනු! නමුත් මේ කෞට්ස්කිම, දුප්පත් ගොවියන්ට කුඩා ඉඩම් කට්ටි බදු දීමේ සුළු ධනපති ප්‍රතිසංස්කරණය තුළ (එය සමාන ඉඩම් බුක්තියට ආසන්න දෙයකි) "යම්තරමක් සමාජවාදී ස්වභාවය" (ධනපති විප්ලවය සඳහා) දකින්නේය!

ඔබට හැකි නම් මෙය තේරුම් ගන්න!

මෙයට අමතරව, නිශ්චිත පක්ෂයක නියම ප්‍රතිපත්තිය වටහා ගැනීමට තමන්ගේ ඇති අමන නොහැකියාවද කෞට්ස්කි පෙන්නුම් කරයි. ඔහු මෙන්ෂෙවික් මාස්ලව්ගේ පුහු වාක්‍ය කොටස් උපුටා දක්වන නමුත්,

මෙන්ෂෙවික් පක්ෂය 1917 දී අනුගමනය කළ නියම ප්‍රතිපත්තිය දැකීම ප්‍රතික්ෂේප කරන්නේය. එම වකවානුවේදී ඉඩම් හිමියන් සහ කැඩෙට්වරුන් සමග "සහාග ගත" වූ මෙන්ෂෙවික් පක්ෂය, ලිබරල් ගොවිජන ප්‍රතිසංස්කරණයක හා ඉඩම් හිමියන් සමග සම්මුති ගත වීමක ප්‍රතිපත්තියක් අනුගමනය කළේය (සාක්ෂි: ඉඩම් කාරක සභාවල සාමාජිකයන් අත් අඩංගුවට ගැනීම සහ මාස්ලව්ගේ ඉඩම් පනත).

සුළු ධනපති සමානාත්මතාවයේ ප්‍රතිගාමී සහ මනෝරාජිකවාදී ස්වභාවය ගැන වූ මාස්ලව්ගේ වාක්‍ය කොටස්, ගොවි ජනතාව විසින් ඉඩම් හිමියන් විප්ලවීය ලෙස පෙරළා දමනු ලැබීමට ආධාරයක් නොව, ගොවි ජනතාව සහ ඉඩම් හිමියන් අතර සම්මුතියේ ප්‍රතිපත්තියට කඩතුරාවක් (ගොවීන් රැවටීම සඳහා ඉඩම් හිමියන්ට ආධාර කිරීමක්) බව කෞට්ස්කි දුටුවේ නැත.

කෞට්ස්කි නම් හරිම "මාක්ස්වාදියෙකි"!

ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය හා සමාජවාදී විප්ලවය අතර වෙනස තරයේ ගෙන හැර දැක්වූයේ බොල්ෂෙවික්වරුන්ය: එයින් මුලින් සඳහන් විප්ලවය කෙළවර දක්වා ගෙන යාමෙන් ඔවුහු සමාජවාදී විප්ලවයට පරිවර්තනය වීම සඳහා දොර විවෘත කළහ. විප්ලවවාදී සහ මාක්ස්වාදී වූ එකම ප්‍රතිපත්තිය එය විය.

කෞට්ස්කි මෙම දුර්වල ලිබරල් විහිළුව පුනරුච්චාරනය නොකළේ නම්, එය නුවණට හුරු වන්නට තිබුණි: "න්‍යායික අවබෝධයන්ගේ බලපෑම යටතේ කිසිම තැනක සුළු ගොවි ජනයා මෙතෙක් සාමූහික ගොවිතැන පිළිගෙන නැත" (පිටු 50).

ලොකුම දක්ෂ කමකි!

නමුත්, කිසිම තැනෙක යම් විශාල රටක සුළු ගොවි ජනතාව මෙතෙක් කිසිම කලෙක නිර්ධන පංති රාජ්‍යයේ බලපෑම යටතේ සිට නැත.

කිසිම තැනෙක සුළු ගොවිජනතාව, නිර්ධන පංති රාජ්‍යයෙන් දුප්පතුන්ට ප්‍රචාරක, දේශපාලන, ආර්ථික හා යුද්ධමය ආධාර ලැබෙන තත්වයන් යටතේ, දුප්පත් ගොවි ජනතාව හා පොහොසත් ගොවීන් අතර වූ සිවිල් යුද්ධයක මට්ටමට පත්වන දුරට යන, පංති අරගලයක් මෙතෙක් කිසි කලෙකත් කර නැත.

කිසිම තැනෙක, ගොවි පොදු ජනතාව එතරම් අන්ත ව්‍යසනයට පත්ව සිටියදී, ලාභ ගරන්නන් හා පොහොසතුන් එතරම් විශාල ධන සම්භාරයක් යුද්ධයෙන් රැස්කරගත් අවස්ථාවක් මෙතෙක් කිසි කලෙකත් නොවීය.

නිර්ධන පංති ආඥාදායකත්වයේ නව කර්තව්‍යයන් කෙරෙහි සිත යොමු කිරීමට පවා බිය වන කෞට්ස්කි පැරණි කථා නැවත කියයි. පැරණි හපය වමාරා කයි.

නමුත් හිතවත් කෞට්ස්කි මහතාණනි, කුඩා පරිමාණ ගොවිතැන සඳහා ගොවිජනතාවට උපකරණ හිඟ නම්, නිර්ධන පංති රාජ්‍යය ඔවුන්ට සමූහ ගොවිතැන සඳහා යන්ත්‍ර ලබා ගැනීමට ආධාර කරයි නම්, එය "න්‍යායික අවබෝධයක්" ද?

අපි දැන් ඉඩම් ජනසතුව පිළිබඳ ප්‍රශ්නය වෙත යන්නෙමු. අප ක්‍රියාත්මක කර තිබෙන පියවර ඉඩම් ජනසතු කිරීම නොවේ යයි වාම සමාජවාදී-විප්ලවවාදීන් ඇතුළු අපගේ නරෝද්නික්වාදීහු[68] කියති. ඔවුන් න්‍යායික වශයෙන් වැරදිය. මක්නිසාද යත්, අප වෙළඳ භාණ්ඩ නිෂ්පාදනයේ හා ධනපති ක්‍රමයේ රාමු කට්ටුවක සිටින නිසා පෞද්ගලික ඉඩම් අයිතිය අහෝසි කිරීම යනු ඉඩම් ජන සතු කිරීම වන බැවිනි. සමාජකරණය කිරීම යන්නෙන් අදහස් වන්නේ සමාජවාදයට පරිවර්තනය වීමේ සූදානම, කැමැත්ත හා දිරිගැන්ම පමණකි.

ඉඩම් ජන සතු කිරීම පිළිබඳ මාක්ස්වාදීන්ගේ ආකල්පය විය යුත්තේ කුමක්ද?

කෞට්ස්කි මෙහිදී න්‍යායාත්මක ප්‍රශ්නය ඉදිරිපත් කිරීමට පවා අපොහොසත් වේ. නැතිනම් එයට වඩා නරක ලෙස සිතාමතාම ප්‍රශ්නයට අත නොගසයි. ඉඩම් ජන සතු කිරීම හා නාගරික සභා සතු කිරීම (ප්‍රදේශීය පාලන ආයතනවලට විශාල ඉඩම් පවරා දීම) හා බෙදා දීම ගැන රුසියානු මාක්ස් වාදීන් අතර වූ පැරණි වාද භේද පිළිබඳව කෞට්ස්කිට අවබෝධයක් ඇති බව රුසියානු සාහිත්‍යය මගින් අප දන්නා නමුත් ඔහු එසේ කරයි.

විශාල ඉඩම් රජයට පවරා ඒවා සුළු ඉඩම් ප්‍රමාණයක් හිමි ගොවීන්ට කුඩා කොටස් වශයෙන් පවරා දීම "සමාජවාදය වැනි දෙයක්" ක්‍රියාත්මක කිරීමකි යන්න ප්‍රකාශ කිරීම, කෞට්ස්කි විසින් කෙලින්ම මාක්ස්වාදය සිනහවට භාජනය කිරීමකි. මෙහි කිසිම සමාජවාදයක් නැති බව අපි පෙන්වා දී ඇත්තෙමු. එහෙත් එය පමණක් ප්‍රමාණවත් නොවේ: මෙහි අවසානය දක්වා ගෙන යන ලද ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයක්ද නැත. මෙන්ෂෙවික් වරුන් විශ්වාසය කිරීමෙන් කෞට්ස්කි මුහුණු පෑවේ මහා අකරතැබ්බයකටය. කෞට්ස්කි, සමාජවාදයට යාමට සිතට ගැනීම ගැන බොල්ෂෙවික්වරුන්ට දෝෂාරෝපනය කරන අතරම, තමාම ලිබරල් ප්‍රතිසංස්කරණයකට සමාජවාදී වෙස් ගන්වා ඉදිරිපත් කරන, ගොවිජන සම්බන්ධකම් කෙරෙහි ඇති සියලු මධ්‍යතනවාදී නෂ්ටාවශේෂයන් සම්පූර්ණයෙන්ම ඉවත් කිරීම දක්වා මෙම ප්‍රතිසංස්කරණය ගෙන නොයාම එය ඉදිරිපත් කරන, පුදුමාකාර තත්වයට ඔහු පත්ව සිටින්නේ එහෙයිනි! කෞට්ස්කිගේ උපදේශක මෙන්ෂෙවික්වරුන්ගේ මෙන්ම කෞට්ස්කිගේද

තර්ක, සසන්ගත ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය ආරක්ෂා කිරීමක් නොව, විප්ලවයට බිය වන ලිබරල් ධනපතියන් ආරක්ෂා කිරීමක් වේ.

ඇත්ත වශයෙන්ම, සියලුම ඉඩම් නොව, ලොකු වතු පමණක් රජයේ දේපල බවට පරිවර්තනය කළ යුත්තේ මන්ද? එයින් ලිබරල් ධනපතියන් කරන්නේ, පැරණි තත්වයන් සඳහා උපරිම ආරක්ෂාව (එනම්, විප්ලවයේ අඩුම සසංගතභාවය) සැලසීම සහ පැරණි තත්වයන් වෙත ආපසු යාමට උපරිම පහසුකම් ඇති කර ගැනීමය. උන්නති කාමී ධනපතියෝ, එනම්, ධනපති විප්ලවය එහි පරිපූර්ණත්වය දක්වා ගෙනයාමට අපේක්ෂා කරන ධනපතියෝ ඉඩම් ජනසතු කිරීම සඳහා සටන් පාඨය ඉදිරිපත් කළහ.

ඉඩම් ජනසතු කිරීම ඇත්ත වශයෙන්ම ධනපති පංතියේ සසංගත සටන් පාඨයක්[69] යයි මාක්ස් ප්‍රකාශ කළ බව කෞට්ස්කි නොදැන සිටිය නොහැකිය. අවුරුදු විසිගණනකට පෙර, ඒ අඳුරු හා දුර අතීතයේ ගොවිජන ප්‍රශ්නය ගැන අගනා කෘතියක් කළ කෞට්ස්කි එය දැන සිටිනවා විය යුතුය. ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී අර්ථයෙන් ඉඩම් ජනසතුවෙහි ඇති වැදගත් කම ඉතාමත් පැහැදිලි ලෙස විස්තර කර ඇති, මාක්ස්ගේ ''අතිරික්ත වටිනාකම පිළිබඳ න්‍යාය'' නැමති කෘතියෙහි ඒ විශිෂ්ට ඡේදයන් ගැන හා මාක්ස් රොද්බර්තුස් සමග කළ විවාදය ගැන කෞට්ස්කි නොදැන සිටිනවා විය නොහැකිය.

කෞට්ස්කිගේ අභාග්‍යයට ඔහු තම උපදේශකයා ලෙසට තෝරාගත් මෙන්ෂෙවික්වර පී. මාස්ලව්, (ගොවිජන ඉඩම් ඇතුළුව) සියලු ඉඩම් ජනසතු කිරීමට රුසියානු ගොවි ජනයා එකඟ නොවනු ඇතැයි කීවේය. මාස්ලව්ගේ මෙම අදහස, එක්තරා දුරකට, ඔහුගේ ''මුල්'' (මාක්ස්ගේ ධනපති විවේචකයන් කීදේ ප්‍රතිරාවය කිරීමේ) න්‍යාය සමග, නැතහොත්, ඔහු විසින් නිරපේක්ෂ බදු කුලිය අත් හරිනු ලැබීම සහ ''හීනවන ඵල න්‍යාය'' (නැතහොත් මාස්ලව් එය ප්‍රකාශ කළ ලෙසට ''සත්‍ය කරුණ'') පිළිගනු ලැබීම සමග සම්බන්ධ කළ හැකිය.

එසේ වුවද, රුසියාවේ ගොවි ජනතාවගෙන්, ග්‍රාම කොමියුන සාමාජිකයන්ගෙන් සහ ගෙවතු හිමි ගොවීන්ගෙන්[70] අති විශාල බහුතරය සියලු ඉඩම් ජනසතු කිරීමට පක්ෂ බව ඇත්ත වශයෙන් 1905 විප්ලවයේදීම හෙළිදරව් විය. 1917 විප්ලවයෙන් මෙය ස්ථිර විය. එමෙන්ම, නිර්ධන පංතිය බලයට පත්වීමෙන් පසුව එය ක්‍රියාත්මක කරන ලදී. බොල්ෂෙවික්වරු මාක්ස්වාදයට පක්ෂපාතව සිටි අතර ඔව්හු කිසි කලෙකත් ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයට ''උඩින් පැන'' යාමට (ඔවුන් එසේ කරතැයි කෞට්ස්කි අල්ප මාත්‍ර හෝ සාක්ෂියක් නොමැතිව චෝදනා කරතත්) උත්සාහ නොකළහ. අර්ථය වශයෙන් ඉඩම් ජනසතුව ක්‍රියාත්මක කිරීම සඳහා බොල්ෂෙවික්වරු ප්‍රථමයෙන්ම, ගොවිජනයා අතුරෙන් නිර්ධන



පංතියට ඉතාමත් ආසන්නව සිටි, ඉතාමත් උන්නති කාමී, ඉතාමත් විප්ලවවාදී ධනපති-ප්‍රජාතන්ත්‍රවාදීන් වූ, ඉතාමත් විප්ලවවාදී දෘෂ්ටිවාදීන් වූ වාම සමාජවාදී-විප්ලවවාදීන්ට ආධාර කළහ. 1917 ඔක්තෝබර් 26 දින, නිර්ධන පංති සමාජවාදී විප්ලවයේ ප්‍රථමතම දිනයේම රුසියාවේ ඉඩම් පිළිබඳ පුද්ගලික අයිතිය අහෝසි කරන ලදී.

මෙයින් දමන ලද පදනම, ධනපති ක්‍රමය සංවර්ධන කිරීමේ දෘෂ්ටි කෝණයෙන් බලන කල ඉතාමත් අංග සම්පූර්ණ වූ (මාක්ස්ට විරුද්ධ නොවී මෙය නැතැයි කීමේ හැකියාවක් කෞට්ස්කිට නැත) සහ සමාජවාදයට පරිවර්තනය වීමේ දෘෂ්ටි කෝණයෙන් බලන කල ඉතාමත් නම්‍යශීලී ගොවිජන ක්‍රමයක් නිර්මාණය කරන්නා වූ එකක් විය. ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී දෘෂ්ටි කෝණය අනුව, රුසියාවේ ගොවි ජනතාවට ඉන් ඔබ්බට යා නොහැකි විය. එම දෘෂ්ටි කෝණය අනුව ඉඩම් ජනසතුවට හා සමාන ඉඩම් බුක්තියට වඩා ''උසස් පරමාදර්ශයක්'', ඊට වඩා (එම දෘෂ්ටි කෝණයට අනුව) ''මහත් උන්නති කාමී දෙයක්'' තිබිය නොහැකිය. ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය සැබැවින්ම මෙම අවසානය දක්වා ගෙනයාමට ගොවිජනතාවට ආධාර කළේ බොල්ෂෙවික්වරුන් පමණකි — බොල්ෂෙවික්වරුන්ම පමණකි. ඔවුන්ට එම ආධාරය දියහැකි වූයේ නිර්ධන පංති ජයග්‍රහණය නිසා පමණකි. සමාජවාදී විප්ලවය කරා යන පරිවර්තනය පහසු කිරීමට හා ඉක්මන් කිරීමට ඔවුහු ඔවුන්ට හැකි උපරිම කටයුතු කළේ මේ ආකාරයෙනි.

බොල්ෂෙවික්වරු විප්ලවයේ ධනපති ස්වභාවය වටහා ගැනීමට අසමත් වී යයි ඔවුන්ට චෝදනා කරන කෞට්ස්කි, ඒ අතරම ඉඩම් ජනසතුව ගැන කිසිවක් නොකියා නිහඬ වීමෙන් හා (ධනපති දෘෂ්ටි කෝණයෙන්) විප්ලවවාදීත්වයෙන් ඉතාමත් අඩු ලිබරල් ප්‍රතිසංස්කරණය ''යම්තරමක් සමාජවාදී ස්වභාවය'' ඇති දෙයක් ලෙසට ඉදිරිපත් කිරීමෙන් ඔහුම මාක්ස්වාදයෙන් එසේ බැහැර වී සිටින බව පෙන්නුම් කරන හෙයින් ඔහු වැටී සිටින්නේ මොන තරම් පුදුමාකාර අවුලකට දැයි අයෙකුට සිතා ගත හැකිය!

අපි දැන් ඉහත සඳහන් තුන්වැනි ප්‍රශ්නය වෙත පැමිණ ඇත්තෙමු. එය නම්, රුසියාවේ නිර්ධන පංති ආඥාදායකත්වය පොදුවේ ගොවිතැන් කටයුතු කිරීමට පරිවර්තනය වීමේ අවශ්‍යතාවය ගැන කොතරම් දුරට සැලකිල්ලට ගෙන තිබේද යන්නය. මෙහිදීද, කෞට්ස්කි නැවතත් ලිපි හොරයකට බොහෝ දුරට සමාන දෙයක් කරයි: ඔහු, එක බොල්ෂෙවික්-වරයෙක් පමණක් විසින් ඉදිරිපත් කරන ලද, පොදු ගොවිතැනට පරිවර්තනය වීමේ කර්තව්‍යය ගැන සඳහන් කෙරෙන ''ප්‍රවාද'' උපුටා දක්වයි! මෙම ප්‍රවාද උපුටා දැක්වීමෙන් පසුව අපගේ න්‍යායවාදියා විජයග්‍රාහී ලීලාවෙන් මෙසේ මවිත ස්වරයෙන් ප්‍රකාශ කරයි:

''සුප්‍රකට කර්තව්‍යයක් හුදෙක් කර්තව්‍යය යන නමින් හැඳින්වූ පමණින් එය ඉටුවන්නේ නැත. දනට රුසියාවේ සමූහ ගොවිතැන කඩදසියට පමණක් සීමාවී තිබීමේ අභාග්‍යයට ඉරණම්ව ඇත. න්‍යායික අවබෝධයන්ගේ බලපෑම යටතේ කිසිම තැනෙක සුළු ගොවි ජනයා මෙතෙක් සාමූහික ගොවිතැන පිළිගෙන නැත'' (පිටුව 50).

කෞට්ස්කි යොද ගන්නා තරම් පහත් සාහිත්‍යමය වංචාවක් මෙතෙක් කිසිම තැනෙක සිදු වී නැත. ඔහු ''ප්‍රවාද'' උපුටා දක්වයි. නමුත් සෝවියට් ආණ්ඩුවේ නීතිය ගැන කිසිවක් නොකියයි. ඔහු ''න්‍යායික අවබෝධයන්'' ගැන කථා කරයි. නමුත්, පැක්ටරි හා භාණ්ඩ තම අතින් ගෙන සිටින නිර්ධන පංතික රාජ්‍ය බලය ගැන කිසිවක් නොකියයි! සුළු ගොවිජනයා ක්‍රමානුකූල ලෙස සමාජවාදයට පරිවර්තනය වන තැනට ගෙන එනු සඳහා නිර්ධන පංති රාජ්‍යය සතුව තිබෙන මාධ්‍යයන් ගැන මාක්ස්වාදී කෞට්ස්කි 1899 දී ස්වකීය ''ගොවිජන ප්‍රශ්නය'' කෘතියෙහි ලියූ සියල්ල, කෞට්ස්කි ද්‍රෝහියාට 1918 දී අමතක වී තිබේ.

රජයේ ආධාර ලබන කෘෂිකාර්මික කොමියුන සහ රජයේ ගොවිපලවල් (එනම්, කම්කරුවන්ගේ සමිති විසින් රජයේ වියදමින් ගොවිතැන් කරනු ලබන විශාල ගොවිපලවල්) සිය ගණන ඉතා ස්වල්ප සංඛ්‍යාවක් බව ඇත්තකි. නමුත් කෞට්ස්කි මෙම සත්‍යය අමතක කිරීම යනු ''විවේචනයක්'' ද?

නිර්ධන පංති ආඥාදායකත්වය විසින් ක්‍රියාත්මක කරන ලද ඉඩම් ජනසතුව නිසා, ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය එහි අවසානය දක්වා ගෙනයාම ඉතාමත් හොඳින් සහතික වී තිබේ. ප්‍රතිවිප්ලවය ජයග්‍රහණයට පත් වී ඉඩම් ජනසතුව ආපසු ඉඩම් බෙදදීමක් බවට හැරෙව්වත් එම තත්වය වෙනස් නොවේ. (1905 විප්ලවයේදී මාක්ස්වාදීන්ගේ ගොවිජන වැඩ පිළිවෙළ ගැන මා ලියූ පොතෙන් මෙවැනි අවස්ථාවක් ඇති වීමේ හැකියාව ගැන විශේෂ පරීක්ෂාවක් කෙළෙමි). ඊට අමතරව, කෘෂිකර්මාන්තයේ සමාජවාදී පරිවර්තනය සඳහා උපරිම අවස්ථාවක්, ඉඩම් ජනසතුව නිසා නිර්ධන පංති රාජ්‍යයට ලැබී තිබේ.

කෞට්ස්කි අප වෙත ඉදිරිපත් කර තිබෙන්නේ න්‍යායික වශයෙන් සම්පූර්ණයෙන්ම මාක්ස්වාදය අත්හැර දැමීමක් වන අවුල් ජාලයක් හා ව්‍යවහාරික වශයෙන් ධනපතියන්ට සහ එහි ප්‍රතිසංස්කරණවාදයට බැල මෙහෙ කිරීමේ ප්‍රතිපත්තියක් බව සම්පිණ්ඩණයක් ලෙසට කියමු.

මෙය නම් ඇත්තෙන්ම හරිම විවේචනයකි!

* * *

කෞට්ස්කි කර්මාන්තය පිළිබඳ ඔහුගේ ''ආර්ථික විශ්ලේෂණය'' පටන් ගන්නේ පහත දැක්වෙන අනර්ඝ තර්කයෙනි:



රුසියාවට මහා පරිමාණ කර්මාන්තයක් ඇත. මෙම අත්තිවාරම මත සමාජවාදී ක්‍රමයේ නිෂ්පාදනයක් ගොඩනැගිය නොහැකිද? ''සමාජවාදයෙන් අදහස් කෙරෙන්නේ, එක් එක් පැක්ටරියෙහි වෙනම නිෂ්පාදනය කරගෙන යාම සඳහා එක් එක් පැක්ටරිවල හා ආකරවල කම්කරුවන් ඒවා ඔවුන්ගේ දේපල බවට පත්කර ගැනීම නම් (පදගත අර්ථය අනුව, ඒවා තම තමන් සතු කර ගත්තේ නම්) එය කළ හැකි යයි කෙනෙකුට සිතන්නට පුළුවන (පිටුව 52). කෞට්ස්කි මෙසේද එකතු කරයි: ''ලෙනින් පහත සඳහන් පරිදි ප්‍රකාශ කරමින් අගෝස්තු 2 වැනි දින මොස්කව්හිදී කථාවක් කළ බව මා මෙම වැකි ලියන දිනය වන අගෝස්තු 5 වැනි දිනම වාර්තා වී තිබේ: 'කම්කරුවෝ ඔවුන්ගේ අත්වලින් පැක්ටරි තරයේ අල්ලා ගෙන සිටිති. එමෙන්ම ගොවි ජනතාව ඉඩම් හිමියන්ට ඉඩම් ආපසු නොදෙනු ඇත.' කම්කරුවන්ට පැක්ටරි සහ ගොවි ජනතාවට ඉඩම් යන්න මේ දක්වාම, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සටන් පාඨයක් නොව අරාජික-සම්මේලනවාදී සටන් පාඨයක් විය (පිටු 52–53).

මා මෙම කොටස සම්පූර්ණයෙන්ම උපුටා දැක්වූයේ කලින් ඉතා නිවැරදි ලෙස කෞට්ස්කිට ගරු කළ රුසියානු කම්කරුවන් ගැන සිතේ ඇතිවය — ධනපති පංතියේ කඳවුරට පලාගිය මෙම ද්‍රෝහියා යොද ගෙන ඇති විධි ක්‍රම ගැන ඔවුන්ටම තේරුම් ගත හැකි වනු පිණිසය.

මඳක් සිතන්න: පැක්ටරි ජනසතු කරමින් නිකුත් කළ ගණනක් නැති තරම් ආඥාවන් තිබියදී, එකම පැක්ටරියක්වත් කම්කරුවන් විසින් ''හිමිකරගෙන'' නැතිව හා ඒවා සියල්ලම රාජ්‍ය දේපල බවට පරිවර්තනය කර තිබියදී, මගේ කථාවෙහි එක වාක්‍යයකට දුන් පැහැදිලිව පෙනෙන විකෘති අර්ථය රුකුලක් කොට ගනිමින්, රුසියාවේ පැක්ටරි පුද්ගලික කම්කරු කණ්ඩායම්වලට දෙනු ලැබේ යයි ජර්මන් කම්කරුවන්ට විශ්වාස ගැන්වීමට කෞට්ස්කි අගෝස්තු 5 වැනි දිනක උත්සාහ දරයි! ඊට පසුව, පැක්ටරි පුද්ගලික කම්කරු කණ්ඩායම්වලට පැවරීම වැරදි යයි කියමින් කෞට්ස්කි දිගින් දිගටම හපය විකයි!

මෙය විවේචනයක් නොවේ. එය කම්කරු විප්ලවයට අවලාද නැගීමට ධනපතියන් විසින් කුලියට ගන්නා ලද, ධනපතියන්ගේ දසයෙකුගේ කපටි කමකි.

පැක්ටරි රාජ්‍යයට, නැතහොත්, නගර සභාවලට, එසේත් නැතහොත්, පාරිභෝගිකයන්ගේ සමූපකාර සමිතිවලට භාර දිය යුතු යයි නැවත නැවතත් කියන කෞට්ස්කි අවසානයේදී මෙසේ ද එකතු කරයි:

''ඔවුන් දැන් රුසියාවේ කරන්නේ මෙයයි...'' අන්න! එහි තේරුම කුමක්ද? අගෝස්තුවේදී? පැක්ටරි ගැන වූ ආඥාවන්ගෙන් එකක්වත් පරිවර්තනය කරවා ගැනීම සඳහා කෞට්ස්කිට ඔහුගේ මිතුරන් වන

අක්සල්රොද්, නැතහොත්, ෂ්ටෙයින්, එසේ නැතහොත්, රුසියානු ධනපති පංතියේ වෙනත් ඕනෑම මිතුරෙක් යොදවා ගත නොහැකි වූයේ මන්ද?

"ඔවුන් කොතරම් දුර මේ දිසාවට ගොස් ඇද්ද යනු අපට තවමත් කිව නොහැකිය. කෙසේ වුවත් සෝවියට් සමූහාණ්ඩුවේ කටයුතුවල මෙම අංශය අපට බෙහෙවින් වැදගත්ය. නමුත්, එය තවමත් සම්පූර්ණයෙන්ම අඳුරෙන් වැසී තිබේ. ආඥාවල නම් අඩුවක් නැත..." (කෞට්ස්කි ඒවායේ සන්ධාරය ගැන නොතකා හරින්නේ, නැතහොත්, ජර්මන් පාඨකයින්ගෙන් එය සඟවන්නේ එනිසාය!) "නමුත් මෙම ආඥාවන්ගෙන් ඉටු වී ඇති අර්ථය ගැන විශ්වාස කටයුතු තොරතුරු නොමැත. සර්ව පාර්ශ්වීය, විස්තරාත්මක, විශ්වාස කටයුතු සහ අප්‍රමාදව තොරතුරු සපයන සංඛ්‍යා ලේඛන නොමැතිව සමාජවාදී නිෂ්පාදනයක් කිසිසේත් විය නොහැකිය. සෝවියට් සමූහාණ්ඩුවට එවැනි සංඛ්‍යා ලේඛන නිර්මාණය කරගැනීමේ හැකියාවක් වූයේ නොවේ. ආර්ථික කටයුතු ගැන අපට දැනගන්නට තිබෙන තොරතුරු ඉතාමත් ප්‍රතිවිරෝධී වන අතර කිසිසේත් ඒවායේ හරිවැරදි දැන ගත හැකි නොවේ. මෙයද ආඥාදායකත්වයේ සහ ප්‍රජාතන්ත්‍රවාදය මර්දනය කිරීමේ ප්‍රතිඵලයකි. පුවත්පත් නිදහසක් හෝ කථා කිරීමේ නිදහසක් හෝ එහි නැත" (පිටුව 53).



ඉතිහාසය ලියා ඇත්තේ ඔය ආකාරයටය! කම්කරුවන් විසින් පැක්ටරි අත්පත් කර ගැනීම ගැන තොරතුරු කෞට්ස්කිට දැන ගන්නට ලැබුණේ ධනපතියන්ගේ සහ දූතොව් මිනිසුන්ගේ "නිදහස්" පුවත්පත්වලින් විය හැකිය... පංතිවලට ඉහළින් සිටින මෙම 'කාර්ය පරවශ දසයා" ඇත්තෙන්ම විශිෂ්ටය! පැක්ටරි භාර දෙනු ලබන්නේ සමූහාණ්ඩුවට පමණකැයිද, ඒවා කළමණාකරණය කරනු ලබන්නේ සෝවියට් බලයේ ආයතනයක් වන ශ්‍රේෂ්ඨ ආර්ථික මණ්ඩලය විසින් යයිද, පෙන්නුම් කරන අනන්ත කරුණු ගැන එකම වචනයක් හෝ කීම කෞට්ස්කි ප්‍රතික්ෂේප කරයි. "මජ්ලර් කාරයා"[71] මෙන් මුරණ්ඩු ලෙස අනුවණ කමෙහි එල්බ ගනිමින්, කෞට්ස්කි නැවත නැවතත් එකම දෙයක් කියයි: සිවිල් යුද්ධය නැතිව, ආඥාදායකත්වයක් නොමැතිව සහ හොඳ සංඛ්‍යා ලේඛන සහිත වූ සාමකාමී ප්‍රජාතන්ත්‍රයක් මට දෙන්න (රුසියාවේ සිටින දක්ෂම සංඛ්‍යා ලේඛන විශේෂඥයන් ඇතුලත් සංඛ්‍යා ලේඛන සේවාවක් සෝවියට් සමූහාණ්ඩුවෙන් ඇති කර තිබේ. නමුත්, හොඳම සංඛ්‍යා ලේඛන එතරම් කඩිනමින් ලබා ගත හැකි නොවේ). වෙනත් වචනවලින් කියතොත් කෞට්ස්කි ඉල්ලන්නේ විප්ලවයක් නැති, දරුණු අරගලයක් නැති, හිංසනය නැති විප්ලවයකි. එය හරියටම කම්කරුවන් සහ සේව්‍යන් කැලඹීමට පත් නොවන ආකාරයේ වැඩ වර්ජන සඳහා කරන ඉල්ලීමක් බඳුය. මේ වර්ගයේ "සමාජවාදියා" සහ සාමාන්‍ය ලිබරල් නිලධාරියා අතර වෙනස සෙවීමට උත්සාහයක් දරා බලන්න!



එනිසා, එවැනි "සත්‍ය කරුණු" කෙරෙහි විශ්වාසය තබමින්, එනම්, අනන්ත සත්‍ය කරුණු උවමනාවෙන්ම හා පිළිකුලෙන් නොතකා හරිමින් කෞට්ස්කි මෙසේ "නිගමනය" කරයි:

"සෝවියට් සභාවල මෙන්ම, වෙනත් වර්ණයක වුවත් සමාජවාදීන්ම වන අය ප්‍රබලව සිටි ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයෙන් ලබා ගත හැකිව තිබුණාට වැඩි යමක්, ආඥාවන් අර්ථයෙන් නොව සැබෑ ප්‍රායෝගික වාසි අතින්, රුසියානු නිර්ධන පංතියට සෝවියට් සමූහාණ්ඩුව යටතේ ලබා ගත හැකි වීද යන්න සැකයට කරුණකි" (පිටුව 58).

මෙය නම් මානික්‍යයකි. නොඑසේද? මෙම කියමන හැකි තරම් පුළුල් ලෙස රුසියානු කම්කරුවන් අතර බෙදා හරින ලෙස කෞට්ස්කි අනුගාමිකයන්ට උපදෙස් දෙන්නෙමු. කෞට්ස්කිගේ දේශපාලන අවක්‍රමණයේ ගැඹුර මැන ගැනීමට මීට වඩා හොඳ සාධක සැපයීමේ හැකියාවක් ඔහුට නොවීය. සහෝදර කම්කරුවනි, කෞට්ස්කිද "සමාජවාදියෙක්ම" විය. නමුත් ඔහු "වෙනත් වර්ණයක" සමාජවාදියෙකි! ඉතිහාසඥ කෞට්ස්කි හුදෙක් නමකින්, එනම්, දක්ෂිණ සමාජවාදී-විප්ලවවාදීන් සහ මෙන්ෂෙවික්වරුන් තමන් සඳහා "හිමිකරගත්" නාමයෙන් සැනසෙයි. කෙරෙන්ස්කි යටතේ, මෙන්ෂෙවික්වරුන් සහ දක්ෂිණ සමාජවාදී-විප්ලවවාදීන් අධිරාජ්‍යවාදී ප්‍රතිපත්තියට හා ධනපතියන්ගේ චෞරව ක්‍රියා කලාපයට ආධාර දුන් බව පෙන්වන කරුණුවලට කන්දීම පවා ඉතිහාසඥ කෞට්ස්කි ප්‍රතික්ෂේප කරයි. ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයේ බහුතරය සමන්විත වූයේ අධිරාජ්‍යවාදී යුද්ධයේ සහ ධනපති ආඥාදායකත්වයේ මෙම වීරයන්ගෙන්මය යන සත්‍ය කරුණ ගැන ඔහු විචාරවත් සේ නිහඬ වෙයි. ඒ මදිවාට, ඔහු මෙය "ආර්ථික විශ්ලේෂණය" යනුවෙන්ද හඳුන්වයි!

අවසාන වශයෙන් මෙම "ආර්ථික විශ්ලේෂණයෙන්" තවත් ආදර්ශමත් කොටසක් උපුටා දක්වමි:

"...සෝවියට් සමූහාණ්ඩුව, එහි නව මසක පැවැත්මෙන් පසුව පොදු යහපත පතුරුවා හරිනවා වෙනුවට, සෑම තැනම අගහිඟකම් පවතින්නේ මන්දැයි පැහැදිලි කිරීමට එයට සිදු වී තිබේ" (පිටුව 41).

එබඳු තර්ක කැඩෙට්වරුන්ගේ මුවින් අසා අපට පුරුදුය. රුසියාවේ ධනපති පංතියේ බැලයන් සියලු දෙනාම තර්ක කරන්නේ මේ ආකාරයෙනි: නව මාසයකින් පසුව නුඹලාට ලැබී තිබෙන යහපත පෙන්වා පල්ලා. මෙසේ කියන්නේ, මහා විනාශකාරී යුද්ධයේත්, ඒ සමගම කඩාකප්පල් කිරීමේ සහ කැරළි ගැසීමේ යෙදුනු රුසියාවේ ධනපති

පංතියට විදේශීය ප්‍රාග්ධනය දුන් සර්වපාර්ශවීය ආධාරයේත්, සතර වර්ෂයකින් පසුවය. ඇත්ත වශයෙන්ම කෞට්ස්කි සහ ප්‍රතිවිප්ලවවාදී ධනපතියෙක් අතර කිසිම වෙනස් කමක් ඉතිරි වී නැත. "සමාජවාදයේ" වෙස්ගැන්වූ ඔහුගේ පැණි රස කළ කථාවලින් කෙරෙන්නේ, රුසියාවේ කර්නිලව් පිරිස්, දූකොව් පිරිස් සහ ක්‍රස්නොව් පිරිස් ගොරහැඩි ලෙස, එක එල්ලේම සහ ආටෝපයෙන් තොරව කී දේම නැවත නාද කිරීමක් පමණකි.

* * *

ඉහත වැකි ලියන ලද්දේ 1918 නොවැම්බර් 9 වැනි දිනය. එම රාත්‍රියේම ලැබුණු ආරංචිවලින් ප්‍රකාශ වූ පරිදි, ජර්මනියේ ජයග්‍රාහී විප්ලවයක් ආරම්භ වී තිබේ. එය ප්‍රථමයෙන් කීල් සහ වෙනත් උතුරු දිග නගරවලින් සහ වරායවලින් ඇරඹී, ඒවායේ බලය කම්කරු සහ සොල්දදු නියෝජිතයන්ගේ සෝවියට් සභා අතට පත් වී තිබේ. ඊළඟට බර්ලිනයේද බලය මණ්ඩලයක් අතට පත්ව තිබේ.[72]

කෞට්ස්කි ගැන සහ නිර්ධන පංති විප්ලවය ගැන වූ මගේ පොතෙහි, තවමත් ලිවීමට ඉතිරිව තිබුණු අවසානය දැන් අනවශ්‍ය වී තිබේ.

1918 නොවැම්බර් 10 — එන්. ලෙනින්

උපග්‍රන්ථය I

## ආණ්ඩුක්‍රම සම්පාදක මණ්ඩලය ගැන ප්‍රවාද

උපග්‍රන්ථය II

## රාජ්‍යය ගැන වන්දෙර්වෙල්දේගේ අළුත් පොත

වන්දෙර්වෙල්දේගේ "රාජ්‍යයට විරුද්ධව සමාජවාදය" (1918 පැරිස්) නැමති පොත ගැන විස්තර දැන ගැනීමේ අවස්ථාව මට ලැබුණේ, මා කෞට්ස්කිගේ පොත කියවා නිම කළ පසුව පමණකි. මෙම පොත් දෙක සංසන්දනය කර බැලීමේ අදහස නිරායාසයෙන්ම මතු වේ. කෞට්ස්කි දෙවැනි ජාත්‍යන්තරයේ 1889-1914 දෘෂ්ටිවාදී නායකයා වන අතර වන්දෙර්වෙල්දේ ජාත්‍යන්තර සමාජවාදී බියුරෝ සභාවේ[73] සභාපති හැටියට එහි නිල නියෝජිතයා වේ. මේ දෙදෙනාම දෙවැනි ජාත්‍යන්තරයේ සම්පූර්ණ බංකොලොත් භාවය නියෝජනය කරන්නෝ වෙති. එසේම, පළපුරුදු පුවත්පත් කලාවේදීන් සතු හුරුබුහුටිකම් ඇති මේ දෙදෙනාම, මෙම බංකොලොත් භාවයත්, ඔවුන්ගේම බංකොලොත් භාවය සහ ධනපති පැත්තට පැන යාමත් මාක්ස්වාදී හැඩ ගැන්වූ උගුල් වදන් යොදමින් ඉතා "දක්ෂ" ලෙස වසං කරති. ඉන් එක් අයෙක්, ජර්මන් අවස්ථාවාදයට හරියටම ගැලපෙන සේ මහා ලොකු කථා ඇදබැම, න්‍යායික විග්‍රහයන් කිරීම හා ධනපතියන්ට පිළිගත නොහැකි සියල්ල මාක්ස්වාදයෙන් කපා හැරීමෙන් එය හාත්පසින්ම විකෘති කිරීම පිළිබඳව අපට දෙන්නේ සිත්කාවදින ආදර්ශයකි. අනෙක් තැනැත්තා එම මූලික විධියම අනුව යන, එහෙත් වඩාත් සියුම් ආකාරයෙන් මාක්ස්වාදය විකෘති කරන ලතින් වර්ගයේ, නැතහොත්, අයෙකුට බටහිර යුරෝපීය (එනම් ජර්මනියේ බටහිර) යයි කිව හැකි වර්ගයේ අවස්ථාවාදයේ ප්‍රතිරූපයකි.

මේ දෙදෙනාම රාජ්‍ය ගැනත්, එමෙන්ම, නිර්ධන පංති ආඥාදායකත්වය ගැනත් වූ මාක්ස්ගේ උගැන්වීම් හාත්පසින්ම විකෘති කරති. වන්දෙර්වෙල්දේ ඉන් මුල් විෂය ගැනත්, කෞට්ස්කි අනික ගැනත් විස්තර කර ඇත. මෙම මාතෘකා දෙක අතර තිබෙන ඉතා සමීප සම්බන්ධය අඳුරු කිරීම මේ දෙදෙනා විසින්ම සිදු කරනු ලැබේ. මේ දෙදෙනාම වචනයෙන් විප්ලව-

වාදීන් වන නමුත්, තමන් විප්ලවයෙන් ඈත් වීමට සෑම පරිශ්‍රමයක්ම දරන ද්‍රෝහීන් වෙති. මාක්ස්ගේ හා එංගල්ස්ගේ කෘතීන් පාරගමනය කළ සහ සමාජවාදයත්, ධනපතියන් අඳින එහි විකට රූපයත් වෙන් කොට හඳුන්වන කිසිවක් මොවුන් දෙදෙනාගෙන් එකෙකු හෝ කෙරෙහි දක්නට නොලැබේ. නැතහොත්, ප්‍රතිසංස්කරණයේ කර්තව්‍යයන්ගෙන් වෙනස් වන පරිදි විප්ලවයේ කර්තව්‍යයන් පැහැදිලි කිරීමද, ප්‍රතිසංස්කරණවාදී උපක්‍රමවලින් වෙනස් වන පරිදි විප්ලවවාදී උපක්‍රම පැහැදිලි කිරීමද, ධනපතියන්ගේ අධිරාජ්‍යවාදී අධිලාභවලින් සහ කොල්ලකාගත් අධිවස්තුවෙන් ඉතා සුළු කොටසක් ඔවුන් සමග බෙදාගන්නා ''මහ බලවත්'' රටවල නිර්ධන පංතිය ඉටු කළ කාර්ය කොටසට වෙනස් වන පරිදි, වෛතන වහල් ක්‍රමය, සමාජය, නැතහොත්, පාලනය අහෝසි කිරීමේදී නිර්ධන පංතියට භාර වන කාර්ය කොටස පැහැදිලි කිරීමද මොවුන්ගෙන් එකෙක් හෝ නොකරයි.

මෙම මතය සනාථ කරනු වස් වන්දෙර්වෙල්දේගේ ඉතාමත් වැදගත් තර්කවලින් කීපයක් උපුටා දක්වමු.

කෞට්ස්කි මෙන්ම වන්දෙර්වෙල්දේද මාක්ස් හා එංගල්ස් කී දේ ඉතා උත්සුක්ත ලෙස උපුටා දක්වයි. කෞට්ස්කි මෙන්ම ඔහුද, ධනපතියන්ට පිළිගත නොහැකි දේ සහ විප්ලවවාදියෙක් යනු කවරෙක් දැයි ප්‍රතිසංස්කරණවාදියෙකුගෙන් වෙන්කොට හඳුන්වා දෙන දේ හැර, ඔබ කැමති වෙනත් ඕනෑම දෙයක් මාක්ස්ගෙන් හා එංගල්ස්ගෙන් උපුටා දක්වයි. නිර්ධන පංතිය විසින් බලය අල්වා ගැනීම ගැන ඔහු කෙළවරක් නැතිව කථා කරයි. ඔහු ඒ ගැන කථා කරන්නේ ව්‍යවහාරය විසින් එය තරයේම පාර්ලිමේන්තු සීමා තුළට කොටු වී හමාර හෙයිනි. නමුත්, කොටසක් කල් ඉක්ම ගිය ''කොමියුනිස්ට් ප්‍රකාශනයට'' අතිරේකයක් ලෙසින්, සද නිමකළ රාජ්‍ය යන්ත්‍රය එලෙසින්ම අත්පත් කර ගැනීම කම්කරු පංතියට කළ නොහැකි යයිද, ඔවුන් එය සුන් කළ යුතු යයිද කියන සත්‍යය එකතු කිරීමේ අවශ්‍යතාවය පැරිස් කොමියුනයේ අත් දැකීමෙන් පසුව මාක්ස්ට හා එංගල්ස්ට පෙනී යාම හා සම්බන්ධයෙන් කීමට ඔහුට එක වචනයක්වත් ඇත්තේ නොවේ! නිර්ධන පංති විප්ලවයේ අත්දැකීමෙහි ඉතාමත් වැදගත් කොටස්, එනම්, නිර්ධන පංති විප්ලවය ධනපති ප්‍රතිසංස්කරණවලින් වෙන්කර පෙන්නුම් කරන එම නියත කොටස්ම කෞට්ස්කි හා වන්දෙර්වෙල්දේ නිහඬ ලෙස මඟ හැර යන්නේ හරියටම එකඟත්වයකින් මෙනි.

කෞට්ස්කි මෙන්ම වන්දෙර්වෙල්දේද නිර්ධන පංති ආඥාදායකත්වය ගැන කථා කරන්නේ එයින් ඈත්වීම සඳහා පමණකි. කෞට්ස්කි එයින් දුරස් වූයේ ලොකු බොරු උපයෝගී කර ගනිමිනි. වන්දෙර්වෙල්දේ වඩාත් සියුම් ආකාරයෙන් එය කරයි. තම පොතේ, ''නිර්ධන පංතිය විසින් දේශපාලන බලය අත්පත් කර ගැනීම'' ගැන සඳහන් කෙරෙන කොටස වන 4 වැනි කොටසෙහි ''ආ'' අනුකොටස ''නිර්ධන පංතියේ සාමූහික ආඥාදායකත්වය'' යන ප්‍රශ්නය සඳහා මිඩංගු කරන ඔහු මාක්ස්ගෙන් හා එංගල්ස්ගෙන් උපුටාගත් කොටස් ඉදිරිපත් කරමින් (ප්‍රධාන කරුණ, එනම්, පැරණි ධනපති ප්‍රජාතන්ත්‍රවාදී රාජ්‍ය යන්ත්‍රය සුන් කිරීමේ නියත ප්‍රශ්නයම අත්හරිමින් යයි මම නැවතත් කියමි) මෙසේ නිගමනය කරන්නේය:

''...සමාජවාදී පිරිස් අතර සමාජ විප්ලවය ගැන පොදුවේ ඇත්තේ මෙබඳු අදහසකි: මෙවර එක තැනක නොව ධනපති ලෝකයේ ප්‍රධාන මධ්‍යස්ථානවල ජයග්‍රහණයට පත්වන නව කොමියුනයක්.

මෙය කල්පිතයකි. නමුත්, පශ්චාත්-යුද්ධ සමයේදී බොහෝ රටවල පෙර නොවූ විරූ තරම් බරපතල පංති විරෝධතාවයන් සහ සමාජ කැලඹීලි ඇති වෙතැයි යන්න පැහැදිලිව පෙනෙන නිසා, මෙය සිදු විය නොහැකි දෙයක් සේ ගිණිය නොහැක.

රුසියානු විප්ලවයේ දුෂ්කරතාවයන් ගැන කතා නොකරතත්, පැරිස් කොමියුනය අසාර්ථක වීමෙන් කිසියම් හෝ දෙයක් ඔප්පු වන්නේ නම්, ඒ අනිකක් නොව, වට පිටාවේ සිදුවීම් හේතුවෙන් නිර්ධන පංතිය අතට පත්විය හැකි බලයෙන් නිසි ප්‍රයෝජන ගැනීමට එය ප්‍රමාණවත් තරම් සූදානම් වනතුරු ධනපති ක්‍රමය කිසිසේත් අවසන් කළ නොහැකි බවයි'' (පිටුව 73).

සාකච්ඡාවට විෂය වූ කරුණ ගැන මීට වඩා කිසිම දෙයක් කියා නැත!

දෙවැනි ජාත්‍යන්තරයේ නායකයන්ගේ හා නියෝජිතයන්ගේ හැටි ඔහොමයි! 1912 දී ඔවුහු බාසල් ප්‍රකාශනය අත්සන් කළහ. 1914 දී ආරම්භ වූ එම යුද්ධයම හා නිර්ධන පංති විප්ලවය අතර සම්බන්ධය ගැන ඉඳුරාම කියන එම ප්‍රකාශනය ඇත්තෙන්ම එම විප්ලවය තර්ජනයක් ලෙසට හුවා දක්වයි. නමුත් යුද්ධය ආරම්භ වී විප්ලවීය තත්ත්වය උද්ගත වූ පසු, කෞට්ස්කිලා සහ වන්දෙර්වෙල්දේලා විප්ලවයෙන් ඈත් වීමට පටන්ගත්හ. පැරිස් කොමියුනය වර්ගයේ විප්ලවයක් යනු නොසිදුවෙතැයි කිව නොහැකි කල්පිතයක් පමණකි! මෙය, සෝවියට් සභා යුරෝපයේ ඉටු කරනු ඇති කාර්ය කොටස සම්බන්ධයෙන් කෞට්ස්කි ඉදිරිපත් කළ තර්කයට බොහෝ සෙයින්ම සමානය.

සෑම උගත් ලිබරල්වාදියෙක්ම තර්ක කරන්නේද ඒ ආකාරයෙනි. දැන්, කොමියුනය ''ඇති නොවෙතැයි කිව නොහැකි'' නිසා සෝවියට් සභා ඉටු කළ යුතු විශාල කාර්ය භාරයක් ඇත යනාදිය කියමින් ඔහු එකඟත්වය පළ කරයි. නිර්ධන පංතික විප්ලවවාදියා න්‍යායවාදියෙක්

ලෙසට කටයුතු කරමින් රාජ්‍යයක් වශයෙන් කොමියුනයේ සහ සෝවියට් සභාවල ඇති නව වැදගත් කම ගැන විග්‍රහ කර බලන නිසාම, ඔහු ලිබරල්වාදියාගෙන් වෙනස් වන්නේය. කෙසේ හෝ වේවා, මාක්ස් සහ එංගල්ස් පැරිස් කොමියුනයේ අත්දැකීම් ගැන විග්‍රහ කරමින් විෂය කරුණු ගැන දීර්ඝ වශයෙන් ගෙන හැර දැක්වූ සියල්ල නිහඬව අත්හැර දැමීම වන්දෙර්වෙල්දේ කර තිබේ.

නිර්ධන පංති විප්ලවයක (පැරිස් කොමියුනය වර්ගයේ, සෝවියට් වර්ගයේ හෝ සමහර විට වෙනත්, තුන්වැනි වර්ගයක) අවශ්‍යතාවය ගැන පැහැදිලි කිරීම, ඒ සඳහා සූදනම් වීමේ අවශ්‍යතාවය විස්තර කිරීම, විප්ලවය සඳහා ජනතාව අතර ප්‍රචාරය කිරීම, ඊට විරුද්ධ සුළු ධනපති දුර්මතයන් නිෂ්ප්‍රභා කිරීම, යනාදී කර්තව්‍යයන් මඟ හැර යාමට දැන් පුළුවන් කම තිබෙන්නේ සමාජවාදයට ද්‍රෝහී වූවන්ට පමණක් බව පෙන්නුම් කර දීම ප්‍රායෝගික කාරකවරයෙක් ලෙසට, දේශපාලනඥයෙක් ලෙසට මාක්ස්වාදීයෙකුගේ යුතුකම වී තිබුණි.

නමුත්, කෞට්ස්කි හෝ වන්දෙර්වෙල්දේ හෝ එවැනි කිසිවක් කරන්නේ නැත. එයට හේතුව ඔවුන් ඒකාන්ත වශයෙන් සමාජවාදයට ද්‍රෝහී වී සිටින අතරම, සමාජවාදීන් හා මාක්ස්වාදීන් වශයෙන් ඔවුන්ට කම්කරුවන් අතර තිබෙන ගෞරවය රැක ගැනීමට උවමනා වී තිබීමය.

න්‍යායික වශයෙන් ප්‍රශ්නය ඉදිරිපත් කර තිබෙන ආකාරය ගෙන බලමු.

රාජ්‍යය වූකලී, එක පංතියක් විසින් තවත් එකක් මර්දනය කිරීමේ අවියක් මිස අන් කිසිවක් නොවේ. ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුවක් වුවද එසේය. කෞට්ස්කි මෙම සත්‍යය හොඳින් දන්නේය. ඔහු එය පිළිගනියි. නමුත්... නිර්ධන පංති රාජ්‍යය ස්ථාපිත කළ පසු, නිර්ධන පංතිය විසින් මර්දනය කළ යුත්තේ කුමණ පංතියක්ද, ඒ කුමණ හේතුවක් නිසාද සහ කුමණ මාධ්‍යයෙන්ද යන මූලික ප්‍රශ්නයට මුහුණ නොදී ඔහු මග හරියි.

වන්දෙර්වෙල්දේද මාක්ස්වාදයේ මෙම මූලික ප්‍රස්තුතය හොඳින් දන්නේය. එය පිළිගන්නේය. එයට එකඟ වන්නේය. එය උපුටා දක්වන්නේය (ඔහුගේ පොතෙහි පිටුව 72). නමුත්, සූරාකන්නන්ගේ ප්‍රතිරෝධය මර්දනය කිරීමේ "අප්‍රසන්න" (ධනපති මහත්වරුන්ට අප්‍රසන්න) මාතෘකාව ගැන ඔහු වචනයක් හෝ කියන්නේ නැත.

වන්දෙර්වෙල්දේ සහ කෞට්ස්කි යන දෙදෙනාම මෙම "අප්‍රසන්න" මාතෘකාව මඟ හැරියහ. ඔවුන් පිළිහැර ගිය බව එයින් පෙනේ.

කෞට්ස්කි මෙන්ම වන්දෙර්වෙල්දේද, දයලෙක්තික ක්‍රමය වෙනුවට සාර සංග්‍රහවාදය ආදේශ කිරීමේ අති දක්ෂයෙකි. එක් අතකින් එය නොපිළිගෙන බැරි අතර, අනිත් අතින් නිදහසට කරුණු කිව යුතුය.



එක් අතකින් රාජ්‍යය යන පදයෙන් අදහස් වන්නේ "සමස්ත ජාතියම" (ලිත්‍රෙගේ ශබ්දකෝෂය බලන්න — මෙය වියත් කෘතියකැයි යන්න ප්‍රතික්ෂේප කළ නොහැකිය. එසේම වන්දෙර්වෙල්දේගේ පොතෙහි පිටුව 87 බලන්න) වන අතර අනිත් අතින් රාජ්‍යය යන පදයේ අර්ථය "ආණ්ඩුව" විය හැකිය (එම කෘතියෙහිම). මෙම මහ දැනමුතු කියමනට එකඟත්වයක් පාන වන්දෙර්වෙල්දේ, මාක්ස්ගෙන් ගත් කොටස් සමග එක ළඟින් සිටින සේ එය උපුටා දක්වයි.

"රාජ්‍යය" යන වචනයෙහි මාක්ස්වාදී අර්ථය, එහි සාමාන්‍ය අර්ථයට වඩා වෙනස් යයි වන්දෙර්වෙල්දේ ලියයි. එනිසා වැරදි මත ඇති විය හැකිය. "මාක්ස් හා එංගල්ස් සලකන ලෙසට රාජ්‍යය යනු පුළුල් අර්ථයෙන් රාජ්‍යය නොවේ. සමාජයේ පොදු උවමනාවන් (intérêts généraux de la Société) නියෝජනය කරන මාර්ග දේශක ආයතනයක් නොවේ. එය බලයක් වන රාජ්‍යයය. අධිකාරබලධාරී ආයතනයක් වන රාජ්‍යය. එක පංතියක් අනික අභිභවා පාලනය කරන රාජ්‍යය" (වන්දෙර්වෙල්දේගේ පොතෙහි පිටු 75–76).

මාක්ස් හා එන්ගල්ස් රාජ්‍යය අහෝසි කිරීම ගැන කථා කළේ එහි දෙවැනි අර්ථයෙන් පමණකි... "පමණට වඩා නිරපේක්ෂ සහතික කිරීම් නිවැරදි නොවීමේ අනතුරට ලක්වේ. තනිකරම එක පංතියක පාලනය පදනම් කරගත් ධනපති රාජ්‍යයක්, සියලුම පංති අහෝසි කිරීම පදනම් කරගත් නිර්ධන පංති රාජ්‍යයක් අතර පරිවර්තනීය අවධි රැසක් ඇත" (පිටුව 156).

කෞට්ස්කි යොදගත් ආකාරයට වඩා ස්වල්ප වශයෙන් පමණක් වෙනස්, එහෙත්, අර්ථයෙන් ඊට සම්පාත වන වන්දෙර්වෙල්දේගේ "ආකාරය" පිළිබඳ නිදර්ශනයක් ඔබට මෙයින් දැක්ක හැකිය. පරම සත්‍යයන් නොපිළිගන්නා දයලෙක්තික ක්‍රමය, විරුද්ධාර්ථයන්ගේ අනුක්‍රමික වෙනස්වීම් සහ ඉතිහාසයේ අර්බුදවල වැදගත්කම පැහැදිලි කරයි. සාරසංග්‍රහවාදියාට "පමණට වඩා නිරපේක්ෂ" ප්‍රස්තුතයන් අවශ්‍ය නොවේ. ඒ, විප්ලවය වෙනුවට "පරිවර්තනීය අවධි" ආදේශ කිරීමේ ඔහුගේ අමන ආශාව පෙරට දැමීමට ඔහුට උවමනා නිසාය.

ධනපති පංතියේ පාලනයේ ආයතනය වන රාජ්‍යය සහ නිර්ධන පංතියේ පාලනයේ ආයතනය වන රාජ්‍යය අතර තිබෙන පරිවර්තනීය අවධිය විප්ලවය වන්නේ යයිද, ධනපතියන් බලයෙන් නෙරපා දැමීම සහ ඔවුන්ගේ රාජ්‍යයන්ත්‍රය කැඩීම, සුන්කිරීම එයින් අදහස් වන්නේ යයිද කියන කරුණ ගැන කෞට්ස්කිලා සහ වන්දෙර්වෙල්දේලා කිසිවක් නොබෙනෙති.

ධනපති පංතියේ ආඥාදායකත්වය වෙනුවට එක පංතියක, එනම්,

නිර්ධන පංතියේ ආඥාදායකත්වය ආදේශ කළ යුතු යයිද, විප්ලවයේ "පරිවර්තනීය අවධිවලින්" පසුව නිර්ධන පංති රාජ්‍යය ක්‍රමික ලෙස හැකිළී යාමේ "පරිවර්තනීය අවධි" එනු ඇතැයිද කියන කරුණ සඟවා තැබීමට කෞට්ස්කිලා සහ වන්දෙර්වෙල්දේලා උනන්දු වෙති.

ඔවුන් පිළ හැර ගිය බව එයින් පෙනේ.

දයලෙක්තික ක්‍රමය වෙනුවට, න්‍යායික සහ දර්ශනික වශයෙන් ඔවුන්ගේ සාරසංග්‍රහවාදය සහ විතණ්ඩවාදය ආදේශ කිරීම දක්නට ඇත්තේ එහිය. දයලෙක්තික ක්‍රමය යථානුභූතය. විප්ලවවාදීය. එය එක පංතියක ආඥාදායකත්වයේ සිට තවත් පංතියක ආඥාදායකත්වයට "පරිවර්තනය වීමත්", ප්‍රජාතන්ත්‍රවාදී නිර්ධන පංති රාජ්‍යයේ සිට රාජ්‍යයක් නැති තත්ත්වයට ("රාජ්‍ය හැකිළී යාම") "පරිවර්තනය වීමත්" වෙන්කොට හඳුන්වන්නේය. ධනපති පංතිය සතුටු කිරීම පිණිස කෞට්ස්කිලාගේ සහ වන්දෙර්වෙල්දේලාගේ සාරසංග්‍රහවාදයෙන් සහ විතණ්ඩවාදයෙන් කෙරෙන්නේ පංති අරගලයේ ඇති සියලුම යථාභූත හා නියත දේ අපැහැදිලි කිරීමත්, තමන්ගේ විප්ලවය හැරයාම සැඟවීමට (අපගේ කාලයේ නිල සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් දහයෙන් නව දෙනෙක්ම සඟවන ලෙසට) කඩතුරාවක් කොටගත හැකි "පරිවර්තනයේ"සාමාන්‍ය සංකල්පය ඉදිරියට දැමීමත්ය!

සාරසංග්‍රහවාදියෙක් ලෙසට හා විතණ්ඩවාදියෙක් ලෙසට වන්දෙර්වෙල්දේට ඇත්තේ කෞට්ස්කිට වඩා කුසලතා පූර්ණ හා සියුම් හැකියාවකි. එසේ කියන්නේ "පටු අර්ථයේ රාජ්‍යයේ සිට පුළුල් අර්ථයේ රාජ්‍යයට පරිවර්තනය වීම" යන වාක්‍ය කොටස යොදා ගනිමින් විප්ලවයට අදාළ සෑම සියලු ප්‍රශ්නයක්ම, විප්ලවය හා ප්‍රතිසංස්කරණය අතර වෙනස්කම් සියල්ලම සහ මාක්ස්වාදියා හා ලිබරල්වාදියා අතර වෙනස පවා මඟ හැර යාමට හැකි හෙයිනි. මෙම "සාමාන්‍ය" අර්ථයෙන්, "පරිවර්තනීය අවධි" "සාමාන්‍යයෙන්" ප්‍රතික්ෂේප කිරීම ගැන යුරෝපීය අධ්‍යාපනයක් ඇති ධනපතියන් කියනු ඇත්තේ කුමක්ද?

වන්දෙර්වෙල්දේ මෙසේ ලියයි:

"පහත සඳහන් කොන්දේසි දෙක ඉටු නොකර නිෂ්පාදන හා හුවමාරු මාධ්‍යයන් සමාජ සන්තක කිරීම කිසිසේත් කළ නොහැකි යයි යන්න ගැන මම ගෙද් සමග එකඟ වෙමි:

1. එක පංතියක් අභිභවා තවත් පංතියක් විසින් කරන පාලනය වන වර්තමාන රාජ්‍යය, නිර්ධන පංතිය විසින් දේශපාලන බලය අල්ලා ගනු ලැබීම තුළින්, මෙන්ගෙර් ජනතා ශ්‍රම රාජ්‍යය යනුවෙන් විස්තර කළ තත්ත්වයට පරිවර්තනය කිරීම.

2. අධිකාරයේ ආයතනයක් වන රාජ්‍යය, මාර්ග දේශක ආයතනයක්



වන රාජ්‍යයෙන් වෙන් කිරීම නැතහොත්, සේන්ට් සිමොන්ගේ කියමනක් යොදතොත්, මිනිසුන් පරිපාලනය කිරීමත්, ද්‍රව්‍ය පරිපාලනය කිරීමත් වෙන් කිරීම" (පිටුව 89).

වන්දෙර්වෙල්දේ මෙම ප්‍රස්තුතයන් විශේෂයෙන් අවධාරණය කරමින් මෙම කොටස ඇල අකුරින් දක්වීය. මෙය නම් හුදෙක්ම සාරසංග්‍රහවාදී මැල්ලුමක් හා මාක්ස්වාදයෙන් සම්පූර්ණයෙන්ම බැහැර වීමක් වේ! "ජනතා ශ්‍රම රාජ්‍යය" යනු අනෙකක් නොව, හැත්තෑ ගණන්වලදී ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් ප්‍රදර්ශනය කළ සහ එංගල්ස් විසින් විකාරයක් ලෙසට විස්තර කරන ලද,[74] "නිදහස් ජනතා රාජ්‍යය" වෙනත් වචනවලින් විස්තර කිරීමක් පමණකි. "ජනතා ශ්‍රම රාජ්‍යය" යනු (අපගේ වාම සමාජවාදී-විප්ලවවාදීන් වැනි) සුළු ධනපති ප්‍රජාතන්ත්‍රවාදීන්ට සුදුසු වාක්‍ය කොටසකි. එය පංති සංකල්පයන් වෙනුවට පංතිමය නොවන සංකල්පයන් ආදේශ කිරීමකි. නිර්ධන පංතිය විසින් (එක පංතියක් විසින්) රාජ්‍ය බලය අල්ලා ගනු ලැබීම "ජනතා" රාජ්‍යය සමග එක මට්ටමේ ලන වන්දෙර්වෙල්දේ, එයින් ඇති වන්නේ මැල්ලුමක් බව දකින්නේ නැත. කෞට්ස්කි කියා ඇති දෙයින් හා ඔහුගේ "පිරිසිදු ප්‍රජාතන්ත්‍රයෙන්" ඇති වන්නේද එවැනිම මැල්ලුමකි. පංති විප්ලවයේ, පංතිමය, නිර්ධන පංතික ආඥාදායකත්වයේ, පංතිමය (නිර්ධන) රාජ්‍යයේ කර්තව්‍යයන් ගැන එවැනිම අමන නොසලකා හැරීමකි.

තවද, ද්‍රව්‍ය පරිපාලනයට ඉඩදී, මිනිසුන් පරිපාලනය කිරීම ඉවත් වන්නේ රාජ්‍ය ආකෘති සියල්ලම හැකිළී] ගිය පසුවය. සාපේක්ෂ වශයෙන් ඈත තිබෙන මෙම අනාගතය ගැන කථා කිරීමෙන් වන්දෙර්වෙල්දේ හෙටට නියමිත කර්තව්‍යය, එනම්, ධනපති පංතිය බලයෙන් නෙරපා දැමීම යට කරයි, අඳුරු කරයි.

මෙම කපටිකමද ලිබරල් ධනපතියන්ට යටහත් පහත් වීමට සමාන වන්නකි. මිනිසුන් ආණ්ඩු කිරීමට අවශ්‍ය නොවන කල කළ යුතු දේ ගැන කථා කිරීමට ලිබරල්වාදියා කැමතිය. එවැනි අහිංසක සිහින ගැන කථා කිරීමේ වරද කුමක්ද? නමුත් ධනපතියන් අසන්තක කිරීමට විරුද්ධව ඔවුන් දක්වන ප්‍රතිරෝධය මර්දනය කිරීමට නිර්ධන පංතියට සිදුවන බව ගැන වචනයක්වත් නැත. ඒ ගැන කථා නොකිරීම ධනපතියන්ගේ පංති උවමනාවන් සඳහා අවශ්‍ය වන්නේය.

"රජ්‍යයට විරුද්ධව සමාජවාදය". එය වන්දෙර්වෙල්දේ නිර්ධන පංතියට කරන ආචාරයයි. හිස නමා ආචාර කිරීම දුෂ්කර දෙයක් නොවේ. තමන්ගේ ඡන්ද දායකයන්ට ආචාර කළ යුත්තේ කෙසේද යන්න සෑම "ප්‍රජාතන්ත්‍රවාදී" දේශපාලනඥයෙක්ම දන්නේය. අනිත් අතට

‘‘ආචාරයක’’ මුවාවෙන් විප්ලව විරෝධී, නිර්ධන පංති විරෝධී අර්ථයක් අභවනු ලැබේ.

නවීන ධනපති ප්‍රජාතන්ත්‍රවාදයේ ශිෂ්ටාචාරවත්, ඔප දැමූ සහ සුවඳ කැවූ පිට පොත්ත යට මොන තරම් රැවටිලි, හිංසන, දූෂණ, බොරු, වංචා සහ දුප්පතුන්ට කරන පීඩනය සඟවා තිබේද යන්න පෙන්නුම් කිරීම සඳහා වන්දෙර්වෙල්දේ අස්ත්‍රොගෝර්ස්කිගේ කියමන්[75] දිගින් දිගටම තමන්ගේ වචනවලින් ඉදිරිපත් කරයි. නමුත් ඔහු එයින් කිසිම නිගමනයකට බැස ගන්නේ නැත. ධනපති ප්‍රජාතන්ත්‍රවාදය වැඩ කරන සහ සූරාකනු ලබන ජනතාව මර්දනය කරන බවත්, නිර්ධන පංති ප්‍රජාතන්ත්‍රවාදයට ධනපතියන් මර්දනය කිරීමට සිදු වන බවත් දැකීමට ඔහු අපොහොසත් වන්නේය. කෞට්ස්කි හා වන්දෙර්වෙල්දේ මෙයට අන්ධයහ. මාක්ස්වාදයට ද්‍රෝහී වූ මෙම සුළු ධනපති පංතිකයෝ ධනපති පංතිය පසු පස වැටි වැටී ඇදෙති. එම ධනපති පංතියේ උවමනාවන් ආරක්ෂා කිරීම පිණිස, මෙම ප්‍රශ්නය මඟ හැරීම, එය වසං කිරීම, නැතහොත්, එවැනි මර්දනයක් කිරීමේ අවශ්‍යතාවය කෙළින්ම ප්‍රතික්ෂේප කිරීම ඔවුන්ට අවශ්‍ය වේ.

මාක්ස්වාදයට විරුද්ධව සුළු ධනපති සාරසංග්‍රහවාදය, දයලෙක්තික ක්‍රමයට විරුද්ධව විතණ්ඩවාදය, නිර්ධන පංති විප්ලවයට විරුද්ධව අමන ප්‍රතිසංස්කරණවාදය — වන්දෙර්වෙල්දේගේ පොතට තැබිය යුතු වූ නම එයය.

1918 ඔක්තෝබර්-නොවැම්බර් මාසවල ලියන ලදී. උප ග්‍රන්ථය 1918 නොවැම්බර් 10 දට ඉක්බිතිව ලියන ලදී.

වී. අයි. ලෙනින්. සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 37, පිටු 235–338



## ධනපති ප්‍රජාතන්ත්‍රවාදය සහ නිර්ධන පංති ආඥාදායකත්වය ගැන ප්‍රවාද සහ වාර්තාව

### මාර්තු 4

1. විප්ලවවාදී කම්කරු ව්‍යාපාරය සෑම රටක්ම තුළ වැඩී යනු දකින ධනපතියෝ සහ කම්කරු සංවිධානවල සිටින ඔවුන්ගේ ඒජන්තවරු, සූරාකන්නන්ගේ පාලනය ආරක්ෂා කිරීමට උපයෝගී කර ගත හැකි දෘෂ්ටිමය සහ දේශපාලන තර්ක සොයා ගැනීම පිණිස ඉතාමත් නොඉවසිලිමත් ලෙස ප්‍රයත්න දරති. ආඥාදායකත්වය හෙළා දකිමින් හා ප්‍රජාතන්ත්‍රවාදය ආරක්ෂා කරමින් ඉදිරිපත් කරන තර්කය මෙයින් විශේෂ ප්‍රමුඛ තැනක් ගනී.ධනපති පුවත්පත් මගින් සහ 1919 පෙබරවාරියේ බර්න්හි පැවැත්වුනු ජාත්‍යන්තරවාදී සාකච්ඡා සභාව[77] මගින් දහසක් හඬින් නැවත නැවතත් වාදනය කරන ලද මෙම තර්කයේ ව්‍යාජ සහ වංචනික ස්වභාවය ගැන, සමාජවාදයේ මූලික ප්‍රතිපත්තිය පාවාදීම ප්‍රතික්ෂේප කරන සියල්ලන්ටම ඉතාමත් පැහැදිලිය.

2. ප්‍රථමයෙන්ම, මෙම තර්කය, ‘‘සාමාන්‍ය ප්‍රජාතන්ත්‍රවාදය’’ සහ ‘‘සාමාන්‍ය ආඥාදායකත්වය’’ පිළිබඳ සංකල්පයන් උපයෝගී කර ගන්නා සහ ඊට අදාළ පංති පිළිබඳ ප්‍රශ්නය මතු නොකරන එකකි. ජනප්‍රිය යයි කියන මෙම පංතිමය නොවන, නැතහොත්, පංති ඉක්මවූ අදහස ඉදිරියට දමන්නේ සමාජවාදයේ මූලික සිද්ධාන්තයක් වන, එහි පංති අරගල න්‍යාය සම්පූර්ණයෙන්ම විරූප කරන ආකාරයෙනි. ධනපති පංතියේ පැත්ත ගත් සමාජවාදීහු එම පංති අරගලය වචනයෙන් පිළිගන්නා අතර ව්‍යවහාරයේදී එය නොතකා හරිති. එසේ කියන්නේ, කිසිම ශිෂ්ටාචාර ධනපති රටක ‘‘සාමාන්‍ය ප්‍රජාතන්ත්‍රවාදය’’ නොපවතින හෙයිනි. එහි පවතින්නේ

ධනපති ප්‍රජාතන්ත්‍රවාදය පමණකි. තවද මෙහිදී මතු වන ප්‍රශ්නය ''සාමාන්‍ය ආඥාදායකත්වය'' පිළිබඳ එකක් නොව, පීඩිත පංතිය, එනම්, නිර්ධන පංතිය විසින්, එහි පීඩකයන් හා සූරාකන්නන්, එනම්, ධනපති පංතිය යටත් කොට, සූරාකන්නන් ඔවුන්ගේ ආධිපත්‍යය පවත්වා ගැනීමට සටන් කරමින් දක්වන ප්‍රතිරෝධය පරාජය කිරීම පිණිස පවත්වනු ලබන ආඥාදායකත්වයක් පිළිබඳ ප්‍රශ්නයකි.

3. ආඥාදායකත්වයේ කාලයක්, එනම්, දේශපාලන බලය දිනා ගැනීමේ සහ සූරාකන්නන් දක්වන ප්‍රතිරෝධය බලහත්කාරය යොදා මැඩලීමේ කාලයක් පසු නොකොට කිසිම පීඩිත පංතියකට බලයට පත්විය හැකි වූයේ වත්, බලයට පත්විය හැකි වන්නේ වත් නැති බව ඉතිහාසය අපට උගන්වයි. සූරාකන්නන් දක්වන එම ප්‍රතිරෝධය වූකලී, මරු නොතකන, ඉතා දරුණු හා ඕනෑම දෙයක් නොකර නොහරින ප්‍රතිරෝධයකි. ''සාමාන්‍ය ආඥාදායකත්වය'' හෙළා දකින සහ ''සාමාන්‍ය ප්‍රජාතන්ත්‍රවාදය'' හුවා දක්වන සමාජවාදීන් දූන් යම් ධනපති පිරිසක ආධිපත්‍යය ආරක්ෂා කරයිද, එම ධනපතියන් දියුණු රටවල බලයට පත්වූයේ, කැරළි ගසා නැගී සිටීම්ද, සිවිල් යුද්ධද, රජුන්, රදළයින්, වහල් හිමියන් සහ ඔවුන් යළි බලයට පත්වීමේ ප්‍රයත්නයන්ද බලහත්කාරයෙන් මර්දනය කිරීම් මාලාවක් මගිනි. මෙම ධනපති විප්ලවවල සහ මෙම ධනපති ආඥාදායකත්වයේ පංති ස්වභාවය ගැන, පොත්, පොත්පොඩි, සම්මේලන යෝජනා සහ ප්‍රචාරක කථා මගින් සෑම දේශයකම සමාජවාදීහු දශ ලක්ෂ ගණන් වාරවලදී ජනතාවට පැහැදිලි කරදී ඇත්තාහ. ''සාමාන්‍ය ප්‍රජාතන්ත්‍රවාදය'' ආරක්ෂා කිරීමට කරන කථා දඩමීමා කරගෙන දූන් ධනපති ප්‍රජාතන්ත්‍රවාදය ආරක්ෂා කිරීමත්, ''සාමාන්‍ය ආඥාදායකත්වය'' ගැන කරන සෝෂාවන් දඩමීමා කරගෙන නිර්ධන පංති ආඥාදායකත්වයට විරුද්ධව දූන් කරන මුරගෑම හා හඬ තැළීමත්, සමාජවාදය සම්පූර්ණයෙන්ම පාවා දීමක් වන්නේ එහෙයිනි. ඒ වූකලී, ඇත්ත වශයෙන්ම, ලෝකය මුලුල්ලේම ධනපති ප්‍රතිසංස්කරණවාදය ඇද වැටී තිබෙන සහ යුද්ධය නිසා විප්ලවීය තත්වයක් ඇති වී තිබෙන, මෙම ඒකාන්ත ඓතිහාසික අවස්ථාවේදීම ධනපති පැත්තට පැන යාමක්, නිර්ධන පංතියට ආවේනික එහි නිර්ධන පංති විප්ලවය එයට එපා කිරීමක් හා ධනපති ප්‍රතිසංස්කරණවාදය ආරක්ෂා කිරීමක් වේ.

4. ධනපති ශිෂ්ටාචාරයේ, ධනපති ප්‍රජාතන්ත්‍රවාදයේ සහ ධනපති පාර්ලිමේන්තු ක්‍රමයේ පංති ස්වභාවය පැහැදිලි කිරීමේදී සමාජවාදීන් සියලු දෙනාම කළේ, මාක්ස් හා එංගල්ස් ඉමහත් විද්‍යාත්මක යථාතථ්‍යතාවයකින් විස්තර කළ ඒ අදහස, එනම්, ඉතාමත් ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුව වුවද ධනපති පංතිය විසින් කම්කරු පංතිය මර්දනය කරනු



ලැබීම සඳහා, ධනපතියන් ස්වල්ප දෙනෙක් විසින් වැඩ කරන ජනතාව මර්දනය කරනු ලැබීම සඳහා ගන්නා අවියක් මිස අන් කිසිවක් නොවේය යන්න ප්‍රකාශ කිරීමය.[78] තමන් සමාජවාදයේ මෙම මූලික සත්‍යය පිළිගන්නා බව කම්කරුවන්ට දිවුරා කීම හා පොරොන්දු දීම නොකළ එකද විප්ලවවාදියෙක්, එකද මාක්ස්වාදියෙක්, දූන් ආඥාදායකත්වයට විරුද්ධව [illegible] ප්‍රජාතන්ත්‍රවාදයට පක්ෂව හඬ දෙවන ඔවුන් අතර ඇත්තේ නැත. නමුත් දූන්, විප්ලවවාදී නිර්ධන පංතිය සටන් කිරීමට සූදානම්ව සිටින විට සහ මෙම පීඩන යන්ත්‍රය විනාශ කර නිර්ධන පංති ආඥාදායකත්වය ස්ථාපිත කිරීමට කටයුතු කරමින් සිටින විට, සමාජවාදයට ද්‍රෝහී වූ මොවුහු, ධනපතියන් වැඩ කරන ජනතාවට ''පිරිසිදු ප්‍රජාතන්ත්‍රවාදය'' දී තිබෙන බවත්, ප්‍රතිරෝධය අත්හැර දමා තිබෙන බවත්, වැඩ කරන ජනතා බහුතරයට කීකරු වීමට ධනපතියන් කැමති බවත් කියති. ප්‍රාග්ධනය විසින් ශ්‍රම කරුවන් පීඩනයට පත් කිරීම සඳහා වූ රාජ්‍ය යන්ත්‍රය වැනි දෙයක් ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුවෙහි නැතැයි, කිසි කලෙකත් නොවී යයි, ඔවුහු සහතික කරති.



5. සමාජවාදීන් ලෙසට පෙනී සිටින සියලු දෙනාම පැරිස් කොමියූනය ගැන වචනයෙන් අගය කරති. ඔවුන් එසේ කරන්නේ පැරිස් කොමියූනයට කම්කරුවන්ගේ ලැදියා සහිත සහ අවංක අනුකූලතාවය ලැබෙන බව ඔවුන් දන්නා හෙයිනි. ධනපති පාර්ලිමේන්තු ක්‍රමය සහ ධනපති ප්‍රජාතන්ත්‍රවාදය, මධ්‍යතන කාල සීමා සමග සසඳන කල කොතරම් ප්‍රගතිශීලී ආයතන වුවත්, ඒවායේ ඓතිහාසීය සම්ප්‍රදායානුබද්ධ ස්වභාවය හා සීමිත වටිනාකමත්, නිර්ධන පංති විප්ලවයේ යුගයේදී ඒවා මූලික වශයෙන් වෙනස්වීම අනිවාරණීය අවශ්‍යතාවයක් බවත්, පැරිස් කොමියූනය විසින් පෙන්නුම් කෙරිණ. කොමියූනයේ ඓතිහාසික අගය ඉතාමත් හොඳින් ගෙන හැර දක්වූ තැනැත්තා මාක්ස්ය. පාර්ලිමේන්තුව තුළ සිටිමින් ජනතාව ''නියෝජනය සහ මර්දනය'' (ver-und zertreten) කළ යුත්තේ දේපල හිමි පංතියේ කුමණ නියෝජිතයාද යන්න අවුරුදු කීපයකට වරක් තීරණය කිරීමේ අයිතිය පමණක් පීඩිත පංතිවලට දෙන ධනපති ප්‍රජාතන්ත්‍රවාදයේ සහ ධනපති පාර්ලිමේන්තු ක්‍රමයේ සූරාකන ස්වභාවය ගැන, මාක්ස් ඔහුගේ විග්‍රහයෙන් හෙළිදරව් කළේය.[79] සමාජවාදයට ද්‍රෝහී වුවන් පැරිස් කොමියූනයේ නියත අත්දැකීම් සහ නියත පාඩම් අමතක කරන්නේ සහ ''සාමාන්‍ය ප්‍රජාතන්ත්‍රවාදය'' පිළිබඳ ධනපති බහුබූත ප්‍රතිරාවය දෙවන්නේ, සෝවියට් ව්‍යාපාරය ලෝකය මුළුල්ලේම පැතිරෙමින්, සෑම දෙනාටම පෙනෙන සේ කොමියූනයේ කාර්යය දිගටම කරගෙන යන මෙම අවස්ථාවේය.

6. කොමියූනය ධනපති රාජ්‍ය යන්ත්‍රයේ, නිලධාරිවාදී, අධිකරණමය,

යුද්ධමය හා පොලිස් යන්ත්‍රයේ අත්තිවාරම් දක්වාම ඒවා කුඩු කර, සුන්කර දැමීමට සහ ඒ වෙනුවට ව්‍යවස්ථාදායක සහ විධායක බල බෙදීමක් නොමැති ස්වයං පාලන කම්කරු ජනතා සංවිධානයක් ආදේශ කිරීමට වෙර දරූ නිසා, එය තවදුරටත් වැදගත් වන්නේය. සමාජවාදයට ද්‍රෝහී වූවන් සත්‍යයට විහිළු කරමින් නිර්ධන පංති රාජ්‍යයක් ලෙසට විස්තර කරන ජර්මන් සමූහාණ්ඩුවද ඇතුළුව, සමකාලීන ධනපති ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩු සියල්ලක්ම මෙම රාජ්‍ය යන්ත්‍රය පවත්වා ගන්නේය. එනිසා ''සාමාන්‍ය ප්‍රජාතන්ත්‍රවාදයට'' පක්ෂව සෝෂා කිරීම යනු ධනපතියන් සහ සූරාකන්නන් ලෙසට ඔවුන්ගේ වරප්‍රසාද ආරක්ෂා කිරීමකැයි යන්න නැවතත් සනාථ වන බව අපට ඉතා පැහැදිලි ලෙස පෙනේ.

7. ''පිරිසිදු ප්‍රජාතන්ත්‍රවාදය'' සඳහා අවශ්‍යයෙන්ම තිබිය යුතු දෙයක් පිළිබඳ නිදර්ශනයක් ලෙසට ''රැස්වීමේ නිදහස'' ගත හැකිය. සූරාකන්නන්ගේ පාලනය පෙරළා දැමීමට විරුද්ධව ඔවුන් ප්‍රතිරෝධය දක්වමින් ඔවුන්ගේ වරප්‍රසාද රැක ගැනීමට සටන් කරමින් සිටින විට, එම සූරාකන්නන්ට රැස්වීමේ නිදහස දෙන බව පොරොන්දු වීම මෝඩ කමක්ය යනු ස්වකීය පංතිය හැර නොගිය සෑම කම්කරුවෙක්ම එක්වරම වටහා ගනු ඇත. ධනපතියන් විප්ලවවාදීන්ව සිටි කාලයේදී, ඔවුහු 1649 දී එංගලන්තයේ හෝ 1793 දී ප්‍රංශයේ හෝ, නැවත බලය අත්පත් කර ගැනීම සඳහා විදේශ හමුදා කැඳවමින් හා ''රැස්වෙමින්'' සිටි රාජාණ්ඩුවාදීන් හා වංශවතුන්ට ''රැස්වීමේ නිදහස'' ප්‍රදානය නොකළහ. දැන් ධනපති පංතිය ප්‍රතිගාමී වී බොහෝ කලක් ගතවී ඇති තැන, තමන් අසන්තක කිරීමට විරුද්ධව ධනපතියන් දක්වන ප්‍රතිරෝධය ගැන කිසිත් නොතකා, කල් තබාම සූරාකන්නන්ට ''රැස්වීමේ නිදහස'' සහතික කර දෙන ලෙසට ධනපතියන් කරන ඉල්ලීමක් වෙතොත්, ඔවුන්ගේ වංචාව දැක කම්කරුවන් සිනාසෙනු ඇත.

ඉතාමත් ප්‍රජාතන්ත්‍රවාදී ධනපති සමූහාණ්ඩුවෙහි පවා ''රැස්වීමේ නිදහස'' හුදෙක් හිස් වාක්‍ය කොටසක් පමණක් බව කම්කරුවෝ මනාව දනිති. හොඳම රජයේ සහ පෞද්ගලික ගොඩනැගිලි ඇත්තේ පොහොසතුන්ගේ පරිහරණය සඳහා පමණකි. රැස්වීම් පැවැත්වීමට විවේකය ඇත්තේ ඔවුන්ට පමණකි. ධනපති බලයේ යන්ත්‍රයෙන් එම රැස්වීම්වලට ආරක්ෂාවද සැලසේ. ජනගහනයෙන් අති බහුතරය වන ග්‍රාමීය සහ නාගරික කම්කරුවන්ට මේ සියල්ල ලැබීමට වරම් නැත. එම තත්වය එසේ පවතින තාක්කල් ''සමානත්වය'', එනම්, ''පිරිසිදු ප්‍රජාතන්ත්‍රවාදය'' වංචාවකි. නියම සමානත්වය දිනා ගැනීමට සහ වැඩ කරන ජනතාවට ව්‍යවහාරික වශයෙන් ප්‍රජාතන්ත්‍රවාදය භුක්ති විඳිනු හැකි වීමට, කළ යුතු ප්‍රථම දෙය නම්, රජයේ සහ සුඛෝපභෝගී සියලුම පෞද්ගලික ගොඩනැගිලි



සූරාකන්නන්ට අහිමි කිරීම, වැඩ කරන ජනතාවට විවේකය ලබා දීම සහ ඔවුන්ගේ රැස්වීමේ නිදහසට ආරක්ෂාව, පැගුණු සොල්දාදුවන්ට අණ දෙන වංශවතුන්ගෙන්, නැතහොත්, ධනපති නිලධාරීන්ගෙන් නොව, ආයුධ සන්නද්ධ කම්කරුවන්ගෙන් සැලසෙන බවට වග බලා ගැනීමය.

කම්කරුවන්ට, පොදු වශයෙන් වැඩ කරන ජනතාවට, දුප්පතුන්ට අවමාන නොකර රැස්වීමේ නිදහස සහ සමානත්වය ගැන කථා කිරීමට අපට හැක්කේ එම වෙනස ඇති කිරීමෙන් පසුව පමණකි. අනිත් අතට මෙම වෙනස ඇති කළ හැක්කේ, සූරාකන්නන්, ධනපතියන් බලයෙන් නෙරපා දමන වැඩ කරන ජනතාවගේ පෙරමුණු බල ඇණිය වන නිර්ධන පංතියට පමණකි.

8. ''පුවත්පත් නිදහස'' ''පිරිසිදු ප්‍රජාතන්ත්‍රයේ'' ප්‍රධාන සටන් පාඨවලින් තවත් එකකි. හොඳම මුද්‍රණාල සහ ලොකුම කඩදසි තොග ධනපතියන් සතුව තිබෙන තාක් කල්ද, නිදසුනක් ලෙසට, ඇමෙරිකාවේ මෙන්, ප්‍රජාතන්ත්‍රවාදය සහ සමූහාණ්ඩු ක්‍රමය සංවර්ධනය වූ තරමට වඩාත් සිත්කාවදින ලෙස, තියුණු ලෙස හා දුර්දාන්ත ලෙස ලෝකය මුළුල්ලේම දක්නට ලැබෙන පාලනයක් වන ධනපති පාලනයට පුවත්පත් යටත්ව තිබෙන තාක් කල්ද, මෙම නිදහසත් රැවටිල්ලක් බව කම්කරුවෝ දනිති. සෑම දේශයකම සමාජවාදීන් වාර දශ ලක්ෂ ගණනක් ඒ බව පිළිගෙන ඇත. වැඩ කරන ජනතාවට, කම්කරුවන්ට හා ගොවි ජනතාවට නියම සමානත්වය සහ සැබෑ ප්‍රජාතන්ත්‍රවාදය දිනා ගැනීම සඳහා කළ යුතු ප්‍රථම දෙය නම් ලේඛකයන් කුලියට ගැනීමේ, ප්‍රකාශක ආයතන මිළට ගැනීමේ සහ පුවත්පත්වලට අල්ලස් දීමේ හැකියාව ධනපතියන්ට අහිමි කිරීමය. එය කිරීමට නම් ධනපතියන් සහ සූරාකන්නන් බලයෙන් නෙරපා දමා ඔවුන්ගේ ප්‍රතිරෝධය මර්දනය කළ යුතුය. ධනපතියන් ''නිදහස'' යන වචනය නිතරම පාවිච්චි කළේ පොහොසතුන්ට තවත් පොහොසත් වීමටත්, කම්කරුවන්ට නිරාහාරව මිය යාමටත් තිබෙන නිදහස අදහස් කිරීමටය. ධනපති ව්‍යවහාරය අනුව පුවත්පත් නිදහස යනුවෙන් අදහස් වන්නේ පුවත්පත්වලට අල්ලස් දීමට පොහොසතුන්ට තිබෙන නිදහසය. ඊනියා මහජන මතය හැඩ ගැසීම සහ නිමවීම සඳහා ඔවුන්ගේ ධනය යොදාගැනීමේ නිදහසය. මේ අතින් බලන කලද, ''පිරිසිදු ප්‍රජාතන්ත්‍රවාදයේ'' ආරක්ෂකයෝ ජන සන්නිවේදන මාධ්‍යයන්ගේ පාලනය පොහොසතුන්ට භාර දෙන අන්ත අශෝභන සහ දූෂිත ක්‍රමයක ආරක්ෂකයන් වෙති. ඔවුහු ජනතාව රවටන්නෝ වෙති. පිළිගත හැකි සේ පෙනෙන, හරවත් සේ ඇසෙන, එහෙත්, අන්ත ව්‍යාජයන් වන වාක්‍ය ඛණ්ඩ උපයෝගී කර ගන්නා ඔවුහු, ධනපතියන්ට වහල් වී තිබෙන පුවත්පත් එම වහල් භාවයෙන් මුදා ගැනීමේ ඒකාන්ත ඓතිහාසික

කර්තව්‍යයෙන් ජනතාව වෙන අතකට යොමු කරති. කොමියුනිස්ට්වාදීන් ගොඩ නගමින් සිටින හා අන්‍යයන්ගෙන් වාසි ගනිමින් ධනය රැස්කිරීමට අවකාශ නැති, කෙළින් හෝ අනියම් ලෙස පුවත්පත් මුදලේ බලයට යටත් කිරීමේ වාස්තවික ඉඩකඩ නොමැති, පොදු මුද්‍රණාල සහ පොදු කඩදාසි තොග ප්‍රයෝජනයට ගැනීම සම්බන්ධයෙන් සමාන හිමිකම් භුක්ති විඳීමේදී සහ ක්‍රියාත්මක කිරීමේදී කිසිම වැඩ කරන මිනිසෙකුට (නැතහොත්, කුමණ සංඛ්‍යාවන්ගෙන් හෝ සමන්විත වන වැඩ කරන ජනතා කණ්ඩායම්වලට) අවහිරකම් ඇති නොවන ක්‍රමය තුළ සැබෑ නිදහස සහ සමානත්වය ගැබ්ව ඇත.

9. ධනපති ක්‍රමය යටතේ මෙම ''පිරිසිදු ප්‍රජාතන්ත්‍රවාදය'' යනු කුමක්දැයි, යුද්ධයට ඉහතදී පවා, දහනව වැනි සහ විසිවැනි ශත වර්ෂයේ ඉතිහාසයෙන් පෙනිනි. ප්‍රජාතන්ත්‍රවාදය වඩාත් සංවර්ධනය වූ තරමට, පංති අරගලය වඩාත් නිරුවත්, තියුණු හා නිර්දය වන්නේ යයිද, ධනපති පීඩනය සහ ධනපති පංතියේ ආඥාදායකත්වය වඩාත් ''පිරිසිදු'' වන්නේ යයිද මාක්ස්වාදියෝ නිතරම කීහ. ධනපතියන් අසාර්ථක ලෙස සැඟවීමට උත්සාහ කරන සත්‍යය, එනම්, ධනපති ඉතාමත් ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩු අති බහුතරයකම ප්‍රාග්ධනයේ බලය දුර්වල වී ඇතැයි සූරාකන්නන් සිතන විට සෑම විටම ත්‍රස්තය හා ධනපති ආඥාදායකත්වය විවෘත ලෙසම ප්‍රදර්ශනය කෙරෙන්නා වූ තත්වයක් පවතින බව, සමූහාණ්ඩු ප්‍රංශයේ ඩ්‍රෙපුස් නඩුව, නිදහස් සහ ප්‍රජාතන්ත්‍රවාදී ඇමෙරිකානු සමූහාණ්ඩුවේ ධනපතියන් ආයුද්ධ සන්නද්ධ කළ හා කුලියට ගත් මැරවැර කණ්ඩායම් විසින් වැඩ වර්ජකයන් ඝාතනය කරනු ලැබීම, යනාදී දහසක් කරුණුවලින් පිළිබිඹු වේ.

10. 1914–1918 අධිරාජ්‍යවාදී යුද්ධය නිසා, නොදියුණු කම්කරුවන්ට පවා ධනපති ප්‍රජාතන්ත්‍රවාදයේ නියම ස්වභාවය නිශ්චිත වශයෙන්ම පැහැදිලි විය. ඉතාමත් නිදහස් සමූහාණ්ඩුවල පවා එය ධනපති පංතියේ ආඥාදායකත්වයක් බව පැහැදිලි විය. ජර්මානු හෝ බ්‍රිතාන්‍ය කෝටිපතියන් කණ්ඩායම තවත් පොහොසත් කිරීම පිණිස කෝටි ගණන් මිනිසුන් මරන ලදී. එමෙන්ම ඉතාමත් නිදහස් සමූහාණ්ඩුවල ධනපති යුද්ධමය ආඥාදායකත්වයන් පිහිටුවන ලදී. මිත්‍ර රටවල[80] මෙම යුද්ධමය ආඥාදායකත්වය ජර්මනියේ පරාජයෙන් පසුව පවා තවදුරටත් පවතින්නේය. වැඩ කරන ජනතාවගේ නෙත් පෑදීමට බොහෝ දුරට හේතු වූයේ යුද්ධය ය. ධනපති ප්‍රජාතන්ත්‍රවාදයේ කඩතුරාව යුද්ධයෙන් ඉරීගිය අතර, යුද්ධ කාලයේදී හා යුද්ධය ප්‍රයෝජනයට ගනිමින් ගෙන යන සමපේක්ෂණයේ සහ ලාභ ගැරීමේ පාතාලය ජනතාවට පෙනින. ධනපතියන් යුද්ධය කළේ ''නිදහස සහ සමානත්වය'' නාමයෙනි. යුද්ධෝපකරණ නිෂ්පාදකයන් පුදුමාකාර ලාභ සම්භාරයක් ගොඩ ගසා ගත්තේ''නිදහස සහ සමානත්වය'' නාමයෙනි. දැන් තරයේ හෙළිදරව් වී තිබෙන ධනපති නිදහසේ, ධනපති සමානත්වයේ සහ ධනපති ප්‍රජාතන්ත්‍රවාදයේ සූරාකන ස්වභාවය ජාත්‍යොන්මාදවාදී බර්න් ජාත්‍යන්තරය කරන කුමණ දෙයින් වුවද වසං කළ නොහැකි වන්නේය.

11. ධනපති ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුවේ නියම පංති හරය කෙබඳුද යනු, මහාද්වීපික යුරෝපයේ දියුණුම රට වන ජර්මනියෙහි, අධිරාජ්‍යවාදීන් පරාජය වීමේ ප්‍රතිඵලයක් වශයෙන් පූර්ණ සමූහාණ්ඩුවාදී නිදහස ස්ථාපිත කළ ප්‍රථම මාසවලදීම, ජර්මන් කම්කරුවන්ට හා මුළු ලෝකයටම පෙනී ගියේය. කාල් ලිබ්නෙහ්ට් සහ රෝසා ලුක්සෙම්බුර්ග් ඝාතනය කර දැමීම යුග නිර්මාණක වැදගත් කමක් ඇති සිද්ධියකි. එසේ කියන්නේ විශිෂ්ටතම අය සහ නියම නිර්ධන පංතික කොමියුනිස්ට් ජාත්‍යන්තරයේ නායකයන් වූ ඒ දෙදෙනාගේ මරණය පමණක් නොව, අතිශයෝක්තියෙන් තොරව ලෝක ව්‍යාප්ත පරිමාණයෙන් දියුණු වී ඇතැයි කිව හැකි දියුණු යුරෝපීය රාජ්‍යයක පංති ස්වභාවයද එයින් ඒකාන්ත ලෙස හෙළිදරව් වී ඇති හෙයිනි. අත් අඩංගුවට ගෙන සිටින අය, එනම් රාජ්‍යයේ ආරක්ෂාව යටතේ තබා සිටින අය මරා දමන නිලධාරීන් හා ධනපතියන් දඬුවම් ලැබීමක් නොමැතිවම එසේ කරති නම්, එය කෙරෙන්නේ සමාජ-දේශප්‍රේමීන්ගේ නායකත්වයෙන් යුත් ආණ්ඩුවක් යටතේ නම්, එවිට, එවැන්නක් සිදුවිය හැකි ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුව ධනපති ආඥාදය-කත්වයක්ම වන්නේය. කාල් ලිබ්නෙහ්ට් සහ රෝසා ලුක්සෙම්බුර්ග් මරා දැමීම ගැන ස්වකීය බලවත් කෝපය ප්‍රකාශ කරන, එහෙත් මෙම කරුණ වටහා ගැනීමෙහි අසමත් වන අය එයින් කරන්නේ තමන්ගේ තකතිරු කම, නැතහොත්, වංචාව පෙන්නුම් කිරීම පමණකි. ලෝකයේම ඉතාමත් නිදහස් හා දියුණු සමූහාණ්ඩුවක් වන ජර්මන් සමූහාණ්ඩුවේ නිදහස යනු, අත් අඩංගුවට ගත් නිර්ධන පංති නායකයන් මරා දමා දඬුවම් නොලැබීමේ නිදහසකි. ධනපති ක්‍රමය පවතින තාක් කල් එහි වෙනසක් විය හැක්කේද නොවේ. මන්දයත්, ප්‍රජාතන්ත්‍රයේ සංවර්ධනයෙන් සිදුවන්නේ, යුද්ධයේ ප්‍රතිඵල හා බලපෑම්ද, එහි විපාකයන්ද නිසා උතුරා යන තැනට පත්ව තිබෙන පංති අරගලය නිවී යාම නොව එය තවත් තියුණු වීමය.

බොල්ෂෙවික්වරුන් පිටුවහල් කිරීම, ඔවුන්ට තාඩන පීඩන කිරීම හා ඔවුන් දහගෙයි ලෑම ලෝකය මුළුල්ලේම කෙරෙන බව අපට දක්නට ලැබේ. නිදසුනක් ලෙසට ඉතාමත් නිදහස් ධනපති සමූහාණ්ඩුවක් වන ස්විට්සර්ලන්තයේ සහ බොල්ෂෙවික් සංහාර ඇති වූ ඇමෙරිකාවේ ආදියෙහි සිදුවන්නේ මෙයයි. පිටපත් කෝටි ගණන් නිකුත් කෙරෙන

ධනපති පුවත්පත් විසින් වනචාරී, සාපරාධී යනාදී වශයෙන් විස්තර කරනු ලබන නොදියුණු, දුර්භික්ෂයට පත් සහ විනාශ වූ රුසියාවේ සිට පැමිණි මිනිසුන් දුසිම් කීපයක් සිටීම ගැන, අන්තයටම ආයුධ සන්නද්ධ වූ දියුණු, ශිෂ්ටාචාර සහ ප්‍රජාතන්ත්‍රවාදී රටවල් බිය වීම යනු, ''සාමාන්‍ය ප්‍රජාතන්ත්‍රවාදයේ'', නැතහොත්, ''පිරිසිදු ප්‍රජතන්ත්‍රවාදයේ'' ස්ථාවරයෙන් බලන කල විකාරයකි. මෙම යටපත් කළ නොහැකි ප්‍රතිවිරෝධය උද්ගත කරන සමාජ තත්වය නම් ඇත්ත වශයෙන්ම, පැහැදිලි ලෙසම, ධනපති පංතියේ ආඥාදායකත්වයක්ම වන්නේය.

12. මෙම තත්වයන් යටතේ නිර්ධන පංති ආඥාදායකත්වය වූකලී සූරාකන්නන් බලයෙන් නෙරපා දැමීමේ සහ ඔවුන්ගේ ප්‍රතිරෝධය මර්දනය කිරීමේ සම්පූර්ණයෙන්ම සාධාරණ මාධ්‍යයක් පමණක්ම නොවේ. එය වැඩ කරන පොදු ජනතාවට අවශ්‍ය දෙයක්ද වන්නේය. එයට හේතුව, යුද්ධය ඇති කළ හා නව යුද්ධ සූදානම් කරමින් සිටින ධනපති ආඥාදායකත්වයට විරුද්ධව එම ජනතාවට තිබෙන එකම ආරක්ෂාව එය වීමය.

ධනපති සමාජයට ආවේණික වූ පංති අරගලය බරපතල ලෙස උග්‍රවන කිසියම් විටෙක, ධනපති පංති ආඥාදායකත්වය, නැතහොත්, නිර්ධන පංති ආඥාදායකත්වය හැර වෙනත් විකල්පයක් එම සමාජයෙන් මතු විය නොහැක. සමාජවාදීන්ට වටහාගත නොහැකි වන ප්‍රධාන කරුණ එයයි. න්‍යායික කරුණු සම්බන්ධයෙන් ඔවුන්ගේ අදූර දර්ශී කමද, ඔවුන් ධනපති දුර්මතයන්ට දක්වන යටත් කමද, ඔවුන් දේශපාලන වශයෙන් නිර්ධන පංතියට ද්‍රෝහී වීමද, ප්‍රධාන වශයෙන් සංයුක්ත වන්නේ එයිනි. කිසියම් තුන්වැනි මහක් ගැන දකින සිහින ප්‍රතිගාමී වන්නේය. ඒවා සුළු ධනපති අදෝනා වෙති. ධනපති ප්‍රජාතන්ත්‍රවාදයේ ශතවර්ෂාධික සංවර්ධනයෙන් සහ සියලුම දියුණු රටවල කම්කරු පංති ව්‍යාපාරයෙන්, විශේෂයෙන්ම, පසුගිය පස් වසරේ අත්දැකීම්වලින් මේ බව ඔප්පු වන්නේය. වෙළඳ භාණ්ඩ ආර්ථිකය ප්‍රබලව පවතින ඕනෑම තැනක ධනපති ආඥාදායකත්වය වෙනුවට ආදේශ කළ හැක්කේ, එම ධනපති ක්‍රමයේම වර්ධනය විසින් ඇතිකරන, වැඩිකරන, එකට පාහන හා ශක්තිමත් කරන පංතිය වන නිර්ධන පංතිය පමණකැයි යන ආර්ථික අනිවාරණීයත්වය මුළු දේශපාලන ආර්ථික විද්‍යාවෙන්, නැතහොත්, මාක්ස්වාදයේ මුළු සන්ධාරයෙන්ද ඔප්පු වන්නේය.

13. ප්‍රජාතන්ත්‍රවාදයේ බීජාංකුර ප්‍රථමයෙන්ම මතු වූ පුරාතනයේ පටන් ශත වර්ෂ ගණන් තිස්සේ එක පාලක පංතියක් වෙනුවට තවත් පංතියක් ආදේශ වීමෙන්, නොවැලැක්විය හැකි ලෙසට එහි ආකෘති වෙනස් විය. සමාජවාදීන් මෙය තේරුම් ගැනීමට අසමත් වීම ඔවුන්ගේ තවත් න්‍යායික සහ දේශපාලන වරදකි. පුරාතන ග්‍රීක සමූහාණ්ඩුවල, මධ්‍ය



කාලීන නගරවල සහ දියුණු ධනපති රටවල ප්‍රජාතන්ත්‍රය විවිධ ආකෘති ගත් අතර එය විවිධ මට්ටමෙන් ක්‍රියාත්මක විය. ලෝකයේ ප්‍රථම වතාවට, සූරාකන අල්පතරයේ සිට සූරාකනු ලබන බහුතරයට බලය මාරු කෙරෙන අවස්ථාව වන, මිනිස් ඉතිහාසයේ ඉතාමත් බරපතල විප්ලවය, විශාල වෙනස්කම්වලින් තොරව, ප්‍රජාතන්ත්‍රවාදයේ නව ආකෘති, නැතහොත්, ප්‍රජාතන්ත්‍රවාදය ක්‍රියාත්මක කිරීම සඳහා නව කොන්දේසි ඇතුළත් කොටගත් නව ආකෘති ආදිය නිර්මාණය නොකොට, පැරණි, ධනපති, පාර්ලිමේන්තුවාදයේ කල්ගිය රාමුකට්ටුව තුළම සිදුවිය හැකි යයි සිතීම හුදෙක්ම විකාරයක් වනු ඇත.

14. අන් සෑම ආඥාදායකත්වයක් මෙන්ම, නිර්ධන පංති අඥාදායකත්වයද පැන නගින්නේ, ස්වකීය දේශපාලන ආධිපත්‍යයට අභිමිවන පංතිය දක්වන ප්‍රතිරෝධය බලහත්කාර ලෙස මර්දනය කිරීමට ඇති අවශ්‍යතාවයෙනි. නිර්ධන පංති ආඥාදායකත්වය සහ අනෙක් පංතිවල ආඥාදායකත්වය, එනම්, මධ්‍ය කාලීන ඉඩම් හිමියන්ගේ ආඥාදායකත්වය සහ සියලුම ශිෂ්ටාචාර ධනපති රටවල ආඥාදායකත්වය අතර මූලික වෙනසක් ඇත. එම වෙනස ඇති වන්නේ, ඉඩම් හිමියන්ගේ සහ ධනපතියන්ගේ ආඥාදායකත්වය අති විශාල බහුතර ජනකායක්, එනම්, වැඩ කරන ජනතාව දක්වන ප්‍රතිරෝධය බලහත්කාරයෙන් මර්දනය කිරීමෙන් සංයුක්තවන හෙයිනි. ඊට විසංසන්දනය වන ලෙසට, නිර්ධන පංති ආඥාදායකත්වය යනු, සූරාකන්නන්ගේ, එනම්, ජනගහනයෙන් ඉතා සුළු අල්පතරයක් වන ඉඩම් හිමියන්ගේ සහ ධනපතියන්ගේ ප්‍රතිරෝධය බලහත්කාරයෙන් මර්දනය කිරීම වේ.

නිර්ධන පංති ආඥාදායකත්වය සමග ප්‍රජාතන්ත්‍රවාදී ආකෘතිවල හා ආයතනවල වෙනසක් පමණක් නොව, පොදුවේ කියතොත්, ධනපති ක්‍රමයෙන් පීඩිත වූවන්ට, එනම්, වෙහෙස වී වැඩ කරන පංතිවලට සැබැවින්ම ප්‍රජාතන්ත්‍රවාදය භුක්තිවිඳීමට හැකිවන ලෙසට එය පෙර නොවූ විරූ තරමින් පුළුල් වන ඒකාන්ත ආකාරයෙන්ම වෙනස් වීමක්ද අවශ්‍ය වන්නේය.

එපමණක් නොව, ඉතාමත් හොඳ සහ ඉතාමත් ප්‍රජාතන්ත්‍රවාදී ධනපති සමූහාණ්ඩුවල පවා පෙර කිසි කලෙක හෝ පැවතියාට වඩා ප්‍රජාතන්ත්‍රවාදී අයිතිවාසිකම් ප්‍රායෝගික ලෙස භුක්තිවිඳීමේ අවස්ථා වෙහෙස වී වැඩ කරන පංතිවලට, එනම්, ජනගහනයෙන් අති බහුතරයට නිර්ධන පංති ආඥාදායකත්වයෙන් ඇත්තෙන්ම ලැබිය යුතු බව හා ලැබෙන බව, දැනට සකස් වී තිබෙන එම ආඥාදායකත්වයේ ආකෘතිවලින් එනම්, රුසියාවේ සෝවියට් බලයෙන්, ජර්මනියේ Räte System,* Shop Ste-

* මණ්ඩල ක්‍රමයකි. — සංස්කාරක

wards Commitees[81] සහ වෙනත් රටවල එවැනි සෝවියට් ආයතනවලින් පෙනේ.

සෝවියට් ආණ්ඩුවේ හරය වී තිබෙන්නේ රාජ්‍ය බලයේ සහ මුළුමහත් රාජ්‍ය යන්ත්‍රයේම ස්ථාවර සහ එකම අත්තිවාරම ලෙසට, ධනපති ක්‍රමය විසින් පීඩිත වූ පංති, එනම් කම්කරුවන් හා අර්ධ නිර්ධනයන් (අන්‍යයන්ගේ ශ්‍රමය සූරා නොකන හා තමන්ගේ ශ්‍රම ශක්තියෙන් කොටසක් හෝ නිතිපතා විකුණන ගොවීන්) පොදුජන පරිමාණයෙන් සංවිධානය කිරීම ය. දැන් රාජ්‍යයේ ප්‍රජාතන්ත්‍රවාදී පරිපාලනයට සහභාගි වනු සඳහා අනවරථ ලෙස හා ඒකාන්ත ලෙසද, එමෙන්ම තීරණාත්මක ලෙසද ඇදගනු ලබන්නේ, ඉතාමත් ප්‍රජාතන්ත්‍රවාදී ධනපති සමූහාණ්ඩුවේදී පවා නීතියෙන් සමාන අයිතිවාසිකම් තිබුණු, එහෙත්, දේශපාලන ජීවිතයට සහභාගි වීමෙන් හා ප්‍රජාතන්ත්‍රවාදී අයිතිවාසිකම් හා නිදහස භුක්තිවිඳීමෙන්, දහස් සංඛ්‍යාත ප්‍රයෝග මගින් වලක්වන ලද, ඒ ජනතාවමය.

15. ධනපති ප්‍රජාතන්ත්‍රවාදය සැම තැනදීම සහ සැම විටදීම පොරොන්දු වූ, එහෙත්, ප්‍රාග්ධනයේ ආධිපත්‍යය නිසා එයට කිසි කලෙකත් ඇති කළ නුහුණු, ලිංගභේදය, ආගම, වර්ගය, නැතහොත්, ජාතිය නොතකන පුරවැසි සමානත්වය, සෝවියට් ක්‍රමය, නැතහොත්, නිර්ධන පංති ආඥාදායකත්වය විසින් වහාම සහ සම්පූර්ණයෙන්ම ක්‍රියාත්මක කරනු ලැබේ. ඇත්ත වශයෙන්ම එය ක්‍රියාත්මක කළ හැකි වන්නේ, නිෂ්පාදන මාධ්‍යයන් පුද්ගලික වශයෙන් හිමිව තබා ගැනීමේ සහ ඒවා බෙදගැනීමට හා නැවත බෙදගැනීමට සටන් කිරීමේ උවමනාවක් නැති කම්කරුවන්ගේ ආණ්ඩුවක් විසින් පමණකි.

16. පැරණි, එනම්, ධනපති ප්‍රජාතන්ත්‍රවාදී සහ පාර්ලිමේන්තු ක්‍රමය සංවිධානය කරන ලද ආකාරය අනුව ආණ්ඩු යන්ත්‍රයෙන් වඩාත් ඈතින්ම සිටුවන ලද්දේ වැඩ කරන ජනතා සමූහයා ය. සෝවියට් බලය, එනම්, නිර්ධන පංති ආඥාදායකත්වය සංවිධානය කර තිබෙන්නේ, ඊට ප්‍රතිලෝම ලෙස, වැඩ කරන ජනතාව පාලන යන්ත්‍රය සමීපයට ගෙන එන ආකාරයට ය. සෝවියට් රාජ්‍ය සංවිධානය යටතේ ව්‍යවස්ථාදායක සහ විධායක අධිකාර බල ඒකාබද්ධ කිරීමේ සහ ප්‍රාදේශීය මැතිවරණ කොට්ඨාශ වෙනුවට නිෂ්පාදන ඒකක, එනම්, පැක්ටරිය ආදේශ කිරීමේද, අරමුණ වූයේ එයයි.

17. යුද්ධ හමුදව පීඩක යන්ත්‍රයක් වූයේ රාජාණ්ඩුව යටතේ පමණක් නොවේ. ධනපති සමූහාණ්ඩු සියල්ලම යටතේ, ඉතාමත්ම ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩු යටතේ පවා, එය එසේම පවතින්නේය. යුද්ධ හමුදව ධනපති හමුදපතියන්ට යටත්ව තිබීම නැති කිරීමේ සහ නිර්ධන පංතිය යුද්ධ හමුදව



සමග සැබැවින්ම සංයෝජනය කිරීමේ හැකියාව ඇත්තේ, ධනපති ක්‍රමය විසින් පීඩාවට පත්කරන ලද පංතිවල ආණ්ඩු බල අධිකාරයේ ස්ථාවර සංවිධාන වන සෝවියට් සභාවලට පමණකි. සාර්ථක ලෙස නිර්ධන පංතිය ආයුධ සන්නද්ධ කළ හැක්කේ සහ ධනපති පංතිය නිරායුධ කළ හැක්කේ සෝවියට් සභාවලට පමණකි. මෙය කළහොත් මිස, සමාජවාදයේ ජයග්‍රහණය කිසිසේත් ඇතිවිය නොහැකිය.

18. ධනපති ක්‍රමය විසින් වැඩියෙන්ම සංකේන්ද්‍රිත සහ අවබෝධ සහිත තත්වයට පත්කරන ලද පංතියක් ලෙසට නිර්ධන පංතියට පැවරෙන නායක කාර්ය කොටසට සෝවියට් රාජ්‍ය සංවිධානය ගැලපෙන්නේය. වැඩකරන සහ සූරා කෑමට බඳුන්වූ ජනගහනයේ විසිරී සිටින හා නොදියුණු කොටස් එක්සත් කර ඒවාට නායකත්වය දීමෙහි සමත් තත්වයක සිටින්නේ නිර්ධන පංතිය පමණක් බව විප්ලව සියල්ලෙහිම සහ පීඩිත පංති ව්‍යාපාර සියල්ලෙහිම අත්දැකීම්, ලෝක සමාජවාදී ව්‍යාපාරයේ අත් දැකීම් අපට උගන්වයි.

19. ධනපති ක්‍රමය යටතේ, ඉතාමත් ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුවල පවා පවත්වා ගන්නා ලද සහ අනිවාරණීය වශයෙන්ම පවත්වා ගැනීමට සිදුවූ ද, කම්කරුවන් සහ පොදුවේ වැඩකරන ජනතාව සඳහා ප්‍රජාතන්ත්‍රවාදය ප්‍රායෝගික ලෙස ක්‍රියාත්මක කිරීමට විශාලතම බාධකය වන්නා වූද, පැරණි, එනම්, ධනපති, නිලධාරිවාදී සහ අධිකරණ යන්ත්‍රය වහාම කඩා දැමීම සහ සම්පූර්ණයෙන්ම විනාශ කර දැමීම සැබැවින්ම ඉටු කිරීමෙහි සමත් වන්නේ සෝවියට් රාජ්‍ය සංවිධානය පමණකි. මෙම මාවත ඔස්සේ යන ප්‍රථම යුග නිර්මාණක පියවර තැබුවේ පැරිස් කොමියූනය ය. සෝවියට් ක්‍රමය එහි දෙවැනි පියවර තබා ඇත.

20. රාජ්‍ය බලය විනාශ කිරීම සියලුම සමාජවාදීන් විසින්, අන් සියල්ලන්ටම වඩා මාක්ස් විසින්, නියම කරන ලද අරමුණය. මෙම අරමුණ ඉටු කර ගත හොත් මිස, සැබෑ ප්‍රජාතන්ත්‍රවාදය, එනම්, නිදහස සහ සමානත්වය ඇති කළ හැකි නොවේ. සෝවියට්, නැතහොත්, නිර්ධන පංති ප්‍රජාතන්ත්‍රවාදය මගින් පමණක් එම අරමුණ ව්‍යවහාරික ලෙස ඉටු කර ගත හැකි වේ. එයට හේතුව, රාජ්‍ය පාලනය සඳහා වැඩකරන ජනතාවගේ නිරන්තර සහ ඒකාන්ත සහභාගිත්වය ලබා ගැනීම නිසා, ඕනෑම රාජ්‍යයක් සම්පූර්ණයෙන්ම හැකිළී යාමට කටයුතු සූදනම් කිරීම එයින් වහාම ආරම්භ වීමය.

21. බර්න්හි රැස්වූ සමාජවාදීන්ගේ සම්පූර්ණ බංකොලොත්භාවය, නව, එනම්, නිර්ධන පංතික ප්‍රජාතන්ත්‍රවාදය වටහා ගැනීමට ඔවුන් අසමත් බව, පහත දැක්වෙන කරුණෙන් විශේෂයෙන්ම පැහැදිලි වේ. බර්න්හි ජාත්‍යොන්මාදවාදී ජාත්‍යන්තරයේ ජාත්‍යන්තර සාකච්ඡා සභාව අවසන්

කරමින් 1919 පෙබරවාරි 10 දින බ්‍රාන්ටිං ඔහුගේ කථාව කළේය. ජාත්‍යන්තරයට අනුබැඳුනවුන්ගේ Die Freiheit[82] නැමති බර්ලින් පත්‍රය එහි 1919 පෙබරවාරි 11 දින කලාපයෙහි ''ස්වාධීනයන්''[83] නිර්ධන පංතිය අමතා කරන ආයාචනයක් පළ කළේය. ෂෙයිදමාන් ආණ්ඩුව ධනපති ස්වභාවයේ ආණ්ඩුවක් බව පිළිගත් එම ආයාචනය, සෝවියට් සභා අවලංගු කර දැමීමට අපේක්ෂා කිරීම ගැන ඔහු දෝෂ දර්ශනයට ලක් කළේය. එම ආයාචනය සෝවියට් සභා ගැන සඳහන් කරමින් ඒවා Träger und Schützer der Revolution — විප්ලවයේ වාහන හා ආරක්ෂකයන් ලෙස විස්තර කළ අතර, ඒවා නීත්‍යානුකූල කරන ලෙස, ඒවාට ආණ්ඩුවේ අධිකාර බලය පවරන ලෙස හා පොදු ජනතා ජනවිචාරණයක් පවත්වන තෙක් ජාතික මණ්ඩල තීරණ ක්‍රියාත්මක කිරීම නැවැත්වීමේ බලය ඒවාට දෙන ලෙසද යෝජනා කළේය.

ප්‍රජාතන්ත්‍රවාදය ආරක්ෂා කළ සහ එහි ධනපති ස්වභාවය දැකීමට අපොහොසත් වූ න්‍යායවාදීන්ගේ සම්පූර්ණ බංකොලොත්භාවය එම යෝජනාව අනුව පෙනීයේ. ජාතික මණ්ඩලය, එනම්, ධනපති ආඥාදායකත්වය සමග සෝවියට් ක්‍රමය, එනම්, නිර්ධන පංති ආඥාදායකත්වය ඒකාබද්ධ කිරීමට දරන මෙම ඔල්මාද ප්‍රයත්නය අනුව, ජාත්‍යොන්මාදවාදී සමාජවාදීන්ගේ සහ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ මන්ද බුද්ධිකභාවයත්, ඔවුන්ගේ ප්‍රතිගාමී සුළු ධනපති දේශපාලන මතයත්, නොනැවැත්විය හැකි ලෙස වර්ධනය වන නව, එනම්, නිර්ධන පංති ප්‍රජාතන්ත්‍රවාදයේ ශක්තිය හමුවේ බියට පත්ව එයට ඔවුන් දෙන ප්‍රතිගාමී සහනයනුත්, සම්පූර්ණයෙන්ම හෙළිදරව් වේ.

22. කම්කරු පොදුජනතාවට ඇති බිය නිසා විධිමත් යෝජනාවක් සම්මත නොකළ බර්න් ජාත්‍යොන්මාදවාදී ජාත්‍යන්තරයේ බහුතරය, බොල්ෂෙවික්වරුන් හෙළා දැකීමෙන් කළේ පංතිමය ස්ථාවරයෙන් බලන කල නිවැරදි දෙයකි. මෙම බහුතරය රුසියානු මෙන්ෂෙවික්වරුන් හා සමාජවාදී-විප්ලවවාදීන්ද, ජර්මනියේ ෂෙයිදමාන්ලාද සමග සම්පූර්ණ එකඟත්වයෙන් සිටිති. බොල්ෂෙවික්වරු තමන්ට හිරිහැර කරතියි මෙන්ෂෙවික්වරු සහ සමාජවාදී-විප්ලවවාදීහු පැමිණිලි කියති. නමුත්, තමන්ට එම හිරිහැර කරන්නේ තමන් නිර්ධන පංතියට විරුද්ධව ධනපති පංතියේ පැත්ත ගෙන සිවිල් යුද්ධයට සහභාගි වූ නිසා බව සැඟවීමට ඔවුහු උත්සාහ ගනිති. ඔවුන් මෙන්ම ජර්මනියේ ෂෙයිදමාන්ලා සහ ඔවුන්ගේ පක්ෂයද, කම්කරුවන්ට විරුද්ධව ධනපති පංතියේ පැත්තගෙන සිවිල් යුද්ධයට සහභාගි වන බව දැනටමත් පෙන්වා ඇත.

එනිසා බර්න් ජාත්‍යොන්මාදවාදී ජාත්‍යන්තරයේ බහුතරය බොල්ෂෙවික්වරු හෙළාදැකීමට පක්ෂ වීම ඉතාමත් ස්වාභාවික දෙයකි. මෙය ''පිරිසිදු ප්‍රජාතන්ත්‍රවාදය'' ආරක්ෂා කිරීම ගැන කියන්නක් නොව, සිවිල් යුද්ධයේදී තමන් සිටින්නේ නිර්ධන පංතියට විරුද්ධව ධනපති පංතිය සමග බව දන්නා සහ හඟින අය කරන ආත්ම ආරක්ෂාව සලසා ගැනීමකි.

පංතිමය ස්ථාවරයෙන් බලන කල ජාත්‍යොන්මාදවාදී ජාත්‍යන්තරයේ බහුතරයෙහි තීරණය නිවැරදි යයි කියන්නේ එහෙයිනි. නිර්ධන පංතිය මෙම සත්‍යයට බිය විය යුතු නොවේ. ඔවුන් එයට එක එල්ලේ මුහුණ දී එයින් නිසි නිගමනවලට බැසගත යුතුය.

සහෝදරවරුනි, අවසානයට සඳහන් කළ දෙකරුණ ගැන වචනයක් දෙකක් එකතු කිරීමට මම කැමැත්තෙමි. බර්න් සම්මේලනය ගැන අපට වාර්තා කරන සහෝදරවරු ඒ ගැන සවිස්තරව කරුණු ඉදිරිපත් කරතැයි අදහස් කරමි.

බර්න් සාකච්ඡා සභාවේදී සෝවියට් බලය ගැන වචනයක්වත් කියවුනේ නැත. රුසියාවේ අපි දැන් අවුරුදු දෙකක් තිස්සේ මෙම ප්‍රශ්නය ගැන සාකච්ඡා කරමින් සිටියෙමු. 1917 අප්‍රියෙල් මස පැවැත්වුනු අපගේ පක්ෂ සම්මේලනයේදී අපි න්‍යායික වශයෙන් හා දේශපාලන වශයෙන් පහත සඳහන් ප්‍රශ්නය මතු කෙළෙමු: ''සෝවියට් බලය යනු කුමක්ද? එහි හරය කුමක්ද? එහි ඓතිහාසික වැදගත් කම කුමක්ද?'' අපි අවුරුදු දෙකක්ම පමණ මෙය සාකච්ඡා කරමින් සිටියෙමු. එසේම අපගේ පක්ෂ සම්මේලනයේදී අපි ඒ ගැන යෝජනාවක් සම්මත කෙළෙමු.[84]

පෙබරවාරි 11 දින Freiheit පත්‍රය ජර්මන් නිර්ධන පංතියට ආයාචනයක් පළ කළේය. එයට ජර්මනියේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ නායකයන් පමණක් නොව, රීක්ස්ටාග් සභාවේ සිටින ස්වාධීන සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කණ්ඩායමේ සියලුම සාමාජිකයින්ද අත්සන් කර තිබේ. මෙම ස්වාධීනයන්ගේ ප්‍රමුඛ න්‍යායවාදීන්ගෙන් කෙනෙක් වන කෞට්ස්කි 1918 අගෝස්තුවේදී ''නිර්ධන පංති ආඥාදායකත්වය'' යන නමින් පොතක් ලීවේය. තමා ප්‍රජාතන්ත්‍රවාදයේ සහ සෝවියට් මණ්ඩලවල ආධාර කරුවෙක් වන බවත්, නමුත්, සෝවියට් මණ්ඩල හුදෙක්ම ආර්ථික ස්වභාවයේ ආයතන වියයුතු බවත්, ඒවා කිසි ලෙසකින් හෝ රාජ්‍ය සංවිධාන ලෙසට සංවිධාන නොවිය යුතු බවත් කෞට්ස්කි එම පොතෙන් කීවේය. Freiheit පත්‍රයේ නොවැම්බර් 11 සහ ජනවාරි 12 කලාපවලින්ද, කෞට්ස්කි එයම කියා ඇත. දෙවැනි ජාත්‍යන්තරයේ න්‍යායවාදීන් අතුරෙන් ප්‍රමුඛ සහ අධිකාරය ඇති තවත් කෙනෙක් සේ සැලකෙන රුඩොල්ෆ් හිල්ෆර්දිංගේ ලිපියක් පෙබරවාරි 9 වැනි දින පළ විය. රාජ්‍ය නීති සම්මත කිරීම මගින් සෝවියට් සභා නීතිමය විධි අනුකූලව ජාතික මණ්ඩලය සමග එක්සත් කළ යුතු යයි ඔහු එම ලිපියෙන් යෝජනා කරයි. ඒ

පෙබරවාරි 9 වැනි දින විය. පෙබරවාරි 11 දින මුළු ස්වාධීන පක්ෂයම මෙය සම්මත කළ අතර, එය ආයාචනයක් ලෙසින් පළ කළේය.

දැනටමත් ජාතික මණ්ඩලය පවතින නමුත්, ''පිරිසිදු ප්‍රජාතන්ත්‍රවාදය'' යථාර්ථය තුළ අන්තර්ගත කිරීමෙන් පසුව, සෝවියට් සංවිධාන රාජ්‍ය සංවිධාන නොවිය යුතු බවට සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ ප්‍රමුඛ න්‍යායවාදීන් කළ ප්‍රකාශවලින් පසුව පවා, නැවතත් වැනෙනසුලු ගතිය පානු ලැබේ! නව ව්‍යාපාරය ගැන, එහි අරගලයේ කොන්දේසි ගැන මෙම මහත්වරුන්ට, ඇත්ත වශයෙන්ම කිසිවක් නොතේරෙන බව මෙයින් ඔප්පු වේ. නමුත් මෙයින් ඔප්පු වන තවත් කරුණක් ඇත. එය නම්, මෙම වැනෙනසුලු ගතිය ඇති වීමට තත්වයන් හා හේතු තිබිය යුතු බවය! මේ සියලු සිදුවීම්වලින් පසුව, රුසියාවේ ජයග්‍රාහී විප්ලවය සිදුවී අවුරුදු දෙකක් පමණ ඉක්ම ගිය තැන, සෝවියට් සභා සහ ඒවායේ වැදගත්කම ගැන කිසිවක් නොකියන, ඒවා ගැන එකම නියෝජිතයෙක්වත් එකම වචනයක්වත් සඳහන් නොකළ, බර්න් සාකච්ඡා සභාව සම්මත කළ යෝජනා හා සමාන යෝජනා අප වෙත දික් කරනු ලැබේ. මෙම මහත්වරුන් සියලු දෙනාම සමාජවාදීන් හා න්‍යායවාදීන් ලෙස මිය ගිය කලෙක මෙන් දැනෙන බව කීමේ සම්පූර්ණ අයිතියක් අපට තිබේ.

එසේ වුවද සහෝදරවරුනි, මෙම රාජ්‍ය සංවිධානවලට න්‍යායික හා ප්‍රතිපත්තිමය වශයෙන් විරුද්ධ වී සිටි මෙම ස්වාධීනයන්, ''සාමකාමී ලෙස'' සෝවියට් ක්‍රමය සමග ජාතික මණ්ඩලය එක්සත් කිරීමට, එනම්, නිර්ධන පංති ආඥාදායකත්වය සමග ධනපති පංති ආඥාදායකත්වය එක්සත් කිරීමට හිටි අඩියේම ඉදිරිපත් කරන මෙම තකතිරු යෝජනාව අනුව, ප්‍රායෝගික පැත්තෙන්, දේශපාලන දෘෂ්ටි කෝණයෙන්, පෙනෙන්නේ පොදු ජනතාව අතර සිදුවෙමින් පවතින මහා වෙනසය. සමාජවාදී හා න්‍යායත්මක ස්ථාවරය අනුව බලන කල ඔවුන් කොපමණ දුරට බංකොලොත්භාවයක් ලබා ඇති බවද, එසේ පොදුජනතාව තුළ සිදුවමින් පවතින විශාල වෙනසද අපට දැක ගත හැකිය. ජර්මන් කම්කරුවන් අතර සිටින නොදියුණු පොදු ජනතාව අප වෙත එමින් සිටිති. අප වෙත ඇවිත් සිටිති! ඒ අනුව බලන කල, බර්න් සාකච්ඡා සභාවේ හොඳම කොටස වූ ජර්මනියේ ස්වාධීන සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය න්‍යායික හා සමාජවාදී ස්ථාවරයෙන් බිංදුවට සමාන වේ. එහෙත්, තවමත් එහි ඇති යම් වැදගත්කමක් තිබේ. නිර්ධන පංතියේ නොදියුණු කොටස්වල මනෝභාවය වටහා ගැනීම පිණිස මෙම වැනෙන්නෝ සුලං පෙත්තක් සේ අපට ප්‍රයෝජනවත් වෙති. මා කල්පනා කරන හැටියට මෙම සාකච්ඡා සභාවේ මහා ඓතිහාසික වටිනාකම එයයි. අපගේම විප්ලවයේදීද, අපි මෙවැන්නක් අත් දුටුවෙමු. අපගේ මෙන්ෂෙවික්වරුද, ජර්මනියේ ස්වාධීනයන්ගේ



න්‍යායවාදීන් ගත් මගටම සමාන ස්වභාවයේ මගක් ඔස්සේ ගමන් ගත්හ. පළමුව, ඔවුන්ට සෝවියට් සභාවල බහුතරයක් සිටින විට, ඔවුහු සෝවියට් සභාවලට පක්ෂ වූහ. එවිට අපට අසන්නට ලැබුනේ, ''සෝවියට් සභා දිනේවා'', ''සෝවියට් සභා සඳහා,'' ''සෝවියට් සභා නම් විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදයයි'' යන ඝෝෂාව පමණකි. නමුත්, බොල්ෂෙවික්වරු සෝවියට් සභාවල බහුතරයක් දිනාගත් පසු ඔවුන්ගේ එම තාලය වෙනස් විය. ඉන් පසු ඔවුන් කීවේ, සෝවියට් සභා ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය සමග එක පෙළට සිටින සේ නොපැවතිය යුතු බවය. එසේම විවිධ මෙන්ෂෙවික් න්‍යායවාදීහුද බොහෝ දුරට එයටම සමාන යෝජනා ඉදිරිපත් කළහ. ආණ්ඩුක්‍රම සම්පාදක මණ්ඩලය සමග සෝවියට් සභා එක්සත් කිරීමට සහ රාජ්‍ය සංවිධාන තුළට සෝවියට් සභා අන්තර්ග්‍රහණය කිරීමට කරන ලද යෝජනාව එවැන්නක් විය. ලෝකය මුළුල්ලේම නිර්ධන පංතියේ සාමාන්‍ය ගමන් මාර්ගය එකක්ම වන බව මෙහිදී නැවතත් හෙළිදරව් වන්නේය. ප්‍රථමයෙන් සෝවියට් සභා සකස් වෙයි. ඊළට ඒවා ව්‍යාප්ත වෙයි, සංවර්ධනය වෙයි. අනතුරුව ප්‍රායෝගික ප්‍රශ්නය මතුවෙයි. සෝවියට් සභාද? නැතහොත්, ජාතික මණ්ඩලයද, ආණ්ඩුක්‍රම සම්පාදක මණ්ඩලයද, එසේත් නැතහොත්, ධනපති පාර්ලිමේන්තු ක්‍රමයද? මෙයින් නායකයන් අතර අන්ත අවුලක් ඇතිවන අතර, අවසානයේදී නිර්ධන පංති විප්ලවය සිදුවන්නේය. නමුත් විප්ලවය සිදුවී අවුරුදු දෙකක් පමණ ගිය තැන අපි මේ ආකාරයෙන් ප්‍රශ්නය ඉදිරිපත් නොකළ යුතු යයි මම අදහස් කරමි. අපට, විශේෂයෙන්ම බටහිර යුරෝපීය රටවලින් බහුතරයට, සෝවියට් ක්‍රමය පතුරුවා හැරීම ඉතාමත් වැදගත් කර්තව්‍යයක් වන නිසා, අප කළ යුත්තේ නිශ්චිත තීරණ ගැනීමය.

මෙහිදී එක් මෙන්ෂෙවික් යෝජනාවක් උපුටා දැක්වීමට කැමැත්තෙමි. එය ජර්මන් බසට පරිවර්තනය කරන ලෙස ඔබලෙන්ස්කි සහෝදරයාට මම කීවෙමි. ඔහු එය කිරීමට පොරොන්දු වූ නමුත්, අවාසනාවකට මෙන් ඔහු මෙහි නැත. මම මට මතක හැටියට එය ඉදිරිපත් කරන්නෙමි. මාවෙත ඇත්තේ එහි සම්පූර්ණ පිටපත නොවේ.

බොල්ෂෙවික්වාදය ගැන කිසිවක් අසා නැති විදේශිකයෙකුට අපගේ මතභේද අවුස්සන ප්‍රශ්න ගැන ස්වාධීන මතයක් ඇති කර ගැනීම දුෂ්කර දෙයකි. බොල්ෂෙවික්වරු ස්ථිර කර කියන හැම දෙයකටම මෙන්ෂෙවික්වරුද, මෙන්ෂෙවික්වරු එසේ කියන සියල්ලටම බොල්-ෂෙවික්වරුද අභියෝග ඉදිරිපත් කරති. නමුත් අරගලය මධ්‍යයේ සිටින විට එය වෙනත් ආකාරයකට විය නොහැකිය. 1918 දෙසැම්බරයේ පැවැත්වුනු මෙන්ෂෙවික්වරුන්ගේ අවසාන සම්මේලනයේදී දීර්ඝ සහ විස්තරාත්මක යෝජනාවක් සම්මත කර එම යෝජනාව සම්පූර්ණයෙන්ම

මෙන්ෂෙවික් ''ගසියෙත පෙවාත්නිකොව්''[85] පත්‍රයේ පළ කිරීමට තරම් වැදගත් ලෙස සලකන ලද්දේද එනිසාමය. මෙම යෝජනාව මගින් මෙන්ෂෙවික්වරුම පංති අරගලයේ සහ සිවිල් යුද්ධයේ ඉතිහාසය ගැන සංක්ෂිප්ත සටහනක් ඉදිරිපත් කරති. උරල් ප්‍රදේශවල, දකුණු ප්‍රදේශවල, ක්‍රිමියාවේ සහ ජෝර්ජියාවේ දේපළ හිමි පංති සමග එක්වූ තම පක්ෂයේ කණ්ඩායම් හෙළා දකින බව එම යෝජනාවෙන් කියවෙයි. මෙම ප්‍රදේශ සියල්ලම එහි නම් කර ඇත. දේපළ හිමි පංති සමග එක්ව සෝවියට් බලයට විරුද්ධව සටන් කළ මෙන්ෂෙවික් පක්ෂයේ එම කණ්ඩායම් එම පක්ෂයේ මෙම යෝජනාවෙන් දූන් හෙළා දකිනු ලැබේ. නමුත් යෝජනාවේ ඇතුළත් අවසාන කොටස මගින්, කොමියුනිස්ට්වරුන් සමග එකතු වූ අයද හෙළා දකිනු ලැබේ. මෙයින් වැටහෙන්නේ මෙන්ෂෙවික්වරුන්ගේ පක්ෂයේ සමගියක් නොතිබුණු බව සහ එහි සාමාජිකත්වය එක්කෝ ධනපති පංතිය, නැතහොත්, නිර්ධන පංතිය පැත්ත ගෙන සිටිබව පිළි නොගෙන සිටීමට ඔවුන්ට නොහැකිවූ වගයි. මෙන්ෂෙවික්වරුන් අතුරෙන් බහුතරය ධනපතීන්ගේ පැත්ත ගෙන, සිවිල් යුද්ධයේදී අපට විරුද්ධව සටන් කළහ. අපි ඇත්ත වශයෙන්ම මෙන්ෂෙවික්වරුන්ට හිරිහැර කරන්නෙමු. අපි ඔවුන්ට වෙඩි තැබීම පවා කරන්නෙමු. අප එසේ කරන්නේ ඔවුන් අපට විරුද්ධව යුද්ධ කරන විටය. ඔවුන් අපගේ රතු හමුදාවට විරුද්ධව සටන් කරමින් අපගේ රතු සෙන්පතියන්ට වෙඩිතබන විටය. අපි ධනපති යුද්ධයට නිර්ධන පංති යුද්ධයෙන් පිළිතුරු දුන්නෙමු. ඊට වඩා වෙනස් ආකාරයකින් ක්‍රියා කළ හැකි නොවීය. එනිසා දේශපාලන ස්ථාවරය අනුව බලන කල ඔවුන් කියන මේ සියල්ල හුදෙක්ම මෙන්ෂෙවික් වංචාව පමණකි. මෙන්ෂෙවික්වරුන්ගෙන් සහ සමාජවාදී-විප්ලවවාදීන්ගෙන් ලබාගත් උපදෙස් අනුව යමින්, බර්න් සම්මේලනයේදී කථා කළ අය ඔවුන්ට විරුද්ධව බොල්ෂෙවික්වරු සටන් කළෝ යයි කියන අතරම ධනපතියන් සමග එක් වෙමින් මෙන්ෂෙවික්වරුන් සහ සමාජවාදී-විප්ලවවාදීන් නිර්ධන පංතියට විරුද්ධව කළ ඔවුන්ගේ සටන ගැන අමතක කිරීම, පිස්සු රෝගියෙක් බවට තවමත් නිලවශයෙන් සහතික කරනු ලැබ නොමැති කෙනෙකුට හැකිවන්නේ කෙසේද යනු, ඓතිහාසික වශයෙන් වටහා ගත නොහැක.

ඔවුන්ට හිරිහැර කිරීම ගැන ඔවුහු සියලු දෙනාම කෝපාවිෂ්ටව අපට පහර දෙති. මෙය සත්‍ය ය. නමුත්, ඔවුන් සිවිල් යුද්ධයේදී ඉටු කළ කාර්ය කොටස ගැන ඔවුහු වචනයක්වත් නොකියති! වාර්තාවට ඇතුළත් කිරීම සඳහා යෝජනාවේ සම්පූර්ණ පිටපතක් ඉදිරිපත් කිරීම අවශ්‍ය යයි මම කල්පනා කරමි. එම යෝජනාව අධ්‍යයනය කරන ලෙස විදේශීය සහෝදරවරුන්ගෙන් මම ඉල්ලමි. මා එසේ ඉල්ලන්නේ, එය, ප්‍රශ්නය



නිවැරදි ලෙස මතු කරන සහ රුසියාවේ ''සමාජවාදී'' උපනති අතර විවාදය හරිහැටි වටහා ගැනීමට උපකාර වන ඉතා වැදගත් කරුණු සපයන, ඓතිහාසික ලියවිල්ලක් වන හෙයිනි. නිර්ධන පංතිය සහ ධනපති පංතිය අතර තවත් පංතියක මිනිසුන් ඇත. ඔවුහු වරක් එක් පැත්තකටද, වරක් අනිත් පැත්තටද ඇල වෙති. සියලුම විප්ලවවලදී, සැම විටම, මෙය සිදු විය. ධනපති සමාජය යටතේ, නිර්ධන පංතිය සහ ධනපති පංතිය එකිනෙකට සතුරු කඳවුරු දෙකක් සේ පවතින කල, ඒවා අතර අන්තර් කොටස් නොපැවතීම කිසිසේත් සිදුවිය නොහැක්කකි. මෙම වැනෙන්නන්ගේ පැවැත්ම ඓතිහාසික වශයෙන් නොවැලැක්විය හැකිය. එසේම, අවාසනාවකට මෙන්, හෙට තමන් සටන් කරන්නේ කාගේ පැත්තේ සිටද යන්න නොදන්නා මෙම කොටස්, තවත් සෑහෙන කලක් යන තෙක් සිටිනු ඇත.

නිශ්චිත කරුණු තුනක් සඳහන් කරමින් යෝජනාවක් සම්මත කළ යුතුය යන ප්‍රායෝගික අදහස ඔබ හමුවේ තැබීමට මම කැමැත්තෙමි.

පළමුවැන්න: බටහිර යුරෝපයේ සහෝදරවරුන්ට මුහුණ පාන්නට සිදුවී ඇති ඉතාමත් වැදගත් කර්තව්‍යයන් අතුරෙන් එකක් නම්, සෝවියට් ක්‍රමයේ අර්ථය, වැදගත්කම සහ අවශ්‍යතාවය ගැන ජනතාවට පැහැදිලි කර දීමය. මෙම ප්‍රශ්නය ගැන වැරදි අවබෝධයක් වැනි තත්වයක් තිබේ. කෞට්ස්කි සහ හිල්ෆර්දිං න්‍යායික වශයෙන් බංකොලොත් ලබා සිටියත්, ඔවුන් ජර්මන් නිර්ධන පංතියේ නොදියුණු කොටස්වල මනෝභාවය නිවැරදි ලෙස පිළිබිඹු කරන බව Freiheit පත්‍රයෙහි මෑත දී පළ කෙරුනු ඔවුන්ගේ ලිපිවලින් පෙනේ. අප රටෙහිත් එයම සිදුවිය: රුසියානු විප්ලවයේ පළමු අට මස තුළ සෝවියට් සංවිධානය පිළිබඳ ප්‍රශ්නය ගැන නිතර සාකච්ඡා කෙරිණ. එකල, නව ක්‍රමය කුමක්ද යනුත්, සෝවියට් සභා රාජ්‍ය යන්ත්‍රයක් බවට පරිවර්තනය කළ හැකිද යනුත් කම්කරුවන්ට වැටහුණේ නැත. අපගේ විප්ලවයේදී, න්‍යායෙහි නොව ව්‍යවහාරයේ මාවත ඔස්සේ අපි ඉදිරියට ගියෙමු. නිදසුනක් ලෙසට, මුලින් අපි ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය ගැන ප්‍රශ්නය න්‍යායික අංශයෙන් මතු නොකෙළෙමු. අපි ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය නොපිළිගන්නා බව එම අවස්ථාවේදී නොකීවෙමු. ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය විසුරුවා හැරීමට අප තීරණය කළේ පසුව, සෝවියට් සංවිධාන රට මුළුල්ලේම පැතිර යාමෙන් හා ඒවා දේශපාලන බලය අල්ලා ගැනීමෙන් ඉක්බිතිව පමණකි. දැන් හංගේරියාවෙහි සහ ස්විට්සර්ලන්තයේ ඊට වඩා බෙහෙවින් තියුණු ලෙස ප්‍රශ්නය පැන නැගී ඇති බව අපට පෙනේ.[86] එක් අතකින් මෙය ඉතාමත් යහපති: බටහිර යුරෝපා රටවල විප්ලවය වඩාත් ඉක්මණින් ඉදිරියට යන්නේ යයිද, එයින් ශ්‍රේෂ්ය

ජයග්‍රහණ ලැබෙනු ඇතැයිද යන ඒකාන්ත විශ්වාසය අපට ලැබෙන්නේය. අනිත් අතින් එහි සැඟවුනු යම් අන්තරායක් ඇත. එය නම් කම්කරු පොදු ජනතාවගේ සිත් අරගලයේ සංවර්ධනය සමග එකට ඉදිරියට නොයන තරම් ඉක්මණකින් අරගලය සිදුවීමේ අන්තරාය වේ. ජර්මන් කම්කරුවන් අතුරෙන් දේශපාලන උගෙනුම ඇති විශාල බහුජනතා කොටසකට මෙම අවස්ථාවේදී පවා සෝවියට් ක්‍රමයේ වැදගත් කම ගැන පැහැදිලි වැටහීමක් නැත. එයට හේතුව ඔවුන් ධනපති දූර්මතයන් මධ්‍යයේ සහ පාර්ලිමේන්තු ක්‍රමයේ ජීවගුණයෙන් ශික්ෂණය ලබා සිටීමය.

දෙවැන්න: සෝවියට් ක්‍රමය ව්‍යාප්ත කිරීම ගැන. ජර්මනියේ සහ එංගලන්තයේ පවා සෝවියට් සභා පිළිබඳ අදහස කොතරම් සීඝ්‍ර ලෙස ව්‍යාප්ත වී යන්නේදැයි අපට අසන්නට ලැබෙන කල, එය නිර්ධන පංති විප්ලවය ජයගන්නා බව කියන වැදගත් සාක්ෂියකි. එහි ප්‍රගතිය ප්‍රමාද කළ හැක්කේ කෙටි කලකට පමණකි. එසේ වී නමුත්, තමන්ගේ රටවල ගම්බද දිස්ත්‍රික්කවල ගොවිපල් ශ්‍රමකරුවන් හා සුළු ගොවීන් අතර සෝවියට් සභා ඇත්තේම නැති තරම් යයි ඇල්බට් සහ ප්ලැටන් යන සහෝදරවරු කියන විට ඉන් අදහස් වන්නේ වෙනත් දෙයකි. ගොවිජන සෝවියට් සභාවලට විරුද්ධ වෙමින්, නමුත් ඉතාමත් නිවැරදි ලෙස ගොවිපල් ශ්‍රමකරු හා දුප්පත් ගොවි සෝවියට් සභාවලට ආධාර දෙමින් "Rote Fahne" පත්‍රයේ පළකළ ලිපියක් මට කියවීමට ලැබිණ.[87] ධනපතියන් සහ ෂෙයිදමාන් සහ සමාගම වැනි ඔවුන්ගේ බැලයන් දැනටමත් ගොවිජන සෝවියට් සභා සඳහා සටන් පාඨය නිකුත් කර ඇත. නමුත් අපට අවශ්‍ය වන්නේ ගොවිපල් ශ්‍රමකරුවන්ගේ සහ දුප්පත් ගොවීන්ගේ සෝවියට් සභා පමණකි. අවාසනාවකට මෙන් ඇල්බට්, ප්ලැටන් සහ අනෙකුත් සහෝදරවරුන්ගේ වාර්තාවලින් පෙනෙන්නේ, ගම්බද පෙදෙස්වල සෝවියට් ක්‍රමය ව්‍යාප්ත කිරීමට හංගේරියාවේ හැර අන් රටවල සැලකිය යුතු යමක් නොකෙරෙන බවය. ජර්මන් නිර්ධන පංතිය ඒකාන්ත ලෙස ජයග්‍රහණය අත්පත් කරගැනීමට බාධක ලෙස එල්ලවන ඉතා බරපතල අන්තරායක තර්ජනය සමහර විට මෙය තුළ ගැබ්ව ඇත. ජයග්‍රහණය සහතික යයි සැලකිය හැක්කේ, නාගරික කම්කරුවන් පමණක් නොව ගම්බද නිර්ධනයන්ද සංවිධාන වී සිටින විට, එයද ඉහතදී මෙන් වෘත්තීය සමිති තුළ හා සමුපකාර තුළ නොව, සෝවියට් සභා තුළ සංවිධානය වී සිටින විට පමණකි. 1917 ඔක්තෝබරයේදී අප ගොවිජනතාව සමග, සියලු ගොවිජනතාව සමග, ඉදිරියට ගිය නිසා අපගේ ජයග්‍රහණය පහසු විය. ඒ අර්ථයෙන් බලන කල, එම අවස්ථාවේදී අපගේ විප්ලවය ධනපති විප්ලවයක් විය. අපගේ නිර්ධන පංති ආණ්ඩුව ගත් ප්‍රථම පියවර වූයේ, කෙරෙන්ස්කි යටතේ ගොවිජන



සෝවියට් සභා සහ ග්‍රාම සමිති විසින් ඉදිරිපත් කරන ලද සියලුම ගොවීන්ගේ පැරණි ඉල්ලීම 1917 ඔක්තෝබර් 26 (පැරණි ක්‍රමයට) දින, එනම් විප්ලවයෙන් පසු ඊළඟ දින පණවන ලද නීතියකට ඇතුළත් කිරීමය.[88] අපගේ ශක්තිය තිබුණේ එහිය. අති විශාල බහුතරයක් එතරම් පහසුවෙන් අප වෙත දිනාගත හැකිවූයේ එබැවිනි. ගම්බද පෙදෙස් හා සම්බන්ධයෙන් වූ කල, අපගේ විප්ලවය තවදුරටත් ධනපති විප්ලවයක් විය. සෑම ගමකම දුප්පත් ගොවීන්ගේ, අර්ධ නිර්ධනයන්ගේ කාරක සභා පිහිටුවීම සහ ගම්බද ධනපතියන්ට විරුද්ධව ක්‍රමානුකූල සටනක් කරගෙන යාම පිණිස, රාජ්‍ය සංවිධානයේ රාමු කට්ටුව තුළ සිටිමින්, ගම්බද පංති අරගලය ආරම්භ කිරීමට අපට සිදුවූයේ, පසුව, සයමසක් ගෙවී ගිය තැන පමණකි. රටේ නොදියුණුකම නිසා රුසියාවේ මෙසේ නොකර බැරිවිය. බටහිර යුරෝපයේ කටයුතු වෙනත් ආකාරයකට සිදුවනු ඇත. සැබෑ ගම්බද ජනගහනය අතර සෝවියට් ක්‍රමය, සමහර විට නව ආකෘති අනුව ව්‍යාප්ත කිරීම නැතිවම බැරි බලවත් අවශ්‍යතාවයක් බව අප අවධාරණය කරන්නේ එනිසාය.

තුන්වැන්න: තවමත් සෝවියට් ආණ්ඩුවක් දිනාගෙන නැති සියලු රටවල ප්‍රධාන කර්තව්‍යය වන්නේ සෝවියට් සභා තුළ කොමියුනිස්ට් බහුතරයක් ඇති කර ගැනීම බව අපි කිව යුත්තෙමු. අපගේ යෝජනා කොමිසම ඊයේ මෙම ප්‍රශ්නය ගැන සාකච්ඡා කළේය. සමහර විට අනෙකුත් සහෝදරවරුන් ඒ ගැන ඔවුන්ගේ අදහස් ප්‍රකාශ කරනු ඇත. නමුත් මෙම කරුණු තුන විශේෂ යෝජනාවක් ලෙසට සම්මත කරන ලෙස යෝජනා කිරීමට මම කැමති වෙමි. සංවර්ධන මාවත නියම කිරීමේ හැකියාවක් නම් අපට නැත. බොහෝ බටහිර යුරෝපා රටවල විප්ලවය ඉක්මණින්ම ඇතිවීමට හොඳටම ඉඩකඩ තිබේ. නමුත්, කම්කරු පංතියේ සංවිධාන වූ කොටස ලෙසට, පක්ෂයක් ලෙසට, අපි සෝවියට් සභා තුළ බහුතරයක් දිනා ගැනීමට උත්සාහ කරන්නෙමු. උත්සාහ කළ යුත්තෙමු. එවිට, අපගේ ජයග්‍රහණය සහතික වනු ඇත. එවිට, කොමියුනිස්ට් විප්ලවයට විරුද්ධව කිසිවක් කිරීමට මිහිපිට කිසිම බලයක් සමත් නොවනු ඇත. අපි එම කටයුත්ත නොකරන්නෙමු නම්, ජයග්‍රහණය එතරම් පහසුවෙන් ලබාගත නොහැකි වනු ඇත. එය කල් නොපවතිනු ඇත. එනිසා, මෙම කරුණු තුන විශේෂ යෝජනාවක් ලෙසට සම්මත කරන සේ යෝජනා කරනු කැමැත්තෙමි.

ප්‍රාව්දා, අංක 51, 1919 මාර්තු 6

සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 37, පිටු 491–509

# රුසියානු කොමියුනිස්ට් (බොල්ෂෙවික්) පක්ෂයේ අටවැනි සම්මේලනය

1919 මාර්තු 18–23

## පක්ෂ වැඩ පිළිවෙළ ගැන වාර්තාව
### මාර්තු 19

(අත්පොළසන්.) සහෝදරවරුනි, බුහාරින් සහෝදරයා හා මා අතර විෂයයන් බෙදගෙන තිබෙන ආකාරයට මගේ කර්තව්‍යය වී තිබෙන්නේ, නිශ්චිත සහ වැඩියෙන්ම විවාදයට තුඩු දෙන, නැතහොත්, වර්තමාන අවස්ථාවේදී පක්ෂයේ උනන්දුව වැඩියෙන්ම යොමුවන කරුණු කීපයක් ගැන කොමිසමේ අදහස විස්තර කිරීමය.

බුහාරින් සහෝදරයාගේ වාර්තාව අවසානයේ කොමිසමේ සිටින අප අතරේ මත භේදයට හේතු වන කරුණු ලෙසට සඳහන් කළ දෙය ගැන කෙටියෙන් විස්තර කරමින් මගේ වාර්තාව ආරම්භ කරන්නෙමි. මෙයින් පළමුවැන්න වැඩපිළිවෙළේ පොදු කොටස සකස් කිරීමේ ආකාරය හා සම්බන්ධයෙනි. පැරණි ධනපති ක්‍රමය හා සම්බන්ධ සියල්ලක්ම අත් හැරෙන ආකාරයෙන් වැඩ පිළිවෙළ ලිවීමට දරූ සියලුම ප්‍රයත්නයන් කොමිසමේ සිටින බහුතරය විසින් ප්‍රතික්ෂේප කිරීමට හේතුවූ කරුණු ගැන මෙහිදී බුහාරින් සහෝදරයා විස්තර කළ ආකාරය සම්පූර්ණයෙන්ම නිවැරදි නොවේ යයි මම අදහස් කරමි. මේ ගැන කුමක් කියනු ඇද්ද යන්න ගැන, අතීතය ගැන ප්‍රමාණවත් ගෞරවයක් නොදක්වීය යන චෝදනාව තමන්ට එල්ල වෙතැයි යන්න ගැන, කොමිසමේ සිටින බහුතරය බිය වූයේය යන හැඟීමක් බුහාරින් සහෝදරයා කථා කළ ආකාරයෙන් සමහර විට ඇතිවෙන්නට පුළුවන. බහුතරය ගත් ස්ථාවරය මේ ආකාරයෙන් ඉදිරිපත් කළ විට එය තරමක් විකාර ස්වභාවයක් ගන්නා බව ඇත්තය. නමුත් සත්‍යය ඊට හාත්පසින්ම වෙනසි. බහුතරය මෙම ප්‍රයත්නයන් ප්‍රතික්ෂේප කළේ ඒවා වැරදි හෙයිනි. ඒවා පවතින යථා තත්වයට ගැලපෙන්නේ නැත. ධනපති ක්‍රමයේ මූලික පදනම නොමැතිව පිරිසිදු අධිරාජ්‍යවාදය කිසි කලෙකත් පැවතුනේ නැත. කිසිම තැනෙක පවත්නේ නැත. කිසි කලෙකත් පවතිනු ඇත්තේද නැත. මෙය වූකලී, මූල්‍ය ධනපති ක්‍රමය පත්ලේ පැරණි ධනපති ක්‍රමයේ අත්තිවාරම් නොමැති කලෙක මෙන් එය හඳුන්වා දීමේදී සම්මේල, කාටල, සංගත ව්‍යාපාර සහ මූල්‍ය ප්‍රාග්ධනය ගැන කියන ලද සියල්ල වැරදි සේ සාමාන්‍යකරණය කිරීමකි.

එය වරදකි. අධිරාජ්‍යවාදී යුද්ධය කාලයේදී සහ අධිරාජ්‍යවාදී යුද්ධයෙන් පසු ඊට තදනන්තර කාලයේදී එසේ ප්‍රයත්න දැරීම විශේෂයෙන්ම වැරදිය. එංගල්ස්ගේ කාලයේදී වරක් ඔහු අනාගත යුද්ධය ගැන පරාවර්තනය කළ අවස්ථාවක ලීවේ එම යුද්ධය තිස් අවුරුදු යුද්ධයට[90] වඩා බෙහෙවින් දරුණු විනාශයක් ගෙන එනු ඇතැයි යනුවෙනි. එම යුද්ධය නිසා මිනිසා ම්ලේච්ඡත්වය දක්වා පහත වැටෙනු ඇතැයිද, වෙළඳාම සහ කර්මාන්තය පිළිබඳ අපගේ කෘතිම යන්ත්‍රය බිඳ වැටෙනු ඇතැයිද ඔහු ලීවේය.[91] ද්‍රෝහී සමාජවාදීහු සහ අවස්ථාවාදීහු යුද්ධය ආරම්භයේදී ධනපති ක්‍රමයේ දුර්වාරණීය ස්වභාවය ගැන උදම් ඇනූහ. එකල අප ''අන්තගාමීන් නැතහොත් අර්ධ අරාජිකවාදීන්'' ලෙස හඳුන්වමින් ඔවුහු අපට පරිභව කළහ. ''බලාපල්ලා, මෙම අනාවැකි සත්‍ය වී නැතැ'' යි ඔවුහු අපට කීහ. ''සිද්ධීන් අනුව පෙනීගොස් ඇත්තේ ඒවා රටවල් ඉතා ස්වල්ප සංඛ්‍යාවක් සම්බන්ධයෙන්, ඉතා කෙටි කාලයකට පමණක් අදාළව සනාථ වී ඇති බවය!'' නමුත් දැන්, රුසියාවේ පමණක් නොව, ජර්මනියේ පමණක් නොව, ජයගත් රටවල පවා, නවීන ධනපති ක්‍රමයේ යෝධ බිඳවැටීමක් ආරම්භ වෙමින් පවතී. එම බිඳවැටීම කොතරම් දැවැන්තද යත්, එනිසා බොහෝ අවස්ථාවල කෘතිම යන්ත්‍රය ඉවත් වී පැරණි ධනපති ක්‍රමය යළි ස්ථාපිත වන්නේය.

ධනපති ක්‍රමයේ සහ අධිරාජ්‍යවාදයේ ඇද වැටීම පිළිබිඹු කරන අනුපූර්ණ පින්තූරයක් ඉදිරිපත් කිරීමේ ප්‍රයත්නයක් දැරීම මැනවැයි බුහාරින් සහෝදරයා ප්‍රකාශ කළ විට, අපි කොමිසමේදී එයට විරුද්ධ වීමු, මෙහිදීද එයට විරුද්ධ වන්නෙමු. එවැන්නක් කිරීමට උත්සාහ කර බලන්න. ඔබට එය කළ නොහැකි බව එවිට පෙනෙනු ඇත. බුහාරින් සහෝදරයා කොමිසමේදී එවැනි ප්‍රයත්නයක් දැරුවේය. නමුත් ඔහුම එය අත්හැර දැම්මේය. එය කිරීමෙහි සමතෙක් වේ නම්, ඒ මෙම ප්‍රශ්නය ගැන ඉතා පුළුල් ලෙස හා තරයේ අධ්‍යයනය කළ බුහාරින් සහෝදරයා බව මට ඒකාන්තය. නියම කරගන්නා කර්තව්‍යය වැරදි එකක් නිසා, එවැනි ප්‍රයත්නයක් සාර්ථක විය නොහැකි බව මම සහතික කර කියන්නෙමි.

රුසියාවේ සිටින අපි අධිරාජ්‍යවාදී යුද්ධයේ ප්‍රතිඵල සහ නිර්ධන පංති ආඥාදායකත්වයේ ආරම්භය අත් දකිමින් සිටින්නෙමු. ඒ අතරම, රුසියාවේ තිබෙන, පෙරට වඩා බොහෝ සෙයින් එකිනෙකෙන් වෙන්වුනු ප්‍රදේශ ගණනාවකම ධනපති ක්‍රමයේ පුනර්ජනනයක් සහ එහි මුල් අවධියේ සංවර්ධනයක් අපට දක්නට ලැබේ. මෙය අපට මග හැර යා හැකි දෙයක් නොවේ. බුහාරින් සහෝදරයාට අවශ්‍ය ලෙසින් වැඩපිළිවෙළ ලියන ලද්දේ නම්, එය වැරදි වැඩ පිළිවෙළක් වන්නට තිබිණි. එහි හොඳ පැත්ත පමණක් ගෙන බැලුවත්, එවැන්නක් යනු මූල්‍ය ධනපති ක්‍රමය හා අධිරාජ්‍යවාදය ගැන කියා තිබෙන හොඳම කථා සියල්ල නැවත ඉදිරිපත් කිරීමක් වේ. නමුත් එයින් යථාර්ථය පිළිබිඹු වන්නේ නැත. එයට හේතුව මෙම යථාර්ථය ඒකාන්ත වශයෙන්ම අනුපූර්ණ නොවීමය. විෂම ජාතීය කොටස් අන්තර්ගත කොට සකස් කළ වැඩ පිළිවෙළක් අලංකාරයෙන් අඩුය (නමුත්, එය වැදගත් දෙයක් නොවේ). එහෙත් වෙනත් ඕනෑම වැඩපිළිවෙළක් වැරදි වනු ඇත. මෙම විෂම ජාතීය ස්වභාවය, විවිධ ද්‍රව්‍ය එකතුකර තනාගැනීමේ අවශ්‍යතාවය කොතරම් අප්‍රසන්න වුවත්, කොතරම් සමානුපාතික ස්වභාවයෙන් අඩු වුවත්, තවත් දීර්ඝ කලක් යන තෙක් අපට එයින් ගැලවී ගත නොහැකි වනු ඇත. අපි එයින් මිදුනු විට වෙනත් වැඩ පිළිවෙළක් නිර්මාණය කරන්නෙමු. නමුත් ඒ වන විට අපි සමාජවාදයට සම්ප්‍රාප්තව සිටිනවා විය යුත්තෙමු. එකල තිබෙනු ඇති දේ දැන් තිබෙන සේ පෙන්නුම් කිරීම මෝඩ කමක් වනු ඇත.

අප ජීවත් වන්නේ ධනපති ක්‍රමයේ ඉතාමත් ප්‍රාථමික සහ මූලික ලක්ෂණ ගණනාවක් යළි පණ ගැන්වී තිබෙන අවස්ථාවකය. නිදසුනක් ලෙසට ප්‍රවාහණයේ බිඳ වැටීම ගෙන බලමු. එය පිළිබඳව අපට හොඳ අත් දැකීම් ලැබේ. අප ගැනම කියතොත්, ඒ සම්බන්ධ ඉතා අමිහිරි අත් දැකීම් අපට ලැබේ. මේ දෙයම වෙනත් රටවලද, ජයග්‍රාහී රටවල පවා, සිදුවෙමින් පවතී. අධිරාජ්‍යවාදී ක්‍රමය යටතේ ප්‍රවාහණය බිඳ වැටීම යන්නෙන් හැඟෙන්නේ කුමක්ද? එයින් අදහස් වන්නේ ඉතාමත් පෞරාණික වෙළඳ භාණ්ඩ නිෂ්පාදන ක්‍රමය වෙත ආපසු යාමකි. අපගේ ලාභ ගරන්නන් සහ මළකාරයන් යනු කවුරුන්දැයි අපි හොඳින්ම දනිමු. මෙහි පසු කී වචන මේ දක්වා විදේශිකයන් නොදැන සිටියේයයි මම අදහස් කරමි. නමුත් දැන්? තුන්වැනි ජාත්‍යන්තරයේ සම්මේලනයට පැමිණ සිටින සහෝදරවරුන්ට කථා කර බලන්න. ජර්මනියේ සහ ස්විට්සර්ලන්තයේ යන දෙරටෙහිම ඊට සමාන වචන මතුවෙන්නට පටන් ගෙන තිබෙන බව එවිට පෙනෙනු ඇත. නමුත් මෙම ප්‍රවර්ගය නිර්ධන පංති ආඥාදායකත්වයට ගැලපිය හැක්කක් නොවේ. ධනපති සමාජය සහ



වෙළඳ භාණ්ඩ නිෂ්පාදනය උදා වූ කාලය දක්වා ආපසු යාමට ඔබට සිදු වේ.

මට සිළුටු සහ අනුපූර්ණ වැඩ පිළිවෙළක නිර්මාණය කිරීම මගින් මෙම කණගාටුදායක යථාර්ථයෙන් මිදීම යනු, මේ ලෝකයට අයත් නොවන සිහින ලෝකයකට යාමකි. වැරදි වැඩ පිළිවෙළක් ලිවීමකි. එනිසා පැරණි වැඩ පිළිවෙළෙන් කොටස් මෙහි ඇතුළත් කිරීමට අප වෙහෙස වුනේ, බුහාරින් සහෝදරයා ආචාරශීලී ලෙස කී අතීතයට ඇති ගෞරවය නිසා නොවන්නේමය. මෙබඳු හැඟීමක් ඇති කරන බව පෙනී ගියේය: 1903 දී වැඩ පිළිවෙළ ලීවේ ලෙනින්ගේ සහභාගිත්වය ඇතිවය, මෙම වැඩ පිළිවෙළ නිසැක වශයෙන්ම නරක එකකි, නමුත් වයස්ගත මිනිසුන් වැඩියෙන්ම ආශා කරන්නේ අතීතය ගැන මතක් කිරීමට වන හෙයින් නව යුගයේදී ලියා ඇති නව වැඩ පිළිවෙළ අතීතයට කරන ගෞරවයක් ලෙසට පැරණි වැඩ පිළිවෙළෙහි ඇති කරුණු නැවත ඉදිරිපත් කරන්නකි. එය එසේ නම් එවැනි ඔල්මාද කාරයන්ට සරදම් කළ යුතුය. එය එසේ නොවන බව මම ස්ථිරවම කියමි. 1903 දී විස්තර කරන ලද ධනපති ක්‍රමය 1919 දී සෝවියට් නිර්ධන පංති සමූහාණ්ඩු තුළද පවතින්නේය. අධිරාජ්‍යවාදයේ බිඳී යාම නිසාම, එය ඇද වැටීම නිසාම, මෙම වර්ගයේ ධනපති ක්‍රමය, නිදසුනක් ලෙසට, මොස්කව් නුවරින් බොහෝ දුර නොවන, සමාරා සහ ව්‍යත්කා ගුබේර්නියා ප්‍රදේශවල පවත්නේය. රට සිවිල් යුද්ධයෙන් දෙදරුම් කන කාල පරිච්ඡේදයකදී අපට මෙම තත්වයෙන්, මෙම ලාභ ගැරීමෙන් කඩිනමින් නිදහස් විය හැක්කේ නොවේ. වැඩ පිළිවෙළට වෙනත් සැකැස්මක් දීම වරදක් වනු ඇත්තේ එහෙයිනි. අප කිව යුත්තේ ඇත්ත වශයෙන් පවතින දේය: වැඩ පිළිවෙළට ඇතුළත් විය යුත්තේ කිසිසේත් නිෂ්ප්‍රභා කළ නොහැකි කරුණුය. සත්‍යය වශයෙන් තහවුරු වී ඇති කරුණුය. එය මාක්ස්වාදී වැඩ පිළිවෙළක් වන්නේ එවිට පමණකි.

න්‍යායික වශයෙන් මෙය බුහාරින් සහෝදරයාට මැනවින් වැටහෙන කරුණකි. ඒ අනුව වැඩ පිළිවෙළ යථාභූත විය යුතු යයි ඔහු කියයි. නමුත් මෙය වටහා ගැනීම එක් දෙයකි. ව්‍යවහාරික ලෙස කටයුතු කිරීම තවත් දෙයකි. බුහාරින් සහෝදරයාගේ යථාභූතභාවය යනු පොත අනුව මූල්‍ය ධනපති ක්‍රමය ගැන කරන විස්තරයකි. යථාර්ථ වශයෙන් අපට සිදු වන්නේ විෂම ජාතීය ප්‍රපංචයන් සමග කටයුතු කිරීමට ය. සෑම කෘෂිකාර්මික ගුබේර්නියා ප්‍රදේශයකම කර්මාන්තයේ ඒකාධිකාරය සමග එක පෙළට නිදහස් තරඟය ඇත. නිදහස් තරඟය නැතිව අංශ ගණනාවකම ඒකාධිකාරය පවතින තත්වයක් ලෝකයේ කිසිම තැනක ඇති වී නැත. කිසි කලෙකත් ඇති වන්නේද නොවේ. එවැනි ක්‍රමයක් ගැන ලිවීම යනු,

ව්‍යාජ සහ යථාර්ථයෙන් බැහැර වූ ක්‍රමයක් ගැන ලිවීමකි. මාක්ස් භාණ්ඩ නිෂ්පාදන ක්‍රමය ගැන හැඳින්වීමට එය කුඩා නිෂ්පාදන සමුදය මත පිහිටි උඩු ව්‍යුහය ලෙසට විස්තර කළේ නම්,[92] අධිරාජ්‍යවාදය සහ මූල්‍ය ධනපති ක්‍රමය පැරණි ධනපති ක්‍රමය මත පිහිටි උඩු ව්‍යුහය වේ. එහි මුදුන් කොටස විනාශ වුවහොත් පැරණි ධනපති ක්‍රමය විවෘතව පෙනේ. පැරණි ධනපති ක්‍රමය නොමැතිව අනුපූර්ණ අධිරාජ්‍යවාදයක් ඇතැයි කීම යනු අභිලාෂය යථාර්ථය ලෙස ආදේශ කිරීමකි.

මෙය නිතැතින්ම සිදුවිය හැකි ස්වාභාවික වරදකි. නමුත් අප හමුවේ ඇත්තේ ධනපති ක්‍රමය සම්පූර්ණයෙන්ම වෙනස් කළ අනුපූර්ණ අධිරාජ්‍යවාදයක් නම්, අපගේ කර්තව්‍ය සිය දහස් වරකින් පහසු වන්නට තිබිණි. එහි ප්‍රතිඵලයක් වශයෙන් පවත්නා සියල්ල මූල්‍ය ප්‍රාග්ධනයට යටත් වූ ක්‍රමයක් ඇතිවන්නට තිබිණි. එසේ වීනම් කිරීමට ඉතිරි වන්නේ මුදුන් කොටස ඉවත් කර ඉතිරි සියල්ල නිර්ධන පංතියට පැවරීම පමණකි. එය ඉතාමත් හිතකාමී වන්නට තිබිණි. නමුත් යථාර්ථයේ පවතින තත්වය එය නොවේ. යථාර්ථ සංවර්ධනය වූකලී අපට සම්පූර්ණයෙන්ම වෙනත් ආකාරයකින් කටයුතු කිරීමට සිදු කරවන්නකි. අධිරාජ්‍යවාදය යනු ධනපති ක්‍රමයේ උඩු ව්‍යුහයකි. එය ඇද හැලෙන විට, අප පත් වන්නේ මුදුන විනාශ වීම සහ පදනම හෙළිදරව් වීම ගැන කරුණු සඳහන් කරන තත්වයට ය. අපගේ වැඩ පිළිවෙළ නිවැරදි එකක් වීමට නම්, එය ඇත්ත වශයෙන් පවතින දෙය ගෙන හැර දක්විය යුතු යයි කියන්නේ එහෙයිනි. අංශ ගණනාවකදීම අධිරාජ්‍යවාදය දක්වා සංවර්ධනය වූ පැරණි ධනපති ක්‍රමය ඇත. එහි ප්‍රවණතාවයන් තනිකරම අධිරාජ්‍යවාදී වේ. මූලික ප්‍රශ්න පරීක්ෂා කළ හැක්කේ අධිරාජ්‍යවාදයේ දෘෂ්ටි කෝණයෙන් පමණකි. මෙම ප්‍රවණතාවයේ දෘෂ්ටි කෝණයෙන් හැර වෙනත් කිසිම ආකාරයකින් විසඳිය හැකි දේශීය, නැතහොත්, විදේශීය ප්‍රතිපත්තියේ එකම ප්‍රධාන ප්‍රශ්නයක් හෝ නැත. වැඩ පිළිවෙළෙහි දූන් සඳහන් කෙරෙන්නේ මේ ගැන නොවේ. යථාර්ථ වශයෙන් විශාල ලෙස පැතිරී තිබෙන පැරණි ධනපති ක්‍රමයේ යටිපසක් ඇත. එමෙන්ම අධිරාජ්‍යවාදයේ උඩු ව්‍යුහයද ඇත. යුද්ධයට මග පෙන්වූයේ එයයි. මෙම යුද්ධය හා අනුයාතව නිර්ධන පංති ආඥාදායකත්වය ආරම්භ විය. මෙම අදියරෙන් මග හැර යාමට ඔබට නුපුළුවන. මෙය ලෝකය මුළුල්ලේම නිර්ධන පංති විප්ලවයේ සංවර්ධන වේගය අනුවම නිරූපනය වන සත්‍යයකි. තවත් අවුරුදු ගණනාවක් යන තෙක් එය සත්‍යයක්ම වනු ඇත.

බටහිර යුරෝපයේ විප්ලවය සමහර විට වඩාත් සුමට ලෙස සිදුවනු ඇත. කෙසේ හෝ වේවා, මුළු ලෝකයම, නැතහොත්, රටවල් බහුතරයක් ප්‍රති සංවිධානය කිරීම පිණිස අවුරුදු බොහෝ ගණනක් අවශ්‍ය වනු ඇත.



එයින් අදහස් වන්නේ, මෙම පරිවර්තනීය සමයේදී මෙම වෛවර්ණ යථාර්ථයෙන් නිදහස් වීමේ ඉඩක් අපට නොමැති බවය. මෙම පැලැස්තර යථාර්ථය කොතරම් අලංකාරයෙන් අඩු වුවත් එය ඉවත දැමීම අපට කළ හැක්කක් නොවේ. එයින් ස්වල්ප කොටසක් හෝ අපට ඉවත දැමිය හැකි නොවේ. වැඩ පිළිවෙළ ලියා ඇති ආකාරයට වඩා වෙනත් ලෙසකින් ලියන ලද්දේ නම්, එය වැරදි වැඩ පිළිවෙළක් වනු ඇත.

අප ආඥාදායකත්වය වෙත පැමිණ ඇතැයි අපි කියන්නෙමු. නමුත් අප එතැනට පැමිණියේ කෙසේද යනු අපි දත යුත්තෙමු. අතීතය අපව තදින් අල්ලා ගෙන සිටියි. එය දහසක් අඟුටුවලින් අප ග්‍රහණය කරගෙන සිටියි. එනිසා, එකම ඉදිරි පියවරක් වත් ගැනීමට එය අපට ඉඩ නොදෙයි. නැතහොත්, අප එම පියවරයෙන් දූන් ගන්නා ලෙසට අඩුපාඩු සහිතව ගන්නා ලෙස අපට බල කරයි. අප සම්ප්‍රාප්ත වෙමින් සිටින තත්වය වටහා ගත හැකි වනු පිණිස, අප ඉදිරියට ගිය ආකාරය හා අප සමාජවාදී විප්ලවය වෙත යොමු වූනේ කුමකින්ද යන්න සඳහන් කළ යුතුය. අප එය වෙත යොමු කරන ලද්දේ අධිරාජ්‍යවාදය විසිනි. වෙළෙඳ භාණ්ඩ නිෂ්පාදනයේ ප්‍රාථමික ආකෘති තත්වයේ පැවති ධනපති ක්‍රමය විසිනි. මේ සියල්ලම වටහා ගත යුතුය. එසේ කියන්නේ, නිදසුනක් ලෙසට, මධ්‍යම ගොවීන් කෙරෙහි අප දක්වන ආකල්පය ගැන වැනි ප්‍රශ්න අපට විසඳා ගත හැකි වන්නේ යථාර්ථය සැලකිල්ලට ගැනීමෙන් පමණක් වන හෙයිනි. එසේම, ඇත්ත වශයෙන්ම, තනිකරම අධිරාජ්‍යවාදී ධනපති ක්‍රමයේ යුගයේදී මධ්‍යම ගොවියා වැනි කොට්ඨාශයක් සිටිය හැක්කේ කෙසේද? ධනපති ක්‍රමය පමණක් පැවති රටවල පවා එම කොට්ඨාශය නොසිටියේය. මෙම මධ්‍ය කාලීන යයි කිව හැකි තරම් වන ප්‍රපංචය (මධ්‍යම ගොවීන්) කෙරෙහි අප දක්වන ආකල්පය පිළිබඳ ප්‍රශ්නය අපි තනිකරම අධිරාජ්‍යවාදයේ සහ නිර්ධන පංති ආඥාදායකත්වයේ දෘෂ්ටි කෝණයෙන් පමණක් බලා විසඳීමට යන්නමෝ නම් අපට කිසිසේත්ම ප්‍රශ්නයේ කොන් ගැටගසා ගත නොහැකිව, අප බොහෝ දුෂ්කරතාවයන්ට මුහුණ දෙන තත්වයට පත්වනු ඇත. එහෙත්, අපි මධ්‍යම ගොවියා කෙරෙහි දක්වන ආකල්පය වෙනස් කිරීමට අපේක්ෂා කරන්නෙමු, නම්, ඔහු පැමිණියේ කොහෙන්ද සහ ඔහු කවරෙක්ද යන්නද, න්‍යායික කොටසෙහි සඳහන් කිරීම අපෙන් ඉටු විය යුතු හොඳ කටයුත්තකි. ඔහු සුළු වෙළඳ භාණ්ඩ නිෂ්පාදකයෙකි. එය ධනපති ක්‍රමයේ හෝඩිය ය. අප තවමත් එය ඉක්මවා නොමැති හෙයින් අපි ඒ ගැන කථා කළ යුත්තෙමු. මෙය පැත්තකට දමා, ''මූල්‍ය ප්‍රාග්ධනය අධ්‍යයනය කර තිබෙන විට කුමක් සඳහා හෝඩිය අධ්‍යයනය කරන්නෙමුද'' යි කීම නිසරු බවෙහි අන්තය වේ.

ජාතික ප්‍රශ්නය සම්බන්ධයෙන්ද මට එයම කියන්නට සිදුවේ. මෙහිදී

ද බුහාරින් සහෝදරයා කටයුතු කරන්නේ අභිලාෂය යථාර්ථය ලෙස ආදේශ කරමිනි. අපි ස්වාධිපත්‍යය සඳහා ජාතීන්ගේ අයිතිය නොපිළිගත යුත්තෙමු යයි ඔහු කියයි. ජාතියක් යනු නිර්ධන පංතියක් සමගම ගත් ධනපති පංතිය වේ. ස්වාධිපත්‍යය සඳහා ඒ තුච්ඡ ධනපතියන්ගේ අයිතිය පිළිගැනීම නිර්ධන පංතිකයන් වන අපි කළ යුත්තෙමුද? එය කිසිසේත් ගැලපෙන්නේ නැත! මට සමාවෙන්න, සැබැවින්ම පවතින දෙය සමග එය ගැලපෙන්නේය. ඔබ මෙය අත්හැර දමුව හොත්, එහි ප්‍රතිඵලය වන්නේ හුදෙක් මනෝ විකාරයක් පමණකි. ජාතීන් අභ්‍යන්තරයෙහි සිදුවෙමින් පවතින ප්‍රභේදනය, එනම්, නිර්ධන පංතිය ධනපති පංතියෙන් බෙදී වෙන්වීම ගැන ඔබ සඳහන් කරන්නෙහිය. නමුත් මෙම ප්‍රභේදනය ඉදිරියට යනු ඇත්තේ කෙසේදැයි බලමු.

නිදසුනක් ලෙසට දියුණු ධනපති රටක් පිළිබඳ ආදර්ශයක් වන ජර්මනිය ගෙන බලමු. එහි ධනපති ක්‍රමය, එනම්, මූල්‍ය ධනපති ක්‍රමය සංවිධාන කොට තිබුණු ආකාරය ඇමෙරිකාවට වඩා උසස් විය. ජර්මනිය වෙනත් බොහෝ අංශ අතින්, එනම්, තාක්ෂණික සංවර්ධනය හා නිෂ්පාදනය සහ දේශපාලන ක්ෂේත්‍රය අතින් ඊට වඩා පහළ තත්වයක සිටි නමුත්, මූල්‍ය ප්‍රාග්ධනය සංවිධාන කිරීම, ඒකාධිකාරී ධනපති ක්‍රමය රාජ්‍ය ඒකාධිකාරී ධනපති ක්‍රමය බවට පරිවර්තනය කිරීම අතින්, ඇය ඇමෙරිකාව අභිභවා සිටියා විය. ඒ සම්බන්ධයෙන් ඇය ආදර්ශමත් රටක් සේ පෙනේ. නමුත් එහි සිදුවන්නේ කුමක්ද? ජර්මන් නිර්ධන පංතිය ධනපති පංතියෙන් ප්‍රභේදනය වී තිබේද? නැත! කම්කරුවන්ගෙන් බහුතරය ෂෙයිදමාන්ට විරුද්ධව සිටියේ විශාල නගරවලින් කීපයක පමණක් බැව් වාර්තා විය. නමුත් එවැන්නක් සිදු වූයේ කෙසේද? එය සිදු වූයේ ස්පාර්ටකස්වරුන්[93] සහ තුන් යලක් ශාප ලත්, සෑම දෙයක්ම අවුලක් බවට පත් කරන සහ කම්කරු මණ්ඩල ක්‍රමය ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයක් සමග සම්බන්ධ කිරීමට අපේක්ෂා කරන මෙන්ෂෙවික්-ස්වාධීනයන් අතර ඇති කර ගත් සන්ධානය නිසාය! එම ජර්මනියම තුළ සිදුවෙමින් පවතින දේ මෙයයි! නමුත් ඇය දියුණු රටක් බව මතක තබා ගන්න.

බුහාරින් සහෝදරයා මෙසේ කියයි: "ස්වාධිපත්‍යය සඳහා ජාතීන් සතු අයිතිය අපට අවශ්‍ය කුමටද?" 1917 ග්‍රීෂ්ම කාලයේදී අවම වැඩ පිළිවෙළ අත්හැර, උපරිම වැඩ පිළිවෙළ පමණක් ඉතිරිකිරීමට ඔහු යෝජනා කළ අවස්ථාවේ ඔහුට විරුද්ධ වෙමින් මා කී දෙයම නැවතත් කියන්නෙමි. එවිට මම මෙසේ කීවෙමි: "වනය ඉක්මෙන තෙක් හෝයියා නොතබන්න." අප මෙය කළ යුත්තේ අප බලය අල්ලා ගැනීමෙන් පසු, ඉන් ඉක්බිතිවද මඳක් නැවතී සිට, ඉන් පසුව පමණකි. අපි බලය



අල්ලා ගත්තෙමු. මඳක් නැවතී සිටියෙමු. එනිසා දැන් මම එය කිරීමට කැමැත්තෙමි. අපි එක එල්ලේම සමාජවාදය ගොඩනැගීම ආරම්භ කර ඇත්තෙමු. අපට තර්ජනයක් වූ ප්‍රථම ප්‍රහාරය පසු බස්වා සිටිමු. එනිසා දැන් එයට කාලය සුදුසුය. ස්වාධිපත්‍යය සඳහා ජාතීන් සතු අයිතියටද එයම අදාළ වේ. "මට උවමනා කරන්නේ, ස්වාධිපත්‍යය සඳහා කම්කරු පංතීන්ට ඇති අයිතිය පිළිගැනීමට පමණකැ" යි බුහාරින් සහෝදරයා කියයි. එයින් ඔබ කියන්නේ, රුසියාවේ හැර වෙනත් කිසිම රටක ඇති නොවූ තත්වයක් පිළිගැනීමට ඔබට උවමනා බවය. එය නම් විකාරයකි.

පින්ලන්තය දෙස බලන්න. ඇය ප්‍රජාතන්ත්‍රවාදී රටකි. අපට වඩා සංවර්ධනය වූ, අපට වඩා සංස්කෘතික වශයෙන් උසස් රටකි. පින්ලන්තයේ ප්‍රභේදනයේ, නැතහොත්, නිර්ධන පංතිය වෙන් වීමේ ක්‍රියාදාමය ගමන් ගන්නේ අප රටේ එය ගමන් ගත් මගට වඩා වේදනා හරිත, විශේෂ මාර්ගයක් ඔස්සේය. පින්ලන්ත ජාතිකයෝ ජර්මන් ඒකාධිපතිත්වය අත් දුටුවහුය. දැන් ඔවුහු මිත්‍ර බලවතුන්ගේ ඒකාධිපතිත්වයට හසුව සිටිති. නමුත්, අප ජාතීන් සතු ස්වාධිපත්‍යය පිළිබඳ අයිතිය පිළිගෙන තිබෙන නිසා එහි ප්‍රභේදන ක්‍රියාදාමය ඇති වීමට ඉඩ සැලසී තිබේ. පින්ලන්ත ධනපති පංතියේ නියෝජිතයා වූද, අළුගෝසු කාර්ය ඉටු කළ පුද්ගලයා වූද, ස්වින්හුවුද්ට[94] — රුසියානු බසින් එහි අර්ථය සූකර ශීර්ෂයාය — පින්ලන්තයේ ස්වාධීනත්වය පිළිගන්නා ආඥාව මා ස්මොල්නිහි[95] දී භාරදුන් අවස්ථාවේදී එහි වූ දර්ශනය මට හොඳට මතකය. ඔහු ඉතාමත් ප්‍රිය මනාප ආකාරයෙන් මට අතට අත දුන්නේය. අපි ආචාර සමාචාර හුවමාරු කර ගත්තෙමු. එය කොතරම් අප්‍රිය ජනක දෙයක් වීද? නමුත් එය කළ යුත්තක් විය. එසේ වූයේ, මොස්කව් නුවරු, මහ රුසියානුවෝ, පින්ලන්ත ජාතිකයින් මර්දනය කිරීමට අපේක්ෂා කරතියි කියමින් ධනපතියන් ජනතාව, එනම්, වැඩ කරන ජනතාව රවටමින් සිටි හෙයිනි. එනිසා එය කළ යුත්තක් වූයේය.

බෂ්කිරියන් සමූහාණ්ඩුව සම්බන්ධයෙන් පසු ගිය දින එයම කිරීමේ අවශ්‍යතාවය නොතිබුණේද[96]? "සමහර ජාතීන් සම්බන්ධයෙන් අපට මෙම අයිතිය පිළිගත හැකිය" යි බුහාරින් සහෝදරයා කී අවස්ථාවේදී, ඔහු ඔහුගේ ලැයිස්තුවට හොටෙන්ටොට්වරු, බුෂ්මියන්වරු හා ඉන්දියන්වරුන්ද ඇතුළත් කළ බව මම සටහන් කර ගත්තෙමි. ඔහු මෙසේ ජාතීන් ගණන් ගනු ඇසූ මම, බුහාරින් සහෝදරයාට මඳක් අමතක වූයේ, එනම්, බෂ්කිරියන්වරු අමතක වූයේ කෙසේදැයි? කල්පනා කළෙමි. රුසියාවේ බුෂ්මියන්වරු නොමැත. හොටෙන්ටොට්වරු ස්වෛරී සමූහාණ්ඩුවක් සඳහා අයිතියක් කී බවක්ද අසා නැත්තෙමි. නමුත් බෂ්කීර්, කිර්ගීස් සහ වෙනත් ජනතාවන් ගණනාවක් අප හමුවේ ඇත. ඔවුන්

පිළිගැනීම අපට ප්‍රතික්ෂේප කළ හැක්කේ නොවේ. කලින් පැවති රුසියානු අධිරාජ්‍යයේ දේශ සීමා තුළ ජීවත්වන එම ජනතාවන්ගෙන් එකකට හෝ එම අයිතිය ප්‍රතික්ෂේප කිරීම අපට කළ නොහැක. බෂ්කීර් ජාතිකයන් ඔවුන්ගේ සූරාකන්නන් බලයෙන් පහකර දමන බව හා එසේ කිරීමේදී ඔවුනට අප ආධාර කරන බව, අප උප කල්පනයක් වශයෙන් පිළිගනිමු. මෙය කළ හැකි වන්නේ විප්ලවයක් සම්පූර්ණයෙන්ම මුහුකුරා ගිය පසු පමණකි. එය කළ යුත්තේද, අප ඉක්මන් කළ යුතුවන නිර්ධන පංතිය වෙන් වීමේ ක්‍රියාදමය, අපගේ මැදිහත් වීම නිසා ප්‍රමාද නොවන ලෙසට ප්‍රවේසම් සහිතවය. අද දක්වාම ස්වකීය මුල්ලා පූජකවරුන්ගේ බලපෑමට යටත්ව සිටින කිර්ගීස්, උස්බෙක්, තජික් සහ තුර්ක්මන් වැනි ජනතාවන් සම්බන්ධයෙන් අප කළ යුත්තේ කුමක්ද? පූජකයන් ගැන දීර්ඝ අත්දැකීම් ලබා සිටි, මෙහි රුසියාවේ ජනතාව, ඔවුන් බලයෙන් පහ කිරීමට අපට ආධාර දුන්හ. නමුත් තවමත්, සිවිල් විවාදය පිළිබඳ ආඥාව ක්‍රියාත්මක කරනු ලබන්නේ කොතරම් අසතුටුදායක ලෙසටද යන්න ඔබ දන්නෙහිය. මෙම ජනතාවන් වෙත ගොස් ''අපි ඔබගේ සූරා කන්නන් බලයෙන් පහකර දමන්නෙමු'' යි ඔවුනට කීම අපට කළ හැක්කක්ද? අපට එය කළ නොහැකිය. එයට හේතුව ඔවුන් සම්පූර්ණයෙන්ම ඔවුන්ගේ මුල්ලාවරුන්ට යටත්ව සිටීමයි. මෙවැනි අවස්ථාවල, අදාළ ජාතිය සංවර්ධනය වන තෙක්, අනිවාරණීය වශයෙන් සිදුවිය යුතු ලෙසටම, ධනපති පංතියෙන් ප්‍රභේදනය වී නිර්ධන පංතිය වෙන් වන තෙක්, ප්‍රමාදව සිටීම අවශ්‍ය වේ.

බුහාරින් සහෝදරයා ප්‍රමාදව සිටීමට සූදනම් නැත. නොඉවසිලිමත් කම ඔහුට ආවේශ වී තිබේ. ''අප එසේ කළ යුත්තේ මන්ද? අප ධනපති පංතිය බලයෙන් පහකර දමා, සෝවියට් ආණ්ඩුව හා නිර්ධන පංති ආඥාදායකත්වයද ප්‍රකාශයට පත් කර තිබෙන කල අප එසේ ක්‍රියා කළ යුතු වන්නේ මන්ද?'' මෙය කුල්මත් කරවන ආයාචනයක ස්වරූපය දරයි. අප ගතයුතු මාර්ගය පිළිබඳව සලකුණක් එහි ඇත. එහෙත් එය වැඩ පිළිවෙළක් නොව ප්‍රකාශනයක් වන්නේය. සෝවියට් ආණ්ඩුව සහ නිර්ධන පංති ඒකාධිපතිත්වය පිහිටුවීම ගැන ප්‍රකාශන කිරීමත්, ධනපති පංතිය වෙත එල්ල විය යුතු පිළිකුල දහස් වරක් ප්‍රකාශයට පත් කිරීමත් සුදුසුය. එහෙත් වැඩ පිළිවෙළෙහි අප ලිවිය යුත්තේ යථාර්ථ වශයෙන් පවතින දෙයය. එවිට අපගේ වැඩ පිළිවෙළ බොරු කළ නොහැකි වනු ඇත.

අපි තරයේම පංතිමය වූ ස්ථාවරයක් දරන්නෙමු. අප වැඩ පිළිවෙළෙහි ලියන දෙයින් පිළිබිඹු වන්නේ, ජාතීන් සතු ස්වාධිපත්‍යය පිළිබඳ අයිතිය ගැන අප ලියූ පසුව සිදු වී ඇති දේ පිළිගන්නා ලද බවය. ඒ අවස්ථාව



වන විටත් නිර්ධන පංති සමූහාණ්ඩු තිබුණේ නැත. එම සමූහාණ්ඩු ඇති වූයේ ඉන් පසුව වන අතර අප මෙහි ලියන දේ, එනම්, ''සෝවියට් ක්‍රමය අනුව සංවිධානය වූ රාජ්‍යයන්ගේ පෙඩරල් ඒකාබද්ධ වීමක්'' ගැන ලිවිය හැකි වූයේ, එම සමූහාණ්ඩු ඇති වූ කල හා ඇති වූ නිසා පමණකි. සෝවියට් වර්ගය යන්නෙන් තවමත් රුසියාවේ පවතින වැනි සෝවියට් සභා අදහස් වන්නේ නැති නමුත්, සෝවියට් වර්ගය ජාත්‍යන්තර තත්වයට පත්වෙමින් තිබේ. ඒ ගැන අපට කිව හැක්කේ එපමණකි. ඉන් එහාට යාම, එක පියවරක් හෝ එහාට යාම, කෙසඟක් හෝ පමණ එහාට යාම වරදකි. එනිසා එය අපේ වැඩ පිළිවෙළට සුදුසු නොවේ.

කිසියම් ජාතියක් පැමිණ සිටින්නේ මධ්‍යතන වාදයේ සිට ධනපති ප්‍රජාතන්ත්‍රවාදය වෙත යන මාර්ගයේ කුමණ අවධියකටද යන්නත්, ධනපති ප්‍රජාතන්ත්‍රවාදයේ සිට නිර්ධන පංති ප්‍රජාතන්ත්‍රවාදයට යන මාර්ගයේ කුමණ අවධියටද යන්නත්, සැලකිල්ලට ගත යුතු බව අපි කියන්නෙමු. එසේ කිරීම සම්පූර්ණයෙන්ම නිවැරදිය. සෑම ජාතිකයටම ස්වාධිපත්‍යය සඳහා අයිතියක් ඇත. හොටෙන්ටොට්වරු සහ බුෂ්මියන්වරු ගැන විශේෂයෙන් සඳහන් කිරීමට අවශ්‍ය නැත. සෑම රටක්ම, එක්කෝ මධ්‍ය කාලීන තත්වයෙන් ධනපති ප්‍රජාතන්ත්‍රවාදයට, නැතහොත්, ධනපති ප්‍රජාතන්ත්‍රවාදයේ සිට නිර්ධන පංති ප්‍රජාතන්ත්‍රවාදයට යන මාර්ගයේ සිටින හෙයින්, මිහිපිට වෙසෙන ජනගහනයෙන් අති බහුතරය, බොහෝ විට ඉන් දහයෙන් නවයක්ම, නැතහොත්, සමහර විට සියයට අනූ පහක්ම මෙම විස්තර කිරීමට අඩංගු වන්නේය. මෙය කිසිසේත්ම නොවැලැක්විය හැකි ලෙසටම ගත යුතු වන මගකි. ඊට වඩා යමක් කීම වැරදි නිසා ඊට වඩා යමක් සැබැවින්ම නොපවතින නිසා, එසේ කිසිවක් කිව නොහැකිය. ජාතීන් සතු ස්වාධිපත්‍යය පිළිබඳ අයිතිය ප්‍රතික්ෂේප කිරීම සහ ඒ වෙනුවට වැඩ කරන ජනතාවගේ ස්වාධිපත්‍ය ආදේශ කිරීම සම්පූර්ණයෙන්ම වැරදිය. ඒ ආකාරයෙන් ප්‍රශ්නය විසඳීම යනු ජාතීන් තුළ ප්‍රභේදනය සිදු වීමේදී ඇතිවන දුෂ්කරතාවයන් සහ එය ගන්නා ඇද කුද සහිත මාර්ගය ගැන සැලකිල්ලක් නොදැක්වීමකි. ජර්මනියේ එය සිදු වන්නේ අපගේ රටේ සිදුවූ ලෙසටම නොවේ. සමහර අංශවල වඩාත් වේගවත්වද, අනිත් අංශවල වඩාත් ප්‍රමාදීව සහ ලේවැගිරීම් සහිතවද එය සිදුවන්නේය. කම්කරු මණ්ඩල සහ ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය ඒකාබද්ධ කිරීම තරම් බරපතල ලෙස වැරදි අදහසක් අප රටේ පක්ෂවලින් එකක්වත් පිළිගෙන නැත. කෙසේ වුවත් අපට මෙම ජාතීන් සමග ජීවත් වීමට සිදුවේ. අප ජර්මනිය ජය ගැනීමට උත්සාහ කරන්නේ යයි ෂෙයිදමාන්ගේ පක්ෂය දැනටමත් කියන්නේය. එය විකාරයක් සහ බොරුවක් බව සැබවි. නමුත් ධනපති පංතිය තමන්ගේම අවශ්‍යතාවයන් සහිතව සිටින අතර,

දශ කෝටි ගණන් පිටපත් නිකුත් කරන එහි පුවත් පත් මගින් ඒ ගැන මුළු ලෝකයටම හඬ ගා කීමටද සලස්වන්නේය. විල්සන්ද ඔහුගේම උවමනාවන් ඉටු කර ගැනීම පිණිස එයට ආධාර කරන්නේය. විශාල යුද්ධ හමුදවක් ඇතිව සිටින බොල්ෂෙවික්වරු ජර්මනිය යටත් කිරීමෙන් එහි බොල්ෂෙවික්වාදය ව්‍යාප්ත කිරීමට අදහස් කරතියි ඔවුහු ප්‍රකාශ කරති. ජර්මනියේ සිටින හොඳම මිනිසුන්වන ස්පාර්ටකස්ට්වරු අපට කිවේ, එහි කොමියුනිස්ට්වරුන්ට විරුද්ධව ජර්මන් කම්කරුවන් උසිගන්වනු ලබන බවය. බොල්ෂෙවික්වරුන්ගේ තත්වය කොතරම් නරකද බලන්නැයි ඔවුනට කියනු ලැබේ! අපගේ තත්වය ඉතා හොඳ යයි කීමට අපට පුළුවන් කමක් නැත. එනිසා, ජර්මනියේ නිර්ධන පංති විප්ලවයෙන්, රුසියාවේ මෙන්ම අවුල් වියවුල් ඇතිවන්නේයයි තර්ක කරමින් ජර්මනියේ සිටින අපගේ සතුරෝ ජනතාව කෙරෙහි බලපාති. අපගේ අවුල් වියවුල් දිග්ගැස්සුනු අසනීපයකි. අපි අප රටේ නිර්ධන පංති ආඥාදායකත්වය නිර්මාණය කිරීමේදී ඇති වන අති දරුණු දුෂ්කරතාවයන් සමග පොර බදමින් සිටිමු. ජර්මනියේ ධනපති පංතිය, සුළු ධනපති පංතිය, නැතහොත්, ජර්මන් කම්කරුවන්ගේ කොටසක් වුව, ''බොල්ෂෙවික්වරු බලහත්කාරයෙන් ඔවුන්ගේ ක්‍රමය ස්ථාපිත කිරීමට අපේක්ෂා කරති'' යි යන මෙම අවහිරකාරී බලපෑමට හසුව සිටින තාක් කල්, ''වැඩ කරන ජනතාවගේ ස්වාධිපත්‍යය'' යන සූත්‍රයෙන් ප්‍රයෝජනයක් නොවනු ඇත. බොල්ෂෙවික්වරුන්ගේ විශ්වීය ක්‍රමය රතු හමුද බයිනෝත්තුවල අමුණාගෙන බර්ලිනයට ගෙන ආ හැකි දෙයක් සේ පෙන්නුම් කරමින්, ඔවුන් එම ක්‍රමය බලෙන් පිළිගැන්වීමට උත්සාහ කරතියි කීමේ අවස්ථාව ද්‍රෝහී ජර්මන් සමාජවාදීන්ට නොලැබෙන පරිද්දෙන් අපි කාර්ය සංවිධානය කළ යුත්තෙමු. ජාතීන් සතු ස්වාධිපත්‍යය පිළිබඳ අයිතිය ප්‍රතික්ෂෙප කළ හොත් නම්, එබඳු නිගමනයකට පැමිණිය හැකි වනු ඇත.



වැඩකරන ජනතාවගේ ස්වාධිපත්‍යය ගැන කථා කිරීම වැරදි බැවින් එය අපගේ වැඩ පිළිවෙළෙහි සඳහන් නොවිය යුතුය. එහි සඳහන් කළ යුත්තේ ඇත්ත වශයෙන් පවතින දේ ගැනය. ජාතීන් මධ්‍ය කාලීන සමයේ සිට ධනපති ප්‍රජාතන්ත්‍රවාදය කරා යන මාර්ගයේද, ධනපති ප්‍රජාතන්ත්‍රවාදයේ සිට නිර්ධන පංති ප්‍රජාතන්ත්‍රවාදය කරා යන මාර්ගයේද, විවිධ අවස්ථාවල පසුවන හෙයින්, අපගේ වැඩ පිළිවෙළට ඇතුළත් මෙම ප්‍රවාදය සම්පූර්ණයෙන්ම නිවැරදිය. අපට මෙම මාර්ගයේදී වට වංගු ගණනාවක් පසු කිරීමට සිදුවිය. සෑම ජාතියකටම ස්වාධිපත්‍යය පිළිබඳ අයිතිය ලැබිය යුතුය. වැඩකරන ජනතාවගේ ස්වාධිපත්‍යය ඇති කිරීම එයින් පහසු කෙරේ. පින්ලන්තයේ නිර්ධන පංතිය ධනපති පංතියෙන් වෙන් වීම ඉතාමත් පැහැදිලිය. වේගවත්ය. ගැඹුරුය. කවර තත්වයන්



යටතේ, වුව, එහි කටයුතු අප රටේ මෙන්ම සිදු නොවනු ඇත. අප පින්ලන්තයේ කිසිම ජාතියක් නොපිළිගන්නා බවත්, පිළිගන්නේ එහි වැඩකරන ජනතාව බවත් ප්‍රකාශ කිරීම අන්ත විහිළුවක් වන්නේය. යථාර්ථ වශයෙන් පවතින දේ පිළිගැනීම ප්‍රතික්ෂේප කිරීමට අපට පුළුවන් කමක් නැත. යථාර්ථය පිළිගන්නා ලෙස එයම අපට බල කරනු ඇත. විවිධ රටවල, නිර්ධන පංතිය සහ ධනපති පංතිය අතර සීමාවන් සලකුණු වන්නේ ඒ ඒ රටට විශේෂ වූ ආකාරයන් අනුවය. මෙහිදී, අපි ඉතාමත් ප්‍රවේසම් සහිතව කටයුතු කළ යුත්තෙමු. විවිධ ජාතීන් හා සම්බන්ධයෙන් කරන දෙයෙහිදී අපි විශේෂයෙන්ම ප්‍රවේසම් සහිත විය යුත්තෙමු. ජාතියක විශ්වාසය නැතිව යාමට වඩා අයහපත් තවත් දෙයක් තිබිය නොහැක. පෝලන්ත ජනයා අතර නිර්ධන පංතියේ ස්වාධිපත්‍යය ඇති වෙමින් පවතින බව පෙනේ. වෝර්සෝ කම්කරු නියෝජිත සෝවියට් සභාවේ[97] සංයුතය දක්වෙන අළුත්ම සංඛ්‍යාවන් මෙසේය: පෝලන්ත ද්‍රෝහී-සමාජවාදීන් 333, කොමියුනිස්ට්වරුන් 207. අපගේ විප්ලවවාදී දින සටහන අනුව, එරටේ ඔක්තෝබරය වැඩි දුරක නොවන බව මෙයින් පෙනේ. එය 1917 අගෝස්තුව හෝ සැප්තැම්බරය වැනි අවස්ථාවක පසු වන්නේය. නමුත් ප්‍රථමයෙන්ම සැලකිල්ලට ගත යුත්තේ, බොල්ෂෙවික් විප්ලවවාදී දින සටහන අනුව සියළුම රටවල් ජීවත් විය යුතුය යන ආඥාවක් තවමත් නිකුත් කර නොමැති බව හා එවැනි ආඥාවක් නිකුත් කළත් ඒ අනුව කටයුතු නොකෙරෙන බවය. දෙවැනිව, අපගේ කම්කරුවන්ට වඩා දියුණු සහ සංස්කෘතික වශයෙන් උසස් තත්වයක සිටින පෝලන්ත කම්කරුවන් අතරින් බහුතරය සමාජ-ආරක්ෂාවාදී සහ සමාජ-දේශප්‍රේමී අදහස් දරති. එනිසා අපි ප්‍රමාදව සිටිය යුත්තෙමු. මෙහිදී, වැඩකරන ජනතාවගේ ස්වාධිපත්‍යය ගැන කථා කිරීමට පුළුවන් කමක් අපට නැත. මෙම වෙනස විස්තර කර ප්‍රචාරය කිරීම අපි කළ යුත්තෙමු. අප කරමින් සිටින්නේ එයයි. නමුත්, අපි පෝලන්ත ජාතියේ ස්වාධිපත්‍යය පිළිගත යුත්තෙමුය යන්න ගැන සැකයක ඡායා මාත්‍රයක්වත් දැන් තිබිය නොහැකිය. එය පැහැදිලි කරුණකි. පෝලන්ත නිර්ධන පංති ව්‍යාපාරය අපගේ ව්‍යාපාරය මෙන්ම නිර්ධන පංති ආඥාදායකත්වය දෙසට යන ඒ මාර්ගයම ගන්නේය. එහෙත් ඒ එකම ආකාරයෙන් නොවේ. එහිදී, කවදත් පෝලන්ත ජාතිකයන් පීඩනයට පත් කළ මොස්කව් නුවරු, නැතහොත්, මහ රුසියානුවෝ, ඔවුන්ගේ මහ රුසියානු ජාත්‍යොන්මාදවාදය කොමියුනිස්ට්වාදයේ වේශයෙන් පෝලන්තය තුළට ගෙන ඒමට අපේක්ෂා කරතියි යන ප්‍රකාශයන් මගින් කම්කරුවන් බිය වද්දනු ලැබේ. කොමියුනිස්ට්වාදය බලෙන් පිළිගැන්විය හැකි දෙයක් නොවේ. ''ඔබ වෙනත් ආකාරයකින් එය කරනු ඇතැ'' යි යනුවෙන් මා ඉතාමත් හොඳ

පෝලන්ත සහෝදරයෙකුට කී විට, ඔහු පිළිතුරු දුන්නේ, ''නැත, අපි එයම, එහෙත්, ඔබට වඩා හොඳින් කරන්නෙමු'' යි කීමෙනි. එවැනි තර්කයක් ගැන මගේ කිසිම විරුද්ධත්වයක් නොවීය. ඔවුන්ගේ නිහතමානී අභිලාෂයක් ඉටු කර ගැනීමේ අවස්ථාව ඔවුනට දිය යුතු වේ. ඔවුනට උවමනා කරන්නේ අපට වඩා හොඳ සෝවියට් රාජ්‍යයක් පිහිටුවා ගැනීමටය. කටයුතු සිද්ධ වන්නේ එක්තරා අමුතු ස්වභාවයකින් බව සැලකිල්ලට ගැනීමට අපට සිදු වේ. එහෙත් අපි මෙසේ නොකිව යුත්තෙමු. ''ජාතීන් සතු ස්වාධිපත්‍යය පිළිබඳ අයිතිය භංග වේවා! අප ස්වාධිපත්‍යය පිළිබඳ අයිතිය දෙන්නේ වැඩ කරන ජනතාවට පමණකි.'' මෙම ස්වාධිපත්‍යය ඉතාමත් සංකීර්ණ හා දුෂ්කර මඟක් ගනිමින් ඉදිරියට යන්නේය. රුසියාවේ හැර වෙනත් කිසිම දේශයක එය නැත්තේය. වෙනත් රටවල සංවර්ධනයේ සියලුම අවධි ගැන පූර්වාවබෝධයක් ලබා ගන්නා අතරම, අපි මොස්කව්හි සිට ඒ ගැන කිසිම දෙයක් නියෝග නොකළ යුත්තෙමු. මෙම යෝජනාව ප්‍රතිපත්තියක් වශයෙන්ම පිළිගත නොහැක්කේ එනිසාය.

අප සකස් කර ගත් සැලැස්ම අනුව මා විස්තර කළ යුතු අනිකුත් කරුණු කෙරෙහි මම දැන් යොමු වන්නෙමි. මෙයින් මා මුල් තැන දෙන්නේ සුළු දේපල හිමියන් සහ මධ්‍යම ගොවියන් පිළිබඳ ප්‍රශ්නයටය. මේ හා සම්බන්ධයෙන් 47 වැනි වගන්තියෙහි මෙසේ සඳහන්ව ඇත:

''මධ්‍යම ගොවීන් හා සම්බන්ධයෙන් රුසියානු කොමියුනිස්ට්වාදීන් අනුගමනය කරන්නේ, ටිකෙන් ටික සහ ක්‍රමානුකූල ලෙස ඔවුන් සමාජවාදය ගොඩ නැගීමේ කටයුතුවලට අද්ද ගැනීමය. ඔවුන් කුලාකයන්ගෙන් වෙන් කිරීමේද, ඔවුන්ගේ අවශ්‍යතාවයන් ගැන සුපරීක්ෂාකාරී ලෙස කටයුතු කිරීමෙන් ඔවුන් කම්කරු පංතිය පැත්තට දිනා ගැනීමේද, කිසි කලෙකත් මර්දනයේ පියවරයන් මගින් නොව, දෘෂ්ටිමය ආයුධ මගින්, ඔවුන්ගේ අත්‍යාවශ්‍ය උවමනාවන් සම්බන්ධයෙන් ඔවුන් සමග ප්‍රායෝගික එකඟත්වයන්ට එළඹීමෙන් සහ සමාජවාදී ප්‍රතිසංස්කරණ ක්‍රියාත්මක කරන විධික්‍රම තීරණය කිරීමේදී ඔවුන්ට සහනයන් දීමෙන් ඔවුන්ගේ නොදියුණු කමට විරුද්ධව සටන් කිරීමේද, කර්තව්‍යය පක්ෂය තමන් වෙත පවරා ගන්නේය.''

අප මෙහි වදන් ගත කරන්නේ, මධ්‍යම ගොවීන් හා සම්බන්ධයෙන් සමාජවාදයේ නිර්මාතෘවරයන් නිතර කියා තිබෙන දෙයමය යන හැඟීම මට ඇති වේ. මෙම වගන්තියෙහි ඇති එකම වරද එය ප්‍රමාණවත් තරම් නියත ස්වභාවයක් නොදැරීමය. අපට වැඩ පිළිවෙළකින් මීට වඩා විස්තරයක් කළ නොහැකි තරම්ය. නමුත් සම්මේලනයේදී අප සාකච්ඡා කළ යුත්තේ වැඩ පිළිවෙළ හා සම්බන්ධ ප්‍රශ්න පමණක් නොවේ. අපි මධ්‍යම ගොවීන් පිළිබඳ ප්‍රශ්නය කෙරෙහි ගැඹුරු, තුන්වරක් ගැඹුරු



සැලකිල්ලක් දැක්විය යුත්තෙමු. සමහර තැන්වල ඇති වී තිබෙන කැරළි තුළින් පැහැදිලි ලෙසම පොදු සැලැස්මක් පෙනෙන බවටත්, එමෙන්ම මෙම සැලැස්ම, මාර්තුවේ මහා ප්‍රහාරයක් දීමට හා කැරළි ගණනාවක් සංවිධානය කිරීමට තීරණය කර සිටින සුදු හමුදාවල යුද්ධ සැලැස්ම සමග සම්බන්ධ වී ඇතැයි යනු ඒකාන්ත බවටත්, අපට තොරතුරු ලැබී තිබේ. සම්මේලනය නමින් කිරීමට බලාපොරොත්තුවන ආයාචනයක කෙටුම්පතක් සභාපති මණ්ඩලයේ ඇත. ඒ ගැන ඔබට වාර්තා කරනවා ඇති. වාම සමාජවාදී-විප්ලවවාදීන් සහ මෙන්ෂෙවික්වරුන්ගෙන් කොටසක් නියම සුදු හමුද ඒජන්තවරුන් ලෙසට කටයුතු කළ බව මෙම කැරළිවලින් සක් සුදක් සේ පෙනේ — බ්‍රියාන්ස්ක්හි කැරැල්ල ඇවිස්සීමට ක්‍රියා කළේ මෙන්ෂෙවික්වරුය — ඒ සුදු හමුද ඒජන්තවරුන්ගේ කටයුතුය. සුදු හමුදවල මහා ප්‍රහාරයක්, ගම්වල කැරළි, දුම්රිය ගමනාගමනය අඩාල කිරීම — මේ ආකාරයෙන් බොල්ෂෙවික්වරුන් බලයෙන් පහකර දමනු හැකි වනු ඇද්ද? මෙහිදී මධ්‍යම ගොවීන්ගේ කාර්ය කොටස විශේෂයෙන්ම පැහැදිලිව, බලවත් ලෙස හා නැවත නැවතත් මතු වී පෙනෙන්නේය. සම්මේලනයේදී අප කළ යුත්තේ මධ්‍යම ගොවීන් කෙරෙහි අප දක්වන සහනදායක ආකල්පය ගැන විශේෂයෙන් අවධාරණය කිරීම පමණක් නොවේ. මධ්‍යම ගොවීන්ට කිසියම් හෝ දෙයක් දෙන, හැකි තරම් දුරට නිශ්චිත වූ පියවරයන් ගැන සිතීමද අප කළ යුතු වේ. ආත්ම-ආරක්ෂණය සඳහා සහ අපගේ සියලු සතුරන්ට විරුද්ධව අරගල කිරීම සඳහා මෙම පියවරයන් අතිශයින්ම අවශ්‍යය. මධ්‍යම ගොවියා අපත් ඔවුනුත් අතර වැනෙමින් සිටින බව අපගේ සතුරෝ දනිති. එනිසා ඔහු අපෙන් ඈත් කොට ඔවුන් වෙත දිනා ගැනීමට ඔවුහු උත්සාහ දරති. දැන් අපට තිබෙන තත්වය අනුව දැවැන්ත උපසේවා බලවේගයන් ඇත. පෝලන්ත සහ හංගේරියානු යන විප්ලව දෙකම වර්ධනය වන බවත්, ඒවා සීඝ්‍රයෙන් වර්ධනය වන බවත් අපි දනිමු. මෙම විප්ලවවලින් අපට නිර්ධන පංති උපසේවා බලවේග සැපයෙනු ඇත. ඒවා නිසා අපගේ තත්වයෙහි පහසුවක් ඇති වනු ඇත. එසේම, දැනට දුර්වලව පවතින අපගේ නිර්ධන පංති පදනම බොහෝ දුරට එයින් ශක්තිමත් වනු ඇත. මෙය මීළඟ මාස කීපය තුළ දී සිදු විය හැකිය. නමුත් ඒ හරියටම කුමණ අවස්ථාවේදැයි අප නොදනිමු. දැන් උග්‍ර අවස්ථාවක් පැන නැගී තිබෙන බව ඔබ දන්නෙහිය. එනිසා මධ්‍යම ගොවීන් පිළිබඳ ප්‍රශ්නය ප්‍රායෝගික වශයෙන් අතිශයින් වැදගත් වන්නේය.

තවදුරට යමින්, සමූපකාරය පිළිබඳ ප්‍රශ්නය ගැන සඳහන් කිරීමට කැමැත්තෙමි. අපගේ වැඩ පිළිවෙළෙහි 48 වැනි වගන්තිය ඊට අදාළය. එක්තරා දුරකට මෙම වගන්තිය කල් ඉක්ම ගොස් ඇත. අප කොමිසම

තුළ එය කෙටුම්පත් කරමින් සිටින විට අප රටේ සමුපකාර තිබුණ නමුත්, පාරිභෝගික කොමියුන තිබුණේ නැත. නමුත්, ඉන් දින කීපයකට පසුව, සියලුම සමුපකාර ආකෘති එකම පාරිභෝගික කොමියුනයකට සංකේන්ද්‍රණය කිරීම සම්බන්ධයෙන් ආඥාවක් නිකුත් කරන ලදී. මෙම ආඥාව ප්‍රසිද්ධ කර තිබේද, නැතහොත්, මෙහි සිටින වැඩි දෙනා ඒ ගැන දන්නේද යන්න මම නොදනිමි. එය තවමත් පළ කර නොමැති නම්, හෙට හෝ අනිද්දා එය පළ කෙරෙනු ඇත.[98] මේ අතින් මෙම වගන්තිය දැනටමත් කල් ඉක්මවා ඇත. නමුත්, එසේ වුවත්, ආඥා නිකුත් කිරීමේ සිට ඒවා ක්‍රියාත්මක කිරීම දක්වා බොහෝ දුරක් තිබෙන බව අප සියලු දෙනාම ඉතා හොඳින් දන්නා නිසා එය තිබීම අවශ්‍ය යයි මට හැඟේ. සමුපකාර හා සම්බන්ධයෙන් අපි 1918 අප්‍රියෙල් මස පටන්ම වෙහෙස මහන්සි වෙමින් සිටියෙමු. එහිදී යම් තරමක් සැලකිය යුතු සාර්ථකත්වයක් ලබා ගෙන ඇතත්, එය තීරණාත්මක සාර්ථකත්වයක් නොවේ. ජනතාව සමුපකාරවලට සංවිධාන කිරීමේ අප කටයුතු සමහර විට කොතරම් දුරට සාර්ථක වී තිබේද යත්, බොහෝ උයෙස්ද් ප්‍රදේශවල ගම්බද ජනගහනයෙන් සියයට 98 ක් දැනටමත් එසේ සංවිධානය වී සිටිති. නමුත්, ධනපති සමාජයේ පැවති මෙම සමුපකාර, ධනපති ජීවගුණයෙන් පිරී ඉතිරී ඇත. මෙන්ෂෙවික්වරු සහ සමාජවාදී-විප්ලවවාදීහු ද, ධනපති විශේෂඥයන්ද ඒවායේ මුල් තැන ගෙන සිටිති. ඒවා මතුයෙහි අපගේ අධිකාරය ස්ථාපිත කිරීම තවමත් අපට නුපුළුවන් වී ඇත. එනිසා, මෙහිදී අපගේ කර්තව්‍යය ඉටු නොවූ තත්වයක් පවතී. අපගේ ආඥාවෙන් පාරිභෝගික සමුපකාර ඇති කෙරෙන බැවින්, එය ඉදිරි පියවරක් වන්නේය. රුසියාව මුළුල්ලේම සියලුම ආකාරයේ සමුපකාර එකට පැහිය යුතු බව එයින් නියෝග කෙරේ. නමුත් මෙම ආඥාවද සම්පූර්ණයෙන්ම ක්‍රියාත්මක කළත්, කම්කරු සමුපකාරවල ස්වතන්ත්‍ර කොටස් එයට ඇතුළත් නොවේ. එම කොටස් අනාගත පාරිභෝගික කොමියුන තුළ තිබෙන්නට හරිනු ලැබේ. එසේ කරන ලද්දේ වඩාත් උසස් වර්ධනයක් ඇති සංවිධානයක් ලෙසට කම්කරු සමුපකාර සමිති යන්ත්‍රය අත්‍යාවශ්‍ය වන හෙයින් ඒවා ආරක්ෂා කර ගත යුතු බව ප්‍රායෝගික අත්දැකීම් ඇති කම්කරු සමුපකාරවල නියෝජිතයින් අපට කී සහ ඔප්පු කර පෙන්වූ හෙයිනි. සමුපකාරය පිළිබඳ ප්‍රශ්නය සම්බන්ධයෙන් අපගේ පක්ෂය තුළ මතභේද සහ අසමථයන් ගණනාවක්ම තිබිණි. සමුපකාරවල සිටින සහ සෝවියට් සභාවල සිටින බොල්ෂෙවික්වරු අතර ගැටුම් තිබුණේය. ජනතාව අතර ඇති වීමට ධනපති ක්‍රමය විසින් මග පෙන්වන ලද්දවූද, තවමත් පෞරාණික ධනපති ක්‍රමය යටතේ කටයුතු කරන ගම්බද ජනතාවක් අතර තිබෙන්නාවූද, මෙම එකම යන්ත්‍රය, ප්‍රතිපත්තියක් වශයෙන් කෙසේ හෝ රැක ගත යුතුය යන අර්ථයෙන් මෙම



ප්‍රශ්නය බේරුම් කර ගත යුතු බව මම අදහස් කරමි. එය සංවර්ධනය කළ යුතු වේ. මොනම තත්වයක් යටතේ හෝ එය ඉවත දැමිය යුතු නොවේ. මෙහිදී ඉටු කළ යුතු කර්තව්‍යය දුෂ්කර එකකි. එයට හේතුව, ස්ථාන වැඩි ගණනකදීම සමුපකාරවල නායකයන් ධනපති විශේෂඥයන් වීමය. බොහෝ විට සුදු හමුදා පිරිස් වීමය. ඔවුන් කෙරෙහි වෛරයක්, සාධාරණ වෛරයක් ඇත්තේද, ඔවුන්ට විරුද්ධව කෙරෙන සටනක් ඇත්තේද එහෙයිනි. නමුත් මෙම සටන දක්ෂ ලෙසින් කළ යුත්තකි: සමුපකාරකයන්ගේ ප්‍රතිවිප්ලවවාදී ප්‍රයත්න කෙළවර කළ යුත්තෙමු. නමුත් මෙය සමුපකාර යන්ත්‍රයට විරුද්ධව කරන සටනක් නොවිය යුතුය. ප්‍රතිවිප්ලවවාදී නායකයන් ඉවත් කර දමන අතරම, අපි එම යන්ත්‍රය මතුයෙහි අපගේ අධිකාරය තහවුරු කළ යුත්තෙමු. මෙහිදී අපගේ අරමුණ ධනපති විශේෂඥයන් සම්බන්ධයෙන් වූ අරමුණ මෙන්ම වේ. මම එම ප්‍රශ්නය ගැනද විස්තර කිරීමට කැමැත්තෙමි.

ධනපති විශේෂඥයන් පිළිබඳ ප්‍රශ්නය නිසා ගැටුම් සහ මත වෙනස්කම් රැසක් ඇති වේ. මා මෑතදී පෙට්‍රොග්‍රෑඩ් සෝවියට් සභාවේදී කථා කළ අවස්ථාවේදී මා වෙත ඉදිරිපත් කරන ලද ලිඛිත ප්‍රශ්න අතර වැටුප් ප්‍රමාණ ගැන අසන ලද ප්‍රශ්න කීපයක් විය. සමාජවාදී සමූහාණ්ඩුවක රූබල් 3000 තරම් ගෙවීමට ඉඩ දිය හැකිදැයි මගෙන් අසන ලදී. ඇත්ත වශයෙන්ම, අපි මෙම ප්‍රශ්නය වැඩ පිළිවෙළට ඇතුළත් කර ඇත්තෙමු. අප එසේ කළේ මේ සම්බන්ධයෙන් වූ අප්‍රසාදය බොහෝ දුර ගොස් ඇති හෙයිනි. ධනපති විශේෂඥයන් ගැන ප්‍රශ්නය යුද්ධ හමුදාවේ, කර්මාන්තයේ, සමුපකාරවල, නැතහොත්, සෑම තැනකම, මතුවී තිබේ. එය ධනපති ක්‍රමයේ සිට කොමියුනිස්ට් ක්‍රමයට පරිවර්තනය වීමේ කාලයේදී ඉතාමත් වැදගත් ප්‍රශ්නයකි. අපට කොමියුනිස්ට් ක්‍රමය ගොඩනැගීමට හැකි වන්නේ ධනපති විද්‍යාව හා කාර්මික ශිල්පය විසින් සැපයෙන මාධ්‍යයන් උපයෝගී කර ගනිමින් එය පොදු ජනතාවට කිට්ටු විය හැකි දුරට ගෙන ඒමෙන් පසුව පමණකි. කොමියුනිස්ට් සමාජයක් ගොඩනැගීමේ වෙනත් ක්‍රමයක් නැත. නමුත් මේ ආකාරයෙන් එය ගොඩනැගීම පිණිස ධනපතියන්ගෙන් යන්ත්‍රය ගැනීමටත්, වැඩෙහි යෙදී සිටින සියලුම විශේෂඥයන් යොදවා ගැනීමටත් අපට සිදුවේ. මෙම ප්‍රශ්නය මූලික වශයෙන්ම බේරුම් කරනු පිණිස අපි උවමනාවෙන්ම එය වැඩ පිළිවෙළෙහි විස්තරාත්මක ලෙස පැහැදිලි කර ඇත්තෙමු. රුසියාවේ සංස්කෘතික අඩු දියුණුව ගැන අපි හොඳින් දනිමු. ප්‍රතිපත්තියක් වශයෙන් අතිශයින් උසස් නිර්ධන පංති ප්‍රජාතන්ත්‍රවාදයක් ඉදිරිපත් කර තිබෙන, මුළු ලෝකයම සඳහා එවැනි ප්‍රජාතන්ත්‍රවාදයක ආදර්ශයක් නිර්මාණය කර තිබෙන සෝවියට් බලයට එයින් සිදුවන දෙයත්, මෙම

සංස්කෘතික අඩුපාඩුකම නිසා සෝවියට් බලයේ වැදගත් කම අඩුවන හා නිලධාරිවාදය පණගැන්වෙන ආකාරයත් ගැන අපි හොඳින් දන්නෙමු. මෙම යන්ත්‍රය වෙත ළඟාවීමේ හැකියාව ලෝකයේ වැඩ කරන ජනතාව සියලු දෙනාටම ඇති නමුත්, ඔවුන් සියලු දෙනාටම එය වෙත ළඟා වීමට ඇත්ත වශයෙන්ම තිබෙන්නේ කොතරම් අඩු අවස්ථාවක්ද යන්න අපි සියලු දෙනාම දනිමු. එය එසේ වන්නේ ධනපති ක්‍රමය යටතේ මෙන් නීතියෙන් ඇතිවන බාධාවක් නිසා නොවේ. ඊට ප්‍රතිකූල ලෙසට අපගේ නීති මේ සඳහා ආධාර කරයි. නමුත්, මෙම කරුණෙහිදී නීති පමණක් ප්‍රමාණවත් නොවේ. එහිදී අධ්‍යාපනික, සංවිධානාත්මක සහ සංස්කෘතික වැඩ මහා සම්භාරයක් අවශ්‍ය වේ. මෙය සීඝ්‍රාකාරයෙන් නීති සම්පාදනය මගින් කළ හැක්කක් නොවේ. ඒ සඳහා දීර්ඝ කාලයක් තිස්සේ අති දැවැන්ත ප්‍රමාණයක් වැඩ කිරීම අවශ්‍ය වන්නේය. ධනපති විශේෂඥයන් පිළිබඳ මෙම ප්‍රශ්නය ඒකාන්ත වශයෙන්ම නිශ්චිත ලෙස මෙම සම්මේලනයේදී බේරුම් කර ගත යුතුය. නිසැක වශයෙන්ම සහෝදරවරු මෙම සම්මේලනයේ කටයුතු ගැන සාවධාන විමසිල්ලෙන් සිටිනු ඇති අතර, මෙම ප්‍රශ්නය බේරුම් කෙරුණු පසු සම්මේලනයේ අධිකාරය රුකුලක් කොට ගැනීමටත්, අපට මුහුණ පෑමට සිදුවී ඇති ප්‍රශ්න කෙබඳුදැයි වටහා ගැනීමටත් ඔවුන්ට හැකි වනු ඇත. පියවරක් පියවරක් පාසා මෙම ප්‍රශ්නයට මුහුණ දෙන සහෝදරවරුන්ට යටත් පිරිසෙයින් ප්‍රචාරක වැඩවලට හෝ සහභාගි වීමට එයින් ආධාරයක් සැලසෙනු ඇත.

ස්පාර්ටකස්ට්වරුන්ගේ බලපෑම කම්කරුවන් අතර වැඩියෙන් පැතිර පවතින, එමෙන්ම කර්මාන්ත වැඩියෙන්ම දියුණු වී තිබෙන බටහිර ජර්මනියේ, තවමත් ජයග්‍රහණය අත්පත් කර ගෙන නැති, ස්පාර්ටකස්-ට්වරුන් වෙත පැමිණ "අපි ඔබ සමග යන්නෙමු" යි එහි ඉන්ජිනේරුවන් හා කලමනාකරුවන් කියන බව ස්පාර්ටකස්ට්වරුන් නියෝජනය කරමින් මෙහි මොස්කව් නුවරට පැමිණ සිටින සහෝදරවරු අපට කීහ. අපේ රටේ තත්වය එය නොවීය. කම්කරුවන්ගේ වඩාත් උසස් සංස්කෘතික මට්ටමත්, ඉන්ජිනේරු පිරිස්වල වැඩි නිර්ධන පංතිකරණයත්, අප නොදන්නා වෙනත් හේතු ගණනාවකුත් නිසා අප රටේ දක්නා ලද සම්බන්ධකම්වලට වඩා තරමක් වෙනස් සම්බන්ධකම් එහි ඇති වී තිබේ.

කෙසේ හෝ වේවා, තවදුර සංවර්ධනයට හරස්වන ප්‍රධාන බාධකයක් මෙහි ඇත. අපි වහාම, වෙනත් රටවල ආධාර බලාපොරොත්තුවෙන් නොසිට, අප්‍රමාදවම, මේ අවස්ථාවේදීම අපගේ නිෂ්පාදනීය බලවේගයන් සංවර්ධනය කළ යුත්තෙමු. ධනපති විශේෂඥයන් නොමැතිව අපට මෙය කළ නොහැකි වන්නේය. නැවත විවාදයට ඉඩ නොතබා ඒ බව කිව යුතුය. නමුත්, මෙම විශේෂඥයන්ගෙන් බහුතරයට ඇත්තේ සම්පූර්-



ණයෙන්ම ධනපති ආකල්පයකි. ඔවුන් කම්කරු කොමිසාර්වරුන්ගේ සහෝදර සහයෝගයේ සහ කොමියුනිස්ට් න්‍යෂ්ටි ස්වභාවයේ වටපිටාවක් තුළ ලා තැබිය යුතුය. ඔවුන්ට එයින් පිට පැන යා නොහැකි වන ආකාරයෙන් ඔවුන් එහි තැබිය යුතුය. නමුත්, ඔවුන් ධනපති ක්‍රමය යටතේ වැඩ කළාට වැඩියෙන් හොඳ තත්වයන් යටතේ වැඩ කිරීමේ අවස්ථාව ඔවුන්ට දිය යුතුය. එසේ කළ යුත්තේ, ධනපතියන්ගෙන් පුහුණුව ලබා සිටින මෙම පිරිස, නොඑසේ කල වැඩ නොකරන හෙයිනි. ජනගහනයෙන් මුළු ස්තරයක්ම බලකිරීම යටතේ වැඩ කිරීමට සලස්වන තත්වයක් ඇති කළ නොහැකිය. අපි අත් දැකීම අනුව එය හොඳින්ම දන්නෙමු. ප්‍රතිවිප්ලවයට ක්‍රියාත්මක ලෙස සහභාගි නොවන සේ ඔවුන්ට බල කිරීමට අපට පුළුවන. සුදු හමුදාවල ආයාචන අනුව කටයුතු කිරීමට ඔවුන් තුළ මරණීය බියක් ඇති වන සේ ඔවුන් බිය වැද්දීම අපට කළ හැක. මේ අතින් බොල්ෂෙවික්වරු ශක්තිමත් ලෙස ක්‍රියා කරති. මෙය කළ හැකිය. එසේම අපි මෙය ප්‍රමාණවත් තරමින් කරන්නෙමු. අපි සියලු දෙනාම මෙය කිරීමට උගෙන ගෙන ඇත්තෙමු. නමුත් මේ ආකාරයෙන් බල කිරීමෙන් මුළු ජන කොටසක්ම බලා වැඩ කරවිය හැකි නොවේ. මෙම පිරිස් සංස්කෘතික වැඩට පුරුදුව සිටිති. ඔවුහු ධනපති ක්‍රමයේ රාමු කට්ටුව යටතේ එය දියුණු කළහ. ඔවුහු ධනපතියන්ට අති දැවැන්ත ද්‍රව්‍යමය හිමිකම් අත් කොට දී ඔවුන් පොහොසත් කළහ. නමුත් ඔවුන් නිර්ධන පංතියට එය දුන්නේ ලේශ මාත්‍ර සිහිති වශයෙන් පමණකි. එසේ වුවත්, එම පිරිස් සංස්කෘතිය දියුණු කළහ. එය ඔවුන්ගේ කටයුත්ත විය. සංස්කෘතිය අගය කරන පමණක් නොව එය ජනතාව අතරට ගෙන යාමට ආධාර කරන, සංවිධාන වූ හා දියුණු කොටස් කම්කරු පංතිය විසින් උසස් කරනු ලබන බව ඔවුන්ට පෙනෙන විට, ඔවුහු අප කෙරෙහි වූ ඔවුන්ගේ ආකල්පය වෙනස් කරති. වසංගතවලට විරුද්ධව සටන් කිරීමට ස්වාධීනව ක්‍රියාත්මක වන සේ වැඩ කරන ජනයා උනන්දු කරවන නිර්ධන පංතිය දකින දොස්තරවරයෙක් අප කෙරෙහි දක්වන ඔහුගේ ආකල්පය සම්පූර්ණයෙන්ම වෙනස් කර ගනියි. එවැනි දොස්තරවරු, ඉන්ජිනේරුවරු, කෘෂිවිද්‍යාඥයන් සහ සමූපකාරකයන් විශාල පිරිසක් අප වෙත සිටිති. නිර්ධන පංතිය වැඩි වැඩියෙන් ජනතාව මෙම සත් ව්‍යාපාරයට සම්බන්ධ කර ගන්නා බව දකින ඔවුහු, හුදෙක් ධනපති පංතියෙන් දේශපාලන වශයෙන් වෙන් වූ තත්වයේ පමණක් නොසිට, සදාචාරමය වශයෙන් අපට යටත් වූ තත්වයට පත්වන්නාහ. එවිට අපගේ කර්තව්‍යය වඩාත් පහසු වුනු ඇත. එවිට ඔවුන් ස්වේච්ඡාවෙන්ම අපගේ යන්ත්‍රයට ඇදී විත්, එහි කොටසක් බවට පත් වෙනු ඇත. මෙම කර්තව්‍යය සාර්ථක කර ගැනීම සඳහා පරිත්‍යාගයන් අවශ්‍ය වේ. මේ සඳහා කෝටි සිය ගණනින් ගෙවීම වුවද,

ඉතා සුළු ගෙවීමක් වේ. මෙම පරිත්‍යාගය කිරීමට බිය වීමෙන් පෙනෙන්නේ අපට අපගේ කර්තව්‍යය ගැන නොවැටහෙන බව වන හෙයින් එය ළාබාල කමක් වන්නේය.

ප්‍රවාහණයෙහි අවුල් තත්වය, කර්මාන්තයෙහි සහ කෘෂිකර්මාන්තයෙහි අවුල් තත්වය, සෝවියට් සමූහාණ්ඩුවේ මුළු ජීවිතයම දුර්වල කරන්නේය. මෙහිදී රටේ සෑම නගරයකම මුළු ශක්තිය යොදමින් අපි ඉතාමත් ශක්තිමත් ලෙස පියවරයන් ගත යුත්තෙමු. විශේෂඥයන් හා සම්බන්ධයෙන් සුළු කෙනිත්තීම් කිරීමේ ප්‍රතිපත්තියක් අනුගමනය නොකිරීමට අපි වග බලා ගත යුත්තෙමු. මෙම විශේෂඥයෝ සූරාකන්නන්ගේ දසයෝ නොවෙති. ඔවුහු ක්‍රියාශීලී ලෙස සංස්කෘතික කටයුතුවලයෙදී සිටින්නෝ වෙති. ධනපති සමාජයේදී ධනපති පංතියට සේවය කළ ඔවුහු නිර්ධන පංති සමාජයක් යටතේ අපට සේවය කරතියි යන අපේක්ෂාව ලෝකය මුළුල්ලේම සියලුම සමාජවාදීන්ගෙන් ප්‍රකාශ වී ඇත. මෙම පරිවර්තනීය කාල සීමාවේදී අපි ඔවුන්ට දිය හැකි යහපත්ම ජීවන තත්වයන් දිය යුත්තෙමු. වඩාත්ම හොඳ ප්‍රතිපත්තිය වන්නේ මෙයයි. වඩාත්ම පිරිමැසුම්දයක කළමනාකරණය එය වනු ඇත. එසේ නොකළ හොත් දස කෝටි කීපයක් වන මුදලක් ඉතිරි කරගන්නා අතර, අපට ඊට වඩා විශාල අලාභ විඳින්නට සිදුවනු ඇත. කොතරම් මුදල් තිබුණත් එම පාඩු පිරිමසා ගත නොහැකි වනු ඇත.

කම්කරු කොමිසාර් ෂ්මිද්ත් සමග අප වැටුප් ප්‍රමාණ ගැන සාකච්ඡා කළ අවස්ථාවේදී ඔහු මෙවැනි කරුණු සඳහන් කළේය. මෙම වැටුප් සමාන කිරීමේ ප්‍රශ්නයේදී කිසිම දේශයක වන ඕනෑම ධනපති ආණ්ඩුවකට වඩා, නැතහොත්, එවැනි ආණ්ඩුවකට අවුරුදු දුසිම් ගණනකදී කළ හැකිවාට වඩා කාර්ය කොටසක් අප විසින් ඉටු කර තිබෙන බව ඔහු කීවේය. යුද්ධයට පෙර පැවති වැටුප් ප්‍රමාණ ගෙන බලන්න. එකල වෙර වැඩ කරන ශ්‍රමකරුවෙකුට දිනකට රූබලයක්, එනම්, මසකට රූබල් විසි පහක් ලැබුණේය. ඒ අතර විශේෂඥයෙකුට මසකට රූබල් පන් සියයක් ලැබුණේය. මෙහිදී රූබල් ලක්ෂ ගණන් වැටුප් ලැබූ විශේෂඥයන් ගැන නොකියමු. විශේෂඥයාට කම්කරුවාට මෙන් විසි පස් ගුණයකින් වැඩි වැටුපක් ලැබුණේය. වර්තමාන වැටුප් ප්‍රමාණ රූබල් හය සියයේ සිට රූබල් තුන් දහස දක්වා වෙනස් වේ. වැඩි වීම පස් ගුණයක් පමණකි· ප්‍රමාණයන් සම කිරීම සඳහා අප බොහෝ සේ කටයුතු කරන බව මෙයින් පෙනේ. අප විශේෂඥයන්ට වැඩිපුර ගෙවන බව සැබවි. නමුත් ඔවුන් අපට ඔවුන්ගේ දැනුම දීම සලකා මඳක් වැඩියෙන් ගෙවීම ප්‍රයෝජනවත් පමණක් නොව අවශ්‍ය හා න්‍යායික වශයෙන් නැතිවම බැරි දෙයක්ද වේ. මෙම ප්‍රශ්නය ගැන ප්‍රමාණවත් තරම් සවිස්තර ලෙස වැඩ පිළිවෙළෙහි



කරුණු සඳහන්ව ඇතැයි මම අදහස් කරමි. එය විශේෂයෙන්ම අවධාරණය කළ යුතුය. එය මෙහිදී ප්‍රතිපත්තියක් ලෙසට නිශ්චය කරගත යුතුය. එපමණක් නොව, සම්මේලනයට සහභාගි වන සෑම නියෝජිතයෙක්ම පෙරලා තම ප්‍රදේශයට ගිය කල, ඔහු තම සංවිධානයට කරන වාර්තාව මගින් හා ඔහුගේ සියලු කටයුතුවලදී එය ක්‍රියාත්මක කරන බවට අපි වග බලාගත යුත්තෙමු.

වැනෙනසුලු බුද්ධිමතුන් අතර සම්පූර්ණ වෙනසක් ඇති කිරීමට දැනටමත් සමත් වී සිටින්නෙමු. ඊයේ අපි සුළු ධනපති පක්ෂ නීතිගත කිරීම ගැන කථා කරමින් සිටියෙමු. නමුත් අද අපි මෙන්ෂෙවික්වරුන් සහ සමාජවාදී-විප්ලවවාදීන් සිරභාරයට ගනිමින් සිටින්නෙමු. මෙසේ ඉස්සරහට පස්සට යමින් අපි එක් නිශ්චිත ක්‍රමයක් ක්‍රියාත්මක කරමින් සිටින්නෙමු. මෙම ප්‍රතිපත්ති වෙනස් කිරීම් මැද්දෙන් සසංගත සහ බලවත් ක්‍රියාමාර්ගයක් දිවෙන්නේය. එය නම් ප්‍රතිවිප්ලවය කපා හරිමින් ධනපති පංතියේ සංස්කෘතික යන්ත්‍රය උපයෝගී කර ගැනීම වන්නේය. මෙන්ෂෙවික්වරු සමාජවාදයේ නරකම සතුරෝ වෙති. එසේ කියන්නේ ඔවුන් සමාජවාදී වෙස් ඇඳුමක් ඇඟ ලාගෙන සිටින හෙයිනි. නමුත් මෙන්ෂෙවික්වරු නිර්ධන පංති නොවන කණ්ඩායමකි. මෙම කණ්ඩායමේ ඉතා සුළු නිර්ධන පංති මුදුන් තට්ටුවක් ඇත. ඒ අතර මුළු කණ්ඩායම සුළු ධනපති බුද්ධිමතුන්ගෙන් සැදී තිබේ. මෙම කණ්ඩායම අපගේ පැත්තට එමින් සිටී. අපි එය මුළු කණ්ඩායම පිටින්ම දිනා ගන්නෙමු. ඔවුන් අප වෙත එන සෑම අවස්ථාවකම අපි ඔවුන් "සාදරයෙන් පිළිගනිමු!" යි කියමු. මෙම වැනීමේ සෑම වරකදීම ඔවුන්ගෙන් කොටසක් අප පැත්තට එන්නේය. මෙන්ෂෙවික්වරුන්, "නොවාය ෂිස්න්" පිරිස්[99] සහ සමාජවාදී-විප්ලවවාදීන් සම්බන්ධයෙන් තත්වය එය විය. මෙම වැනෙන්නන් සියලු දෙනාම සම්බන්ධයෙන් පවතින තත්වය එයයි. ඔවුහු කෙදිරිගාමින් එක කඳවුරක සිට අනිකට පැන යති. ඒ සම්බන්ධයෙන් අපට කළහැකි දෙයක් නැත. නමුත් මෙම සියලු වැනීම්වලදී අපි හැදියාවෙන් යුත් බුද්ධිමතුන් කණ්ඩායම් සෝවියට් සේවක පිරිස්වලට බඳවා ගන්නෙමු. ඒ අතරම, තවදුරටත් සුදු හමුදාවලට ආධාර කරන එම කොටස් කපා හරින්නෙමු.

මාතෘකා බෙදගෙන තිබෙන ආකාරයට මගේ කොටසට වැටෙන ඊළඟ ප්‍රශ්නය, නිලධාරිවාදය සහ පුළුල් ජනතා කොටස් සෝවියට් කටයුතුවලට සහභාගි කරවා ගැනීම පිළිබඳ ප්‍රශ්නය ය. අපි කලක් තිස්සේම නිලධාරිවාදය ගැන පැමිණිලි අසා ඇත්තෙමු. එම පැමිණිලි සත්‍ය බවට සැකයක් නොමැත. නිලධාරිවාදයට විරුද්ධව සටන් කිරීම පිණිස ලෝකයේ අන් කිසිම රාජ්‍යයක් නොකළ] තරම් අපි කටයුතු

කර ඇත්තෙමු. සම්පූර්ණයෙන්ම ධනපති වූද, ධනපති පංතියේ පීඩක යන්ත්‍රය වූද, ඉතාමත් නිදහස් ධනපති සමූහාණ්ඩුවෙහි වුවද එසේම වන්නා වූද, එම යන්ත්‍රය අප විසින් එහි අත්තිවාරම දක්වාම විනාශ කරන ලදී. නිදසුනක් ලෙසට උසාවි ගනිමු. මෙහි ඉටු කිරීමට තිබුණු කර්තව්‍ය පහසු වූ බව සැබෑය. කම්කරු පංතියේ විප්ලවවාදී යුක්තිය පදනම වශයෙන් ගන්නා ඕනෑම කෙනෙකුට විනිශ්චය කරුවෙකු ලෙසට කටයුතු කළ හැකි නිසා අපට මේ සඳහා අළුත් යන්ත්‍රයක් නිර්මාණය කිරීමට සිදු වූයේ නැත. මෙම ක්ෂේත්‍රයෙහි කළ යුතු වැඩ අපි කිසිසේත් සම්පූර්ණ කර නැත්තෙමු. නමුත් කරුණු ගණනාවක් අතින් උසාවි අවශ්‍ය පරිදි වෙනස් කර ඇත්තෙමු. අපි, පිරිමින් පමණක් නොව, ජනගහනයේ ඉතාමත් නොදියුණු සහ ගතානු ගතික කොටස වන කාන්තාවන්ද, විශේෂයක් නොමැතිව මෙහි කටයුතුවල යොදවා ගත හැකි වන සේ මණ්ඩල නිර්මාණය කර ඇත්තෙමු.

ආණ්ඩුවේ අන්‍ය අංශවල සේවකයෝ ඊට වඩා දැඩි වූ නිලධාරිවාදීහු වෙති. එහි ඉටු කළ යුතු කර්තව්‍යය වඩාත් දුෂ්කරය. අපට මෙම යන්ත්‍රය නොමැතිව ජීවත් විය නොහැක. ආණ්ඩුවේ සෑම අංශයකින්ම එවැනි යන්ත්‍රයක් සඳහා ඉල්ලුම උද්ගත වේ. මෙහිදී අපට දරන්නට සිදු වී තිබෙන්නේ රුසියාව ධනපති රටක් ලෙසට ප්‍රමාණවත් තරම් දියුණු නොවී තිබීමේ පාඩුවය. පෙනී යන ලෙසට ජර්මනිය මෙයින් විඳින අමාරුව අපට වඩා අඩු වනු ඇත. මන්ද යත්, ඇගේ නිලධාරි යන්ත්‍රය, ජනතාව හපයක් වන සේ උරා බොන, එහෙත්, අපගේ කාර්යාලවල මෙන් පුටු රත් කරමින් නොසිට, වැඩ කරන සේ ඔවුන්ට බල කරන ශික්ෂණයක් ලබා ඇති බැවිනි. මෙම පරණ නිලධාරීන් විසුරුවා හළ අපි, ඔවුන් එහා මෙහා කර නව තනතුරුවලට පත් කරන්නට පටන් ගත්තෙමු. සාර්වාදී නිලධාරීහු සෝවියට් ආයතනවලට බැදෙන්නටත්, ඒවා තුළ සිට ඔවුන්ගේ නිලධාරිවාදී විධික්‍රම ක්‍රියාත්මක කරන්නටත් පටන් ගත්හ. ඔවුහු කොමියුනිස්ට්වරුන්ගේ වර්ණය ගනිමින් ඔවුන්ගේ චරියාව වඩාත් සාර්ථක කර ගැනීමටත්, රුසියානු කොමියුනිස්ට් පක්ෂයේ සාමාජික කාඩ්පත් ලබා ගැනීමටත් පටන් ගත්හ. මේ අනුව බලන කල, මොවුහු ඉදිරි දොරෙන් එළියට ඇද දමනු ලැබූ නමුත්, ආපසු ජනේලයෙන් ඇතුළට රිංගති. මෙහිදී වැඩියෙන්ම දැනෙන්නේ සංස්කෘතික වශයෙන් දියුණු බලවේගයන් අඩු බවය. මෙම නිලධාරීන් ඉවත් කර දැමිය හැකිය. නමුත්, ඔවුන් එක් වරම යළි උගන්වා ගත හැකි නොවේ. මෙහිදී අපට මුහුණ පාන්නට වන්නේ ප්‍රධාන වශයෙන් සංවිධානමය, සංස්කෘතික සහ අධ්‍යාපනික ප්‍රශ්නවලට ය.

නිලධාරිවාදයට විරුද්ධව අවසානය දක්වා, ජයග්‍රහණය දක්වා සටන් කිරීමට අපට හැකි වන්නේ මුළු ජනගහනයම ආණ්ඩුවේ පාලන කටයුතුවලට සහභාගි වන විට පමණකි. ධනපති සමූහාණ්ඩුවල මෙය සිදුවීමට කිසිම ඉඩක් නැතිවා පමණක් නොව, එය නීතියෙන්ද වලක්වනු ලැබේ. ඉතාමත් හොඳ ධනපති සමූහාණ්ඩුවේ වුව, එය කොතරම් ප්‍රජාතන්ත්‍රවාදී වුවත්, වැඩ කරන ජනතාව ආණ්ඩු කටයුතුවලට සම්බන්ධ වීම වලක්වන දහස් ගණන් නීතිමය බාධක ඇත්තේය. අප කර තිබෙන්නේ මෙම බාධක ඉවත් කිරීමය. නමුත් වැඩ කරන ජනතාවට ආණ්ඩුවේ පාලන කටයුතුවලට සහභාගි විය හැකි අවධියට අපි තවමත් පැමිණ නැත්තෙමු. නීතියට අමතරව, සංස්කෘතික මට්ටමේ දියුණුවක්ද අවශ්‍යය. එය නීතියකට යටත් කළ හැකි දෙයක් නොවේ. වැඩ පිළිවෙළ අනුව සෝවියට් සභා වැඩ කරන ජනතා ආණ්ඩු ආයතන වන නමුත්, මෙම අඩු සංස්කෘතික මට්ටමේ ප්‍රතිඵලයක් වශයෙන් ඒවා තවමත් සමස්තයක් වශයෙන් මුළු ජනතාව ගෙනයන ආණ්ඩු ආයතන වී නැති අතර, ඇත්ත වශයෙන්ම, නිර්ධන පංතියේ දියුණු කොටස විසින් වැඩ කරන ජනතාව වෙනුවෙන් ගෙනයන ආණ්ඩු ආයතන වන්නේය.

මෙහිදී අපට මුහුණ පාන්නට සිදු වන්නේ, දීර්ඝ කාලීන අධ්‍යාපනයෙන් හැර වෙනත් ආකාරයකින් විසඳිය නොහැකි ප්‍රශ්නයකටය. වර්තමානයේදී මෙය අපට ඉතාමත්ම දුෂ්කර කර්තව්‍යයක් වී තිබේ. එයට හේතුව මා නිතර පෙන්වා දී ඇති පරිදි ආණ්ඩුවේ පාලන කටයුතු කිරීමෙහි යෙදෙන කම්කරු කොටස අතිශයින් කුඩා, විශ්වාස කළ නොහැකි තරමට කුඩා වීමය. එනිසා අපි ආධාර ලබා ගත යුත්තෙමු. පෙනෙන්නට තිබෙන සියලු කරුණු අනුව, අප රට තුළ එබඳු උපසේවයක් වැඩී එමින් පවතී. දැනුම සඳහා බලවත් පිපාසයක්ද, ප්‍රධාන වශයෙන් පාසල්වලින් පිටතදී ලබා ගන්නා දැනුමෙහි දැවැන්ත වර්ධනයක්ද වැඩ කරන ජනතාවට අධ්‍යාපනය දීමෙහි විශාල දියුණුවක්ද, තිබෙන බවට ස්වල්ප හෝ සැකයක් නොමැත. මෙම ප්‍රගතිය පාඨශාලා රාමු කට්ටුවක් තුළට සීමා කළ නොහැක. එහෙත් එය දැවැන්ත ප්‍රගතියකි. නුදුරු අනාගතයේදී අපට අති විශාල උපසේවා පිරිසක් ලබා ගත හැකි බව පෙනෙන සියලු කරුණු අනුව සිතා ගත හැක. වැඩ කටයුතු කිරීමෙහිදී පමණට වඩා වෙහෙස දරූ නිර්ධන පංතිකයන්ගේ කුඩා කොටසෙහි නියෝජිතයන්ගේ තැන් ගැනීමට එම පිරිසට හැකි වනු ඇත. කෙසේ හෝ වේවා මේ හා සම්බන්ධයෙන් අපගේ වර්තමාන තත්වය අතිශයින්ම දුෂ්කරය. නිලධාරිවාදය පරාජය කර තිබේ. සූරා කන්නන් ඉවත් කර දමා ඇත. නමුත් සංස්කෘතික මට්ටම උසස් කර නැත. එනිසා නිලධාරිවාදය පරණ තත්වයන්ට අරක් ගනිති. ඔවුන් පස්සට තල්ලු කර දැමිය හැකි වන්නේ, මෙතෙක් කෙරුණු පමණට වඩා පුළුල් වශයෙන් නිර්ධන පංතිය හා

ගොවි ජනතාව සංවිධාන කළ හොත් පමණක් හා කම්කරුවන් ආණ්ඩුවේ පාලන කටයුතුවලට බඳවා ගැනීමට නියම පියවරයන් ගතහොත් පමණක් ද වේ. සෑම මහජන කොමිසාර් අංශයකම ගනු ලබන එවැනි පියවරයන් ගැන ඔබ සියලු දෙනාම දන්නෙහිය. එනිසා මම ඒ ගැන විස්තර නොකරමි.

මට විස්තර කිරීමට තිබෙන අන්තිම කරුණ, නිර්ධන පංතියේ නායක කාර්ය භාරය හා ඡන්ද බලය අහිමි කිරීම පිළිබඳ ප්‍රශ්නයය. අපගේ ව්‍යවස්ථාව ගොවි ජනතාව සම්බන්ධයෙන් නිර්ධන පංතියේ ප්‍රමුඛත්වය පිළිගන්නා අතර සූරාකන්නන්ට ඡන්ද බලය අහිමි කරයි.[100] බටහිර යුරෝපයේ පිරිසිදු ප්‍රජාතන්ත්‍රවාදීන් වැඩියෙන්ම පහර දුන්නේ මෙයටය. ඔවුන්ට මාක්ස්වාදයේ ඉතාමත් මූලික ප්‍රස්තුතයන් අමතක වී තිබෙන බවත්, ඔවුන්ට ඇත්තේ ධනපති ප්‍රජාතන්ත්‍රවාදයක් වන අතර අප නිර්ධන පංති ප්‍රජාතන්ත්‍රවාදය වෙත පැමිණ සිටින බව ඔවුන්ට අමතක වී තිබෙන බවත්, කියමින් අපි ඔවුන්ට පිළිතුරු දුන්නෙමු. එසේම පිළිතුරු දෙන්නෙමු. රාජ්‍ය පාලන කටයුතුවලට කම්කරුවන් සහ දුප්පත් ගොවීන් බඳවා ගැනීම සඳහා පසුගිය මාස කීපය තුළ සෝවියට් සමූහාණ්ඩුව ඔවුන්ට පහසුකම් ඇති කරමින් කළ කටයුතු වලින් දහයෙන් එක පංගුවක් හෝ ඉටු කළ එකද වෙනත් රටක් ලෝකයේ නැත. එය සම්පූර්ණ සත්‍යයකි. කඩදසියේ ප්‍රජාතන්ත්‍රවාදය නොව, සැබෑ ප්‍රජාතන්ත්‍රවාදය හා සම්බන්-ධයෙන්,කම්කරුවන් හා ගොවිජනතාව සම්බන්ධ කර ගැනීම අතින් අප ඉටු කර තිබෙන කොටස ඉතාමත් හොඳ ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුව වුව සිය ගණනකින්වත් කර නොමැත. අවුරුදු සිය ගණනකින්වත් එයට එම වැඩ කොටස කළ හැක්කේද නොවේ. මේ බව කිසිවෙක් ප්‍රතික්ෂේප නොකරනු ඇත. සෝවියට් සභාවල වැදගත්කම නිර්ණය වූයේ මෙයිනි. සෝවියට් සභා සියලුම රටවල නිර්ධන පංතියේ සටන් පාඨය වී තිබෙන්නේ මේ නිසාය.

නමුත් ජනතාවගේ සංස්කෘතික නොදියුණු කම පිළිබඳ බාධකයෙන් ගැලවීමක් මෙයින් අපට සැලසෙන්නේ නැත. ධනපතියන්ගේ ඡන්ද බලය අහිමි නොකරම ඔවුන් පියවරක් පියවරක් පාසා මර්දනය කිරීම නිර්ධන පංති ආඥාදායකත්වයට කළ හැකිය යන්න න්‍යායික වශයෙන් ඉඳුරාම පිළිගත හැකි දෙයක් වන හෙයින් ධනපතියන්ට ඡන්ද බලය අහිමි කිරීම පරමාර්ථ අදහසක් කොට අපි නොසලකන්නෙමු. මෙහි ඉහත දැක්වුනු ප්‍රස්තුතය න්‍යායික වශයෙන් වටහා ගත හැක්කකි. එපමණක් නොව අපි අපගේ ව්‍යවස්ථාව අන්‍ය රටවලට ආදර්ශයක් ලෙස යෝජනා කරන්නේද නොවෙමු. අප කියන්නේ ධනපති පංතිය මර්දනය නොකර සමාජවාදයට සංක්‍රමණය වීම ගැන සිතන තැනැත්තේ සමාජවාදියෙක් නොවන බව පමණකි. නමුත් ධනපතියන් පංතියක් වශයෙන් මර්දනය



කිරීම අත්‍යාවශ්‍ය වන අතර ඔවුන්ට ඡන්ද බලය හා සමානත්වය අහිමි කිරීම අත්‍යාවශ්‍ය නොවන්නේය. අපට ධනපතියන්ගේ නිදහස අවශ්‍ය නොවේ. අපි සූරාකන්නන් හා සූරාකනු ලබන්නන් අතර සමානත්වය නොපිළිගන්නෙමු. නමුත් මෙම ප්‍රශ්නය ව්‍යවස්ථාවට ඇතුළත් කර තිබෙන්නේ කම්කරුවන් සහ ගොවිජනයා අතර වෙනස ඇතුළත් නොවන ආකාරයෙනි. මෙම කරුණු ව්‍යවස්ථාවට ඇතුළත් කරන ලද්දේ ඒවා සැබැවින් භාවිතයට නැගුනාට පසුවය. සෝවියට් සභාවල ව්‍යවස්ථාව පිළියෙළ කරන ලද්දේද බොල්ෂෙවික්වරුන් විසින් නොවේ. එය බොල්-ෂෙවික් විප්ලවයට පෙර, මෙන්ෂෙවික්වරුන් සහ සමාජවාදී-විප්ලවවාදීන් විසින් ඔවුන්ගේම අවාසියට හේතුවන පරිදි සකස් කරන ලද්දකි. ඔවුන් එය ලිව්වේ ඇත්ත වශයෙන් පැවති තත්වයන්ට අනුකූල වන පරිද්දෙනි. නිර්ධනයන් සංවිධානය වීම ගොවි ජනතාව සංවිධානය වීමට වඩා සීඝ්‍ර ලෙස ඉදිරියට ගිය අතර එනිසා නිර්ධන පංතිය විප්ලවයේ ප්‍රධාන බල පවුර බවට පත් වීමෙන් ඔවුන්ට වැඩි වාසි සහිත තත්වයක් ලැබිණි. ඊළඟට ඉටු කළ යුතු කර්තව්‍යය වී තිබෙන්නේ මෙම වැඩි වාසි සහිත තත්වයයේ සිට ක්‍රමික වශයෙන් ඔවුන් අතර සමානාත්මතාවයක් ඇති කිරීම වෙත යාමය. ඔක්තෝබර් විප්ලවයට පෙර හෝ පසු කිසිවෙක් ධනපතියන් සෝවියට් සභාවලින් පන්නා දැමුවේ නැත. ධනපතියෝ ස්වකැමැත්තෙන්ම සෝවියට් සභා හැර ගියහ.

ධනපතියන්ට ඡන්ද බලය හා සම්බන්ධ කාරණය ඔය ආකාර වේ. ප්‍රශ්නය ඉතාමත් පැහැදිලි ආකාරයෙන් ඉදිරිපත් කිරීම අපගේ කර්තව්‍යය. අප කර තිබෙන දේ ගැන මොහොතකටවත් කණගාටු නොවන්නෙමු. නමුත් පවත්නා සත්‍ය කරුණු සම්පූර්ණයෙන්ම යථා තත්වාකාරයෙන් විස්තර කරන්නෙමු. අප පෙන්වා දෙන පරිදි, අපගේ ව්‍යවස්ථාවට මෙම අසමානත්වය ඇතුළු කිරීමට සිදු වූයේ සංස්කෘතික මට්ටම පහත් නිසා සහ අපගේ සංවිධාන කටයුතු දුර්වල නිසාය. අපි මෙය පරමාදර්ශයක් කොට නොගන්නෙමු. ඊට ප්‍රතිකූල වශයෙන්, වඩා හොඳින් සංවිධානය වූ නිර්ධන පංතිය සහ ගොවි ජනතාව අතර මෙම අසමානත්වය අහෝසි කිරීමට ක්‍රමානුකූල ලෙස වැඩ කිරීමේ වගකීම අප පක්ෂය එහි වැඩ පිළිවෙළ මගින් භාර ගනී. සංස්කෘතික මට්ටම නංවා ගැනීමට හැකි වූ වහාම අපි මෙම අසමානත්වය අහෝසි කරන්නෙමු. එවිට, එවැනි සීමා කිරීම්වලින් තොරව අපට කටයුතු කර ගෙන යා හැකි වනු ඇත. දැන් වුවද, විප්ලවයෙන් දහහත් මසකට පසු, මෙම සීමා කිරීම්වල ඇත්තේ ඉතා ස්වල්ප ප්‍රායෝගික වටිනා කමකි.

සහෝදරවරුනි, වැඩ පිළිවෙළ ගැන සාමාන්‍ය විස්තරයක් කිරීමේදී විස්තර කළයුතු ප්‍රධාන කරුණු මේ යයි මම අදහස් කරමි. ඒවා ගැන

තවදුරටත් සලකා බැලීම විවාදයේදී කෙරෙනු ඇතැයි අපේක්ෂා කරමි. (අත්පොළසන්.)

## 3

## පක්ෂ වැඩ පිළිවෙළ ගැන විවාදය අවසන් කරමින් කළ කථාව

## මාර්තු 19

(අත්පොළසන්.) සහෝදරවරුනි, වාර්තාව හා සම්බන්ධයෙන් කළ තරම් සවිස්තර ලෙස, ප්‍රශ්නයේ මෙම කොටස ගැන මූලික අදහස් හුවමාරුවකින් පසුව එය බුහාරින් සහෝදරයා සමග බෙදගැනීම මට කළ නොහැකි විය. සමහරවිට එසේ කිරීමේ අවශ්‍යතාවයක් නොවන්නට පිළිවන. මෙහි ඇති වූ විවාදයෙන් එක කරුණක් පැහැදිලි වී යයි මම අදහස් කරමි. එය නම් කිසියම් නිශ්චිත හා නිසි ලෙස වදන් ගත කෙරුණු ප්‍රති යෝජනා නොමැති බවයි. කථිකයන් බොහෝ දෙනෙක් වෙන් වූ කරුණු ගැන අසංගත ලෙස විස්තර කළ නමුත්, ප්‍රති යෝජනා කිසිවක් ඉදිරිපත් නොකළහ. මතු වූ ප්‍රධාන විරුද්ධත්වය ගැන මම කරුණු ඉදිරිපත් කරන්නෙමි. එම විරුද්ධත්වය මූලික වශයෙන් පෙර වදනට විරුද්ධව එල්ල වූවක් විය. ධනපති ක්‍රමය ගැන කරන විස්තරය අධිරාජ්‍යවාදය ගැන කරන විස්තරයක් සමග එක සමස්තයක් වන සේ ඒකාබද්ධ කර එය පෙරවදනට ඇතුළත් කළ හැකි යයි විශ්වාස කරන සහෝදරවරුන්ගෙන් තමාද කෙනෙක් බව බුහාරින් සහෝදරයා මට කීවේය. නමුත් මෙය කර නොමැති නිසා, තිබෙන කෙටුම්පත පිළිගැනීමට අපට සිදුවේ.

ඔබට ඉදිරිපත් කර තිබෙන තර්කය වැරදි යයි සහෝදරවරු බොහෝ දෙනෙක් තර්ක කළහ. පද්බෙල්ස්කි සහෝදරයා එය විශේෂයෙන් අවධාරණය කළේය. පද්බෙල්ස්කි සහෝදරයා ඉදිරිපත් කළ තර්ක ඇත්ත වශයෙන්ම විමතිය දනවයි. නිදසුනක් ලෙසට, 1 වැනි වගන්තියෙහි විප්ලවය අසුවල් දිනයේ විප්ලවය ලෙසට සඳහන් කර තිබේ යයි ද, එනිසා මොන යම් හෝ හේතුවක් නිසා මෙම විප්ලවයට අංකයක් පවා දී ඇතැයි යන හැඟීම ඔහුට ඇති වන්නේ යයිද පද්බෙල්ස්කි සහෝදරයා කීවේය. මහජන කොමිසාර් මණ්ඩලයේදී අපට සුචි අංක සහිත බොහෝ ලියවිලි සම්බන්ධයෙන් කටයුතු කිරීමට සිදුවන අතර බොහෝ විට අපට එම අංක සුළුවශයෙන් එපා වන හැඟීමක් ඇතිවන බව කීමට මම කැමැත්තෙමි. නමුත් මෙහිදී මෙම හැඟීම ඇති කරන්නේ මන්ද? මෙම ප්‍රශ්නයත් සුචි අංකත් අතර තිබෙන සම්බන්ධය කුමක්ද? අපි නිවාඩු දවසේ දිනය නියම කර එය නිමිති කොට ගෙන උත්සව පවත්වන්නෙමු. අප බලය අල්වා ගත්තේ හරියටම ඔක්තෝබර් 25 දිනය යන්න ප්‍රතික්ෂේප කළ හැකිද? මොනයම් ආකාරයකින් හෝ මෙය වෙනස් කිරීමට ඔබ උත්සාහ කරන්නෙහි නම් එය කෘත්‍රිම වනු ඇත. ඔබ විප්ලවය ඔක්තෝබර්-නොවැම්බර් විප්ලවය යනුවෙන් හඳුන්වන්නෙහි නම්, එය එක දිනකින් නොකෙරුණු බව කීමට උපකාර කරගත හැකි හේතුවක් සපයන්නෙහිය. එය ඊට වඩා දීර්ඝ කාලයක කටයුතුවලින් සාර්ථක කෙරුනු බව සැබවි. එය ඔක්තෝබරයේ හෝ නොවැම්බරයේ හෝ, නොඑසේ නම් එක අවුරුද්දකින් පවා කරන ලද්දක් නොවීය. වගන්තිවලින් එකක, ඇති වෙන්නට යන සමාජ විප්ලවය ගැන සඳහන් වීම සම්බන්ධයෙන් පද්බෙල්ස්කි විරුද්ධත්වය පළ කළේය. මේ හේතු කොට ගෙන වැඩ පිළිවෙළ ''සමාජ විප්ලව මහාරාජිණියගේ උදහසට'' හේතුවන සේ කටයුතු කිරීමේ වරදට හසුවන බව ඔහු ඇඟෙව්වේය. මෙහි අපි දැන් සමාජ විප්ලවය මධ්‍යයේ සිටින නමුත් වැඩ පිළිවෙළ කියන්නේ, එය ඇති වෙන්නට යන බවය! වැඩ පිළිවෙළෙහි සඳහන් වන්නේ ලෝක සමාජ විප්ලවය ගැන වන හෙයින්, මෙම තර්කය හේතු විරහිත බව පැහැදිලිය.

අප ආර්ථික දෘෂ්ටි කෝණයෙන් විප්ලවයට ළඟා වන බව අපට කියනු ලැබේ. අප එසේ කළ යුතුද, නැද්ද? මෙහිදී අධික උද්වේගය ඇති සහෝදරවරු බොහෝ දෙනෙක් ලෝක ආර්ථික මණ්ඩලය ගැන හා ජාතික පක්ෂ සියල්ලම රුසියානු කොමියුනිස්ට් පක්ෂයේ මධ්‍යම කාරක සභාවට යටත් කිරීම ගැන කථා කිරීමට තරම් දුරට ගියහ. ප්‍යාතකොව් සහෝදරයාද එයම කියන තත්වයට සමීප විය. (ප්‍යාතකොව්, ඔහු සිටින තැන සිට: ''එය නරක දෙයක් යයි ඔබ සිතනවාද?) එය නරක දෙයක් නොවන බව දැන් ඔහු කියන නිසා මා එයට පිළිතුරු වශයෙන් කියන්නේ, මෙවැනි කිසියම් දෙයක් වැඩ පිළිවෙළෙහි තිබුණේ නම්, එය විවේචනය කිරීමේ අවශ්‍යතාවයක් නොවන බවය. එවැනි වැඩ පිළිවෙළක කතුවරුන් එයින් තමන්ගේ මිනීවලවල් හාරා ගන්නවාට සැක නැත. වැඩ පිළිවෙළ මගින් අප ගන්නා ස්ථාවරය ඇත්ත වශයෙන් පවත්නා දෙය අත්තිවාරම කොටගත් එකක් විය යුතු බව මෙම අධික උද්වේගය ඇති සහෝදරවරු අමතක කළහ. ඒ අධික උද්වේගය ඇති එක සහෝදරයෙක් කීවේ ඇත්ත වශයෙන්ම පවතින දේ එයට ඇතුළත් වීම ගැන ඔහු එකඟ නොවන බව හා නොපවතින දේ එයට ඇතුළත් කරන සේ ඔහු යෝජනා කරන බවය (සිනා). මා සිතන්නේ එසේ කීවේ වැඩ පිළිවෙළ ඉතා තදින් විවේචනය කර, එය වැඩකට නැතැයි කී සුනිත්සා ය. මෙම තර්කය විනිවිද පෙනෙන තරම් පුස්සක් නිසා එය අසා නැගෙන සිනාව ඉතාමත් ස්වාභාවික යයි

සිතමි. එයට ඇතුළත් විය යුත්තේ ඇත්ත වශයෙන් පවත්නා දෙය පමණකැයි මම නොකීවෙමි. මා කීවේ නිශ්චිත වශයෙන් තහවුරු වී තිබෙන දෙයින් පටන් ගෙන ඉදිරියට යා යුතු බවය. කොමියුනිස්ට් විප්ලවය නොවැලැක්විය හැකි ලෙසම සිදුවන බව නිර්ධන පංතිකයන්ට සහ වැඩ කරන ගොවි ජනතාවට අපි කිව යුත්තෙමු, ඔප්පු කළ යුත්තෙමු. මෙය කීම අවශ්‍ය නැතැයි යන අදහස මෙහි කිසිවෙක් දැක්වූයේද? කිසියම් කෙනෙක් එවැනි අදහසක් ප්‍රකාශ කළේ නම්, එය වැරදි බව ඔහුට ඒත්තු ගන්වනු ඇත. කිසිවෙක් එවැනි අදහසක් ප්‍රකාශ කළේ නැත. කිසිවෙක් එසේ නොකරනු ද ඇත. එයට හේතුව, අපගේ පක්ෂය බලයට පැමිණියේ කොමියුනිස්ට් නිර්ධන පංතියේ පමණක් නොව සියලුම ගොවි ජනතාවගේ ද සහයෝගය ඇතිව බව, අවිවාදයෙන් පිළිගත් සත්‍යයක් වීමය. දැන් අප සමග ගමනේ යමින් සිටින මෙම ජනතාවට මෙසේ පමණක් කියමුද? ''පක්ෂයේ එකම කාර්යය සමාජවාදී ඉදිකිරීමය. කොමියුනිස්ට් විප්ලවය සාර්ථක කර තිබේ. කොමියුනිස්ට් ක්‍රමය ක්‍රියාත්මක කරන්න''. එවැනි අදහසක් සම්පූර්ණයෙන්ම පදනම් විරහිත වනු ඇත. න්‍යායික දෘෂ්ටි කෝණය අනුව එය වැරදි වනු ඇත. පංති අරගලය වටහා ගැනීමට සහ ධනපති ක්‍රමයේ සිට කොමියුනිස්ට් ක්‍රමයට සංක්‍රමණය වීම වටහා ගැනීමට දැන් යොමුවෙමින් සිටින දශ ලක්ෂ ගණන් ජනයා අප පක්ෂය විසින් එක එල්ලේම සහ ඊටත් වඩා අනියම් ලෙස අන්තර්ග්‍රහණය කරගෙන තිබේ.

ධනපති ක්‍රමය සමාජවාදයට පරිණාමනය කිරීම පිළිබඳ ප්‍රශ්නයේදී අද අප රටේ වැඩ කරන ජනතාව තරම් ඉමහත් උනන්දුවක් පෙන්වූ වෙනත් කිසිම දෙසක, කිසිම රටක වැඩ කරන ජනතාවක් නොමැති බව දැන් කිව හැකිය. එසේ කීම අතිශයෝක්තියක් නොවේ. වෙනත් කිසිම රටක ජනතාවට වඩා අප රටේ ජනතාව මෙම ප්‍රශ්නයට සිත යොමති. පක්ෂය මෙම ප්‍රශ්නයට පිළිතුරක් නොදිය යුතුද? කොමියුනිස්ට් විප්ලවය ඉදිරියට යනු ඇත්තේ කෙසේද යන්න අපි විද්‍යාත්මක වශයෙන් පෙන්නුම් කළ යුත්තේමු. මේ අතින් අන් සියලුම යෝජනා අසාර්ථකය. එය සම්පූර්ණ වශයෙන්ම අත් හැර දැමීමේ උවමනාවක් කිසිවෙකු විසින් පළ නොකරන ලදී. එය කෙටි කිරීම ගැන සහ පැරණි වැඩ පිළිවෙළ නිසා එයින් කරුණු උපුටා නොගැනීම ගැන සමහර දෙනෙක් නොපැහැදිලි ලෙස කථා කළහ.නමුත් පැරණි වැඩ පිළිවෙළ වැරදි නම්, මෙතරම් අවුරුදු ගණනක් අපගේ වැඩ කටයුතු සඳහා පදනම ලෙසට එය ප්‍රයෝජනවත් වූයේ කෙසේද? සමහර විට ලෝක සෝවියට් සමූහාණ්ඩුව පිහිට වූ පසු අපට පොදු වැඩ පිළිවෙළක් තිබෙන්නට පිළිවන නමුත් ඒ වන විට අප තවත් වැඩ පිළිවෙළවල් කීපයක් කෙටුම්පත් කර තිබෙන්නට ඉඩ ඇත.



දැනට ඇත්තේ කලින් රුසියානු අධිරාජ්‍යය ලෙසට තිබුණු දේශයේ පිහිටුවා තිබෙන එක සෝවියට් සමූහාණ්ඩුවක් පමණක් නිසා එම පොදු වැඩ පිළිවෙළ දැන් කෙටුම්පත් කිරීම යනු ගොඩ සිට පීනීමකි. සෝවියට් සමූහාණ්ඩුවක් කරා නිශ්චිත වශයෙන්ම ඉදිරියට යමින් සිටින ඉහත රුසියානු අධිරාජ්‍යයට අයත් වූ දේශ භූමියක සිටින සංස්කෘතික වශයෙන් වඩාත් දියුණු ජනතාවක් වසන පින්ලන්තය පවා තවමත් එතැනට පැමිණ නැත. එනිසා සම්පූර්ණ වූ ක්‍රියාදමයක් අද වැඩ පිළිවෙළෙන් පිළිබිඹු විය යුතු යයි ඉල්ලීම අන්ත වරදකි. එය ලෝක ආර්ථික මණ්ඩලයක් සඳහා ඉල්ලීමක් වැඩ පිළිවෙළෙහි ඇතුළත් කිරීමට සමානය. මෙම ''සවිනර් හොස්'' — ආර්ථික මණ්ඩලය — යන විරූපී වචනයට අපමවත් තවමත් පුරුදු වී නැත. විදේශිකයන් ගැන කිව යුත්තේ, ඔවුන් සමහර දෙනෙක් එය දුම්රිය පළක නම් වනැයි සිතා දුම්රිය නාමාවලිය පෙරලා බැලූ බව කියන කථාවක් ඇති බවය (සිනා). ආඥ මගින් මුළු ලෝකයටම එවැනි වචන පිළිගැන්වීම අපට කළ හැකි දෙයක් නොවේ.

අපගේ වැඩ පිළිවෙළ ජාත්‍යන්තරවාදී වීමට, සියලුම රටවල ආර්ථිකයේ ස්වභාව ලක්ෂණයක් වන පංතිමය සාධක එයින් සැලකිල්ලට ගත යුතු වේ. ඉතාමත් වැඩි සංඛ්‍යාවක් දේශයන්හි ධනපති ක්‍රමය තවමත් දියුණු වෙමින් පවතින බව සියලු රටවලින් පෙනෙන ස්වභාව ලක්ෂණයකි. මුළු ආසියාවේම මෙය දක්නට තිබේ. ධනපති ප්‍රජාතන්ත්‍රය කරා ඉදිරියට යමින් තිබෙන සියලුම රටවල මෙය දක්නට තිබේ. රුසියාවේ කොටස් ගණනාවකටද එය අදාළ වේ. නිදසුනක් ලෙසට, ආර්ථික ක්ෂෙත්‍රයේ කරුණු ගැන තොරතුරු හොඳින් දන්නා රිකොව් සහෝදරයා අපටකී පරිදි, අප රටේ අළුත් ධනපතියන් පිරිසක් ඇති වී සිටී. මෙය ඇත්තකි. ධනපතියන් මතුවන්නේ අපගේ සෝවියට් සේවක පිරිස් අතරින් පමණක් නොවේ. එම පිරිස් අතරින් මතුවිය හැක්කේ ධනපතියන් ස්වල්ප දෙනෙක් පමණකි. ධනපති බැංකුවල වියගහෙන් නිදහස් වී සහ දුම්රිය ප්‍රවාහණ-යෙන් බැහැරව සිටින ගොවිජන සහ හස්ත කාර්මික පිරිස් අතරින් අළුත් ධනපතියන් මතු වේ. මෙය සත්‍යයකි. මෙම කරුණ ජය ගැනීමට ඔබ කුමක් කළ යුතු යයි සිතන්නේද? ඔබ කරන්නේ ඔබගේ මායා මත පෝෂණය කිරීම පමණකි. නැතහොත් ඔබම හරියට දිරවා නොගත් පොත් දැනුම, ඊට වඩා බෙහෙවින් සංකීර්ණ යථාර්ථයට ඇතුලත් කිරීමට යත්න දැරීම පමණකි. සෑම ධනපති රටකම සිදුවන පරිද්දෙන් රුසියාවේද ධනපති වෙළෙඳ භාණ්ඩ නිෂ්පාදනය ප්‍රාණවත්ව පවතින, ක්‍රියාත්මක වන සංවර්ධනය වන හා ධනපති පංතියක් උද්ගත කරන බව මෙයින් පෙනේ.

රිකොව් සහෝදරයා මෙසේ කීවේය. ''ගොවිජන ආර්ථිකය තවමත් අතුරුදහන් වී නොමැති නිසා අපි තවමත් අපේ රටේ ධනපතියන්ට

විරුද්ධව සටන් කරමින් සිටින්නෙමු. මෙම ආර්ථිකය ධනපතියන්ද, ධනපති ක්‍රමයද ඇති කරන්නේය.'' මේ හා සම්බන්ධයෙන් අප වෙත නියත සංඛ්‍යා ලේඛන නොමැත. නමුත් මෙම කරුණ එසේ වන බවට නම් සැකයක් නැත. මේ දක්වාම සෝවියට් සමූහාණ්ඩුව පවතින්නේ කලින් රුසියානු අධිරාජ්‍යය පැවති දේශ සීමා තුළ පමණකි. එය රටවල් ගණනාවක්ම තුළ මෝරා එමින් හා සංවර්ධනය වෙමින් පවතී. නමුත් වෙනත් කිසිම රටක එය තවමත් පවත්නේ නැත. එනිසා අප තවමත් ළඟා වී නැති තත්වයකට අපේ වැඩ පිළිවෙළ මගින් අයිතිවාසිකම් කීම මනෝවිකාරයක් වනු ඇත. එයින් හුදෙක්ම ප්‍රකාශ වන්නේ රටවල සෝවියට් සමූහාණ්ඩු ඉපදීමේ උපත් වේදනා අප අත්දුටු වේදනාවලට වඩා දරුණු බව පෙන්නුම් කරන අමිහිරි යථාර්ථයෙන් මඟහැර යාමේ ආශාවක් පමණකි. සමාජවාදී-විප්ලවවාදී පක්ෂයේ යෝජනා මගින් ගොවි ජනතාව ඉල්ලා තිබූ දෙය අප 1917 ඔක්තෝබර් 27 දින නීතියෙන් වලංගු කළ නිසා අපට එය පහසු විය.[101] නමුත් මෙම තත්වය වෙනත් කිසිම රටක නොමැත. පෙර කිසි කලෙක නොසිදු වූ පරිද්දෙන් ස්විට්සර්ලන්තයේ වැඩවර්ජකයන්ට විරුද්ධව ගොවිජනයා ආයුධ ගෙන නැගී සිටි බවත්, කෘෂිකාර්මික ශ්‍රම කරුවන්ගේ සහ කුඩා ගොවීන්ගේ මණ්ඩල ඇතිවීමේ හැකියාවක ඡායා මාත්‍රයක්වත් ජර්මනියේ ගම්බද දිස්ත්‍රික්කවල දක්නට නොමැති බවත් ස්විට්සර්ලන්ත සහෝදරයෙක් හා ජර්මානු සහෝදරයෙක් අපට කීවෝය. එසේ වුවත් විප්ලවයේ ප්‍රථම මාසවලදීම අප රට මුළුල්ලෙහිම පාහේ ගොවි නියෝජිත සෝවියට් සභා ඇති කරන ලදී. නොදියුණු රටක් වන අපි ඒවා නිර්මාණය කෙළෙමු. මෙහි දී දැවැන්ත ප්‍රශ්නයක් මතුවන්නේය. ධනපති රටවල සිටින මිනිස්සු තවමත් එයට විසඳීමක් සොයාගෙන නැත. අපි ආදර්ශමත් ධනපති ජාතියක් වීමුද? 1917 දක්වාම වනතෙක් වැඩවසම් ක්‍රමයේ නෂ්ටාවශේෂයන් මෙරටෙහි තිබෙනු දක්නා ලදී. නමුත් මෙම ප්‍රශ්නය ව්‍යවහාරයේ දී විසඳිය හැක්කේ කෙසේද යන්න, ධනපති ක්‍රමයට සංවිධාන වූ කිසිම ජාතියක් තවමත් පෙන්වා නැත. අප බලය දිනා ගත්තේ විශේෂ තත්වයන් යටතේ විය. එකල සාර්වාදී සර්වාධිකාරය නිසා මූලික සහ සීඝ්‍ර වෙනසක් ඇතිකිරීම පිණිස මහාවේගවත් පරිශ්‍රමයක් කුළු ගැන්වින. මෙම විශේෂ තත්වය යටතේ, අපට මාස ගණනක් යන තෙක් මුළු ගොවි ජනතාවගේ සහයෝගය කෙරෙහි විශ්වාසය තැබිය හැකි විය. මෙය ඓතිහාසික සත්‍යයකි. 1918 ග්‍රීෂ්ම කාලය දක්වාම, දුප්පත් ගොවිජන කාරක සභා පිහිටුවන තෙක්ම අපට ආණ්ඩුවක් ලෙසට බලය රැක ගත හැකි වූයේ අපට සියලු ගොවි ජනතාවගේ ආධාරය ලැබුණු හෙයිනි. මෙය කිසිම ධනපති රටක සිදුවිය හැක්කක් නොවේ. සම්පූර්ණ වැඩ පිළිවෙළ සහමුලින්ම නැවත කෙටුම්පත්





කිරීම ගැන කථා කරන විට ඔබ අමතක කරන්නේ මෙම මූලික ආර්ථික සත්‍යය ය. මෙය නොසලකා හැරිය කල ඔබේ වැඩ පිළිවෙළ විද්‍යාත්මක පදනමක් රහිත එකක් වනු ඇත.

අප ආරම්භක ස්ථානය වශයෙන් ගත යුත්තේ, වැඩ පිළිවෙළක් විද්‍යාත්මක පදනමක් මත ගොඩනැගිය යුතුය යන විශ්වීය වශයෙන් පිළිගන්නා ලද මාක්ස්වාදී ප්‍රවාදය යි. කොමියුනිස්ට් විප්ලවය උද්ගත වූයේ කෙසේද, එය අනිවාර්ණීය වන්නේ මන්ද, එහි වැදගත්කම, ස්වභාවය හා බලය කුමක්ද සහ එය විසඳිය යුතු මොනවාද යන්න වැඩ පිළිවෙළෙන් පැහැදිලි විය යුතුය. අපගේ වැඩ පිළිවෙළ උද්ඝෝෂණ කටයුතු සඳහා උපයෝගී කරගත හැකි සම්පිණ්ඩනයක් විය යුතුය. සියලුම වැඩ පිළිවෙළවල් මෙන්ම, නිදසුනක් ලෙසට එර්ෆුට් වැඩ පිළිවෙළ[102] මෙන් සම්පිණ්ඩනයක් විය යුතුය. එර්ෆුට් වැඩ පිළිවෙළේ සෑම වගන්තියකම උද්ඝෝෂකයන්ට, ඔවුන්ගේ දහස් ගණන් කථා සහ ලිපි සඳහා උපයෝගී කර ගත හැකි කරුණු අඩංගුවිය. අපගේ වැඩ පිළිවෙළෙහි සෑම වගන්තියක්ම සෑම පුරුෂයෙක් හා ස්ත්‍රියක්ම දැනගත යුතු ස්වීය කර ගත යුතු හා වටහා ගත යුතු දෙයක් වන්නේය. ධනපති ක්‍රමය යනු කුමක් දැයි ඔවුහු නොදනිත් නම්, කුඩා ගොවි සහ හස්ත කාර්මික ආර්ථිකයෙන් නිතරම, අනිවාර්ණීය වශයෙන් සහ අවශ්‍යයෙන්ම ධනපති ක්‍රමය උත්පාදනය වන බව ඔවුහු නොදනිත් නම්, ඔවුහු මෙය වටහා නොගනිත් නම්, එවිට ඔවුන් තමන් කොමියුනිස්ට්වරුන් වන බව සිය වරක් කීවත්, ඉතාමත් උන්නතිකාමී කොමියුනිස්ට්වාදයේ සළුවෙන් සැරසුනත්, එය තඹයක් වත් නොවටිනු ඇත. එසේ කියන්නේ, කොමියුනිස්ට්වාදය ආර්ථික සත්‍යයන් මත පදනම් වූ කල පමණක් එය අගය කිරීමට අප පුරුදුව සිටින බැවිනි.

දියුණු රටවල වුවද, සමාජවාදී විප්ලවයෙන් බොහෝ වෙනස් කම් සිදු වනු ඇත. ලෝකයේ සියලුම දේශයන්හි තවමත් ධනපති නිෂ්පාදන ක්‍රමය පවත්නේය. අධිරාජ්‍යවාදය විසින් මූල්‍ය ප්‍රාග්ධනය සංවිධාන කර, සංකේන්ද්‍රනය කර ඇතත්, බොහෝ තැනෙකදී ධනපති ක්‍රමය තවමත් දියුණුවෙන් අඩු ආකෘති දරමින් එම නිෂ්පාදන ක්‍රම පවත්වා ගන්නේය. ධනපති ක්‍රමය එහි ඉතාමත් අංගසම්පූර්ණ ආකාරයෙන් දක්නට තිබෙන එකම රටක්වත් ලෝකයේ නැත. ඉතාමත් දියුණු රටවල පවා එවැනි තත්වයක් නැත. ජර්මනියේ පවා එවැන්නක් නැත. අප අපට නියමිත විශේෂ කටයුතු සඳහා කරුණු රැස් කරමින් සිටියදී, මධ්‍යම සංඛ්‍යා ලේඛන මණ්ඩලය භාරව සිටි සහෝදරයා අපට කී පරිදි, ජර්මනියේ ගොවි ජනයා අතිරික්ත අර්තාපල්වලින් සියයට 40 ක් ආහාර සම්පාදන දෙපාර්තමේන්තුවට නොදී සඟවාගත්හ. ධනපති ක්‍රමය එහි පූර්ණ සංවර්ධනයට පත්

ධනපති රටක නිදහස් සුළු වෙළඳමෙහි, සුළු ලාභ ගැරීමෙහි යෙදෙන කුඩා ගොවිජන ගොවිපලවල් තවමත් ඇත. එවැනි කරුණු අමතක නොකළ යුතුය. මෙහි නියෝජනය වන පක්ෂ සාමාජිකයන් 3,00,000 අතුරෙන්, මෙම ප්‍රශ්නය සම්පූර්ණයෙන් අවබෝධ කරගත් අය බොහෝ දෙනෙක් වෙත්ද? මෙම වැඩ පිළිවෙළ කෙටුම්පත් කිරීමේ ව්‍යසනාව හිමිවූ අපට මේ සියල්ල වැටහෙන නිසා මුළු මහත් කොමියුනිස්ට් සමූහයාටමත් මෙය අවබෝධ වී ඇතැයි සිතීම මෝඩ ආඩම්බරයක් වනු ඇත. ඔවුනට එය වැටහෙන්නේ නැත. ඔවුනට මෙම හෝඩිය අවශ්‍යය. අපට වඩා සිය වරක් ඔවුන්ට එය අවශ්‍ය වේ. එසේ වන්නේ, කොමියුනිස්ට් ක්‍රමය කුමක්ද, වෙළඳ භාණ්ඩ නිෂ්පාදනය කුමක්ද යන්න අවබෝධකර නොගත්, වටහා නොගත් අය කොමියුනිස්ට්වාදයෙන් බොහෝ දුරස්ව සිටින හෙයිනි. සෑම දිනකම, ප්‍රායෝගික ආර්ථික ප්‍රතිපත්තියේ, ආහාර ප්‍රතිපත්තියේ, කෘෂිකාර්මික ප්‍රතිපත්තියේ සෑම ප්‍රශ්නයකදීම, එමෙන්ම, ශ්‍රේෂ්ට ආර්ථික මණ්ඩලය හා සම්බන්ධ කරුණුවලදී අපට කුඩා වෙළඳ භාණ්ඩ නිෂ්පාදනය හා සම්බන්ධ අවස්ථා හමුවන්නේය. එසේ වුවත්, අප වැඩ පිළිවෙළෙහි ඒ ගැන සඳහන් නොකළ යුතු යයි කියනු ලැබේ! අපි මෙම උපදේශය පිළිගන්නෙමු නම්, එයින් පෙනෙනු ඇත්තේ අප මෙම ප්‍රශ්නය විසඳීමට පොහොසත් බව හා අප රටේ විප්ලවය සාර්ථක වූයේ විශේෂ තත්වයන් නිසා බවය.

සමාජවාදී ක්‍රමයේ ආකෘති අධ්‍යයනය කිරීමට ජර්මනියෙන් සහෝදරවරු අප වෙත එති. එනිසා අප ශක්තිමත් බව අපගේ සහෝදරවරුන්ට ඒත්තු යන ලෙසටත්, අපගේ විප්ලවයේදී අප යථාර්ථයේ සීමාවන් මඳ වශයෙන් හෝ නොඉක්මවන බව ඔවුන්ට දැකගත හැකිවන ලෙසටත්, කිසිසේත් නිෂ්ප්‍රභා කළ නොහැකි වන කරුණු ඔවුන්ට ලබා දෙන ලෙසටත්, අපි කටයුතු කළ යුත්තෙමු. අපගේ විප්ලවය සියලුම රටවලට ආදර්ශයක් ලෙස හුවා දක්වීමත්, එය විශිෂ්ට සොයා ගැනීම් ගණනාවක් කර ඇතැයි සිතීමත්, එය සමාජවාදී නවතාවයන් මහා රාශියක් හඳුන්වා දී ඇතැයි සිතීමත්, අන්ත මෝඩ කමක් වනු ඇත. කිසිවෙක් එවැනි කථාවක් කියනු මා අසා නැත. කිසිවෙකුගෙන් එවැනි කථාවක් ඇසීමටද අප සූදනම් නැති බව මම තරයේ කියමි. නිර්ධන පංතිය හා ගොවි ජනයා අතර විශේෂිත සම්බන්ධකම් පවතින අප රට තුළ ධනපති ක්‍රමය විනාශ කිරීමේ මුල් පියවර තැබීමෙන් අපි අත් දැකීම් ලබා සිටින්නෙමු. ඊට වඩා දෙයක් අප වෙත නැත. අපි, කථාවෙහි එන ගෙම්බා මෙන් හැඟීමක් ඇති කර ගනිමින් අභිමානයෙන් පිම්ඹෙන්නෙමු නම්, අප කරන්නේ ලෝකය අපට සිනාසෙන තත්වයක් ඇති කිරීම පමණකි. එසේ නම් අපි මැත දෙඩන්නෝ වෙමු.



අපි මාක්ස්වාදී වැඩ පිළිවෙළ පිටිවහල් කොට ගනිමින් නිර්ධන පංතියේ පක්ෂයට උගෙනුම දුන්නෙමු. අප රටේ සිටින කෝටි ගණන් වැඩ කරන ජනයාටද එසේම උගෙනුම දිය යුතුව තිබේ. දෘෂ්ටිමය නායකයන් වශයෙන් මෙහි රැස්ව සිටින අපි, ජනතාවට මෙසේ කිව යුත්තෙමු: ''අපි නිර්ධන පංතියට උගැන්වූයෙමු. එසේ කිරීමේදී අපි ප්‍රධාන හා ප්‍රථම වශයෙන් නිවැරදි ආර්ථික විග්‍රහය පදනම් කොට ගනිමින් අපගේ ස්ථාවරය නිගමනය කෙළෙමු.'' මෙය ප්‍රකාශනයක් මගින් කළ හැක්කක් නොවේ. තුන්වැනි ජාත්‍යන්තරයේ ප්‍රකාශනය ආයාචනාවකි, නිවේදනයකි. එය අප හමුවේ තිබෙන කර්තව්‍යයන් කෙරෙහි අවධානය කැඳවයි. එසේම එය ජනතාවගේ හැඟීම් පුබුදු කරවන ආයාචනයක් වේ. ඔබ ආර්ථික පදනමක් මත සිට කටයුතු කරන බවත්, ඔබ වැලි මත ගොඩනැගිල්ලක් නොකරන බවත් ඔප්පු කිරීමට වෙහෙස ගන්න. ඔබට එය කළ නොහැකි නම් වැඩ පිළිවෙළක් කෙටුම්පත් කිරීමේ කටයුත්ත භාර නොගන්න. එය කරනු පිණිස අප මෙම පසළොස් වසර තුළ අත් දුටු දේ ගැන සමාලෝචනයක් නොකර බැරිය. අපි සමාජ විප්ලවය කරා ඉදිරියට යමින් සිටිමුයි, අපි පසළොස් අවුරුද්දකට පෙර කීවෙමු. දැන් අපි එතැනට පැමිණ සිටිමු. එයින් අපගේ තත්වය දුර්වල වේද? ඊට ප්‍රතිකූලව එයින් සිදු වන්නේ අපගේ තත්වය තවත් සවි ගැන්වී ශක්තිමත් වීමය. ඒ සියල්ලෙන්ම මඟ සකස් වන්නේ, ධනපති ක්‍රමය අධිරාජ්‍යවාදය වන සේ සංවර්ධනය වීම සහ අධිරාජ්‍යවාදය නිසා සමාජවාදී විප්ලවයට දොර විවෘත වීම සඳහා ය. මෙය වෙහෙසකාරී සහ දීර්ඝ මාර්ගයකි. එකම ධනපති රටක්වත් තවමත් මෙම මාර්ගයේ ගොස් නැත. නමුත් මේ ගැන විස්තර වැඩ පිළිවෙළට ඇතුළත් කිරීම අවශ්‍ය වේ.

මෙම වැඩ පිළිවෙළට විරුද්ධව එල්ල කර තිබෙන න්‍යායික තර්ක වලංගු නැති ඒවා බව කියන්නේ එහෙයිනි. ස්වකීය අදහස් හොඳින් ප්‍රකාශ කිරීමෙහි සමත් ලේඛකයන් දහ දෙනෙක් හෝ විසි දෙනෙක්, දිනකට පැය තුනක් හෝ හතරක් බැගින් වැඩ කිරීමට මාසයක් යොදතොත්, මීට වඩා හොඳ සහ අනුපූර්ණ වැඩ පිළිවෙළක් කෙටුම්පත් කළ හැකි බවට මට සැකයක් නැත. නමුත් පද්බෙල්ස්කි සහෝදරයා කියන ලෙසට මෙය දිනකින් හෝ දෙකකින් කළ යුතු යයි කීම විහිළුවකි. අපි දින එකක් දෙකක් නොව, සමහර විට සති දෙකකටත් පවා වැඩියෙන් වැඩ කෙළෙමු. තිස් දෙනෙකුගෙන් පමණ සමන්විත වූ කොමිසමක් තෝරා පත් කර දිනකට පැය කීපයක් බැගින් වැඩ කිරීමට මාසයක් දෙතොත්, එපමණක් නොව දුර කථන ඇමතීම් මගින් ඔවුන්ට බාධා කිරීමද නොවෙතොත්, ඔවුන් මෙම වැඩ පිළිවෙළට වඩා පස් ගුණයක් හොඳ වැඩ පිළිවෙළක් ඉදිරිපත් කරනු ඇති බවට සැකයක් නැති බව මම නැවතත් ප්‍රකාශ කරමි.

නමුත් ප්‍රධාන කරුණු ගැන කිසිවෙක් අභියෝග කර නැත. වෙළඳ භාණ්ඩ ආර්ථිකයේ සහ ධනපති ක්‍රමයේ මූල ධර්ම ගැන කිසිවක් නොකියන වැඩ පිළිවෙළක් මාක්ස්වාදී ජාත්‍යන්තර වැඩ පිළිවෙළක් නොවනු ඇත. ප්‍යාතකොව් සහෝදරයා පහත සඳහන් පරිදි කියමින් අදහස් කළ සේ, ජාත්‍යන්තර වීම පිණිස, ලෝක සෝවියට් ආණ්ඩුවක් ප්‍රකාශයට පත් කිරීම හා ජාතීන් අහෝසි කරන බව කීම ප්‍රමාණවත් නොවේ. ඔහු මෙසේ කීය: "අපට ජාතීන් අවශ්‍ය නැත. අපට අවශ්‍යව ඇත්තේ සියලුම නිර්ධනයන්ගේ සංගමයකි." මෙය අගේ ඇති අදහසකි. එසේම කල් යාමේදී එය ඉටුවනු ඇත. නමුත් එසේ වනු ඇත්තේ, කොමියුනිස්ට් සංවර්ධනයේ සම්පූර්ණයෙන්ම අමුතු අවධියකදී ය. අනුශාසක ස්වරයකින් කථා කරමින් ප්‍යාතකොව් සහෝදරයා මෙසේ කීවේය: "ඔබ 1917 දී නොදියුණුව සිටියෙහිය. නමුත් දැන් ඔබ දියුණුව ලබා සිටින්නෙහිය." යථාර්ථයට අනුකූල යමක් වැඩ පිළිවෙළට ඇතුලත් කිරීමෙන් අපි දියුණුව ලැබුවෙමු. ජාතීහු ධනපති ප්‍රජාතන්ත්‍රවාදයේ සිට නිර්ධන පංති ආණ්ඩුව කරා ඉදිරියට යතිය අප කියන විට එය යථාර්ථ කරුණකි. නමුත් 1917 දී එය ඔබගේ අභිප්‍රායාර්ථයක් ප්‍රකාශ කිරීම පමණක් විය.

එක්සත් කොමියුනිස්ට් ක්‍රමය පැවැත්වීම සඳහා අවශ්‍ය සහෝදරාත්මක විශ්වාසය, දිනෙන් දින වැඩෙන සහ සමහර විට මාස කීපයකින් ඇති විය හැකි ඒ සහෝදර විශ්වාසය ස්පාර්ටකස්වරු සමග ඇති කර ගැනීමට අපට හැකි වූ පසු අපි එය වැඩ පිළිවෙළෙහි ඇතුළත් කරන්නෙමු. නමුත් එය ඇති වී පැවතීමට පෙර එය ප්‍රකාශයට පත් කිරීම යනු, ඔවුන් ස්වකීය අත් දැකීම් මගින් සුදුසු සේ සූදනම්ව නොමැති දෙයකට ඔවුන් ඇද දැමීමක් වනු ඇත. සෝවියට් වර්ගය ජාත්‍යන්තර වැදගත් කමක් අත් කර ගෙන ඇතැයි අපි කියන්නෙමු. බුහාරින් සහෝදරයා බ්‍රිතාන්‍යයේ වැඩ නායක කාරක සභා[103] ගැන සඳහන් කළේය. මේවා නියම වශයෙන්ම සෝවියට් සභා නොවේ. ඒවා සංවර්ධනය වෙමින් පවතින නමුත්, තවමත් න්‍යෂ්ටි ස්වභාවයේ පවතී. ඒවා මනාව වැඩුනු විට "වන්නේ කුමක්ද" යි අපි බලමු. එවිට අපි බ්‍රිතාන්‍ය කම්කරුවන් වෙත රුසියානු සෝවියට් සභා ඉදිරිපත් කරන්නෙමුයි කියන තර්කය ගැන කිසිම වරදක් කිව නොහැකිය.

මීළඟට, මම ජාතීන්ගේ ස්වාධිපත්‍යය පිළිබඳ ප්‍රශ්නය ගැන කරුණු සඳහන් කරන්නෙමි. අපගේ විවේචන හේතු කොට ගෙන මෙම ප්‍රශ්නයේ වැදගත් කම කෙරෙහි අතිශයෝක්තියක් ආරූඪ වී තිබේ. අපගේ විවේචනයෙහි අඩු පාඩුව වූයේ, වැඩ පිළිවෙළෙහි මුළු ව්‍යුහය, නැතහොත්, එහි ඉල්ලීම් සමස්තය සමග ගෙන බලන කල, පරමාර්ථ වශයෙන් ද්විතීය



මට්ටමටත් වඩා අඩු වැදගත් කමක් ඇති මෙම ප්‍රශ්නයට එයින් විශේෂ සැලකිල්ලක් දක්වා තිබීමය.

ප්‍යාතකොව් සහෝදරයා කළ කථාව අසා පුදුමයට පත් මා, මෙය වැඩ පිළිවෙළ ගැන විවාදයක්ද, නැතහොත්, සංවිධාන කාරක සභා අතර ආරාවුලක්ද යන ප්‍රශ්නය මගෙන්ම අසා ගතිමි. උක්‍රේනියානු කොමියුනිස්ට්වරු කටයුතු කරන්නේ රු. කො. (බො) ප. මධ්‍යම කාරක සභාවේ උපදෙස් අනුව යයි කී ඔහුගේ කථාවෙහි ස්වරය මට හරි හැටි වටහා ගත නොහැකි විය. එය නොසතුට දනවන්නක් වී ද? ප්‍යාතකොව් සහෝදරයා ගැන මම එවැනි සැකයක් ඇති කර නොගන්නෙමි. නමුත් ඔහු කී දෙයෙහි අර්ථය වූයේ, අපට මොස්කව්හි අනර්ඝ මධ්‍යම කාරක සභාවක් තිබෙන කල, ස්වාධිපත්‍යය ගැන කරන මෙම සියලු කථාවලින් වන යහපත කුමක්ද යන්නය. මෙය ළාමක අදහසකි. විශේෂ තත්වයන් හේතු කොට ගෙන උක්‍රේනියාව රුසියාවෙන් වෙන් කර තිබිණි. එහි ජාතික ව්‍යාපාරය ගැඹුරට මුල් ඇදුනේ නැත. එහි තිබුණ කිසියම් ව්‍යාපාරයක් වී නම්, ජර්මන්නු එය නසා දැමූහ. මෙය සත්‍යයක් නමුත් විශේෂ සත්‍යයකි. භාෂාව ගැන සිතා බැලුවත්, උක්‍රේනියානු භාෂාව අද පොදු ජනතාවගේ භාෂාවක්ද නැද්ද යන්න පැහැදිලි නැත. අන් ජාතීන්ට අයත් වැඩ කරන ජනතාව මහ රුසියානුන් කෙරෙහි මහත් අවිශ්වාසයක් දැක්වූහ. ඔවුහු මහ රුසියානුන් කුලාක සහ පීඩක ජාතියක් ලෙසට සැලකූහ. මෙය සත්‍ය කරුණකි. මහ රුසියානුන්ට වෛර කරන පින්ලන්ත ධනපතියන් අතරින් මෙසේ කියන හඬ ඇසෙන බව පින්ලන්ත නියෝජිතයෙක් මට කීවේය: ජර්මන්නු "වඩාත් කෲර තිරිසන්නු වූහ. මිත්‍ර ගිවිසුමේ එවුන්ද ඉතාමත් ම්ලේච්ඡ විය. අපි බොල්ෂෙවික්වරු භාර ගනිමු". මෙය නම් පින්ලන්ත ධනපති පංතිය පරදවා ජාතික ප්‍රශ්නයේ දී අප ලත් මහා ජයග්‍රහණයකි. එය අපගේ පංති සතුරා ලෙසට ගනිමින් එයට විරුද්ධව සටන් කිරීමෙන් හා එම සටන කිරීමට නිසි විධික්‍රම තෝරා ගැනීමෙන් අප වලක්වන බාධාවක් මෙයින් ඇති නොවේ. ඉහතදී පින්ලන්තය පීඩනයට පත්කළ රටෙහි පිහිටුවා තිබෙන සෝවියට් සමූහාණ්ඩුව, ස්වාධීනත්වය සඳහා ජාතීන්ට ඇති අයිතියට ගරු කරන බව ප්‍රකාශ කළ යුතුය. කෙටි කලක් පැවති රතු පින්ලන්ත ආණ්ඩුව සමග ගිවිසුමක්[104] ඇති කර ගත් අපි එයට යම් භූමි භාග දීමට එකඟ වුනෙමු. ඒ සම්බන්ධයෙන්, "එහි අගනා ධීවර කර්මාන්තයක් ඇත. ඔබ එය භාර දී තිබේ." යනුවෙන් කියන අන්ත ජාත්‍යොන්මාදවාදී විරෝධතාවයන් ගණනාවක් ප්‍රකාශ කරනු මට ඇසිණි. එනිසා, "සමහර කොමියුනිස්ට්වරුන් පහුරු ගා බැලූ කල ඔබට මහ රුසියානු ජාත්‍යොන්මාදවාදීන් දැක්ක හැකි ය" යි කීමට මට සිදු වේ.

ජාතික ප්‍රශ්නය හා සම්බන්ධයෙන් කටයුතු කිරීමේ දී හැම තත්වයක්ම යටතේ ආර්ථික සමගිය ක්‍රියාත්මක කළ යුතුයයි කෙනෙකුට තර්ක කළ නොහැකි බව පින්ලන්තයේත්, එමෙන්ම, බෂ්කිරියාවේත් නිදර්ශනවලින් පෙනෙන බව මම අදහස් කරමි. ඇත්ත වශයෙන්ම එය අවශ්‍යය! නමුත්, එය ප්‍රචාරය මගින්, උද්ඝෝෂණය මගින්, ස්වේච්ඡා සන්ධානය මගින් ඇති කර ගැනීමට අපි උත්සාහ කළ යුත්තෙමු. මහ රුසියානුන් බෂ්කිරියන්වරුන්ට වඩා සංස්කෘතික වශයෙන් දියුණු හෙයින් හා බෂ්කිරියන්වරුන් සූරා කෑමට ඔවුන් එම දියුණුව උපයෝගි කර ගත් හෙයින්, බෂ්කිරියන්වරු මහ රුසියානුන් ගැන සැක කරති. ඒ දුර බැහැර පෙදෙස්වල බෂ්කිරියන්වරුන්ට මහ රුසියන් යන පාඨය ''පීඩකයා'' ''හොරදෙටුවා'' යන වදන්වලට සමාන වන්නේ එහෙයිනි. මෙය සැලකිල්ලට ගත යුතුය. එයට විරුද්ධව සටන් කළ යුතුය. නමුත් එය දීර්ඝ ක්‍රියාදාමයක් වනු ඇත. එය ආඥාවකින් නැති කර දැමිය හැකි දෙයක් නොවේ. මෙම කාරණයෙහි දී අපි ඉතාමත් ප්‍රවේසම් සහිත විය යුත්තෙමු. අන් සියලුම ජාතීන්ගේ දැඩි වෛරය දිනාගත් මහ රුසියානු වැනි ජාතියක් විශේෂයෙන්ම ප්‍රවේසම් විය යුතුය. තත්වය නිවැරදි කරන්නේ කෙසේද යන්න අප උගෙන ගත්තේ දැන්ය. එයද සම්පූර්ණයෙන්ම උගෙන ගැනීමක් නොවේ. නිදසුනක් ලෙසට, අපගේ පාසල් ඒකාකාර බවත්, එනිසා රුසියානු බස හැර වෙනත් බසක් උගැන්වීම නොකළ යුතු (!) බවත් කියන කොමියුනිස්ට්වරුන් අධ්‍යාපන කොමිසාර් අංශයෙහි හෝ ඊට සම්බන්ධ තැන්වල ඇත. මා සිතන ලෙසට එවැනි කොමියුනිස්ට්වරයෙක් මහ රුසියානු ජාත්‍යෝන්මාදවාදියෙකි. එවැනි හැඟීම් අප බොහෝ දෙනෙක් අතර ඇත. ඒවාට විරුද්ධව සටන් කළ යුතුය.

අප අවසානය දක්වාම ජාත්‍යන්තරවාදීන් වන බවත්, සියලුම ජාතීන්ට අයත් කම්කරුවන්ගේ හා ගොවි ජනතාවගේ ස්වේච්ඡා සන්ධානයක් ඇති කිරීමට අප යත්න දරන බවත් අප අන් සියලු ජාතීන්ටම කිව යුත්තේ එබැවිනි. යුද්ධ බැහැර කිරීමක් මෙයින් කිසි සේත් සිදුවන්නේ නැත. යුද්ධය වෙනත් ප්‍රශ්නයකි. එය අධිරාජ්‍යවාදයේ ඒකාන්ත ස්වභාවයෙන්ම උද්ගත වන්නකි. අපි විල්සන්ට විරුද්ධව සටන් කරන්නෙමු නම්, විල්සන් අපට විරුද්ධව ඔහුගේ අවිය ලෙසට කුඩා ජාතියක් පාවිච්චි කරන්නේ නම්, අපි එම උපකරණයට ප්‍රතිපාක්ෂික වන බව කියමු. අපි කිසි කලෙකත් ඊට වඩා වෙනස් දෙයක් නොකීවෙමු. යුද්ධ හමුද නොමැතිව සමාජවාදී සමූහාණ්ඩුවකට පැවතිය හැකි යයි අපි කිසි කලෙකත් නොකීවෙමු. යම් යම් තත්වයන් යටතේ යුද්ධය අවශ්‍ය විය හැකිය. නමුත්, වර්තමානයේ ජාතීන්ගේ ස්වාධිපත්‍යය පිළිබඳ ප්‍රශ්නයේ සාරාර්ථය වන්නේ, විවිධ ජාතීන් එකම ඓතිහාසික දිශාවකට



ගමන් ගන්නා නමුත්, ඒවා ඉතාමත් විවිධ වටවංගු අතුරුමාර්ග මගින් ඉදිරියට යන බව හා සංස්කෘතික වශයෙන් වැඩි දියුණුවක් ඇති ජාතීන්, අඩු සංස්කෘතික දියුණුවක් ඇති ජාතීන්ට වඩා පැහැදිලි ලෙසම වෙනස් ආකාරයකින් ගමන් ගන්නා බවය. පින්ලන්තය අමුතු මගකින් ඉදිරියට ගියේය. ජර්මනිය වෙනත් මගක් ඔස්සේ ඉදිරියට යයි. අපට සමගිය අවශ්‍ය යයි ප්‍යාතකොව් සහෝදරයා කියන විට ඔහු දහස් වරක් නිවැරදිය. නමුත් ප්‍රචාරය මගින්, පක්ෂ බල පෑම මගින්, එක්සත් වෘත්තීය සමිති පිහිටුවීම මගින් අපි ඒ සඳහා පරිශ්‍රම දැරිය යුත්තෙමු. මෙහිදීද අපි තනි අච්චුවක් අනුව කටයුතු නොකළ යුත්තෙමු. අපි මෙම කරුණ අත් හැරියහොත්, නැතහොත්, එය වෙනත් ආකාරයකින් සඳහන් කළහොත්, එය වැඩ පිළිවෙළෙන් ජාතික ප්‍රශ්නය ඉවත් කිරීමක් වනු ඇත. ජාතික අංග ලක්ෂණ නොමැති ජනයා සිටිත් නම් අපට මෙය කළ හැකිය. නමුත් එවැනි ජනයා නොමැත. එමෙන්ම අපට වෙනත් ආකාරයකින් සමාජවාදය ගොඩ නැගිය හැකි වන්නේද නොවේ.

සහෝදරවරුනි, මෙම යෝජිත වැඩ පිළිවෙළ පදනමක් ලෙසට පිළිගත යුතු යයි මම අදහස් කරමි. එය පිළිගෙන කොමිසම වෙත ආපසු යැවිය යුතු බවත්, විරුද්ධ පාර්ශවයේ, නැතහොත්, ප්‍රායෝගික යෝජනා ඉදිරිපත් කළ සහෝදරවරුන්ගේ නියෝජිතවරුන් ඇතුළත් කිරීමෙන් කොමිසම විශාල කළ යුතු බවත්, කොමිසම, 1) කෙටුම්පතට ඇතුළත් කළ යුතු ලෙස විස්තර කෙරුණු සංශෝධන ගැන හා 2) එකඟත්වයක් ඇති කර ගත නොහැකි න්‍යායික විරෝධතාවයන් ගැන වාර්තා කළ යුතු බවත් අදහස් කරමි. මෙම කරුණ සම්බන්ධයෙන් ක්‍රියා කළහැකි ඉතාමත් ප්‍රායෝගික ආකාරය සහ ඉතාමත් ඉක්මණින් නිවැරදි තීරණයකට එළඹීමට හැකිවන මාර්ගය එය යයි සිතමි. (අත්පොළසන්.)

## 3

## ගම්බද පෙදෙස්වල වැඩ කිරීම පිළිබඳ වාර්තාව
මාර්තු 23

(දීර්ඝ වශයෙන් අත්පොළසන්.) සහෝදරවරුනි, ගම්බද පෙදෙස්වල වැඩ-කිරීම පිළිබඳ ප්‍රශ්නය ගැන සලකා බැලීමට සම්මේලනයෙන් පත්කළ කාරක සභාවේ රැස්වීම් සියල්ලටම සහභාගි වීමට මට නොහැකි වීම ගැන කණගාටු වෙමි. එනිසා මා ඉදිරිපත් කරන වාර්තාවට අනුපූර්ණ වශයෙන්, ආරම්භයේ පටන්ම එම රැස්වීම්වලට සහභාගි වූ සහෝදරවරුන් කථා කරනු ඇත. කාරක සභාව අවසානයේදී සකස් කළ ප්‍රවාදයන්

කොමිසමට භාර දී ඇත. ඒ ගැන ඔබට වාර්තාවක් සපයනු ලැබේ. කාරක සභාවේ වැඩ කටයුතුවලින් පසුව, මෙම වැඩ පිළිබඳ ප්‍රශ්නය දැන් මුළු පක්ෂය හමුවේ තිබෙන එකක් සේ සලකා, එහි තිබෙන පොදු වැදගත් කම ගැන සඳහන් කිරීමට කැමැත්තෙමි.

සහෝදරවරුනි, නිර්ධන පංති විප්ලවය සංවර්ධනය වී යත්ම, වරෙක, සමාජ ජීවිතයේ එක් ඉතාමත් සංකීර්ණ හා වැදගත් ප්‍රශ්නයක්ද, තවත් වරෙක වෙනත් එකක්ද, පෙරමුණෙහි තැබීමට අපට සිදුවීම ඉතාමත් ස්වාභාවික දෙයකි. ජීවිතයේ ගැඹුරුතම අධිතාලම් හා පුළුල්තම ජන කොට්ඨාශයන් කෙරෙහි බලපාන හා නිසැක වශයෙන්ම බලපානු ඇති, විප්ලවයක දී ජීවිතයේ සියලුම අංග එක් වරම ග්‍රහණය කිරීම කිසිම පක්ෂයකට හෝ කිසිම ආණ්ඩුවකට — එය ජනතාවට කොතරම් කිට්ටුවෙන් සිටියත් — කළ නොහැකි දෙයක් වීම සම්පූර්ණයෙන්ම ස්වාභාවිකය. තවද, දැන් අපට ගම්බද පෙදෙස්වල වැඩ කිරීම පිළිබඳ ප්‍රශ්නය සැලකිල්ලට භාජනය කිරීමට සිදු වී තිබේ. ඒ හා සම්බන්ධයෙන්, මධ්‍යම ගොවීන් පිළිබඳ ප්‍රශ්නයට මුල් තැනක් දීමට ද සිදුවී තිබේ. නිර්ධන පංති විප්ලවය පොදු වශයෙන් සංවර්ධනය කිරීමේ ස්ථාවරය අනුව බලන කල එහි අමුතු හෝ අස්වාභාවික හෝ කිසිවක් නොමැත. ධනපති පංතිය හා නිර්ධන පංතිය යන සතුරු පංති දෙක අතර වන මූලික සම්බන්ධතාවය කෙරෙන් නිර්ධන පංති විප්ලවයට මුල පිරීමට සිදුවීම ස්වාභාවිකය. ප්‍රධාන කර්තව්‍යය වූයේ බලය කම්කරු පංතිය අතට පත් කිරීම, කම්කරු පංතියේ ආඥාදායකත්වය ඇති කිරීම, ධනපති පංතිය පෙරළා දැමීම සහ සමාජවාදය ගොඩ නැගීමේ සෑම කටයුත්තකටම නිසැකවම පොදු වශයෙන් බාධාකාරී විය හැකි ධනපති ආර්ථිකයේ බල කනු ධනපතියනට අහිමි කිරීමය. අපි මාක්ස්වාදය දන්නෙමු. එහෙයින්, ධනපති සමාජයේ ආර්ථික ව්‍යුහයෙහි ස්වභාවය අනුවම, එහි තීරණාත්මක සාධකය විය යුත්තේ එක්කෝ ධනපති පංතියය, නැතහොත්, නිර්ධන පංතියය යන ප්‍රවාදයෙහි සත්‍යතාවය ගැන, අපි කිසිවෙක් මොහොතකට හෝ සැක නොකෙළෙමු. නිර්ධන පංතිය සහ ධනපති පංතිය අතර තීරණාත්මක අරගලයක් පවතින කාලයකදී සාමාන්‍ය ප්‍රජාතන්ත්‍රවාදය බල පැවැත්විය හැකියයි සහතික කරන හිටපු මාක්ස්වාදීන් ඇති බව අපට පෙනේ. මෙන්ෂෙවික් කඳවුරේ මාක්ස්වාදීන් ඒ පිළිබඳ නිදර්ශනයකි. සමාජවාදී-විප්ලවවාදීන් සමග සම්පූර්ණ එකඟත්වයකට වන් මෙන්ෂෙවික්වරුන් කියන්නේ එයයි. ඔවුන් එසේ කියන්නේ ප්‍රජාතන්ත්‍රවාදය ඇති කිරීමත්, එය අවලංගු කිරීමත්, ධනපති පංතියට පහසු වන ආකාරයට ඔවුන් විසින්ම කරනු ලබන දෙයක් නොවන කලෙක මෙනි! නමුත් ඇත්ත වශයෙන් ම එය ඔවුන් විසින්ම කරනු ලබන්නක් වන හෙයින්, ධනපති



පංතිය හා නිර්ධන පංතිය අතර තියුණු අරගලයක් පවතින අවස්ථාවක සාමාන්‍ය ප්‍රජාතන්ත්‍රවාදයක් තිබීම සිදුවිය නොහැක. මෙම මාක්ස්වාදීන්, නැතහොත්, බොරු මාක්ස්වාදීන් ඔවුන්ගේ ස්වයං හෙළිදරව්ව කරන්නේත්, ඔවුන්ගේ නියම සුළු ධනේශ්වර ස්වභාවය ඉලිප්පී මතුපිටට එන්නේත් පුදුම සහගත තරම් සීඝ්‍රතාවයකිනි.

මාක්ස්, ඔහුගේ ජීවිත කාලය මුළුල්ලේම, අන් සියල්ලටමත් වඩා සටන් කළේ සුළු ධනපති ප්‍රජාතන්ත්‍රවාදයේ සහ ධනපති ප්‍රජාතන්ත්‍රවාදයේ මායා මතවලට විරුද්ධවය. කම්කරුවාට ඇති නිරාහාරව යාමේ නිදහසත්, විවෘත වෙළඳ පොළෙහිදී සමාන තත්වයේ අයෙකුගෙන් ශ්‍රමය මිළට ගන්නේ යයි කියන ධනපතියා සහ ස්වකීය ශ්‍රම ශක්තිය අළෙවි කරන්නා අතර ඇති සමානත්වයත් ආදිය වසං කර තැබීමට, නිදහස සහ සමානත්වය ගැන කරන පුහු කථා මාක්ස් විසින් අන් සියල්ලටම වඩා සමච්චලයට ලක් කරන ලදී. මාක්ස් ඔහුගේ ආර්ථික කෘතීන් සියල්ලෙහිම මේ ගැන විස්තර කරයි. මාක්ස් ඔහුගේ ප්‍රාග්ධනය කෘතිය සම්පූර්ණයෙන්ම කැප කර තිබෙන්නේ, මෙම සත්‍යය, එනම්, ධනපති සමාජයේ මූලික බලවේගයන් වන්නේ හා විය යුත්තේ ධනපති පංතිය සහ නිර්ධන පංතියය යන සත්‍යය පැහැදිලි කිරීමට බවත්, ධනපති පංතිය ධනපති සමාජයේ නිර්මාණකයා, එහි නායකයා හා ගාමක බලවේගය වන අතර නිර්ධන පංතිය එහි මිනීවල හාරන්නා සහ එහි තැන ගැනීමට සමත් එකම බලවේගය වන්නේ කෙසේදැයි පැහැදිලි කිරීමට බවත්, කිව හැකිය. මාක්ස්ගේ කෘති අතරින් මේ ගැන සඳහන් නොකෙරෙන එකම පරිච්ඡේදයක් වත් ඔබට සොයා ගත නොහැකි වනු ඇත. ලෝකය මුළුල්ලේම සිටින දෙවැනි ජාත්‍යන්තරයේ සමාජවාදීන්, තමන් මෙම සත්‍යය වටහා ගෙන සිටිතැයි නැවත නැවතත් කම්කරුවන්ට සහතික වෙමින් දිවුරා ප්‍රකාශ කර තිබෙන බව ඔබ කියනු ඇත. එහෙත් සැබැවින් ක්‍රියාත්මක වීමේ තත්වයක් ඇති වූ විට, විශේෂයෙන්ම, නිර්ධන පංතිය සහ ධනපති පංතිය අතර බලය සඳහා කෙරෙන අරගලය තීරණාත්මක තත්වයට පත් වූ විට, අපගේ මෙන්ෂෙවික්වරුන් හා සමාජවාදී-විප්ලවවාදීන්ද, එමෙන්ම ලෝකය මුළුල්ලේම වන පැරණි සමාජවාදී පක්ෂවල නායකයින්ද, මේ සත්‍යය අමතක කර, හුදෙක් ගිරවුන්ම මෙන්, සාමාන්‍ය ප්‍රජාතන්ත්‍රවාදය පිළිබඳ අමන සටන් පාඨ පුනරුච්චාරණය කිරීමට පටන් ගත් බව අපට පෙනේ.

''ප්‍රජාතන්ත්‍රවාදයේ ආඥාදායකත්වය'' ගැන කථා කිරීමෙන් මෙම වචනවලට වැඩි ''ශක්තියක්'' සේ සැලකෙන යමක් කැවීමට ප්‍රයත්න දරනු දක්නට ලැබේ. එය ලොකුම විහිළුවකි. ප්‍රජාතන්ත්‍රවාදී ධනපති පංතියේ ආඥාදායකත්වය යනුවෙන් අදහස් කෙරෙන්නේ කැරළිකාර

කම්කරුවන් මර්දනය කිරීම මිස, අන් කිසිවක් නොවන බව අපි ඉතිහාසය අනුව මැනවින් දන්නෙමු. 1848 පටන්ම සිදුවූයේ එයයි. එය කිසිසේත්ම ඉන් පසුව ආරම්භ වූවක් නොවන අතර, ඒ පිළිබඳ තනි නිදර්ශන ඊට කලින් ඉතිහාසයෙන්ද සොයා ගැනීමට හැකි වනු ඇත. නිර්ධන පංතිය හා ධනපති පංතිය අතර තියුණු අරගලය විස්තීර්ණ හා නිදහස් ලෙස සංවර්ධනය වන්නේ හරියටම ධනපති ප්‍රජාතන්ත්‍රවාදයක දී බව, ඉතිහාසය පෙන්නුම් කරයි. මෙම සත්‍යය ගැන ව්‍යවහාරයේ දී අවබෝධ කර ගැනීමේ අවස්ථාව අපට ලැබිණ. අප මෙම සත්‍යයෙන් බැහැර නොගිය නිසාම, අප එය අමතක නොකළ නිසාම, සියලුම මූලික ප්‍රශ්න සම්බන්ධයෙන් 1917 ඔක්තෝබරයෙන් පසු සෝවියට් ආණ්ඩුව ගත් පියවරයන් ඉතාමත් ස්ථිර ස්වභාවයක් දැරීය. ධනපති පංතියට විරුද්ධව ආධිපත්‍යය සඳහා කරන අරගලය නිමාවකට පත් කළ හැක්කේ, එකම පංතියක, එනම්, නිර්ධන පංතියේ ආඥාදායකත්වය මගිනි. ධනපති පංතිය පරාජය කිරීමට හැක්කේ නිර්ධන පංති ආඥාදායකත්වයට පමණකි. ධනපති පංතිය බලයෙන් පහ කර දැමිය හැක්කේ නිර්ධන පංතියට පමණකි. ධනපති පංතියට විරුද්ධව කරන අරගලයේදී ජනතාවගේ අනුගාමිකත්වය දිනා ගත හැක්කේ ද නිර්ධන පංතියට පමණකි.

එහෙත්, මේ අනුව, තවදුරටත් කොමියුනිස්ට් ක්‍රමය ගොඩ නැගීමේදී, ධනපති පංතිය බලයෙන් පහ කිරීමෙන් පසුව, දේශපාලන බලය නිර්ධන පංතිය අතට පත් වූ පසු මධ්‍යම, නැතහොත්, අන්තර් කොට්ඨාශයන්ගේ සහභාගිත්වය නොමැතිව අපට කටයුතු කරගෙන යා හැකි යයි එයින් කිසිසේත් අදහස් නොවේ. එම කොට්ඨාශයන් නොමැතිව ඉදිරියට යා හැකියයි එයින් තීරණය කර ගතහොත්, එය බරපතල වරදක් වනු ඇත.

විප්ලවය, එනම්, නිර්ධන පංති විප්ලවය ආරම්භයේදී, එයට ක්‍රියාත්මක වශයෙන් සහභාගි වන සියල්ලන්ගේම සම්පූර්ණ අවධානය මූලික ප්‍රශ්නය වන නිර්ධන පංතියේ ආධිපත්‍යය තුළින් සහ ධනපති පංතිය පරදවා ලබන ජයග්‍රහණය තුළින් එම ආධිපත්‍යය ලබා ගැනීම කෙරෙහිත්, ධනපති පංතියට ආපසු බලය ලබා ගැනීමට කිසිසේත් ඉඩ නොතැබීම කෙරෙහිත් යොමු කිරීම ස්වාභාවික දෙයකි. ධනපති පංතියට හිමි පිටරට තිබෙන වස්තුවෙන් හා සමහර විට අපගේ රට තුළම තිබෙන මූල්‍යමය වස්තුවෙන්ද ලබා ගන්නා වාසි ඔවුන් තවමත් භුක්ති විඳින බව අපි හොඳින් දන්නෙමු. ධනපති පංතියට ආධාර කිරීමට, නිර්ධන පංතියට වඩා කෘතහස්ත කොටස් සිටින බවද අපි හොඳින් දනිමු. එමෙන්ම, ධනපති පංතිය නැවත බලයට පත්වීමේ බලාපොරොත්තු අත්හැර නොමැති බවත්, ඔවුන් ස්වකීය ආධිපත්‍යය යළි ස්ථාපිත කිරීමට දරන ප්‍රයත්න අත්හැර දමා නොමැති බවත්, අපි එසේම හොඳින් දනිමු.



එහෙත්, එපමණක්ද නොවේ. ''හොඳ රට කොහේ වුනත් එය මගේ රටය'' යන ප්‍රතිපත්තිය ඉදිරිපත් කළ ධනපති පංතිය මුදල් හා සම්බන්ධයෙන් ගත් කල නිතරම ජාත්‍යන්තරවාදී විය. ලෝක පරිමාණයෙන්, තවමත් ධනපති පංතිය අපට වඩා ශක්තිමත්ය. ඔවුන්ගේ ආධිපත්‍යය සීඝ්‍රයෙන් දුර්වල වන්නේය. අප ඊයේ ඔබ වෙත සතුටින් දැන්වූ සහ අද ආරංචිවලින් ස්ථිර කෙරෙන හංගේරියානු විප්ලවය වැනි සිදුවීම්වලට මුහුණ දීමට ඔවුන්ට සිදු වී තිබේ. ඔවුන්ගේ ආධිපත්‍යය සසල වෙමින් පවතින බව අවබෝධ කර ගැනීමට ඔවුන් පටන් ගෙන තිබේ, තමන් කැමති ලෙස කටයුතු කිරීමේ නිදහසක් දැන් ඔවුනට නැත. එහෙත්, දැනට ලෝක පරිමාණයෙන් තිබෙන ද්‍රව්‍යමය වස්තුව ඔබ ගණන් ගන්නේ නම්, ද්‍රව්‍යමය අංශයෙන් ධනපති පංතිය තවමත් අපට වඩා ශක්තිමත් බව පිළිගන්නේ නැතිව සිටීමේ හැකියාවක් අපට නැත.

අපගේ අවධානයෙන් සහ ප්‍රායෝගික කටයුතුවලින් දහයෙන් නව පංගුවක්ම, ධනපති පංතිය බලයෙන් පහ කිරීම, නිර්ධන පංතියේ බලය පිහිටුවීම හා ධනපති පංතිය නැවත බලයට පත් වීමට තිබෙන ඉඩකඩ අවුරා ලීම යන මූලික ප්‍රශ්නය වෙනුවෙන් කැප කිරීමට සිදු වූයේ එහෙයිනි. එය සම්පූර්ණයෙන්ම ස්වභාවිකය. යුක්ති යුක්තය. නොවැලැක්විය හැකිය. එමෙන්ම මෙම අංශයෙහිදී ලබා ඇති ජයග්‍රහණයන්ද අනල්පය.

එසේ වුවද, ජනගහනයේ අන් කොටස් හා සම්බන්ධ ප්‍රශ්නය ගැන දැන් අපි තීරණය කළ යුත්තෙමු. ගොවිජන කාරක සභාවේදී අප බැසගත් ඒකමතික නිගමනය එයයි. එම කාරණයට සියලුම පක්ෂ කාරකවරුන් එකඟ වෙනු ඇතැයි අපි විශ්වාස කරමු. දැනට කර තිබෙන්නේ ඔවුන්ගේ නිරීක්ෂණයන් සම්පිණ්ඩනය කිරීම පමණකි. දැන්, මධ්‍යම ගොවීන් පිළිබඳ සමස්ත ප්‍රශ්නයම සම්බන්ධ තීරණයක් ගැනීම අපි කළ යුත්තෙමු.

නමුත් අප ගත් මග අධ්‍යයනය කරන්නේ නැතිව, අප හමුවේ තිබෙන කර්තව්‍යයන් ගැන කල්පනාව යොමු කරන්නේ නැතිව, ඒ කිසිවක් නොකර, මෙන්ෂෙවික් සහ දක්ෂිණ සමාජවාදී-විප්ලවවාදී මහත්වරුන්ගේ ලීලාවක් පාමින්, සෝවියට් ආණ්ඩුව ගන්නා සෑම පියවරක්ම සිනහවට හා විවේචනයට මාතෘකාවක් කර ගන්නා අයත් අප අතර සිටිති. ඔවුන් ගන්නේ අපේ පැත්තද, නැතහොත්, ධනපති ආඥාදායකත්වයේ පැත්තද යන්න තීරණය කිරීමට ඔවුනට සිදුවන බව ඔවුන් තවමත් වටහා ගෙන නැත. මොවුන් කෙරෙහි අප දක්වා ඇත්තේ ලොකු ඉවසීමකි. අනුග්‍රහයක් යයි කිවහැකි තරම් ඉවසීමකි. අපගේ අනුග්‍රහය භුක්ති විඳීමට අපි ඔවුනට තවත් වරක් ඉඩ දෙන්නෙමු. එහෙත් නුදුරු අනාගතයේදීම අපගේ ඉවසීමටත්, අනුග්‍රහයටත් සීමාවක් පැනවීමට අපට සිදුවනු ඇත. ඒ නිසා ඔවුන් ඒ පිළිබඳ තීරණයකට නොබසිත් නම්, කොල්චාක් වෙතට යන

ලෙස අපි ඉත සිතින්ම ඔවුනට කියන්නෙමු. (අත්පොළසන්.) අපි, එවැනි අයගෙන් අති විශිෂ්ට බුද්ධිමය කුශලතාවයක් අපේක්ෂා නොකරමු. (සිනා.) නමුත්, කොල්චාක්ගේ මෘග ක්‍රියා අත්දැකීමෙන් පසුව, තෝරා ගන්නේ අපද, නැතහොත් කොල්චාක්ද, යන්න ගැන තීරණයකට එළඹෙන ලෙස ඔවුනට කීමේ අයිතියක් අපට තිබෙන බව ඔවුනට වැටහෙනු ඇතැයි අපේක්ෂා කිරීම සාධාරණය. නිර්ධන පංති ආඥාදායකත්වය යනු පහව් යන හා අහම්බෙන් ඇති වූ දෙයකැයි යන අදහස ඇතිකර ගැනීමට තරම් බොළඳ හා මෝඩ අය බොහෝ දෙනෙක් ඔක්තෝබර් විප්ලවයෙන් ඉක්බිති ප්‍රථම මාස කීපය තුළ සිටියෝ නම්, දැන්, මුළු මහත් ජාත්‍යන්තර ප්‍රතිගාමිත්වයේම ප්‍රහාරය නිසා, ගෙන යනු ලබන අරගලයේ කිසියම් තර්කානුකූල අවශ්‍යතාවයක් තිබෙන බව මෙන්ෂෙවික්වරුන්ට හා සමාජවාදී විප්ලවවාදීන්ට පවා අවබෝධ විය යුතුය.

ඇත්ත වශයෙන්ම නිර්මාණය වී තිබෙන්නේ බලවේග දෙකක් පමණකි. එකක් ධනපති ආඥාදායකත්වය ය. අනෙක නිර්ධන පංති ආඥාදායකත්වය ය. මාක්ස්ගෙන් මෙය උගෙන නොගත්, ශ්‍රෙෂ්ඨ සමාජවාදීන්ගේ කෘතිවලින් මෙය උගෙන නොගත් අයෙක් වේනම්, ඔහු කිසි කලෙකත් සමාජවාදියෙක් වී නැත. ඔහුට සමාජවාදය ගැන කිසි දෙයක් වැටහෙන්නේ නැත.ඔහු තමා සමාජවාදියෙක් ලෙසට හඳුන්වා ගත්තා පමණකි. කරුණු ගැන කල්පනා කර බැලීමට අපි මොවුනට සුළු කාලයක් දෙන්නෙමු. ඉන් පසු ඔවුන්ගේ තීරණ ගන්නා ලෙස ඔවුන්ට කියන්නෙමු. මා ඔවුන් ගැන සඳහන් කළේ ඔවුන් මෙසේ කියන නිසාය. නැතහොත්, කියනු ඇති නිසාය. "බොල්ෂෙවික්වරු මධ්‍යම ගොවීන් පිළිබඳ ප්‍රශ්නය මතුකර ඇත. මධ්‍යම ගොවීන් අල්ලා ගැනීමට ඔවුන්ට උවමනා කර තිබේ." මෙවැනි සහ සමහර විට මීට වඩා නිස්සාර තර්කවලට මෙන්ෂෙවික් පත්‍රවල සැලකිය යුතු තරම් ඉඩ සලසන බව මම හොඳින් දනිමි. අපි එවැනි තර්ක නොතකා හරින්නෙමු. අපගේ ප්‍රතිපා-ක්ෂිකයින්ගේ ගෝලිච්චාව වැදගත් දෙයක් ලෙස අපි කිසි කලෙකත් නොසලකන්නෙමු. ධනපති පංතිය හා නිර්ධන පංතිය අතර තවමත් එහා මෙහා පැනීමට සමත් වන අයට සතුටු දෙයක් කියන්නට ඔවුන්ට ඉඩ හරිමු. අපි අපගේම මාර්ගයේ යන්නෙමු.

අපගේ ගමන් මග නිගමනය කිරීමේදී අන් සියල්ලටම වඩා ප්‍රධාන වශයෙන් සාධක වන්නේ, පංති බලවේගයන් ගැන දක්වන සැලකිල්ලය. ධනපති සමාජයේදී ධනපති පංතිය සහ නිර්ධන පංතිය අතර අරගලයක් ඇතිවෙයි. එම අරගලය අවසන් නොවී පවතින තාක් කල්, එම සටන කෙළවරක් දක්වා කිරීම ගැන අපගේ දැඩිතම අවධානය යොමු කරන්නෙමු.



මෙම අරගලයේදී ජයග්‍රහණ රැසක් අත්පත් කරගෙන තිබෙන නමුත්, තවමත් එහි නිමාවක් දක්නට නැත. දැන්, ජාත්‍යන්තර ධනපති පංතියේ අත් නිදහස් තත්වයක නැත. මෙය ඔප්පු කරන හොඳම සාධකය, හංගේරියානු විප්ලවය සිදු වී තිබීමයි. එයින් පෙනෙනුයේ, බලය සඳහා කරන අරගලයේ අවශ්‍යතාවයන්ට සියල්ලම යටත් කර තිබූ අවධියේ දී පැවති සීමාවන් ඉක්මවා අපගේ ගම්බද සංවිධාන කටයුතු පෙරට ගොස් ඇති බවයි.

මෙම සංවර්ධනය අදියර දෙකක් පසු කර ගිය එකකි. 1917 ඔක්තෝ-බරයේදී, සමස්තයක් වශයෙන් මුළු ගොවි ජනතාවම සමග එක්වූ අපි බලය අල්ලා ගත්තෙමු, ඒ වන විට, ගම්බද පෙදෙස්වල පංති අරගලය සංවර්ධනය වී නොතිබුණු හෙයින්, එය ධනපති විප්ලවයක් විය. මා කලින් කී පරිදි, ගම්බද දිස්ත්‍රික්කවල නියම නිර්ධන පංති විප්ලවය ආරම්භ වූයේ 1918 ගිම්හානයේදීය. මෙම විප්ලවය පණ ගන්වා ගැනීමෙහි අපි අපොහොසත් වූයෙමු නම්, අපගේ කටයුතු සම්පූර්ණ නොවන්නට තිබිණි. ප්‍රථම අදියර වූයේ, නගරවල බලය අල්ලාගෙන සෝවියට් පාලනය පිහිටුවීමය. දෙවැනි අදියර, සියලුම විප්ලවවාදීන්ට මූලික වශයෙන් වැදගත් එකක් විය. එහිදී ගම්බද දිස්ත්‍රික්කවල නිර්ධන හා අර්ධ නිර්ධන කොටස් තෝරා බේරා ගැනීම හා ගම්බද පෙදෙස්වල ධනපති පංතියට විරුද්ධව අරගලය කිරීම, ඔවුන් නාගරික නිර්ධන පංතිය සමග එක්සත් කිරීම සිදු විය. එම අදියර පසු නොකරන සමාජවාදීහු සැබෑ සමාජවාදීහු නොවෙති. මෙම අදියරද ප්‍රධාන වශයෙන් සම්පූර්ණ කර තිබේ. මෙම කටයුත්ත සඳහා අප මුලින් ඇති කළ සංවිධාන වන, දුප්පත් ගොවි කාරක සභා කොතරම් දුරට තහවුරු වූයේද යත්, ඒවා වෙනුවට නිසි ලෙස තෝරා පත් කළ සෝවියට් සභා ආදේශ කිරීමට අපට හැකි විය. එසේ ගම්බද සෝවියට් සභා ප්‍රති සංවිධානය කර, ඒවා පංතිමය පාලනයේ අවයව බවටත්, ගම්බද දිස්ත්‍රික්කවල නිර්ධන පංති පාලනයේ අවයව බවටත්, පත් කළ හැකි විය. මධ්‍ය විධායක කාරක සභාව විසින් මෑතදී සම්මත කරන ලද හා කවුරුත් මැනවින් දන්නා, සමාජවාදී ඉඩම් නිරවුල් කිරීමේ නීතිය සහ සමාජවාදී ගොවිතැනට පරිවර්තනය වීම සඳහා වූ පියවරයන්[105] වැනි කටයුතු මගින්, අපගේ අත්දැකීම් අපගේ දෘෂ්ටි කෝණය අනුව සම්පිණ්ඩනය කෙරේ.

ප්‍රධාන දේය, එනම්, නිර්ධන පංති විප්ලවයේ ප්‍රධාන හා මූලික කර්තව්‍යය, අපි දැනටමත් ඉටු කර ඇත්තෙමු. එය ඉටු කර හමාර කර තිබෙන නිසාම, වඩාත් සංකීර්ණ ප්‍රශ්නයක් පෙරට පැමිණ ඇත. එය නම්, මධ්‍යම ගොවි ජනයා කෙරෙහි අප දක්වන ආකල්පය පිළිබඳ ප්‍රශ්නයයි. එනිසා, එම ප්‍රශ්නයට මුල් තැන දීමෙන්, අපගේ ආණ්ඩුවේ

ස්වභාවය, එනම්, නිර්ධන පංති ආඥාදායකත්වය දුර්වල වූ බවක් මොන යම් ආකාරයකින් හෝ පිළිබිඹුවන්නේයයිද, එයින් අපගේ මූලික ප්‍රතිපත්තියෙහි කිසියම් අර්ධ ස්වභාවයේ, නැතහොත්, අංශු මාත්‍රයක හෝ වෙනසක් පෙනේ යයිද, සිතන අයෙක් වෙතොත්, හේ නිර්ධන පංතියේ අරමුණු හා කොමියුනිස්ට් විප්ලවයේ අරමුණු වටහා ගැනීමට මුළුමනින්ම අසමත් වූවෙක් වන්නේය. අපගේ පක්ෂය තුළ එවැනි අය නැතැයි යන්න මට විශ්වාසය. මා අදහස් කළේ, කම්කරුවන්ගේ පක්ෂයට අයත් නැතිව සිටිමින් මෙවැනි කථා කියන අය ගැන සහෝදරවරුන්ට අනතුරු හැඟවීමක් කිරීමටය. එවැනි අනතුරු හැඟවීමක් කරන්නේ, එම අදහස් කිසියම් ක්‍රමානුකූල දර්ශනයක් අනුව මතු කරනු ලබන නිසා නොව, අපට කරදර ඇති කර, සුදු හමුදාවලට උදව් කිරීම සඳහා, නැතහොත්, වඩාත් සරල ලෙසින් කියතොත්, නිතරම වැනෙනසුලු ගතියක් දක්වන, නොවැනී සිටිය නොහැකි හා තවත් දීර්ඝ කාලයක් යන තෙක් වැනෙනු ඇති මධ්‍යම ගොවියා අපට විරුද්ධව ප්‍රකෝප කරවීම සඳහා ඉදිරිපත් කෙරෙන ඒවා වන නිසාය. මධ්‍යම ගොවියා අපට විරුද්ධව ප්‍රකෝප කරවීම සඳහා ඔවුන් ඔහුට මෙසේ කියනු ඇත: ''බලාගෙනයි. ඔවුන් ඔබ අල්ලා ගන්න හදනවා. මෙයින් පෙනෙන්නේ ඔවුන් ඔබගේ කැරළි ගැන සැලකිල්ලක් දක්වා තිබෙන බවයි. ඔවුන් කොර ගැසීමට පටන් ගෙන තිබේ.'' යනාදී දේ කියනු ඇත. මෙවැනි උද්ඝෝෂණවලට පිළිතුරු දීමට අපගේ සහෝදරවරුන් සියලු දෙනාම සූදානම්ව සිටිය යුතුය. දැන් අප මෙම ප්‍රශ්නය පංති අරගලයේ දෘෂ්ටි කෝණයෙන් සලකා බැලීමට සමත් වුවහොත්, අපගේ සහෝදරවරුන් සඳහා සූදානමින් සිටිනු ඇතැයි යන්න ගැන කිසිම සැකයක් නැත.

නිර්ධන පංතිය මධ්‍යම ගොවි ජනතාව කෙරෙහි දක්වන ආකල්පය නියත ලෙස පැහැදිලි කරන්නේ කෙසේද යන මෙම මූලික ප්‍රශ්නය වඩාත් සංකීර්ණ එකක් මෙන්ම හදිසි එකක්ද බව ඉතාමත් පැහැදිලිය. සහෝදරවරුනි, කම්කරුවන් අති බහුතරය හොඳින් උගෙන ගෙන තිබෙන න්‍යායික දෘෂ්ටි කෝණය අනුව නම්, මාක්ස්වාදීන්ට මෙම ප්‍රශ්නය පැහැදිලි කර ගැනීමේ දුෂ්කරතාවයක් නැත. මම ඔබට නිදර්ශනයක් ගැන මතක් කරන්නෙමි. කෞට්ස්කි, මාක්ස්ගේ උගැන්වීම් හරි ආකාර ලෙස විස්තර කරමින් සිටි කාලයේදී, ඔහු ගොවිජන ප්‍රශ්නය පිළිබඳ ක්ෂේත්‍රයෙහි උගතෙක් ලෙසට පිළිගනු ලැබ සිටි අවධියේදී, ඔහු ගොවිජන ප්‍රශ්නය ගැන ලියූ පොතෙහි ධනවාදී ක්‍රමයේ සිට සමාජවාදී ක්‍රමයට පරිවර්තනය වීම ගැන සඳහන් කරමින් කියා ඇත්තේ, ගොවිජනයා මධ්‍යස්ථ කිරීම සමාජවාදී පක්ෂයේ කර්තව්‍යය වන බවයි. එනම්, නිර්ධන පංතිය සහ ධනපති පංතිය අතර කෙරෙන අරගලයේදී ගොවියා මධ්‍යස්ථව සිටින සේත්, අපට විරුද්ධව ඔහු ක්‍රියාත්මක ලෙස ධනපති පංතියට සහයෝගය නොදෙන සේත්, කටයුතු සැලැස්විය යුතු බවයි.

ධනපති පංතියේ ඉතාමත් දීර්ඝ පාලන කාලය මුළුල්ලේම ගොවි ජනයා ධනපති පංතියේ පැත්ත ගෙන, ඔවුන්ගේ පාලන බලයට ආධාර දුන්හ. ඔබ ධනපති පංතියේ ආර්ථික ශක්තිය හා ඔවුන්ගේ පාලනයේ දේශපාලන අවි ආයුධ ගැන සැලකිල්ලට ගන්නෙහි නම්, මෙය වටහා ගැනීමට අපහසු නොවනු ඇත. මධ්‍යම ගොවියා වහාම අපගේ පැත්තට එතැයි අපට බලාපොරොත්තු විය නොහැකිය. එහෙත්, අපි නිවැරදි ප්‍රතිපත්තියක් අනුගමනය කරන්නෙමු නම් කලකට පසු මෙම වැනෙනසුලු භාවය කෙළවර වී, ගොවියාට අප පැත්තට ඒමට හැකි වනු ඇත.

මාක්ස් සමග එක්ව විද්‍යාත්මක මාක්ස්වාදයට අඩිතාලම් දැමූවේ එංගල්ස්ය. අපගේ පක්ෂය නිතරම අනුගමනය කළේ විශේෂයෙන්ම විප්ලවය අවස්ථාවේ අනුගමනය කළේ එම උගැන්වීමය. ගොවි ජනයා, කුඩා ගොවීන්, මධ්‍යම ගොවීන් හා ලොකු ගොවීන් වශයෙන් බෙදා වෙන් කිරීම කළේද එංගල්ස්ය. මෙම බෙදීම යුරෝපීය රටවල් බොහොමයක් සම්බන්ධයෙන් අදටත් සාධාරණය. එංගල්ස් මෙසේ කීවේය: ''සමහර විට ලොකු ගොවියා පවා බලෙන් මර්දනය කිරීම අවශ්‍ය වන්නේ සෑම තැනෙකදීම නොවන්නට පිළිවන.'' තවද මධ්‍යම ගොවියාට විරුද්ධව (කුඩා ගොවියා අපගේ මිතුරාය) අප බලය පාවිච්චි කළ යුතුය යන අදහස සිහි බුද්ධිය ඇති කිසිම සමාජවාදියෙකුගේ සිතෙහි පැන නැංගේ නැත. එංගල්ස්ගේ අභාවයට එක් අවුරුද්දකට පෙර, 1894 දී ගොවිජන ප්‍රශ්නය පෙරමුණට වන් අවස්ථාවේ එංගල්ස් කී දේ එයයි.[106] මෙම අදහසෙන් ප්‍රකාශ වන්නේ, සමහර විට අමතක කරනු ලබන, එහෙත් අප සියලු දෙනාම න්‍යායික වශයෙන් එකඟ වන සත්‍යයකි. ඉඩම් හිමියන් හා ධනපතියන් සම්බන්ධයෙන් අපගේ අරමුණ වන්නේ ඔවුන්ගේ දේපල සම්පූර්ණයෙන්ම ඔවුන්ට අසන්තක කිරීමය. එහෙත් මධ්‍යම ගොවීන් සම්බන්ධයෙන් කිසිම ආකාරයකින් බලහත්කාරය යෙදීම අපි නො ඉවසමු. පොහොසත් ගොවීන් සම්බන්ධයෙන් පවා ධනපතියන්ගේ දේපල අසන්තක කරන ආකාරයෙන්ම එය කළ යුතු යයි ස්ථිරව නොකියමු. පොහොසත් ගොවීන්ගේ සහ කුලාකයන්ගේ දේපල ඔවුන්ට සම්පූර්ණයෙන්ම අසන්තක කළ යුතු යයි නොකියමු. අපගේ වැඩ පිළිවෙළෙහි තිබෙන විශේෂත්වය මෙයයි. පොහොසත් ගොවියන් ප්‍රතිවිප්ලවවාදී ප්‍රයත්න මගින් දක්වන ප්‍රතිරෝධනය මර්දනය කළ යුතු බව අපි කියමු. එය සම්පූර්ණයෙන්ම අසන්තක කිරීම නොවේ.

ධනපතියන් සම්පූර්ණයෙන්ම අසන්තක කිරීම සහ අන්‍යයන් සූරා නොකන මධ්‍යම ගොවීන් සමග සන්ධානයක් ඇති කර ගැනීම යනුවෙන්

වූ, ධනපති පංතිය හා මධ්‍යම ගොවිජනයා කෙරෙහි අප දක්වන ආකල්පවල මෙම මූලික වෙනස සැම දෙනා විසින්ම න්‍යායික වශයෙන් පිළිගනු ලැබේ. එහෙත් ප්‍රදේශවල සිටින ජනයා එය අනුගමනය කිරීමට තවමත් උගෙන ගෙන නැත. ධනපති පංතිය බලයෙන් පහකර දමා නිර්ධන පංතිය ස්වකීය බලය තහවුරු කරගත් පසු, එය විවිධ අංශවලින් නව සමාජයක් නිර්මාණය කිරීමේ කටයුතු ආරම්භ කරනු හා සමගම, මධ්‍යම ගොවියා හා සම්බන්ධ ප්‍රශ්නය මුල් තැනට ආයේය. මහා පරිමාණ ගොවිතැන පවත්නා රටවලත්, කුඩා පරිමාණ ගොවිතැන පවත්නා රටවලත්, කොමියුනිස්ට් ක්‍රමය ගොඩනැගීම වෙනස් මාර්ග ඔස්සේ ඉදිරියට යන බව, ලෝකයේ එකද සමාජවාදියෙක්වත් ප්‍රතික්ෂේප කර නැත. එය අ යන්න ආ යන්න සේ සරල සත්‍යයකි. මෙම සත්‍යය අනුව යමින්, අප කොමියුනිස්ට් ක්‍රමය ගොඩනැගීමේ ප්‍රශ්න වෙත ළඟා වන විට, එක්තරා දුරකට අපගේ ප්‍රධාන අවධානය යොමු කළ යුත්තේ මධ්‍යම ගොවියා කෙරෙහිය.

මධ්‍යම ගොවියා කෙරෙහි දක්වන ආකල්පය පැහැදිලි කරන ආකාරය අනුව බොහෝ කරුණු තීරණය වනු ඇත. න්‍යායික වශයෙන් එම ප්‍රශ්නය විසඳා ඇත. ප්‍රශ්නයක් න්‍යායික වශයෙන් විසඳීමත්, එම විසඳීම භාවිතයට නැගීමත් අතර වෙනසක් තිබෙන බව, අපි අපගේම අත්දැකීමෙන් මනා සේ දන්නෙමු, ශ්‍රේෂ්ඨ ප්‍රංශ විප්ලවයේ දී ඉතා පැහැදිලි ලෙස දක්නට ලැබුණු ස්වභාවයක් වූ මෙම වෙනසට කෙළින්ම මුහුණ දීමට දැන් අපට සිදු වී තිබේ. එම විප්ලවයේදී මහා විශාල පියවරයන් ගැනීමේ අරමුණු ප්‍රංශ ව්‍යවස්ථාවෙන්[107] ඉදිරිපත් කෙරුනු නමුත්, ඒවා ක්‍රියාත්මක කිරීමට ඊට සහයෝගය නොලැබුණු අතර, කිසියම් විශේෂ පියවරක් ක්‍රියාත්මක කිරීම සඳහා විශ්වාසය තැබිය හැක්කේ කුමණ පංති කෙරෙහිද යන්න පවා එය නොදත්තේය.

අපගේ තත්වය ඊට වඩා බෙහෙවින් වාසනාවන්තය. ශත වර්ෂයක් මුළුල්ලේ ඇති වූ සංවර්ධනයට ස්තුති වන්නට, අප විශ්වාසය තබන්නේ කුමණ පංතිය කෙරෙහිද යන්න අපි දනිමු. නමුත්, එම පංතියේ ප්‍රායෝගික අත් දැකීම් ඉතාමත් අඩු බවද අපි දන්නෙමු. කම්කරු පංතියටත්, කම්කරුවන්ගේ පක්ෂයටත් මූලික අරමුණ පැහැදිලි වී තිබුණි. එය, ධනපති පංතිය බලයෙන් නෙරපා දමා, බලය කම්කරුවන් අතට පත් කිරීම විය. එහෙත්, එය කෙසේ නම් කළ හැකි වීද? අප කර්මාන්තවල කම්කරු පාලනයේ සිට කම්කරු කළමනාකරණය දක්වා යාමේදී ඇති වූ දුෂ්කරතාවයන් හා සිදුවූ වැරදි රාශිය කාටත් මතක ඇත. එහෙත් ඒ සියල්ලම අපගේම පංතිය තුළ කළ වැඩ ය. එහිදී අපට නිතරම කටයුතු කරන්නට සිදු වූයේ අපගේම පංතිය සමග ය. දැන් අපට තිබෙන්නේ



අළුත් පංතියක්, නාගරික කම්කරුවා නොදන්නා පංතියක් කෙරෙහි අප දක්වන ආකල්පය පැහැදිලි කිරීමය. අපට තිබෙන්නේ නිශ්චිත හා ස්ථාවර තත්වයක් නොමැති පංතියක් කෙරෙහි අප දක්වන ආකල්පය තීරණය කිරීමටය. නිර්ධන පංතිය ජනකායක් වශයෙන් සමාජවාදයට පක්ෂය. ධනපති පංතිය ජනකායක් වශයෙන් සමාජවාදයට විරුද්ධය. මෙම පංති දෙක අතර සම්බන්ධය තීරණය කිරීම පහසුය. එහෙත් මධ්‍යම ගොවීන් වැනි පංතියක් ගැන සලකා බලන්නට සිදු වූ කල, ඔවුන් චැනෙනසුලු පංතියක් බව අපට පෙනේ. මධ්‍යම ගොවියා අර්ධ වශයෙන් දේපල හිමියෙකි. අර්ධ වශයෙන් වැඩ කරන මිනිසෙකි. ඔහු අන්‍ය වැඩ කරන ජනයා සූරා කන්නේ නැත. දශක ගණන් තිස්සේ මධ්‍යම ගොවියා ඉතාමත් බලවත් දුෂ්කරතා මධ්‍යයේ ඔහුගේ තත්වය රැක ගත්තේය. ඔහු ඉඩම් හිමියන්ගේ හා ධනපතියන්ගේ සූරා කෑමෙන් දුක් වින්දේය. ඔහු සියලු දෙයක්ම දරා ගත්තේය. එහෙත් ඔහු දේපල හිමියෙකි. එනිසා මෙම වැනෙනසුලු ගතිය කෙරෙහි අප දක්වන ආකල්පය පිළිබඳ ප්‍රශ්නය බොහෝ දුෂ්කරතාවයන් මතු කරන එකකි. ලබන ලද අවුරුද්දකට වඩා දීර්ඝ කාලයක අත්දැකීම් ද, ගම්බද දිස්ත්‍රික්කවල හය මසකට වැඩි කලක් කළ වැඩ කටයුතු ද, දැනටමත් ගම්බද දිස්ත්‍රික්කවල සිදුවී ඇති ප්‍රභේදනයද සැලකිල්ලට ගනිමින්, අප මෙහිදී ඉතාමත් ප්‍රවේසම් සහිතව පියවර ගත යුතුය. එසේ නැතහොත්, අප පමණට වඩා ඉක්මන් වීමටත්, න්‍යායික කරුණු ගැන ප්‍රමාණවත් තරම් සැලකිලිමත් නොවීමටත්, තවමත් ඉටුවී නැති හා ඉටුවීමේ ක්‍රියාදමය අතර මැද පවතින දෙයක් ඉටු වී අවසන් වූ දෙයක් ලෙස ගණන් ගැනීමටත් ඉඩ තිබේ. මේ හා සම්බන්ධයෙන් ප්‍රමාණවත් තරමින් ඔබට අනතුරු හඟවන යෝජනාවක් පසුව එන කථිකයෙක් ඔබට කියවනවා ඇත. එම යෝජනාව ඉදිරිපත් වී තිබෙන්නේ කාරක සභාව විසින් තෝරා පත්කරන ලද කොමිසමෙනි.

ආර්ථික දෘෂ්ටි කෝණයෙන් බලන විට, අප මධ්‍යම ගොවියාට ආධාර කළ යුතු බව ඉතා පැහැදිලිය. න්‍යායික වශයෙන් මේ ගැන සැකයක් නොමැත. එසේ වුවද, අපගේ ගති සිරිත්, අපගේ සංස්කෘතික මට්ටම, ගම්බද දිස්ත්‍රික්කවල ප්‍රයෝජනය සඳහා එහි යැවිය හැකි සංස්කෘතික හා තාක්ෂණික බලවේගයන් ප්‍රමාණවත් නොවීම හා අප බොහෝ විට ගම්බද පෙදෙස්වලට ළඟාවන අසරණ ආකාරය නිසා, සහෝදරවරු නිතර බලය යොදා කටයුතු කිරීමට යොමුවීමේ හේතුවෙන්, සියල්ලම නරක තත්වයට පත් කරති. මේ පිළිබඳව නිදර්ශනයක් දැක්විය හැක. ''නිෂ්නි-නෝව්-ගොරද් ගුබෙර්නියාවේ පක්ෂ වැඩ පිළිබඳ උපදෙස් හා රෙගුලාසි'' යන නමින් යුතුව රුසියානු කොමියුනිස්ට් (බොල්ෂෙවික්) පක්ෂයේ නිෂ්නි-නෝව්ගොරද් කාරක සභාව විසින් නිකුත් කරන ලද කුඩා පොතක්

සහෝදරයෙකු විසින් ඊයේ මා අතට පත් කරන ලදී. එහි 41 වැනි පිටුවේ මෙසේ සඳහන් කර ඇත: "හදිසි අයබදු ආඥාවේ සම්පූර්ණ බරම ග්‍රාමීය කුලාක්වරුන්, ලාභගරන්නන් හා පොදු වශයෙන් මධ්‍යම ගොවිජන කොටස මත දැමිය යුතුය." අගෙයි! ඇත්තෙන්ම මේ අයට නම් "වැටහී" තිබේ. එක්කෝ මෙය මුද්‍රණ දෝෂයකි. එය එසේ නම්, එවැනි මුද්‍රණ දෝෂයක් ඇති වීමට ඉඩ තැබීම කිසි සේත් අනුමත කළ හැක්කක් නොවේ. එසේ නැතහොත්, එය ඉක්මන්කාරී ලෙස අප්‍රවේසමෙන් කළ වැඩකි. මෙම කාරණයෙහිදී දක්වන සෑම ඉක්මන්කාරී කමක්ම කොතරම් අන්තරාදයක ද යනු මෙයින් පෙනේ. එසේත් නැතහොත්, ඔවුන්ට මෙම කාරණය කොහෙත්ම වැටහී නැත. මේ පිළිබඳව ඇතිකර ගත හැකි නරකම අනුමානයත්, නිෂ්නි-නෝව්ගොරද් සහෝදරවරුන් ගැන මා ඇතිකර ගැනීමට අකැමති අනුමානයත් එයයි. එය ඇත්ත වශයෙන්ම අතපසු වීමක් වන්නට ඉඩ තිබේ.[108]

කොමිසමේ එක් සහෝදරයෙක් විස්තර කළ වැනි තත්වයන්ට ද ව්‍යවහාරයේදී අපට මුහුණ දෙන්නට සිදුවේ. එම සහෝදරයා වට කර ගත් ගොවීහු හැම දෙනාම ඔහුගෙන් මෙසේ අසන්නට පටන් ගත්හ. "මා මධ්‍යම ගොවියෙක්ද, නැද්ද යන්න මට කියා දෙන්න. මට අශ්වයන් දෙදෙනෙක් සහ එක එළදෙනක් ඇත... මට එළදෙනුන් දෙදෙනෙක් හා එක අශ්වයෙක් ඇත." යනාදී වශයෙනි. එනිසා උයෙස්ද් පෙදෙස්වලට යන උද්ඝෝෂකයා වෙත, සෑම ගොවියෙක්ම මැන බලා ඔහු මධ්‍යම ගොවියෙක් ද නැද්ද කිව හැකි නොවරදින මානකයක් තිබිය යුතුය. එසේ කිව හැකි වීම සඳහා යම් ගොවියෙකුගේ ගොවිපල ගැන මුළු ඉතිහාසයත්, ඉහළ හා පහළ කොටස් සමග ඔහුගේ ඇති සම්බන්ධකමුත් ගැන ඔබ දැන සිටිය යුතු වේ. ඒ අතර එම සම්බන්ධකම් හරියටම දැනගැනීම අපට කළ හැක්කේද නොවේ.

මෙහිදී සෑහෙන තරම් ප්‍රායෝගික හැකියාවක්ද, ප්‍රාදේශීය තත්වය ගැන දැනුමක්ද අපට අවශ්‍ය වන නමුත්, අපට ඒවා ඇත්තේ නැත. ඒ බව පිළිගැනීමට ඔබ ලජ්ජා නොවිය යුතුය. එය අවංකව පිළිගත යුතුව තිබේ. අපි කිසි කලෙකත් මනෝරාජිකවාදීන් නොවූයෙමු. පරම පවිත්‍ර කොමියුනිස්ට් සමාජයේ ඉපදී ශික්ෂනය ලැබූ පරම පවිත්‍ර කොමියුනිස්ට්වරුන්ගේ පරම පවිත්‍ර අත්වලින් කොමියුනිස්ට් සමාජයක් ගොඩනගන්නෙමු යයි අපි කිසි කලෙකත් නොසිතුවෙමු, එය සුරාංගනා කථාවකි. අපට කොමියුනිස්ට් ක්‍රමය ගොඩ නැගීමට සිදු වී තිබෙන්නේ ධනපති ක්‍රමයේ සුන්බුන් වලිනි. එය කළ හැකි වන්නේ ධනපති පංතියට විරුද්ධව සටන් කිරීමෙන් පන්නරය ලත් පංතියට පමණකි. ඔබ දන්නා පරිදි, නිර්ධන පංතිය ධනපති සමාජයේ අඩුපාඩුකම්වලින් හා දුර්වල-කම්වලින් නිදහස් නැත, එය සමාජවාදය සඳහා සටන් කරයි. එහෙත් ඒ අතරම, එය තමන්ගේ අඩුපාඩුකම්වලට විරුද්ධවද සටන් කරයි. දශක ගණන් තිස්සේ නගර තුළ අවදානම් සහගත අරගලයක් ගෙන ගිය නිර්ධන පංතියේ දියුණුතම කොටස, එම අරගලය අතරතුරදී, අගනුවර හා වෙනත් නගරවල ජීවිතයේ සංස්කෘතිය පරිචය කිරීමට හැකි තත්වයට පත් වූ අතර, එක්තරා දුරකට එය පරිචය කළේය. දියුණු රටවල පවා ගම්බද දිස්ත්‍රික්ක නූගත්කමේ දණ්ඩනයට ගොදුරු කරන ලද බව ඔබ දන්නෙහිය. අපි ඇත්ත වශයෙන්ම ගම්බද දිස්ත්‍රික්කවල සංස්කෘතිය නගා සිටුවන්නෙමු. ඒ සඳහා දීර්ඝ කාලයක්, අවුරුදු බොහෝ ගණනක් ගත වනු ඇත. සෑම තන්හිම අප සහෝදරවරුන්ට අමතක වන්නේත්, ගම්බද දිස්ත්‍රික්ක වලින් එන අය කියන සෑම වචනයකින්ම සිත් කාවදින ලෙස අපට අවබෝධ වන්නේත් එයයි. මෙහි වැඩ කරන බුද්ධිමතුන් කියන දෙයින් නොව — අපි ඔවුනට බොහෝ විට කන් දී ඇත්තෙමු — ගම්බද දිස්ත්‍රික්කවල කරන වැඩ ගැන ව්‍යවහාරයෙන් නිරීක්ෂණය කළ අය කියන දෙයින්, එය අවබෝධ වේ. ගොවිජන කාරක සභාවේ කටයුතුවලදී අපට විශේෂයෙන්ම වටිනා බව පෙනී ගියේ මෙම අදහස්ය. ඒවා ගලා එන්නේ පොත්වලින් නොව, ආඥාවලින් නොව, අත්දැකීමෙන් වන නිසා, එවා දැන් මුළු පක්ෂ සම්මේලනයටම ඉතාමත් ප්‍රයෝජනවත් වනු ඇත. ඒ ගැන මට විශ්වාස ය.

මේ සියල්ලම නිසා අප මධ්‍යම ගොවි ජනයා කෙරෙහි දක්වන ආකල්පය ඉතාමත් පැහැදිලි ලෙස විදහා පෑමට කටයුතු කිරීමට අපට සිදු වේ. එවැනි පැහැදිලිතාවයක් යථාර්ථයේ නොපවත්නා හෙයින් මෙය ඉතාමත් දුෂ්කරය. මෙම ප්‍රශ්නය විසඳී නොමැතිවා පමණක් නොව, එය වහාම හා එක් වරම විසඳීමට අපේක්ෂා කරන්නෙහි නම්, එය විසඳිය හැකි වන්නේද නොවේ. මෙතරම් සංඛ්‍යාවක් ආඥා ලිවීමේ අවශ්‍යතාවයක් නැතැයි කියන අයද ඇත. ආඥා ක්‍රියාත්මක කරන්නේ කෙසේද යන්න නොදැන ආඥා ලිවීමට කටයුතු කිරීම ගැන ඔවුහු සෝවියට් ආණ්ඩුවට දෝෂාරෝපනය කරති. එසේ කිරීමෙන් තමන් ඇත්ත වශයෙන්ම සුදු හමුදාවේ තත්වයට වැටෙන බව ඔවුහු අවබෝධ කර නොගනිති. ආඥා සියයක් වුව ලිවීමෙන්, ගම්බද දිස්ත්‍රික්කවල ජීවිතය සම්පූර්ණයෙන් වෙනස් කළ හැකි යයි අපි අපේක්ෂා කෙළෙමු නම්, අප අන්ත මෝඩයන් වනු ඇත. නමුත්, අනුගමනය කළ යුතු මාර්ගය ආඥා මගින් දැන්වීමෙන් අපි වැලකී සිටියෙමු නම්, අප සමාජවාදයට ද්‍රෝහීන් වනු ඇත. මෙම ආඥා සම්පූර්ණ වශයෙන් හා වහාම ක්‍රියාවට නැංවිය නොහැකි වූ නමුත්, ප්‍රචාරයෙහිදී එයින් වැදගත් කාර්ය කොටසක් ඉටු විය. කලින් අප අපගේ ප්‍රචාරය කරගෙන ගියේ පොදු සත්‍යයන් මාර්ගයෙන් වන අතර, දැන් අප

අපගේ ප්‍රචාරය ගෙන යන්නේ අපගේ වැඩ මාර්ගයෙනි. එයත් එක්තරා දේශනාවකි. එහෙත් ක්‍රියාවෙන් කරන දේශනාවකි. ක්‍රියාවෙන් යනුවෙන් මෙහිදී අදහස් කරන්නේ, අරාජිකවාදීන් සහ පැරණි වර්ගයේ සමාජවාදය බලපැවැත්වූ සමයේ අප එතරම් තදින් සමච්චලයට ලක් කළ යම් යම් උද්ධච්චයන් අතරින් පතර කළ කටයුතුවල අර්ථයෙන් නොවේ. අපගේ ආඥාව හඬ නැඟීමකි. එහෙත් එය ''කම්කරුවනි, නැගිටිව්, ධනපති පංතිය පෙරළා දමව්'' යන පැරණි හඬ නැඟීම නොවේ. නැත. එය ජනතාව අමතා කරන හඬනැගීමකි. ප්‍රායෝගික වැඩවල යෙදෙන ලෙස ඔවුනට කියන හඬ නැඟීමකි. ආඥා යනු පුළුල් ජනතා පරිමාණයකින් ප්‍රායෝගික කටයුතුවල යෙදෙන ලෙස කරන උපදෙස් දීමකි. වැදගත් දෙය එයයි. අනවශ්‍ය බොහෝ දෑ හා ව්‍යවහාරයේදී ක්‍රියාත්මක කළ නොහැකි බොහෝ දෑ ආඥාවල අන්තර්ගතව ඇතැයි සිතා ගනිමු. එහෙත් ප්‍රායෝගික ක්‍රියා-කාරීත්වය සඳහා අවශ්‍ය කරුණුත් ඒවායේ අන්තර්ගතව ඇත. එමෙන්ම, ආඥාවක් නිකුත් කිරීමේ අරමුණ වන්නේත්, සෝවියට් ආණ්ඩුවට කන් දෙන, සිය ගණන්, දහස් ගණන් හා දශලක්ෂ ගණන් ජනයාට ප්‍රායෝගික පියවරයන් උගැන්වීමය. මෙය ගම්බද දිස්ත්‍රික්කවල සමාජවාදය ගොඩනැගීමේ ක්ෂේත්‍රයේ කරනු ලබන ප්‍රායෝගික කටයුතු පිළිබඳ අත් හද බැලීමකි. අපි කරුණු මේ ආකාරයෙන් ගනිමු නම්, අපගේ නීති, ආඥා හා පනත් සමස්තයෙන් අත් කරගත හැකි යහපත ඉමහත්ය. ඒවා වහාම හා කුමණ පාඩු විඳ හෝ ක්‍රියාත්මක කළ යුතු නියෝග වශයෙන් අපි නොසලකන්නෙමු.

තනි අයථා කම් වලට අනුබල දෙන ආකාරයේ සියල්ල වැලැක්වීමට අපි කටයුතු කළ යුත්තෙමු. සමහර තැන්වලදී, තමන් කොමියුනිස්ට්වාදීන් යයි කියා ගනිමින් අප රවටන අයද, අවිනිශ්චිතයන් හා තනතුරු ලෝභීන්ද, කුඩැල්ලන් මෙන් අපට ඇලී සිටිති. කොමියුනිස්ට්වාදීන් දැන් බලයේ සිටින නිසාත්, වඩාත් අවංක ''සේවකයන් තමන් දැරූ ආපසුගාමී අදහස් හේතුකොට ගෙන අප සමග වැඩ කිරීමට ඔවුන් නොකැමති වූ නිසාත්, තනතුරු ලෝභීන්හට අදහස් හා අවංක භාවයක් නොමැති නිසාත්, ඔවුහු එසේ අපගේ පිරිස් අතරට රිංගා ගෙන අපට ඇලී සිටිති. තනතුරු ලබා ගැනීම තම එකම අරමුණ කොටගත් මොවුහු, ප්‍රදේශවල කටයුතුවලදී බලය පාවිච්චි කරන අතර, තමන් ඒ කරන්නේ හොඳ දෙයක් යයිද සිතති. එහෙත්, මෙහි ප්‍රතිඵලයක් වශයෙන් ගොවි ජනයා මෙසේ කියති. ''සෝවියට් බලය දිනේවා. එහෙත් කොමියුනියා (එනම්, කොමියුනිස්ට්වාදය) හංගවේවා!'' මෙය නිර්මාණය කරගත් කියමනක් නොවේ. මෙම කරුණු ගන්නා ලද්දේ සැබෑ ජීවිතයෙනි. එනම්, ප්‍රදේශවල සහෝදරවරුන්ගේ වාර්තාවලිනි. මැදහත් භාවය නොදැක්වීමත්, නොසැලකිලිමත් භාවය හා ඉක්මන්කාරී භාවයත් නිසා නිතරම අති විශාල හානියක් සිදුවන බව අපි අමතක නොකළ යුත්තෙමු.

අධිරාජ්‍යවාදී යුද්ධය අප විනාශයේ වල කටට තල්ලු කළ නිසා, ඉක්මන් ලෙස අවදානම් පිම්මක් පැනීමෙන්, මොන පාඩුවක් හෝ විඳගෙන එම යුද්ධයෙන් ඉවත් වීමට අපට සිදුවිය. අප පොඩි පට්ටම් කර දැමීමට තර්ජනය කරමින් සිටි ධනපති පංතිය හා බල හමුදවන් සුනු විසුනු කර දැමීම පිණිස අපට ඉතාමත් භයානක ප්‍රයත්නයන්හි යෙදීමට සිදුවිය. ඒ සියල්ල අවශ්‍යයෙන්ම කළ යුතු විය. එය නොකර අපට ජයග්‍රහණය ලබා ගැනීමේ හැකියාවක් තිබුණේ නැත. එහෙත් මධ්‍යම ගොවි ජනයා සම්බන්ධයෙන්ද අප ඒ ආකාරයෙන්ම කටයුතු කරතොත්, එය ඉතාමත් අමනෝඥ, ඉතාමත් මෝඩ පියවරක් වනු ඇත. එයින් ව්‍යාපාරයට වන හානිය ඉමහත් වනු ඇත. උවමනාවෙන්ම ඒ ආකාරයෙන් කටයුතු කරනු හැක්කේ ප්‍රකෝපකාරයන්ට පමණකි. මෙහිදී අපගේ අරමුණ සම්පූර්ණ-යෙන්ම වෙනස් දෙයක් විය යුතුය. මෙහි දී අපගේ අරමුණ වන්නේ පැහැදිලි ලෙස පෙනෙන සූරා කන්නන්ගේ ප්‍රතිරෝධනය සුන් කිරීමක්, ඔවුන් පරාජය කර, බලයෙන් පහ කර දැමීමක් නොවේ. එය අප ඉහතදී අරමුණු කොට ගත් දෙයයි. දැන් අප එම ප්‍රධාන අරමුණ ඉටු කරගෙන තිබෙන නිසා, වඩාත් සංකීර්ණ ප්‍රශ්න මතු පිටට එන්නේය. මෙහිදී බලය යෙදවීමෙන් ඔබට නිර්මාණය කළ හැකි දෙයක් නැත. මධ්‍යම ගොවියා කෙරෙහි බලහත්කාරය ක්‍රියාත්මක කිරීමෙන් අපරිමිත හානියක් සිදුවනු ඇත. මෙම කොටසට විශාල ජනකායක් අයත්ය. එයට දශ ලක්ෂ ගණන් පුද්ගලයන් ඇතුළත්ය. සිටින්නා වූ මධ්‍යම ගොවි ජනයාගේ සංඛ්‍යාව අතින් මේ අසලකටවත් නොඑන, කාර්මික ශිල්පය හා සංස්කෘතිය අතින්ද, නාගරික ජීවිතය හා දුම්රිය සේවා අතින්ද, අති විශාල දියුණුවක් ලබා තිබෙන, එසේම, මධ්‍යම ගොවීන් කෙරෙහි බලහත්කාරය ක්‍රියාත්මක කිරීම ගැන සිතීම වඩාත් සුකර යුරෝපයේ පවා, කිසි කලෙකත් ඔවුන් සම්බන්ධයෙන් එවැනි පියවරක් ක්‍රියාත්මක කිරීමට යෝජනාවක් නොවීය.

අප බලය අතපත් කර ගන්නා අවස්ථාවේ, අපි සමස්තයක් වශයෙන් මුළු ගොවි ජනතාවගේම සහයෝගය කෙරෙහි විශ්වාසය තැබුවෙමු. එම අවස්ථාවේ සියලුම ගොවීන්ගේ අරමුණ වූයේ එකක්මය. ඉඩම් හිමියන්ට විරුද්ධව සටන් කිරීමය. එහෙත් මහා පරිමාණ ගොවිතැනට ඇති ඔවුන්ගේ නොකැමැත්ත මේ දක්වාම පවතී. ලොකු ගොවි පළක් ඇතොත් එහි අර්ථය වන්නේ, තමා ගොවිපල් සේවකයෙකු විය යුතු බව යයි ගොවියා කල්පනා කරයි. එය නම් වැරදීමක්මය. එහෙත් මහා පරිමාණ ගොවිතැන පිළිබඳව ගොවියා දරන අදහස, ඉඩම් හිමියන් විසින් ජනතාව පෙළනු

ලැබීම සම්බන්ධයෙන් ඔහු තුළ ඇති වෛරය හා මතකය ආශ්‍රිත වූවකි. මෙම හැඟීම තවමත් පවතී. එය තවමත් අභාවයට ගොස් නැත.

මෙහි ඇති ප්‍රශ්නයේ ස්වභාවයම නිසා බලය යෙදවීමේ ක්‍රමවලින් කිසිම යහපතක් උදා කරගත නොහැකි බව අපි විශේෂ අවධාරණයකින් කියමු. මෙහිදී ඉටු කරන්නට තිබෙන ආර්ථික කර්තව්‍යය සම්පූර්ණයෙන්ම වෙනත් ආකාරයේ එකකි. අඩිතාලම හා ව්‍යුහය නොබිඳ ඉතිරිකරගෙන කපා හැරිය හැකි මතුපිට තට්ටුවක් මෙහි නැත. නගරවල ධනපතියන් විසින් නියෝජනය කරන ලද මතුපිට තට්ටුව ගම්වල ඇත්තේ නැත. මෙහිදී බල කිරීමෙන් ව්‍යාපාරය විනාශ වන්නේය. දිගින් දිගටම අධ්‍යාපන කටයුතු කිරීම අවශ්‍යය. අප රටේ පමණක් නොව ලෝකය මුළුල්ලේම ගොවියා ප්‍රායෝගික පුද්ගලයෙකි, යථාර්ථවාදියෙකි. ලබාගත හැකි හොඳම දෙය "කොමියුනියා" බව ඔප්පු කිරීමට අපි ඔහු හමුවේ මූර්ත නිදර්ශන ගෙන හැර පෑ යුත්තෙමු. එහෙත් නගරයෙන් ගමට දිවෙන ඉක්මන්කාරී පුද්ගලයන් කරන කථා මගින් බුද්ධිමත් ආකාරයේ හා සමහරවිට මුද්ධිමත් නොවන ආකාරයේ ආරාවුල් රැසක් ඇති කර තබා, ඊට පසු සියලු දෙනාම සමග කලහ කරගෙන ඔවුහු තමන්ගේ මග යත් නම්, එයින් කිසිම යහපතක් නොවනු ඇත. සමහර විට එවැනි තත්වයන් ඇති වන්නේය. ඔවුන් ගෞරවය වෙනුවට දිනා ගන්නේ සමච්චලයයි. එය සාධාරණ සමච්චලයකි.

අපි කොමියුන සඳහා අනුබල දෙන බව මෙම ප්‍රශ්නය හා සම්බන්ධයෙන් කියන්නෙමු. එහෙත් ඒවා සංවිධාන කළ යුත්තේ ගොවිජනයාගේ විශ්වාසය දිනාගන්නා ආකාරයටය. එහෙත් අපි ගොවි ජනයාගේ ශිෂ්‍යයන් වෙමු. ඔවුන්ගේ ගුරුවරුන් නොවෙමු. ගොවිතැන හා එහි විශේෂ අංග ලක්ෂණ ගැන කිසිවක් නොදන්නාවූ ද, සමාජවාදී ගොවිතැනෙන් ලබා ගත හැකි වාසිය ගැන අසා තිබෙන හෙයින් හා නාගරික ජීවිතය එපා වුනු හෙයින් පමණක්ම ගම වෙත දිව ගොස් ගම්බද දිස්ත්‍රික්කවල වැඩ කිරීමට කැමැත්ත දක්වන්නාවූ ද අය, තමන් සෑම අතින්ම ගොවියාගේ ගුරුවරුන් වශයෙන් සලකා ගැනීම තරම් තවත් මෝඩ කමක් නැත. මධ්‍යම ගොවියා සමග පවත්වන ආර්ථික සම්බන්ධකම්වලදී බලය යෙදවීම පිළිබඳ අදහස පමණක්ම ගත්තත් ඊට වඩා ලොකු මෝඩ කමක් නැත.

අපගේ අරමුණ මධ්‍යම ගොවියාගේ දේපල අත්පත් කර ගැනීම නොව, ගොවියා ජීවත් වන්නේ කුමණ විශේෂ තත්වයන් යටතේද යන්න අධ්‍යයනය කිරීමය. ඔහුට නියෝග දීමට(!) තරම් උද්ධච්ච වීම නොව, වඩාත් හොඳ ක්‍රමයකට පරිවර්තනය වීම ගැන ඔහුගෙන් උගෙන ගැනීමය. අප සඳහා අප නියම කරගෙන තිබෙන නීතිය එයයි. (සෑම පැත්තෙන්ම අත්පොළසන්.) මේ හා සම්බන්ධයෙන් අප අතින් බොහෝ වැරදි සිදුවී



තිබෙන නිසා, කෙටුම්පත් යෝජනාවෙන් ඉදිරිපත් කිරීමට උත්සාහ කර ඇත්තේ එම නීතියයි, ඒ ගැන පාපෝච්චාරණය කිරීමට අපි කිසිසේත් ලජ්ජා නොවෙමු. අපට අත්දැකීම් තිබුණේ නැත. සූරාකන්නන්ට විරුද්ධව කරන අපගේ අරගලයද අත්දැකීමෙන් උපුටා ගන්නා ලද්දකි. මේ හේතුකොටගෙන අප සමහර විට හෙළාදකිනු ලැබීමට ලක් වන්නෙමු නම්, අපට මෙසේ කිව හැක. "හිතවත් ධනපති මහත්වරුනි, වරද ඔබ අතේමය. ඔබ එතරම් මෘග, අමනෝඥ, අහංකාර හා අවදානම් ප්‍රතිරෝධනයක් නොදැක්වූවහු නම්, ඔබ ලෝක ධනපති පංතිය සමග සන්ධානයකට නොබැඳුනහු නම්, විප්ලවය මීට වඩා සාමකාමී ආකාරයෙන් සිදුවන්නට තිබුණි". දැන් අප එම මෘග ප්‍රහාරය සෑම අතින්ම පසු බස්වා තිබෙන නිසා, දැන් අප පටු කල්ලියක් වශයෙන් නොව දශ ලක්ෂ ගණන් ජනතාවට නායකත්වය දෙන පක්ෂයක් ලෙසින් කටයුතු කරන නිසා, වෙනත් විධික්‍රම අනුව කටයුතු කිරීමට අදාළ වන පරිදි අපට වෙනස් වීමට පුළුවන. මහ වෙනස් කළ බව දශ ලක්ෂ ගණන් දෙනාට වහාම වැටහෙන්නේ නැත. එනිසා කුලාකයන්ට එල්ල කරන පහර සමහර විට මධ්‍යම ගොවීන්ට වැදීම බොහෝ අවස්ථාවල සිදු වේ. එය පුදුමයට හේතුවක් නොවේ. මෙය සිදුවන්නේ කලින් පැවති ඓතිහාසික තත්වය නිසාය යන්න අවබෝධ කර ගැනීම අවශ්‍ය වන්නේය. නව තත්වයන්ද, මෙම පංතිය හා සම්බන්ධයෙන් ඉටු කළ යුතු කර්තව්‍යයන්ද අනුව නව මනෝභාවයක් අවශ්‍ය බවත් වටහා ගත යුතු ය.

ගොවිජන ගොවිතැන සම්බන්ධයෙන් වූ අපගේ ආඥවන් ප්‍රධාන වශයෙන් නිවැරදිය. ඉන් එකක් වුවද අත්හැර දැමීමට හේතුවක් නොමැත. ඉන් එකක් ගැන වුවද පසුතැවිළි වීමට කරුණක් නොමැත. එහෙත් ආඥවන් නිවැරදි නිසා ඒවා ගොවීන් මත බලෙන් පැටවීම කරතොත්, එය වැරදිය. එසේ කරන ලෙස එකම ආඥවකින්වත් කියා නැත. අනුගමනය කළ යුතු මාර්ග පැහැදිලි කරන නිසාත්, ප්‍රායෝගික පියවරයන් ගන්නා ලෙස හඬ නගන නිසාත්, ඒවා නිවැරදිය. අප, "සමිති පිහිටුවීමට පොළඹවනු" යනුවෙන් කියන විට, අප දෙන උපදේශය ක්‍රියාත්මක කිරීමේ අවසාන ආකෘතිය නිශ්චය කර ගැනීම සඳහා එය කීප වතාවක් අත්හදා බැලිය යුතුය. ගොවීන්ගේ ස්වේච්ඡා කැමැත්ත දිනා ගැනීමට අප ප්‍රයත්න දැරිය යුතු බව කියන විට එයින් අදහස් කරන්නේ, ඔවුන් කැමති කරවා ගත යුතු බව හා ප්‍රායෝගික කටයුතු මගින් කැමති කරවා ගත යුතු බවද වේ. හුදෙක් වචනවලින් පමණක්, ගොවීන්ගේ විශ්වාසය දිනා ගැනීමට ඔවුහු ඉඩ නොදෙති. ඒ අතින්, ඔවුහු සම්පූර්ණයෙන්ම නිවැරදි වෙති, හුදෙක් ආඥවන් හා උද්ඝෝෂණ පත්‍රිකා කියවීමෙන් පමණක් තමන් තුළ විශ්වාසයක් ඇති වීමට ඔවුහු ඉඩ දෙති නම්, එය නරකය.

මේ ආකාරයෙන් ආර්ථික ජීවිතය යළි හැඩගැස්විය හැකි නම්, එම හැඩ ගැස්වීම තඹ දෙයිතුවක්වත් නොවටිනා එකක් වනු ඇත. ඉහත සඳහන් වැනි සමිතියක් මගින් ජනතාව ඒකාන්ත ලෙසම ඒකරාශී වන බවද, එය වඩාත් වාසිදායක බවද ප්‍රථමයෙන්ම ඔප්පු කළ යුතුය. ගොවියා ප්‍රශ්නය ඉදිරිපත් කරන්නේ ඒ ආකාරයෙනි. අපගේ ආඥාවන්ද ප්‍රශ්නය ඉදිරිපත් කරන්නේ ඒ ආකාරයෙනි. මෙතෙක් අපට එය ඉටු කර ගත හැකි නොවී නම්, ඒ ගැන ලජ්ජා වීමට දෙයක් නැත. අපි අවංකවම එය පිළිගත යුත්තෙමු.

අප මෙතෙක් ඉටු කර තිබෙන්නේ සමාජවාදී විප්ලවයේ මූලික කර්තව්‍යය පමණකි. ධනපති පංතිය පරාජය කිරීම පමණකි. මේ පටන් ගත්තා අර්ධ වර්ෂය, මුළු ලෝකයේම ධනපතියන් අප විනාශ කිරීම සඳහා අවසාන ප්‍රයත්නය දරන, එනිසා අපට ඉතාමත් දුෂ්කර කාලයක් වන නමුත්, දැනට අපි ඉහත සඳහන් කර්තව්‍යය ඉටු කර සිටින්නෙමු. මෙම අර්ධ වර්ෂයෙන් පසුව, ඔවුන් ගේ ව්‍යාපාරය සම්පූර්ණයෙන්ම අසාර්ථක එකක් බව ඔවුන්ටම වැටහෙනු ඇතැයි කිසිම අතිශයෝක්තියකින් තොරව දැන් අපට කිව හැක. එක්කෝ අප වෙහෙසට පත් වූ අවස්ථාවෙන් ප්‍රයෝජන ගෙන, ඔවුන් දැන් තනිව සිටින රටක් වන අප පරාජයට පත් කරනු ඇත. එසේ නැතහොත්, අපි දිනන්නෙමු. එම ජයග්‍රහණය අපට පමණක් සීමා වූවක් නොවන්නේය. ප්‍රවාහණයේ අර්බුදය නිසා වඩාත් බැරෑරුම් වූ ආහාර අර්බුදයක් පවතින්නාවූත්, පෙරමුණු කීපයකින්ම අපට පහර දීමට අධිරාජ්‍යවාදීන් අර අඳින්නාවූත්, මෙම අර්ධ වර්ෂයේ අපගේ තත්වය ඉතාමත් අසීරුය. එහෙත් මෙය අවසාන අසීරු අර්ධ වර්ෂයය. අපි, අපට විරුද්ධව පහර දෙන බාහිර සතුරාට විරුද්ධව කරන අරගලයේදී, අපගේ සියලුම බලවේග මෙහෙයවා ගැනීම තවදුරටත් කරන්නෙමු.

එහෙත්, දුෂ්කරතාවයන් සියල්ලක්ම මධ්‍යයේ වුවද, අපට ඇති අත්දැකීම් සියල්ලම පාහේ සූරා කන්නන් මර්දනය කිරීමේ හදිසි කර්තව්‍ය ඉටු කිරීම අතර තුර ලබන ලද්දේ වුවද, අප ගම්බද දිස්ත්‍රික්කවල කරන අපගේ වැඩ කටයුතු ගැන කියන කල, මධ්‍යම ගොවියා හා සමග පවත්වන සම්බන්ධකම් විෂයෙහි ගම්බද දිස්ත්‍රික්කවලදී අප අනුගමනය කරන අරමුණු සම්පූර්ණයෙන්ම වෙනස් බව මතක තබා ගත යුතුය. එය කිසිවිටෙක අමතක නොකළ යුතුය.

කල්පනා කාරී කම්කරුවන්, ගොවි ජනයා ඉදිරිපිටට පැමිණ, පොතේ භාෂාවෙන් නොව ගොවිජනයාට වැටහෙන භාෂාවෙන් කථා කළ විට, ගම්බද ජීවිතය ගැන කිසිවක් නොදැන සිටියද, නියෝග දීමේ බලතල පාවිච්චි කරන අණදෙන්නන් වශයෙන් නොව, තත්වයන් ගැන පැහැදිලි



කර දෙමින්, ගොවිජනයාගේ හැඟීම් වෙත ඉලක්ක වූ ආයාචනාවන් කරන සහෝදරවරුන් ලෙස කථා කළ විට, කලින් ඉවත් කිරීමට නොහැකි සේ පෙනුනු වැරදි අවබෝධයන් ගණනාවක් හා බරපතල සේ පෙනීගිය ගැටුම් ගණනාවක් ඉවත් කළ හැකි වූ බව, නැතහොත්, ලිහිල් කළ හැකි වූ බව, කියන නිදර්ශන පෙත්‍රොග්‍රාද්, ඉවානොවො-වොස්නෙසෙන්ස්ක් හා මොස්කව් යන නගරවලින් ගම්බද දිස්ත්‍රික්කවලට ගිය පංති විඥනය ඇති කම්කරුවෝ සියලු දෙනාම අපට විස්තර කළහ. අණ දෙන්නන් ලෙසට හැසුරුණු සිය ගණන් දෙනාට ඉටු කර ගත නොහැකි වූ දේ, ඔවුහු එවැනි සහෝදරාත්මක පැහැදිලි කිරීම් මගින් ඉටු කර ගත්හ.

අප දැන් ඔබ හමුවේ තබන යෝජනාව, එම ජීවගුණයෙන් විනිවිද ගිය එකකි.

මෙම යෝජනාවට අඩිතාලම් වූ ප්‍රතිපත්ති සහ මෙම යෝජනාවේ ඇති පොදු දේශපාලන වැදගත්කම ගැන මගේ කෙටි වාර්තාවෙන් විස්තර කිරීමට උත්සාහ ගත්තෙමි. විප්ලවයේ සමස්තමය අවශ්‍යතාවයන් පිළිබඳ දෘෂ්ටි කෝණය අනුව බලන කල අප ප්‍රතිපත්තියෙහි වෙනසක් කරන්නේ නැති බව, පොදු ක්‍රියාමාර්ගය වෙනස් නොකරන බව පෙන්වීමට මම උත්සාහ කෙළෙමි. එහිදී මගේ ප්‍රයත්නය සාර්ථක විනැයි විශ්වාස කරමි. අප අපගේ ප්‍රතිපත්තිය වෙනස් කරතියි කියා සුදුහමුදුව හා ඔවුන්ගේ සහචරයෝ ඝෝෂා කරති. නැතහොත්, ඝෝෂා කරනු ඇත. ඔවුන් එසේ ඝෝෂා කළාවේ. අපට ඉන් කමෙක් නැත. අපි නොවෙනස් ලෙසම අපගේ ප්‍රතිපත්තිය අනුගමනය කරන්නෙමු. ධනපති පංතිය මර්දනය කිරීමේ අරමුණ කෙරෙන් මධ්‍යම ගොවියාගේ ජීවිතය සකස් කිරීමේ අරමුණට අපගේ අවධානය මාරු කළ යුත්තෙමු. අපි ඔහු සමග සාමයෙන් ජීවත් විය යුත්තෙමු. කොමියුනිස්ට්වාදී සමාජයක මධ්‍යම ගොවීන් අපගේ පැත්ත ගෙන සිටිනු ඇත්තේ, අප ඔවුන්ගේ ආර්ථික තත්වය පහසු කර දියුණු කළ විට පමණකි. හෙට අපට ප්‍රථම පංතියේ ට්‍රැක්ටර් ලක්ෂයක් සැපයිය හැකි නම්, ඒවාට ඉන්ධන සහ නියමුවන් දිය හැකි නම් — වර්තමානයේදී මෙය අපූර්ව සිහිනයක් පමණක් වන බව ඔබ හොඳින් දන්නෙහිය — එවිට මධ්‍යම ගොවියා මෙසේ කියනු ඇත: "මම කොමියුනියාට (එනම්, කොමියුනිස්ට්වාදයට) පක්ෂ වෙමි." නමුත් එසේ කිරීමට හැකි වීම පිණිස, අපි ප්‍රථමයෙන්ම ජාත්‍යන්තර ධනපති පංතිය පරාජය කළ යුත්තෙමු. මෙම ට්‍රැක්ටර් අපට දෙන ලෙස ඔවුනට බල කළ යුත්තෙමු. එසේ නැතහොත්, අපටම ඒවා සැපයිය හැකි වන සේ අපගේ නිෂ්පාදනීය බලවේග සංවර්ධනය කළ යුත්තෙමු. මෙම ප්‍රශ්නය නිවැරදි ලෙස ඉදිරිපත් කළ හැක්කේ ඒ ආකාරයෙන් පමණකි.

ගොවියාට නගරයේ කර්මාන්තය අවශ්‍යය. එය අප අතේ තිබෙන

අතර, ඔහුට එය නොමැතිව ජීවත්විය නොහැකිය. අපි මෙම කර්තව්‍යය හරි ආකාරව ඉටු කිරීමෙහි යෙදෙන්නෙමු නම්, ගොවියාට මෙම නිෂ්පාදිතයන්, මෙම උපකරණ හා මෙම සංස්කෘතිය නගරයෙන් ගෙනවුත් දීම ගැන ඔහු අපට කෘතඥ වනු ඇත. ඒවා ඔහු වෙත ගෙන එන්නෝ සූරාකන්නෝ හා ඉඩම් හිමියෝ නොවෙති. ඔහු උසස් ලෙස අගය කරන ඔහුගේ වැඩ කරන මිත්‍රයෝ වෙති. එහෙත් ගොවියා එම මිතුරන් ගැන අගය කරන්නේ ඔවුන් ඇත්ත වශයෙන් දෙන උදව් අනුවය. එමෙන්ම, ඒ අතරම, ඔහු ඉහළින් එන අධිපති කම් හා ''නියෝග'' ප්‍රතික්ෂේප කරයි. ඔහු එසේ කිරීම ඉතාමත් නිවැරදිය.

ප්‍රථමයෙන් උදව් කර, ඉන් පසුව විශ්වාසය දිනා ගැනීමට උත්සාහ ගන්න. ඔබ මෙම කර්තව්‍යය නිවැරදි ලෙස ඉටු කිරීමෙහි යෙදෙන්නෙහි නම්, අපගේ උයෙස්ද් සහ වොලොස්ට් කණ්ඩායම්වල සිටින සියලු දෙනාමත්, ආහාර ද්‍රව්‍ය එකතු කිරීමේ කණ්ඩායම්වල සියලු දෙනාමත්, ගන්නා සෑම පියවරක්ම, නැතහොත්, අප ගන්නා සෑම පියවරක්ම, මෙම දෘෂ්ටි කෝණයෙන් සුපරීක්ෂාකාරී ලෙස සලකා බලන්නේ නම්, අපට ගොවි ජනයාගේ විශ්වාසය දිනා ගත හැකිය. අපට තව දුරටත් පෙරට යා හැකි වන්නේ එවිට පමණකි. දැන් අප කළ යුත්තේ ඔහුට ආධාර කිරීම හා උපදෙස් දීමය. මෙය අණ දෙන්නෙකුගේ නියෝගයක් නොව, සහෝදරයෙකුගේ උපදේශයක් වනු ඇත. එවිට ගොවියා සම්පූර්ණයෙන්ම අපගේ පැත්ත ගන්නවා ඇත.

සහෝදරවරුනි, අපගේ යෝජනාවෙහි අන්තර්ගතව තිබෙන්නේ මෙයයි. මගේ අදහසේ හැටියට සම්මේලනය තීරණය කළ යුත්තේ මෙයයි. අප මෙය පිළිගත හොත් අපගේ සංවිධාන සියල්ලෙහිම වැඩ කටයුතු ගැන තීරණය කිරීමට මෙය යොදා ගත හොත්, අප ඉදිරියේ තිබෙන දෙවැනි ශ්‍රේෂ්ට කර්තව්‍යය ඉටු කිරීම අපට පුළුවන් වනු ඇත.

ධනපති පංතිය බලයෙන් නෙරපා දමන්නේ හා එය මර්දනය කරන්නේ කෙසේද යන්න අපි උගත්තෙමු. අපි ඒ ගැන ආඩම්බර වන්නෙමු. එහෙත් දශලක්ෂ ගණන් මධ්‍යම ගොවීන් සමග අපගේ සම්බන්ධ කම් විධිමත් කරගන්නේ කෙසේද, ඔවුන්ගේ විශ්වාසය දිනා ගන්නේ කෙසේද යන්න අපි තවමත් උගෙන ගෙන නැත්තෙමු. අපි අවංක ලෙස එය පිළිගත යුත්තෙමු. එහෙත් අපි මෙම කර්තව්‍යය ගැන අවබෝධයක් ඇති කර ගෙන සිටින්නෙමු. අපි මෙම කර්තව්‍යය ඉටු කරන බව, සම්පූර්ණ විශ්වාසයෙන් යුතුව, සම්පූර්ණ අවබෝධයක් හා අධිෂ්ඨානයක් ඇතිව ප්‍රකාශ කරන්නෙමු. එය ඉටු කළ විට, සමාජවාදය ඒකාන්ත වශයෙන්ම අනභිභවනීය වනු ඇත. (දිගටම නැගෙන අත්පොළසන්.)



4

## මධ්‍යම ගොවි ජනයා කෙරෙහි දක්වන ආකල්පය ගැන යෝජනාව

1919 මාර්තු 22 දින සම්මත කරන ලද පක්ෂ වැඩ පිළිවෙළ පදනම් කොට ගත්තාවූද, සමාජවාදී ඉඩම් නිරවුල් කිරීම සහ සමාජවාදී ගොවිතැනට පරිවර්තනය වීම සඳහා පියවරයන් පිළිබඳව සෝවියට් ආණ්ඩුව විසින් දැනට සම්මත කර ඇති නීතියට සම්පූර්ණ සහයෝගය දෙන්නාවූද, අටවැනි සම්මේලනය, ගම්බද පෙදෙස්වල වැඩ කිරීම සම්බන්ධයෙන් අදාළ ප්‍රශ්නයේදී, මධ්‍යම ගොවීන් සම්බන්ධයෙන් වූ පක්ෂ ක්‍රියාමාර්ගය වඩාත් ඒකාන්ත ලෙස අනුගමනය කිරීමත්, ඔවුන්ගේ අවශ්‍යතාවයන් කෙරෙහි වඩාත් සහනදයක ආකල්පයක් දැක්වීමත්, ප්‍රදේශ පාලන අධිකාරීන් තනිකර ස්වාභිමතය අනුව ගන්නා ක්‍රියා මාර්ග නතර කිරීමත්, මධ්‍යම ගොවි ජනයා සමග එකඟත්වයක් ඇති කර ගැනීමට ප්‍රයත්න දැරීමත්, වැදගත් වන බව පිළිගනියි.

1) මධ්‍යම ගොවියා කුලාකයා සමග පටලවා ගැනීමත්, කුලාකයාට විරුද්ධව එල්ල කරන පියවරයන් එක් හෝ තවත් ප්‍රමාණයකින් මධ්‍යම ගොවියාද අසුවන සේ ව්‍යාප්ත කිරීමත්, සෝවියට් ආණ්ඩුවේ සියලුම ආඥා සහ මුළු මහත් ප්‍රතිපත්තිය පමණක් නොව, කොමියුනිස්ට්වාදයේ මූලික ප්‍රතිපත්ති සියල්ලමද බරපතල ලෙස උල්ලංඝනය කිරීමකි. කොමියුනිස්ට්වාදයේ ප්‍රතිපත්ති අනුව සියලු සූරාකෑම අහෝසි කිරීම දක්වා වේදනා රහිත ලෙස පරිවර්තනය වීමක් සඳහා ධනපති පංතිය බලයෙන් නෙරපා දැමීමට නිර්ධන පංතිය ගෙනයන අරගලයේ තීරණාත්මක සමයේදී නිර්ධන පංතිය හා මධ්‍යම ගොවීන් අතර එකඟතාවයක් තිබීම අවශ්‍ය කොන්දේසියක් වන්නේය.

2) ප්‍රධාන ධනපති රටවල පවා කෘෂිකාර්මික ශිල්ප ක්‍රම කාර්මික ශිල්ප ක්‍රමවලට වඩා අඩු දියුණු තත්වයක පවතින හෙයින් — රුසියාවේ ඇත්තේ ඊටත් වඩා නොදියුණු තත්වයකි — සාපේක්ෂ වශයෙන් ශක්තිමත් ආර්ථික මූලයන් ඇතිව සිටින මධ්‍යම ගොවීන්, නිර්ධන පංති විප්ලවය ආරම්භ වීමෙන් පසුවද, බොහෝ කලක් ගත වන තෙක් පවතිනු ඇත. එනිසා ගම්වල සෝවියට් සභා කාරකවරුන්ගේ සහ පක්ෂ කාරකවරුන්ගේ උපක්‍රම සකස් කර ගත යුත්තේ මධ්‍යම ගොවි ජනයා සමග දීර්ඝ කාලයක් සහයෝගයෙන් කටයුතු කිරීම අවශ්‍ය බව සැලකිල්ලට ගනිමිනි.

3) මධ්‍යම ගොවීන් අන්‍යයන්ගේ ශ්‍රමයෙන් ලාභ නොලබන නිසා ඔවුහු සූරා කන්නෝ නොවෙතියි යන විද්‍යාත්මක සමාජවාදයේ

ප්‍රත්‍යක්ෂය ගම්බද පෙදෙස්වල කටයුතු කරන සෑම සෝවියට් කාරකවරයෙක්ම පැහැදිලි ලෙස හා තරයේ ග්‍රහණය කර ගන්නා බවට පක්ෂය කුමණ තත්වයක් යටතේ වුවද වග කිව යුතුය. එවැනි සුළු නිෂ්පාදකයන්ගේ පංතියකට සමාජවාදයෙන් අයහපතක් සිදු විය නොහැකිය. ඊට ප්‍රතිකූල වශයෙන්, ඉතාමත් ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුව යටතේ පවා, දහසක් විවිධාකාර මාර්ගවලින් ඔවුන් සූරාකන ප්‍රාග්ධනයේ වියගස ඉවතට වීසිකිරීමෙන් ඔවුන්ට මහත් වාසියක් සැලසෙනු ඇත.

ඒ අනුව, ගම්බද පෙදෙස්වල නිවැරදි ලෙස ක්‍රියාත්මක කරන ලද සෝවියට් රජයේ ප්‍රතිපත්තිය විසින්, ජයග්‍රාහී නිර්ධන පංතිය සහ මධ්‍යම ගොවි ජනයා අතර සන්ධානයක් හා එකඟත්වයක් ඇති වීම සහතික කෙරේ.

4) සියලුම වර්ගයේ සමූපකාරයන්ට හා මධ්‍යම ගොවීන්ගේ කෘෂිකාර්මික කොමියූනවලට අනුබල දෙන අතර, ඒවා පිහිටුවීමේදී යම්තමින් හෝ බල කිරීම යොදා ගැනීමට සෝවියට් රජයේ නියෝජිතයන් ඉඩ නොදිය යුතුය. සමිතිවල වටිනාකමක් තිබෙන්නේ ඒවා ගොවීන් විසින්ම, ඔවුන්ගේ ක්‍රියාරම්භකත්වයෙන්ම පිහිටුවන ලද හා ඒවායෙන් සිදුවන යහපත ව්‍යවහාරයෙන් ඔප්පු වී ඇති විට පමණකි. මෙම කාරණයේ දී ඉක්මන්කාරීකම නිසා සිදුවිය හැක්කේ, නවීකරණයන්ට විරුද්ධව ගොවීන් අතර පවතින දුර්මත ශක්තිමත් වීම පමණක් හෙයින්, එයින් සිදුවන්නේ හානියකි.

ගොවීන් කොමියූන තුළට ගෙන ඒම සඳහා කෙළින්ම පමණක් නොව, වක්‍ර ආකාරයෙන් වුවද, බල කිරීම යොදා ගැනීමට යොමු වන සෝවියට් රජයේ නියෝජිතයින්ට සමාවක් නොදී ඒ ගැන තදින් කටයුතු කර, ඔවුන් ගම් පෙදෙස්වල කටයුතුවලින් ඉවත් කළ යුතුය.

5) හිතුවක්කාර අත්කර ගැනීම්, නැතහොත්, මධ්‍යම අධිකාරියෙන් නිකුත් කරන ලද නීතිවල ප්‍රතිපාදනයන්ට හරියටම නොගැලපෙන අත්කර ගැනීම් සියල්ල සම්බන්ධයෙන් වගකිව යුත්තන්ට අනුකම්පා විරහිතව දඬුවම් කළ යුතුය. මෙම ක්ෂේත්‍රය විෂයෙහි ක්‍රියාත්මක කෙරෙන, කෘෂිකර්මාන්තය පිළිබඳ මහජන කොමිසාර් අංශයෙහිත්, අභ්‍යන්තර කටයුතු පිළිබඳ මහජන කොමිසාර් අංශයෙහිත්, එසේම, සමස්ත රුසියා මධ්‍යම විධායක කාරක සභාවෙහිත් පාලනය ශක්තිමත් කරන ලෙස සම්මේලනය බල කරයි.

6) ධනපතියන්ගේ කොල්ලකාරී උවමනාවන් ඉටු කිරීම සඳහා කරන ලද සතර අවුරුද්දක අධිරාජ්‍යවාදී යුද්ධය නිසා වර්තමාන වකවානුවේදී ලෝකයේ සියලුම රටවල ඇතිවී තිබෙන ඉතාමත් අවුල් වියවුල් සහිත තත්වය විශේෂයෙන්ම රුසියාවේ ඉතාමත් තියුණු වී තිබෙන අතර,



එම තත්වය නිසා මධ්‍යම ගොවියා ඉතාමත් දුෂ්කර තත්වයකට පත්වේ.

මේ ගැන සැලකිල්ලක් දැක්වූ සෝවියට් ආණ්ඩුව, එහි හදිසි අවස්ථා බද්ද පිළිබඳ නීතිය පැනවීමේදී, ලෝකයේ සියලුම ධනපති ආණ්ඩුවලට වඩා වෙනස් මගක් ගනිමින් එම බද්දෙහි මුළු බරම කුලාකයන් මත, යුද්ධ කාලයේදී ධනය රැස් කර ගත් ගොවීන් අතරවූ ඒ සුළු පිරිස මත දැමීම ගැන අවධාරණය කර ඇත. මධ්‍යම ගොවීන්ගෙන් බදු අය කළ යුත්තේ ඉතා සුළු වශයෙනි. අය බදු මුදල සම්පූර්ණයෙන්ම ඔවුන්ගේ වත් කමට අනුකූල විය යුතු අතර, ඔවුනට බරක් නොවිය යුතුය.

කෙසේ වුවද, හදිසි අවස්ථා බද්ද එකතු කිරීමේදී මධ්‍යම ගොවීන් කෙරෙහි ලිහිලක් දැක්විය යුතු බවත්, එකතු කරන මුළු බද්ද අඩු වීමට එය හේතු වුවත්, එම ලිහිල දැක්විය යුතු බවත් පක්ෂය නියම කරයි.

7) මධ්‍යම ගොවීන්ට ප්‍රධාන කොටම නාගරික කර්මාන්තවල නිෂ්පාදිත සම්පාදනය කිරීමෙන්ද, විශේෂයෙන්ම, කෘෂිකර්මාන්තයේ කර්යක්ෂමතාවය වර්ධනය කිරීමට හා වැඩ කරන ගොවීන්ගේ වැඩ හා ජීවන මට්ටම උසස් කිරීමට අදාළ වන වැඩි දියුණු කෘෂිකාර්මික උපකරණ, බීජවර්ග හා විවිධ භාණ්ඩ සම්පාදනයෙන්ද සෝවියට් රාජ්‍යය ගොවීනට පුළුල්තම ලෙස ආධාර කළ යුතුය.

වර්තමාන ආර්ථික ව්‍යසනය නිසා මෙම පියවරයන් සියල්ල වහාම හා සම්පූර්ණයෙන්ම ක්‍රියාත්මක කිරීම වැලකේ නම්, මෙම දුෂ්කර අවස්ථාවේදී දුප්පත් සහ මධ්‍යම ගොවීනට සහයෝගය දැක්වීම සඳහා කිසියම් හෝ ආධාරයක් කිරීමට තිබෙන සියලුම මාර්ගයන් ගැන සොයා බැලීම සියලුම ප්‍රාදේශීය සෝවියට් සභාවල යුතුකම වන්නේය. මේ සඳහා විශාල රාජ්‍ය අරමුදලක් ඇති කළ යුතු බව පක්ෂය අදහස් කරයි.

8) අසල් වැසි මධ්‍යම ගොවීනට වහාම හා සකල විධ ලෙස ආධාර කරන සේ රජයේ ගොවිපල වලට, කෘෂිකාර්මික කොමියූනවලට හා එවැනි වෙනත් සමිතිවලට නියම කරමින් සෝවියට් ආණ්ඩුව නිකුත් කර තිබෙන නීතිය, නියම හා සම්පූර්ණ වශයෙන් ක්‍රියාත්මක කරනු සඳහා, විශේෂ ප්‍රයත්නයක් දැරිය යුතුය. මධ්‍යම ගොවීන් සමග එකඟත්වයක් ඇති කර ගත හැක්කේ, එසේ සැබෑ ලෙස කරන ආධාර පදනම් කරගෙන පමණකි. ඔවුන්ගේ විශ්වාසය දිනා ගත හැක්කේ, දිනා ගත යුත්තේ, මේ ආකාරයෙන් පමණකි.

පක්ෂ වැඩ පිළිවෙළෙහි ගොවිජනයා පිළිබඳ කොටසේ එන පහත සඳහන් සියලුම කරුණු වහාම ක්‍රියාත්මක කිරීමේ අවශ්‍යතාවය ගැන මෙම සම්මේලනය පක්ෂ කාරකවරුන් සියලු දෙනාගේම අවධානය යොමු කරයි.

අ) ගොවීන්ගේ ඉඩම් උපයෝගිතාවය ක්‍රමවත් සේ හැසිරවීම (විසිරී ගිය ඉඩම් කැබලි, විවෘත ඉඩම් ක්‍රමය ආදිය නැති කිරීම); ආ) ගොවි ජනයාට වැඩි දියුණු බීජ හා කෘත්‍රිම පෝර සැපයීම; ඇ) ගොවි ජනයා ඇති කරන සතුන් වර්ගයෙන් දියුණු කිරීම; ඈ) ශස්‍ය විද්‍යා දැනුම දියුණු කිරීම; ඉ) ගොවි ජනයාට ශස්‍ය විද්‍යා ආධාර දීම; ඊ) සෝවියට් සභාවලට අයත් අළුත් වැඩියා කම්හල් මගින් ගොවි ජනයාගේ ගොවිපල් උපකරණ අළුත්වැඩියා කරදීම; උ) උපකරණ කුලියට සැපයීමේ මධ්‍යස්ථාන, පර්යේෂණ ස්ථාන, ආදර්ශ කෙත් වතු ආදිය සංවිධාන කිරීම; ඌ) ගොවි ජනයාගේ ඉඩම් වැඩි දියුණු කිරීම.

9) කෘෂිකාර්මික නිෂ්පාදනය වැඩි කිරීම හා විශේෂයෙන්ම ගොවිපල් නිෂ්පාදිත පිරියත් කිරීම, ගොවිජනයාගේ ඉඩම් වැඩි දියුණු කිරීම, හස්ත කර්මාන්තවලට ආධාර දීම ආදිය අරමුණු කරගත් සමූපකාර සමිතිවලට මුදල් හා සංවිධාන යන දෙආකාරයේම ආධාර පුළුල් ලෙස රජයෙන් සැපයිය යුතුය.

10) පක්ෂයේ තීරණ හෝ සොවියට් රජයේ ආඥා හෝ මධ්‍යම ගොවි ජනයා සමග එකඟත්වයක් ඇති කර ගැනීමේ ක්‍රියාමාර්ගයෙන් කිසි කලෙකත් බැහැර නොගිය බව, මෙම සම්මේලනය අදළ සියලු දෙනාටම මතක් කරයි. නිදර්ශනයක් වශයෙන් ගම්බද පෙදෙස්වල සෝවියට් බලය සංවිධානය කිරීම සම්බන්ධයෙන් මූලික කරුණ පිළිබඳව, මහජන කොමිසාර් මණ්ඩලයේ සභාපතිගේ හා ආහාර පිළිබඳ මහජන කොමිසාර්ගේද අත්සනින් යුතුව නිකුත් කරන ලද චක්‍රලේඛ ලිපියක දුප්පත් ගොවි කාරක සභා පිහිටුවීම ගැන සඳහන් කරමින්, ඒවාට මධ්‍යම ගොවීන්ගේ නියෝජිතයන් ඇතුළත් කිරීමේ අවශ්‍යතාවය පෙන්වා දී තිබුණේය. දුප්පත් ගොවි කාරක සභා අහෝසි කළ අවස්ථාවේ, වොලොස්ට් සෝවියට් සභාවලට මධ්‍යම ගෙවීන්ගේ නියෝජිතයන් ඇතුළත් කිරීමේ අවශ්‍යතාවය සමස්ත රුසියා සෝවියට් සභා සම්මේලනය විසින් පෙන්වා දෙන ලදී. අනාගතයේදී ද, කම්කරුවන්ගේ හා ගොවීන්ගේ ආණ්ඩුවෙහිත්, කොමියුනිස්ට් පක්ෂයෙහිත් ප්‍රතිපත්තිය නිර්ධන පංතිය සහ එක් අතකින් දුප්පත් ගොවි ජනයාද, අනිත් අතින් මධ්‍යම ගොවි ජනයාද අතර වන එකඟත්වය පිළිබඳ ජීව ගුණයෙන් විනිවිද ගිය එකක් විය යුතුය.

1919 මාර්තු 22, 25 හා අප්‍රියෙල් 1, 2 දිනවලදී ප්‍රාව්දා අංක 62, 64, 70, 71 හි පළ කරන ලදී

වි. අයි. ලෙනින්,
සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 38, පිටු 151–173, 174–184, 187–205,207–210

# නැගෙනහිර පෙරමුණේ තත්වය ගැන රුසියානු කොමියුනිස්ට් (බොල්ෂෙවික්) පක්ෂයේ ප්‍රවාද

නැගෙනහිර පෙරමුණේ කොල්චාක් ලබන ජයග්‍රහණ නිසා සෝවියට් සමූහාණ්ඩුවට අතිශයින් දරුණු අන්තරායක් එල්ල වන්නේය. එනිසා කොල්චාක් සුන් කිරීම සඳහා වූ අපගේ ව්‍යායාමයන් උපරිමය දක්වා උත්සන්න කළ යුතුය.

ඒ අනුව පක්ෂ සංවිධාන සියල්ලෙහිම ප්‍රයත්නයන් මූලික හා ප්‍රධාන වශයෙන් පහත සඳහන් පියවරයන් ඉටු කිරීමෙහිලා යොමු කරන ලෙස මධ්‍යම කාරක සභාව ඒවාට නියම කරයි. පක්ෂ සංවිධානත්, විශේෂයෙන්ම වෘත්තීය සමිතිත්, ක්‍රියාශීලී ලෙස රට ආරක්ෂා කිරීම සඳහා කම්කරු පංතියේ කම්කරු කොටස් බඳවා ගනුවස් මෙම පියවරයන් ක්‍රියාත්මක කළ යුතුය.

1. 1919 අප්‍රියෙල් 11 දින අණ කරන ලද පරිදි සේනා සංවිධානය කිරීම සඳහා සෑම ආකාරයකින්ම ආධාර කිරීම.

මහජන කොමිසාර් මණ්ඩලයේ 1919 අප්‍රියෙල් 10 දින ආඥාවෙන් නියම කරන ලද පරිදි සේනා සංවිධානය කිරීම සඳහා මීළඟ දින කීපයේදීම, කිසිම ප්‍රමාදයක් නැතිව හා ඉතාමත් ශක්තිමත් ලෙස ආධාර කරනු වස් පක්ෂයේ සහ වෘත්තීය සමිතිවල සියලුම බලවේගයන් ක්‍රියාකාරී කළ යුත්තේය.

හමුදාවට බැඳුනු අයට එක්වරම වෘත්තීය සමිතිවල කාර්යශීලී සහභාගිත්වය පෙනී යන ලෙසට හා ඔවුන්ට කම්කරු පංතියේ ආධාරය ලැබෙන බව හැඟී යන ලෙසට කටයුතු කිරීමට වග බලා ගත යුතුය.

හමුදාවට බැඳුනු අයෙක් වහාම පෙරමුණ වෙත යාමෙන් ඔහුගේ ආහාර තත්වය වැඩි දියුණු වීමක් අදහස් වන බව එම සෑම පුද්ගලයෙකුටම විශේෂයෙන් පැහැදිලි කර දිය යුතුය. ප්‍රථමයෙන්, ධාන්‍ය නිපදවන පෙරමුණු ප්‍රදේශයේ සොල්දාදුවන්ට වඩා හොඳ සලාකයක් ලැබෙන

නිසාද, දෙවැනිව, සාගින්න පවතින ගුබෙර්නියා ප්‍රදේශවලට ගෙන එන ආහාර ද්‍රව්‍ය බෙද දෙන්නට සිදුවන්නේ අඩුවූ පිරිසක් අතර වන නිසාද, තුන්වැනිව, පෙරමුණු ප්‍රදේශවල සිටින රතු හමුද භටයන් විසින්, ගම්වල සිටින ඔවුන්ගේ පවුල්වලට ආහාර පැකට් යැවීම පුළුල් ලෙස සංවිධාන වී තිබීම නිසාද, ඔවුන්ගේ ආහාර තත්වය වැඩි දියුණු වේ.

හමුද සංවිධාන කිරීමට සහ හමුදවලට බැඳුන අයට ආධාර කිරීම සඳහා කර තිබෙන කටයුතු ගැන කොතරම් කෙටියෙන් හෝ සති පතා වාර්තාවක් සපයන ලෙස මධ්‍යම කාරක සභාව සෑම පක්ෂ සංවිධානයකින්ම සහ වෘත්තීය සමිති සංවිධානයකින්ම අපේක්ෂා කරයි.

2. පෙරමුණු ප්‍රදේශවල, විශේෂයෙන්ම වොල්ගා අසබඩ ප්‍රදේශයේ වෘත්තීය සමිති සාමාජිකයන් සියලු දෙනාම, එක් පුද්ගලයෙකු හෝ නොහැර, ආයුධ සන්නද්ධව සිටිය යුතුය. ආයුධ හිඟයක් තිබෙන තන්හි රතු හමුදවට හැකි හැම ආකාරයෙන්ම ආධාර දීම, සටනෙහි දී තුවාල ලබන හෝ නැසෙන හෝ අයගේ තැන ගැනීම, ආදිය සඳහා ඔවුන් සියලු දෙනාම සංවිධාන කළ යුතුවේ.

ස්වකීය සාමාජිකයින්ගෙන් සියයට පණහක් හමුදවට බැන්දවීමට පක්‍රොව්ස්ක් නගරයේ වෘත්තීය සමිති තමන්ම තීරණය කර ඇත. එම නගරය ආදර්ශයක් සේ ගත යුතුය. ප්‍රධාන නගර සහ විශාල කාර්මික මධ්‍යස්ථාන පක්‍රොව්ස්ක් නගරයට දෙවැනි විය යුතු නොවේ.

ගම් ප්‍රදේශවල කටයුතු සඳහා නැතිවම බැරි නොවන අය සියලු දෙනාම වොල්ගා සහ උරාල් ප්‍රදේශ සඳහා සටන් කිරීමට යවනු හැකි වීම පිණිස, සෑම තැනෙකම වෘත්තීය සමිති තමන්ගේම බලවේගයන් හා මාධ්‍යයන් උපයෝගි කර ගනිමින්, තමන්ගේ සාමාජිකයන් ගණන් ගෙන ලියා පදිංචි කළ යුතුය.

3. උද්ඝෝෂණ කටයුතු උත්සන්න කිරීම ගැන ඉතාමත් බරපතල අවධානයක් යොමු කළ යුතුය. විශේෂයෙන්ම, යුද්ධ හමුදවලට බඳවා ගැනීමට සිටින අය, බඳවා ගත් අය හා රතු හමුද භටයන් අතර එම කටයුතු උත්සන්න කළ යුතුය. සාමාන්‍ය උද්ඝෝෂණ විධික්‍රම වන දේශන, රැස්වීම් ආදිය මෙහිදී ප්‍රමාණවත් නොවේ. කම්කරුවන් තනි තනිව, නැතහොත් කණ්ඩායම් වශයෙන් රතු හමුද භටයන් අතර උද්ඝෝෂණය ගෙන යා යුතුය. වෘත්තීය සමිති සාමාජිකයන් වන එවැනි කම්කරු කණ්ඩායම් විශේෂිත වශයෙන් බැරැක්කවලට, රතු හමුද කණ්ඩායම්වලට හා පැක්ටරිවලට පත් කළ යුතු වේ. ස්වකීය සාමාජිකයන් එක් අයෙක් හෝ නොහැර ගෙයින් ගෙට යමින් උද්ඝෝෂණය කිරීම, පත්‍රිකා බෙද දීම හා පෞද්ගලික කථාවල යෙදීම කරන බවට වග බලා ගැනීමට, ඒවා පරීක්ෂා කටයුතු වල යෙදෙනු යුතුය.



4. කාර්යාලවල වැඩ කරන සියලුම පිරිමි සේවකයන් වෙනුවට කාන්තාවන් පත් කළ යුතුය. එම අරමුණ ඇතිව පක්ෂ සහ වෘත්තීය සමිති යන සංවිධාන දෙකම මගින් නව ලියාපදිංචි කිරීමක් කළ යුතුය.

සියලුම වෘත්තීය සමිති සාමාජිකයන් හා කාර්යාල සේවකයන් රතු හමුදවට ආධාර කිරීම පිණිස පුද්ගලිකව ඉටු කරන කාර්ය කොටස ද දක්වමින් ඔවුන්ට විශේෂ අළුත් කාඩ් පත් දිය යුතුය.

5. වෘත්තීය සමිති, පැක්ටරි කාරක සභා, පක්ෂ සංවිධාන, සමූපකාර සමිති ආදිය මගින් ආධාර කාරක සභා නැතහොත් සටන් කාරක සභා වහාම ප්‍රාදේශීය හා මධ්‍යම මට්ටමෙන් පිහිටුවීමට කටයුතු කළ යුතුය. ඒවායේ ලිපිනය ප්‍රසිද්ධ කළ යුතුය. හැකි තරම් පුළුල් ආකාරයෙන් මහ ජනයාට ඒවා ගැන දැනුම් දිය යුතුය. ආධාර කාරක සභාවක්, නැතහොත් සටන් කාරක සභාවක් නුදුරේ තිබෙන බව, හමුදවට බැඳීමට සිටින සෑම පුද්ගලයෙකුටම, සෑම රතු හමුද භටයෙකුටම සහ ආහාර සම්පාදන වැඩ සඳහා දකුණට, දොන් නැතහොත් උක්‍රේනියා ප්‍රදේශයට යාමට කැමති සෑම කෙනෙකුටම දැන ගත හැකි විය යුත්තේය. සෑම කම්කරුවෙකුටම හා ගොවියෙකුටම එය වෙත යාහැකි බවත්, එහිදී උපදෙස් හා නිර්දේශ ලබාගත හැකි බවත්, යුද්ධ හමුද අධිකාරීන් සමග සම්බන්ධකම් ඇති කර ගැනීමට එය පහසුකම් සලසන බවත් යනාදිය ඔහුට දැනගත හැකි විය යුත්තේය.

රතු හමුදවට ආධාර දීම සහ එයට බඩු භාණ්ඩ සැපයීම මෙම කාරක සභාවල කර්තව්‍යය වන්නේය. ජනගහනය අතර තවමත් සැලකිය යුතු ප්‍රමාණයක් ආයුධ ඇත. ඒවා එක්කෝ සඟවා තබාගෙන නැතහොත් රතු හමුදවේ ප්‍රයෝජනයට නොයොද ඇත. රතු හමුදවට අවශ්‍ය තවත් විවිධ වර්ගවල පැක්ටරි භාණ්ඩ තොග සැලකිය යුතු ප්‍රමාණයක් ඇත. ඒවා වහාම සම්පාදනය කරගෙන පෙරමුණට යැවිය යුතුව තිබේ. භාණ්ඩ සම්පාදනය භාරව කටයුතු කරන යුද්ධ හමුද සංවිධානවලට පොදු මහජනතාවගේ අප්‍රමාද, පුළුල් සහ සාර්ථක ආධාර දිය යුතුවේ. මෙම කරුණ සම්බන්ධයෙන් සෑම පරිශ්‍රමයක්ම යෙදිය යුත්තේය.

6. රතු හමුද පිරිස් වලට, ආහාර කණ්ඩායම් පිහිටුවීමට සහ දොන් සහ උක්‍රේනියා ආහාර හමුදවලට ගොවි ජනයා බඳවා ගැනීම වෘත්තීය සමිති විසින් සංවිධානය කළ යුතුය. කෘෂිකාර්මික නොවන ගුබෙර්නියා ප්‍රදේශවල ගොවි තරුණයන් බඳවා ගැනීමට විශේෂයෙන්ම කටයුතු සංවිධානය කළ යුතුය.

මෙම කටයුතු එහි වර්තමාන පරිමාණය මෙන් කීප ගුණයක් පුළුල් කළ යුතුය. ප්‍රධාන නගරවල සහ කෘෂිකාර්මික නොවන ගුබෙර්නියා

ප්‍රදේශවල සාගින්නෙන් පෙළෙන ජනගහනයට ආධාර කිරීමටත්, රතු හමුදාව ශක්තිමත් කිරීමටත් මෙය ආධාරකාරී වේ.

7. මෙන්ෂෙවික්වරුන් සහ සමාජවාදී-විප්ලවවාදීන් සම්බන්ධයෙන් වූ කළ වර්තමාන තත්වය යටතේ පක්ෂය අනුගමනය කරන ප්‍රතිපත්තිය වන්නේ, දැන හෝ නොදැන කොල්චාක්ට ආධාර කරන්නවුන් සියලු දෙනාම සිරභාරයේ තැබීමය. කොල්චාක්ට විරුද්ධව ක්‍රියාවෙන් ආධාර නොකරන කිසිවෙක් අපගේ සමූහාණ්ඩුව තුළ සිටීම වැඩ කරන ජනතාව නොඉවසනු ඇත. මෙන්ෂෙවික්වරුන් සහ සමාජවාදී-විප්ලවවාදීන් අතර, අපට එවැනි ආධාර කිරීමට කැමති අය සිටිති. මෙම මිනිසුන් උනන්දු කරවා, ඔවුන්ට ප්‍රායෝගික වැඩ භාර දිය යුතුවේ. විශේෂයෙන් රතුහමුද පසුමුණෙහි තාක්ෂණික ආධාර දීමට අදාළ වැඩට ඔවුන් යෙදිය යුතුය. එමෙන්ම ඔවුන් කරන වැඩ දැඩි පරීක්ෂාවට භාජනය කළ යුතුය.

පැරණි අච්චුවේ ක්‍රමවලට පමණක් සීමා වී නොසිට විප්ලවකාරී ආකාරයෙන් වැඩ කිරීමට පටන් ගන්නා ලෙස මධ්‍යම කාරක සභාව සියලු පක්ෂ සංවිධානවලට සහ සියලු වෘත්තීය සමිතිවලට ආයාචනා කරයි.

කොල්චාක් පරාජය කිරීම අපට කළ හැකිය. අපට කල් නොයවාම අවසාන ජයග්‍රහණය ලැබිය හැකි වනු ඇත. දකුණේදී අප ලබන ජයග්‍රහණයන්ද, ජාත්‍යන්තර තත්වය දිනපතාම වැඩි දියුණු වෙමින් එය අපේ වාසියට හේතුවන පරිදි වෙනස් වීමද, නිසා අපගේ අවසාන ජයග්‍රහණය සහතික වන්නේය.

අපි සෑම පරිශ්‍රමයක්ම දැරිය යුත්තෙමු. අපි විප්ලවවාදී ශක්තිය පෑ යුත්තෙමු. එවිට කොල්චාක් සීඝ්‍ර ලෙස පරාජය වනු ඇත. වොල්ගා, උරල් හා සයිබීරියා ප්‍රදේශ ආරක්ෂා කළ යුතුය, ආපසු දිනා ගත යුතුය. එය කළ හැකිය.

රුසියානු කොමියුනිස්ට් (බොල්ෂෙවික්)
පක්ෂයේ මධ්‍යම කාරක සභාව

1919 අප්‍රියෙල් 11 දින ලියන ලදී

සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 38, පිටු 271–274

# හංගේරියානු කම්කරුවන්ට ශුභ පැතුම්

සහෝදරවරුනි, හංගේරියානු සෝවියට් නායකයන්ගෙන් අපට ලැබී ඇති තොරතුරු නිසා අප උද්‍යෝගයෙන් සහ ප්‍රීතියෙන් පිණා යයි. මේ වන විට හංගේරියාවේ සෝවියට් ආණ්ඩුව පැවත ඇත්තේ මාස දෙකකට වඩා සුළු කාලයකි. නමුත් හංගේරියානු නිර්ධන පංතිය සංවිධානාත්මක භාවය අතින් දැනටමත් අප අභිභවා ගොස් සිටින බව පෙනේ. එය පුදුමයට කරුණක් නොවේ. එයට හේතුව හංගේරියානු ජනගහනයේ සාමාන්‍ය සංස්කෘතික මට්ටම වඩාත් උසස් තත්වයක පැවතීමය. එපමණක්ද නොවේ. එහි මුළු ජනගහනය හා සමග සසඳන කළ කාර්මික කම්කරුවන්ගේ අනුපාතයද බෙහෙවින් වැඩිය. (අද හංගේරියාවේ සිටින අසූ ලක්ෂයක් ජනගහනයෙන් තිස් ලක්ෂයක්ම බුඩාපෙස්ට් නගරයේ වෙසෙති.) තවද, අවසාන වශයෙන් හංගේරියාව සෝවියට් ක්‍රමයට, එනම්, නිර්ධන පංති ආඥාදායකත්වයට පරිවර්තනය වීම, අප රටට වඩා ඉතා පහසු හා ඉතා සාමකාමී ලෙස සිදු වී ඇත.

මෙය විශේෂයෙන්ම වැදගත් කරුණකි. සමාජ-ජාත්‍යාන්මාදවාදී සහ කෞට්ස්කිවාදී යන උපනති දෙකටම අයත් යුරෝපීය සමාජවාදී නායකයන් බහුතරය, සාපේක්ෂ වශයෙන් "සාමකාමී" වූ ධනපති ක්‍රමය හා ධනපති පාර්ලිමේන්තු ක්‍රමය විසින් දශක ගණන් තිස්සේ පෝෂණය කරන ලද තනිකරම අමනවාදී දුර්මතයන්ට කොතරම් දුරට ගොදුරු වූවෝද යත්, සෝවියට් බලය හා නිර්ධන පංති ආඥාදායකත්වය යන්නෙන් අදහස් වන්නේ කුමක්දැයි වටහා ගැනීමට අපොහොසත් වූහ. නිර්ධන පංතිය මෙම නායකයන් තමන්ගේ මාර්ගයෙන් ඉවත් නොකරන්නේ නම්, එය තමන්ගේ මාර්ගයෙන් ඔවුන් අතුගා ඉවත නොලන්නේ නම්, එයට තමන්ගේ යුග නිර්මාණක විමුක්තිදායක මෙහෙය ඉටු කළ හැකි නොවෙනවා ඇත. මේ මිනිස්සු, රුසියාවේ සෝවියට් බලය ගැන

ධනපතියන් විසින් කියන ලද බොරු විශ්වාස කළහ. නැතහොත් අර්ධ වශයෙන් විශ්වාස කළහ. එනිසා, ඔවුන් වන්දනාමාන කළ සහ ''පිරිසිදු ප්‍රජාතන්ත්‍රවාදය'', නැතහොත්, ''සාමාන්‍ය ප්‍රජාතන්ත්‍රවාදය'' යනුවෙන් හැඳින්වූ ධනපති ප්‍රජාතන්ත්‍රවාදයත්, සෝවියට් ආණ්ඩුව තුළ ගැබ්වූ වැඩ කරන ජනතා ප්‍රජාතන්ත්‍රවාදයේ, නැතහොත්, සමාජවාදී ප්‍රජාතන්ත්‍රවාදයේ ස්වභාවයත් අතර වෙනස හඳුනාගැනීමට ඔවුහු අපොහොසත් වූහ.

ධනපති ප්‍රජාතන්ත්‍රවාදයේ සිට නිර්ධන පංති ප්‍රජාතන්ත්‍රවාදය දක්වා ද, ධනපති ආඥාදායකත්වයේ සිට නිර්ධන පංති ආඥාදායකත්වය දක්වාද යමින් කරන ලද යුග නිර්මාණක වෙනස වටහා ගැනීමට, මෙම අන්ධ හා ධනපති දුර්මතවලින් බැඳුනු මිනිස්සු අපොහොසත් වූහ. ඔවුහු රුසියානු සෝවියට් ආණ්ඩුවේ, නැතහොත්, රුසියාවේ සංවර්ධන ඉතිහාසයේ යම් යම් අංග ලක්ෂණත්, ජාත්‍යන්තර ප්‍රපංචයක් වූ සෝවියට් ආණ්ඩුවත් එකට පටලවා ගත්හ.

හංගේරියානු නිර්ධන පංති විප්ලවය අන්ධයන්ට වුවද කරුණු දැක ගැනීමට ආධාරකාරී වන්නේය. හංගේරියාවේ නිර්ධන පංති ආඥාදායකත්වයට පරිවර්තනය වීමේ ආකෘතිය රුසියාවට වඩා මුළුමනින්ම වෙනස් විය: එහි ධනපති ආණ්ඩුව ස්වකැමැත්තෙන් ඉල්ලා අස් විය. කොමියුනිස්ට් වැඩ පිළිවෙළක් පදනම් කරගෙන කම්කරු පංති සමගිය, ක්ෂණිකවම ඇති විය. සෝවියට් බලයේ ස්වභාවය දැන් තවත් පැහැදිලිව පෙනේ: දැන් ලෝකයේ ඕනෑම තැනක තිබිය හැකි, කම්කරු පංතියේ හා එහි නායකත්වය දරන නිර්ධන පංතියේ ආධාරය ලබන එකම පාලන ආකෘතිය විය හැක්කේ සෝවියට් පාලනයයි, නිර්ධන පංති ආඥාදායකත්වයයි.

සූරාකන්නන්ගේ, ධනපතියන්ගේ, ඉඩම් හිමියන්ගේ සහ ඔවුන්ගේ බැලයන්ගේ ප්‍රතිරෝධනය මර්දනය කිරීම සඳහා නිර්දය සේ තදින්, වේගයෙන් හා අධිෂ්ඨානයෙන් බලහත්කාරය යොදාගැනීම මෙම ආඥාදායකත්වයෙන් කල් තබාම අදහස් වේ. මෙය නොවැටහෙන කෙනෙක් වේ නම් හේ විප්ලවවාදියෙක් නොවේ. එනිසා ඔහු නිර්ධන පංතියේ නායක නැතහොත් උපදේශක තනතුරෙන් ඉවත් කළ යුත්තේ වෙයි.

නමුත් නිර්ධන පංති ආඥාදායකත්වයේ සාරාර්ථය බලහත්කාරය පමණක් නොවේ. බලහත්කාරය එහි ප්‍රධාන අංගය ද නොවේ. එහි මූලික අංග ලක්ෂණය වන්නේ වැඩ කරන ජනතාවගේ ඉදිරි සේනාංකයෙහි, ඔවුන්ගේ පෙරමුණු බල ඇණියෙහි, ඔවුන්ගේ එකම නායකයාගේ එනම්, නිර්ධන පංතියේ සංවිධානය හා විනය යි. එහි අරමුණ වන්නේ සමාජවාදය ගොඩ නැගීම, සමාජයේ පංති බෙදීම අහෝසි කිරීම, සමාජයේ සියලුම සාමාජිකයන් වැඩ කරන ජනයා බවට පත් කිරීම සහ මිනිසා විසින් මිනිසා සූරා කෑමේ පදනම ඉවත් කිරීම ය. මෙම අරමුණ එක පහරින් සාර්ථක





කර ගත හැක්කේ නොවේ. ඒ සඳහා ධනපති ක්‍රමයේ සිට සමාජවාදී ක්‍රමයට යන තරමක් දීර්ඝ පරිවර්තනයක් අවශ්‍ය වේ. එසේ වන්නේ, නිෂ්පාදනය ප්‍රතිසංවිධානය කිරීම දුෂ්කර කාරියක් වන හෙයිනි. ජීවිතයේ ක්ෂේත්‍ර සියල්ලෙහිම මූලික වෙනස්කම් කිරීමට කාලය අවශ්‍ය හෙයිනි. සුළු ධනපති හා ධනපති ආකාරයෙන් කටයුතු කිරීමේ පුරුද්දෙහි බලය පරාජය කළ හැක්කේ දීර්ඝ සහ දැඩි අරගලයක් කිරීමෙන් පමණක් වන හෙයිනි. ධනපති ක්‍රමයේ සිට සමාජවාදී ක්‍රමයට පරිවර්තනය වීමේ කාල පරිච්ඡේදය වශයෙන් නිර්ධන පංති ආඥාදායකත්වයේ මුළු කාල පරිච්ඡේදයක් ගැන මාක්ස් සඳහන් කළේ එහෙයිනි.[110]

මෙම පරිවර්තනීය කාල පරිච්ඡේදය මුළුල්ලේම ධනපතියන් හා ඔවුන් පිරිවරාගත් නිමක් නැති ධනපති බුද්ධිමතුන් විඥාත ලෙසද, සුළු ධනපති සිරිත් හා සම්ප්‍රදායයන් කෙරෙහි තදින් බැඳුනු ගොවිජනතාව ඇතුළු විශාල වැඩ කරන ජන කොටස් බොහෝ කොටම අවිඥාත ලෙසද විප්ලවයට ප්‍රතිරෝධය දක්වනු ඇත. මෙම ජනයා අතර වැනෙනසුලු භාවය පැවතීම වැළැක්විය හැකි නොවේ. සෑම වැඩ කරන මිනිසෙක්ම මෙන් ගොවියාද සමාජවාදය දෙසට නැඹුරු වන්නේය. ඒ අනුව ඔහු ධනපති ආඥාදායකත්වයට වඩා කම්කරු ආඥාදායකත්වයට කැමති වන්නේය. නමුත් ධාන්‍ය අලෙවි කරන්නෙක් ලෙසට ගොවියා ධනපති පංතිය දෙසට, වෙළඳාම් කිරීමේ නිදහස, නැතහොත්, ''සුපුරුදු'', පැරණි, ''කලක් තිස්සේ සම්මානලත්'' ධනපති ක්‍රමය දෙසට නැඹුරු වන්නේය.

නිර්ධන පංතියට පොදු වශයෙන් ගොවි ජනතාව සහ සුළු ධනපති කණ්ඩායම් මෙහෙයවා ගත හැකි වීම පිණිස අවශ්‍ය වන්නේ නිර්ධන පංති ආඥාදායකත්වයය. එනම්, එක පංතියක පාලනයය. එහි සංවිධානයේ සහ විනයේ ශක්තියය. ධනපති ක්‍රමය අත්කරගත් සියලුම සංස්කෘතික, විද්‍යා සහ කාර්මික ශිල්පීය ජයග්‍රහණ පදනම් කරගත් නිර්ධන පංතියේ මධ්‍යගත බලයය. සෑම වැඩ කරන මිනිසෙකුගේම හැඟීමට එහි ඇති නිර්ධන පංති සමීපතාවයය. දේශපාලනයෙහි දී දැඩි තත්වයක් නොගන්නා ගම්බද පෙදෙස්වල, නැතහොත්, සුළු කර්මාන්තවල සිටින අසමගි, ඌන සංවර්ධිත වැඩ කරන ජනතාව කෙරෙන් එය දිනාගත් ප්‍රසාදයය. මෙහිදී, සාමාන්‍ය ''ප්‍රජාතන්ත්‍රවාදය'' ගැන, ''සමගිය'', නැතහොත්, ''ශ්‍රම ප්‍රජාතන්ත්‍රවාදයේ සමගිය'' ගැන, සියලු ''ශ්‍රමකරු මිනිසුන්ගේ සමානත්වය'' ගැන හා එවැනි වෙනත් දේ ගැන කරන වදන් හරඹයෙන්, දැන් සුළු ධනපතියන්, සමාජ-ජාත්‍යාන්මාදවාදීන් සහ කෞට්ස්කිවාදීන් එතරම් කැමැත්තක් දක්වන ඒ වදන් හරඹයෙන් කිසිම ප්‍රයෝජනයක් නැත. වදන් හරඹයෙන් කෙරෙන්නේ ඇස්වලට වැලි ගැසීම, චින්තනය අන්ධ කිරීම පමණකි. එසේම, එය ධනපති ක්‍රමයේ, පාර්ලිමේන්තු ක්‍රමයේ සහ

ධනපති ප්‍රජාතන්ත්‍රවාදයේ පැරණි තකතිරු කම, ගතානුගතිකත්වය හා අනුබැඳියාව ශක්තිමත් කරයි.

පංති අහෝසි කිරීම සඳහා දීර්ඝ, දුෂ්කර හා දැඩි පංති අරගලයක් කිරීම අවශ්‍ය වන්නේය. ධනපති පාලනය පෙරළා දැමීමෙන් පසුව, නිර්ධන පංති ආඥාදායකත්වය ස්ථාපිත කිරීමෙන් පසුව (පැරණි සමාජවාදයේ සහ පැරණි සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ පහත් නියෝජිතයන් සිතන ලෙසට) පංති අරගලය අතුරුදහන් වන්නේ නැත. ඉන් පසුව සිදුවන්නේ, හුදෙක් එහි ආකෘති පමණක් වෙනස් වීම සහ කීප අතකින්ම වඩාත් දරුණු වීමය.

නිර්ධන පංතිය ධනපති පංතියට විරුද්ධවත්, සුළු ධනපති පංතියේ ගතානුගතිකත්වයට, අනු බැඳියාවට, අවිනිශ්චිතභාවයට හා වැනෙනසුලු ගතියට විරුද්ධවත්, කරන පංති අරගලය තුළින් එහි බලය රැකගත යුතුය. එමගින් එහි සංවිධාන ශක්තිය රැකගත යුතුය. ධනපතියන් හැර යාමට බියවන සහ බොහෝ සේ පැකිලෙමින් පමණක් නිර්ධන පංතිය අනුගමනය කරන ඒ කණ්ඩායම් "මධ්‍යස්ථ" කළ යුතුය. එමෙන්ම, නව විනය, එනම්, වැඩ කරන ජනතාවගේ සහෝදරාත්මක විනය, නිර්ධන පංතිය සමග වන ඔවුන්ගේ තද බැඳුම, නිර්ධන පංතිය සමග ඔවුන්ගේ සමගිය තහවුරු කළ යුතුය. මධ්‍ය කාලීන යුගයේ දස විනය සහ ධනපති ක්‍රමය යටතේ පවතින "නිදහස්" වේතන-වහල් ක්‍රමයේ විනය වන සාගිනි විනය වෙනුවට, සමාජ සම්බන්ධකම්වල නව පදනම වන ඒ නව විනය තහවුරු කළ යුතුය.

පංති අහෝසි කිරීම සඳහා එක පංතියක ආඥාදායකත්වය පවතින කාල පරිච්ඡේදයක් තිබිය යුතුය. ඒ සඳහා තිබිය යුත්තේ, ඒකාන්ත වශයෙන්ම, සූරාකන්නන් බලයෙන් පහකර දැමීමට පමණක් නොව, ඔවුන්ගේ ප්‍රතිරෝධය නිර්දය ලෙස මර්දනය කිරීමට පමණක් නොව, මුළු මහත් ධනපති ප්‍රජාතන්ත්‍රවාදී, අවබෝධයෙනුත් සාමාන්‍ය නිදහස සහ සමානත්වය ගැන කරනු ලබන සියලු වදන් සුළු ධනපති හරඹයන්-ගෙනුත් (මෙම වදන් හරඹයෙන් අදහස්වන්නේ, බොහෝ ඉහතදී මාක්ස් පෙන්නුම් කළ ලෙසට වෙළෙඳභාණ්ඩ හිමියන්ගේ "නිදහස සහ සමා-නත්වය" ය. ධනපතියාගේ සහ කම්කරුවාගේ "නිදහස සහ සමානත්වය" ය) දෘෂ්ටිමය වශයෙන් බිඳී වෙන් වීමෙහි ද සමත් ඒ පීඩිත පංතියේම ආඥාදායකත්වය යි.

එපමණක් නොවේ. පංති අහෝසි කිරීමට හැකි වන්නේ දශක ගණන් තිස්සේ ගෙන ගිය වැඩ වර්ජන සහ දේශපාලන අරගල තුළින් ශික්ෂණය ලද, එක්සත් වූ, පුහුණු වූ හා දැඩි බව ලැබූ ඒ පීඩිත පංතියේ ආඥාදායකත්වය මගින් පමණකි — සියලු නාගරික, කාර්මික, ලොකු ධනපති සංස්කෘතිය ස්වීයකරගත්, එය ආරක්ෂා කර, එහි ජයග්‍රහණයන් සියල්ල රැක ගනිමින්



තවදුරටත් සංවර්ධනය කිරීමට සහ ඒවා සියලුම ජනතාවන්, සියලු වැඩ කරන ජනතාවන් අතට පත් කිරීමට තරම් අධිෂ්ඨානය හා හැකියාව ඇති ඒ එකම පංතියේ — අතීතයෙන් බිඳී වෙන්වන සහ නව අනාගතයක් කරා යාමට නිර්භීත ලෙස තමන්ගේම නව මාර්ගයක් සදන අය හමුවට අනිවාරණීය වශයෙන්ම ඉතිහාසය විසින් පමුණුවනු ලබන සියලු අමාරු කම්, දුෂ්කරතාවයන්, අග හිඟ කම් හා මහා කැපකිරීම් විඳ දරා ගැනීමෙහි සමත් ඒ එකම පංතියේ — තමන්ගේ කදිමතම සාමාජිකයන් සුළු ධනපති හා අමනවාදී සියල්ලම කෙරෙහිත් සුළු ධනපතියන්, සුළු සේවකයන් හා "බුද්ධිමතුන්" අතර එතරම් පුළුල් ලෙස ප්‍රචලිත ගතිගුණ කෙරෙහිත් දක්වන වෛරයෙන් පිරුණු අය වන ඒ එකම පංතියේ — "දැඩිබව ඇති කරන ශ්‍රමයේ ශික්ෂණය ලැබූ" සහ ස්වකීය කාර්යක්ෂමතාවය මගින් වැඩ කරන සහ අවංක සෑම මිනිසෙක්ම තුළ ගෞරවයක් ජනිත කරවීමෙහි සමත් ඒ එකම පංතියේ ආඥාදායකත්වය මගින් පමණකි.

හංගේරියානු කම්කරුවනි! සහෝදරවරුනි! සැබෑ නිර්ධන පංති ආඥාදායකත්වයේ වේදිකාව මත සියලුම සමාජවාදීන් එක පහරින් එක්සත් කිරීමේ ඔබේ හැකියාව ගෙන හැර පෑමෙන් ඔබ ලෝකයා හමුවේ තබා ඇත්තේ සෝවියට් රුසියාවටත් වඩා හොඳ ආදර්ශයකි. එන්ටෙන්ට් මිත්‍ර ගිවිසුමට විරුද්ධව කරන දෘඪතර යුද්ධයක් මගින් ඔබගේ තත්වය රැක ගැනීමේ ඉතාමත් ප්‍රසාද ජනක සහ ඉතාමත් දුෂ්කර කර්තව්‍යයට මුහුණදීමට දැන් ඔබට සිදු වී තිබේ. දැඩිව සිටින්න. ඊයේ ඔබට, එනම්, නිර්ධන පංති ආඥාදායකත්වයට ආධාර දුන් සමාජවාදීන් අතර, නැතහොත්, සුළු ධනපතියන් අතර වැනෙනසුලු භාවය දක්නට ලැබුණහොත්, එය නිර්දය ලෙස මර්දනය කරන්න. යුද්ධයේදී බිය සුල්ලාගේ යුක්ති සහගත ඉරණම වන්නේ වෙඩි උණ්ඩය ය.

ඔබගේ යුද්ධය එකම සාධාරණ, යුක්ති සහගත හා සැබැවින්ම විප්ලවවාදී යුද්ධය වේ. එය පීඩිතයන් පීඩකයන්ට විරුද්ධව කරන යුද්ධයකි. එය වැඩ කරන ජනතාව සූරාකන්නන්ට විරුද්ධව කරන යුද්ධයකි. එය සමාජවාදයේ ජයග්‍රහණය සඳහා කරන යුද්ධයකි. සමස්ත ලෝකයම මුළුල්ලේ සිටින කම්කරු පංතියේ අවංක සාමාජිකයන් සියලු දෙනාම ඔබගේ පැත්ත ගෙන සිටී. සෑම මාසයක්ම පාසා ලෝක නිර්ධන පංති විප්ලවය තවත් ළං වන්නේය.

දැඩිව සිටින්න. ජයග්‍රහණය ඔබේය!

ලෙනින්

1919 මැයි 27

සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 38, පිටු 384–388

# ශ්‍රේෂ්ඨ ආරම්භයක්

## (පසුමුණෙහි කම්කරුවන්ගේ වීරත්වය. ''කොමියුනිස්ට් සුබෝත්නික්'' ව්‍යාපාරය)

රතු හමුද භටයන් වීරත්වය පෑ අවස්ථා රැසක් ගැන පුවත් පත්වල වාර්තා වී තිබේ. කොල්චාක්ට, ඩෙනිකින්ට සහ ඉඩම් හිමියන්ගේ සහ ධනපතියන්ගේ වෙනත් බලවේගයන්ට විරුද්ධව කරන සටනේ දී සමාජවාදී විප්ලවයේ ජයග්‍රහණයන් ආරක්ෂා කරමින් කම්කරුවෝ සහ ගොවියෝ බොහෝ අවස්ථාවලදී එඩිතර භාවයේ හා ධෛර්යයේ ප්‍රාතිහාර්යයන් පාති. ගරිල්ල ජීවගුණය, විඩාපත් ස්වභාවය හා අවිනය බැහැර කරනු ලැබේ. එය ප්‍රමාදී සහ දුෂ්කර ක්‍රියාවලියකි. නමුත්, මොන තරම් අමාරුකම් තිබුණත් එය ඉදිරියට යමින් පවතී. සමාජවාදයේ ජයග්‍රහණය සඳහා ස්වේච්ඡාවෙන් කැප කිරීම්වල යෙදෙන වැඩ කරන ජනතාව පාන්නේ වීරත්වයකි. රතු හමුදව තුළ වන නව සහෝදරාත්මක විනයෙහි පදනම වන්නේ මෙයයි. එය නව ජීවයක් ලබමින්, ශක්තිමත් වෙමින් වර්ධනය වන්නේ මෙම පදනම මතය.

පසු මුණෙහි කම්කරුවන් දක්වන වීරත්වය කෙරෙහි දැක්විය යුත්තේ කිසිසේත් නොඅඩු අවධානයකි. මේ අතින් බලන කල, කම්කරුවන් ඔවුන්ගේම ක්‍රියාරම්භකත්වයෙන් සංවිධානය කළ කොමියුනිස්ට් සුබෝත්නික් ව්‍යාපාරවල අගය ඇත්ත වශයෙන්ම අති විශාලය. මෙය ආරම්භයක් පමණක් බව පෙනෙන නමුත්, එය අතිශයින්ම විශාල වැදගත් කමක් ඇති ආරම්භයකි. එය, ධනපති පංතිය බලයෙන් පහ කිරීමට වඩා දුෂ්කර, ඊට වඩා අර්ථදයක, ඊට විපර්යාසකාරී සහ ඊට වඩා තීරණාත්මක විප්ලවයක ආරම්භයකි. එසේ කියන්නේ, එය අපගේම ගතානුගතිකත්වය, අවිනය, සුළු ධනපති ආත්මාර්ථ සාධනය අභිභවා ලබන ජයග්‍රහණයක්, එනම්, ශාපලත් ධනපති ක්‍රමය විසින් උරුමයක් ලෙස කම්කරුවාට හා ගොවියාට ඉතිරි කර තැබූ පුරුදුකම් අභිභවා ලබන ජයග්‍රහණයක් වන හෙයිනි. නව විනය, එනම්, සමාජවාදී විනය නිර්මාණය වනු ඇත්තේ



මෙම ජයග්‍රහණය තහවුරු වූ පසු පමණකි. ආපසු ධනපති ක්‍රමය වෙත යාමට කිසිම ඉඩක් නොමැති වනු ඇත්තේ, කොමියුනිස්ට් ක්‍රමය සැබැවින්ම අනභිභවනීය වනු ඇත්තේ, එවිට පමණකි.

''විප්ලවවාදී ආකාරයෙන් වැඩ කිරීම, (කොමියුනිස්ට් සෙනසුරාදවක්)'' යන සිරස් තලය යටතේ, ඒ. ජේ. විසින් ලියන ලද ලිපියක් මැයි 17 දින ප්‍රාව්ද, පත්‍රයෙහි පළ විය. මෙම ලිපිය ඉතාමත් වැදගත් හෙයින් එය සම්පූර්ණයෙන්ම උපුටා දක්වන්නෙමු.

## විප්ලවවාදී ආකාරයෙන් වැඩ කිරීම
### (කොමියුනිස්ට් සෙනසුරාදවක්)

විප්ලවවාදී ආකාරයකින් වැඩ කිරීම ගැන රුසියානු කොමියුනිස්ට් පක්ෂයේ මධ්‍යම කාරක සභාවෙන් නිකුත් කරන ලද ලිපිය කොමියුනිස්ට්වරුන්ට සහ කොමියුනිස්ට් සංවිධානවලට බලවත් උත්තේජනයක් විය. එයින් ජනිත වූ උනන්දුවේ රැල්ල විසින් කොමියුනිස්ට් දුම්රිය කම්කරුවන් බොහෝ දෙනෙක් පෙරමුණ වෙත ගෙන යන ලදී. නමුත් ඔවුන්ගෙන් බහුතරයට ඔවුන්ගේ වග කිව යුතු තනතුරු අත්හැර යාමමත්, විප්ලවවාදී ආකාරයෙන් වැඩ කිරීමේ නව ආකෘති සොයා ගැනීමවත් කළ නොහැකි විය. හමුද සංවිධාන කටයුතු හෙමින් සිදුවන බව හා එහිදී අනුබැඳියාව බලපවත්වන බව ප්‍රදේශවලින් වාර්තා විය. මෙම වාර්තාවලින් ඇතිවූ බලපෑම නිසා දුම්රිය සේවය ක්‍රියාත්මක වන ආකාරය ගැන ස්වකීය අවධානය යොමු කිරීමට මොස්කව්-කසාන් දුම්රිය දිස්ත්‍රික්කයට සිදුවිය. ශ්‍රම හිඟය සහ අඩු ශ්‍රම ඵලදයකත්වය නිසා හදිසි ඇණවුම් සහ දුම්රිය ඇන්ජින් අළුත් වැඩියා වැඩ ඇණහිට තිබෙන බව එහිදී පෙනී ගියේය. මැයි මස 7 දින පවත්වන ලද මොස්කව්-කසාන් දුම්රිය දිස්ත්‍රික්කයේ කොමියුනිස්ට්වරුන්ගේ සහ හිතවතුන්ගේ මහ සභා රැස්වීමකදි,කොල්චාක් පරාජය කර ජයග්‍රහණය ලැබීමට වචනයෙන් ආධාර කිරීමේ සිට ක්‍රියාවෙන් ආධාර කිරීම දක්වා නැඹුරුවීම පිළිබඳ ප්‍රශ්නය මතු කරන ලදී. එහිදී පහත සඳහන් යෝජනාව ඉදිරිපත් කෙරිණ:

''දේශීය සහ විදේශීය වශයෙන් උග්‍ර තත්වයක් මතුවී තිබෙන නිසා, සතුරාට විරුද්ධව තත්වය ශක්තිමත් කරගනු පිණිස, කොමියුනිස්ට්වරුන් සහ හිතවතුන් නැවත වරක් ධෛර්යය උපදවාගෙන ඔවුන්ගේ විවේකයෙන් අතිරේක පැයක් අඩු කළ යුතුය. ඒ අනුව වැඩ දිනය අතිරේක පැයකින් දීර්ඝ කර, මෙම පැය ගණන එකතු කර, ක්ෂණික අගය ඇති මූර්ත වටනාකම් නිෂ්පාදනය කිරීම සඳහා සෙනසුරාද දිනෙහි අතිරේක පැය හයක් වෙර වැඩ කළ යුතුය. විප්ලවයේ ජයග්‍රහණයන් සඳහා ස්වකීය සෞඛ්‍යය සහ ජීවිතය කැප කිරීමට කොමියුනිස්ට්වරුන් මැළි නොවිය යුතු නිසා, මෙම වැඩ ගෙවීමකින් තොරව කළ යුතුය. කොමියුනිස්ට් සෙනසුරාදවන් දිස්ත්‍රික්කය මුළුල්ලේම ආරම්භ කර, කොල්චාක් පරාජය කර සම්පූර්ණ ජයග්‍රහණය ලබන තෙක් ක්‍රියාත්මක කරනු ලැබේ.''

| වැඩ කළ ස්ථානය | කළ වැඩවල සවභාවය | වැඩ කළ සංඛ්‍යාව | වැඩ කළ පැය ගණන | | ඉටු කළ වැඩ |
|---|---|---|---|---|---|
| | | | එක් පුද්ගලයා | මුළු ගණන | |
| මොස්කව්. ප්‍රධාන දුම්රිය ඇන්ජින් කම්හල්. | දුම්රිය මාර්ගයට අවශ්‍ය ද්‍රව්‍ය, ඇන්ජින් අළුත්වැඩියාවට අවශ්‍ය උපකරණ හා පෙරෝවො-මූරොම්-අලතිර් සහ සිස්රන් සඳහා මැදිරි කොටස් පැටවීම | 48<br>21<br>5 | 5<br>3<br>4 | 240<br>63<br>20 | පූඩ්* 7,500 ක් පැටවීම, පූඩ් 1,800 බෑම |
| මොස්කව්. මගීන්ගේ ඩිපෝව. | ඇන්ජින්වල සංකීර්ණ ක්ෂණික අළුත්වැඩියා | 26 | 5 | 130 | ඇන්ජින් $1\,^1/_2$ ක අළුත්වැඩියා වැඩ |
| මොස්කව් උපපථමඩු | ඇන්ජින් යන්ත්‍රවල ක්ෂණික අළුත්වැඩියා | 24 | 6 | 144 | ඇන්ජින් 2ක් අළුත්වැඩියා කර සම්පූර්ණ කිරීම හා 4ක අළුත්වැඩියා කළ යුතු කොටස් ගැලවීම |
| මොස්කව්. මැදිරි අංශය | මගීන් ගෙනයන මැදිරිවල ක්ෂණික අළුත්වැඩියා | 12 | 6 | 72 | තුන්වැනි පංතියේ මැදිරි දෙකයි |
| ''පෙරෝවො''. ප්‍රධාන මැදිරි කම්හල් | මැදිරි අළුත්වැඩියා සහ සෙනසුරාද සහ ඉරිදා සුළු අළුත්වැඩියා | 46<br>23 | 5<br>5 | 230<br>115 | පෙට්ටි මැදිරි 12ක් සහ විවෘතමැදිරි 2ක් |
| | එකතුව | 205 | — | 1,014 | දුම්රිය ඇන්ජින් 4ක් හා මැදිරි 16ක් සූදානම් කිරීම හා පූඩ් 9,300ක් පැටවීම සහ බෑම |

* පූඩ් එකක් රාත්තල් 36 කි — සංස්කාරක

තරමක පැකිලීමකින් පසුව යෝජනාව ඒකමතිකව අනුමත කරන ලදී.

මැයි මස 10 දින ප.ව. 6.00 ට කොමියුනිස්ට්වරුන් සහ හිතවතුන් සොල්දදුවන් මෙන් වැඩ සඳහා කණ්ඩායම් ගැසී පෙළ ගැසුනු අතර කලබලයක් හෝ ඝෝෂාවක් නොමැතිව වැඩ මූලිකයන් විසින් විවිධ වැඩ සඳහා ඔවුන් භාර ගන්නා ලදී.

විප්ලවවාදී ආකාරයෙන් වැඩ කිරීමේ ප්‍රතිඵල පැහැදිලිව දක්නට තිබේ. වැඩ කළ ස්ථානය සහ කරන ලද වැඩවල ස්වභාවය මේ සමග දක්වා ඇති සටහනෙන් පෙනේ.

සාමාන්‍ය වේතන ප්‍රමාණ අනුව, කර තිබෙන වැඩවල වටිනාකම රූබල් පණස් ලක්ෂයක් වේ. අතිකාල දීමනා ප්‍රමාණ අනුව ගණන් ගන්නා ලද්දේ නම්, එය සියයට පණහකින් වැඩි වනු ඇත.

වැගන් පෙට්ටිවලට බඩු පැටවීමේ ශ්‍රම ඵලදායකත්වය සාමාන්‍ය කම්කරුවන්ට වඩා සියයට 270 ක් වැඩි විය. අනිත් කාර්යයන්හිද ශ්‍රමඵලදායකත්වය එබඳුම විය.

ශ්‍රම හිඟය සහ අනුබැඳියාව නිසා දින හතේ පටන් තුන්මාසය දක්වා ප්‍රමාද වී තිබුණු (හදිසි) වැඩ කරන ලදී.

උපකරණ අබලන් තත්වයේ තිබුණු නමුත් (ඒවා පහසුවෙන් අළුත් වැඩියා කර ගත හැකිවිය) වැඩ කරන ලදී. එනිසා සමහර කණ්ඩායම්වලට මිනිත්තු තිහක් හෝ හතළිහක් ප්‍රමාද වීමට සිදුවිය.

මෙම වැඩ භාරව කටයුතු කළ පරිපාලනයට අළුත් වැඩ සෙවීමට නොහැකි තරම් වේගයකින් මිනිස්සු වැඩ කළහ. පංති විඥනය නැති හා කඩිසර නැති කම්කරුවන් සතියක දී කරන තරම් වැඩ මෙම කොමියුනිස්ට් සෙනසුරාද දිනෙහි කරන ලද බව වෘධ වැඩ මූලිකයෙක් කී අතර ඔහුගේ කියමන අතිශයෝක්තියක් වූයේ සුළු වශයෙන් පමණකි.

සෝවියට් ආණ්ඩුවේ අවංක ආධාර කරුවන් වන කොමියුනිස්ට්වරුන් නොවන අය බොහෝ දෙනෙක් වැඩ කිරීමට සහභාගි වූ නිසා සහ අනාගත සෙනසුරාදවලදී එවැනි තවත් බොහෝ දෙනෙකුගේ සහභාගිත්වය අපේක්ෂා කළ හැකි නිසාද, වෙනත් දිස්ත්‍රික්ක බොහෝ ගණනක් මොස්කව්-කසාන් දුම්රිය කම්කරුවන්ගේ ආදර්ශය අනුව යාමට කටයුතු කරන නිසාද, ප්‍රදේශවලින් ලැබුණු වාර්තා අනුව මෙම කටයුත්තෙහි සංවිධාන පැත්ත ගැන වඩාත් විස්තර සහිතව සඳහන් කිරීමට කැමැත්තෙමි.

වැඩට සහභාගි වන අයගෙන් සියයට දහයක් පමණ එහිම ස්ථිර රැකියා කරන කොමියුනිස්ට්වරු වූහ. අන් අය දුම්රිය කොමිසාර් පටන් වෙන් වෙන් ව්‍යවසායයන් පිළිබඳ කොමිසාර් දක්වාවූ වගකිව යුතු හා තෝරාපත් කරන නිල දරන අය, වෘත්තීය සමිතිවල නියෝජිතයන් සහ දුම්රිය කොමිසාර් ප්‍රධාන කාර්යාලයේ සේවකයන් විය.

වැඩ කිරීමේදී දක්වන ලද උද්‍යෝගය සහ කණ්ඩායම් ජීව ගුණය අසාමාන්‍ය දෙයක් විය. කම්කරුවන්, ලිපිකරුවන් සහ ප්‍රධාන කාර්යාලයේ සේවකයන් දෙස් තැබීමේ හඬක්, නැතහොත්, තර්කයක්වත් නොමැතිව මගීන් ගෙන යන දුම්රියේ ඇන්ජිමෙහි පූඩ හතළිහක් බරැති රෝද විල්ල අත්වලින් ගෙන, කුහුඹුවන් මෙන් කඩිසරව එය පෙරළා නිසි තැනට දමන විට, ඔවුන් දරන මෙම සාමූහික ප්‍රයත්නය දකින අපගේ හදවත



උණුසුම් සන්තුෂ්ටියකින් පිරී යන්නේය. කම්කරු පංතියේ ජයග්‍රහණය ඒකාන්ත වශයෙන්ම ස්ථිර බවට අයෙක් දරන විශ්වාසය එය දැකීමෙන් ශක්තිමත් වන්නේය. කම්කරුවන්ගේ ජයග්‍රහණ සුන් කිරීමට ජාත්‍යන්තර පල් හොරුන් සමත් නොවනු ඇත. අභ්‍යන්තර කඩාකප්පල් කාරයන් කොල්චාක් දැකීමට ජීවත් නොවනු ඇත.

වැඩ හමාර කළ තැන, එහි සිටි අය පෙර නොවූ විරූ දර්ශනයක් දුටහ. වෙහෙසව, එහෙත් ප්‍රීතියේ කාන්තිය නෙත්වලින් විහිදුවමින් සිටි කොමියුනිස්ට්වරුන් සිය දෙනෙක් බැතිමත් ලෙස ගායනා කළ "ජාත්‍යන්තර ගීතයේ" රාවයෙන් ඔවුන්ගේ ජයග්‍රහණයට ශුභ පැතූහ. එවිට එම විජයග්‍රාහී ගීතයේ විජයග්‍රාහී රාවය බිත්තිවලට උඩින් ගලා යමින් කම්කරු පංති මොස්කව් නගරය මුළුල්ලේම පැතිර යන්නාක් සේ දැනුනි. එසේම එම රාවය, දියකඩකට දමා ගසන ලද ගලකින් මතුවන තරංග මාලා මෙන් මුළු කම්කරු පංති රුසියාවම මුළුල්ලේ පැතිරී යමින් විඩාපත් වූවන් හා දුර්වලයන් පණගන්වනු ඇත.

ඒ. ජේ.

"තරඟයකට මුල් කොට ගැනීමට තරම් සුදුසු" මෙම විශිෂ්ට "ආදර්ශය" ගැන අගය කරමින් එම සිරස්තලයම යටතේ එන්. ආර්. සහෝදරයා මැයි 20 දින ප්‍රාව්දා පත්‍රයේ ලියූ ලිපියක මෙසේ සඳහන් විය:

"කොමියුනිස්ට් වරුන් මේ ආකාරයෙන් වැඩ කරන අවස්ථා දුලබ නොවේ. විදුලි බල යන්ත්‍රස්ථානයක සහ නොයෙක් දුම්රිය සේවාවල කෙරෙන එවැනි වැඩ ගැන මම දනිමි. නිකොලයෙව්ස්කයා දුම්රිය සේවයේ ඇන්ජින් යන්ත්‍ර හරවන කවයේ වලට වැටුනු ඇන්ජිමක් ගොඩ ගැනීමට කොමියුනිස්ට් වරු රාත්‍රි කීපයක් නියමිත කාලයෙන් පසුව වැඩ කළහ. ශීත ඍතුවේදී උතුරු දුම්රිය මාර්ගයේ හිම ඉවත් කිරීමට එම දුම්රිය සේවයේ සියලුම කොමියුනිස්ට්වරු සහ හිතවත්තු ඉරිදු දින ගණනාවක් වැඩ කළහ. එසේම බඩු පටවන දුම්රිය ස්ථාන රැසක කොමියුනිස්ට් කණ්ඩායම්, සොරකම් වැලැක්වීම සඳහා රාත්‍රි කාලයේ එම දුම්රිය ස්ථානවල මුර සංචාරය කරති. නමුත් මේ වැඩ සියල්ලම අනියම් ලෙස සහ ක්‍රමානුකූල ස්වභාවයක් රහිතව කෙරිනි. මොස්කව්-කසාන් මාර්ගයේ සහෝදරවරු මෙම වැඩ ක්‍රමානුකූල සහ ස්ථාවර තත්වයට පත් කරති. මෙය අළුත් දෙයකි. "කොල්චාක් පරාජය කර සම්පූර්ණ ජයග්‍රහණය ලබන තෙක්" යනුවෙන් ඔවුන්ගේ යෝජනාවෙහි සඳහන්ය. ඔවුන් කරන වැඩවල වැදගත් කම එහිය. ඔවුහු, යුද්ධ තත්වය පවතින කාලයට සෑම කොමියුනිස්ට්වරයෙකුගේ සහ හිතවතෙකුගේ වැඩ දිනය පැයකින් දීර්ඝ කරති. ඔවුන්ගේ ශ්‍රම ඵලදායකත්වය ආදර්ශමත්ය.

මෙම ආදර්ශය නිසා එවැනි වැඩ කිරීමට තරඟයක් ඇතිවිය. එවැනි තරඟයක් නොවැලැක්විය හැකි ලෙසින්ම ඇති වන්නේය. අලෙක්සන්ද්‍රොව්ස්කයා දුම්රිය සේවයේ කොමියුනිස්ට් වරුන්ගේ හා හිතවතුන්ගේ මහා සභා රැස්වීමක්, යුද්ධ තත්වයත්, මොස්කව්-කසාන් දුම්රිය සේවයේ සහෝදරවරුන්ගේ යෝජනාවත් ගැන සාකච්ඡා කිරීමෙන් පසුව මෙසේ

තීරණය කළේය: 1) අලෙක්සන්ද්‍රොව්ස්කයා දුම්රිය සේවයේ සියලුම කොමියුනිස්ට්වරුන් සහ හිතවතුන් සඳහා ''සුබොත්නික්'' වැඩ ආරම්භ කිරීමට සහ ප්‍රථම ''සුබොත්නික්'' වැඩ දිනය මැයි 17 දින පැවැත්වීම. 2) දැනට තිබෙන ද්‍රව්‍ය සහ උපකරණවලින්, වර්තමාන ආහාර තත්වය යටතේ සැබැවින්ම කළහැකි දේ පිළිබඳව කම්කරුවන්ට පෙන්වා දෙනු පිණිස ක්‍රියා කළ යුතු, මග පෙන්වන ආදර්ශ වැඩ කණ්ඩායම් ලෙසට කොමියුනිස්ට්වරුන් සහ හිතවතුන් සංවිධානය කිරීම.

තමන්ගේ ආදර්ශයෙන් මහත් ප්‍රබෝධයක් ඇති වී තිබෙන බවත්, ඊළඟ සෙනසුරාද දින පාක්ෂික නොවන කම්කරුවන් බොහෝ දෙනෙක් වැඩට එතැයි අපේක්ෂා කරන බවත් මොස්කව්-කසාන් සහෝදරවරු කියති. මෙම වැකි ලියන විට අලෙක්සන්ද්‍රොව්ස්කයා දුම්රිය සේවයේ කොමියුනිස්ට් සහෝදරවරුන් තවමත් අතිකාල වැඩ කිරීම ආරම්භ කර නොතිබුණ නමුත්, ඔවුන් එසේ වැඩ කිරීමට යන බවට ආරංචිය පැතිර ගිය වහාම පාක්ෂික නොවන කම්කරු පොදුජනකාය උනන්දුමත් විය. 'ඊයේ අපි නොදැන සිටියෙමු නැත්නම් අපටත් වැඩ කරන්නට තිබුණි!' 'ඊළඟ සෙනසුරාද නම් මා එනවාමයි.' මෙසේ කියනු සෑම පැත්තෙන්ම ඇසෙන්නේය. මේ ආකාර වැඩ නිසා ඇතිවන ප්‍රබෝධය ඉමහත්ය.

මොස්කව්-කසාන් සහෝදරවරුන් පෙන්වා ඇති ආදර්ශය හා සම වීමට පසුමුණෙහි සිටින සියලුම කොමියුනිස්ට් කණ්ඩායම් කටයුතු කළ යුත්තේය. මොස්කව් සන්ධියේ කොමියුනිස්ට් කණ්ඩායම් පමණක් නොව, මුළු රුසියාවේම පක්ෂ සංවිධානය එසේ කළ යුතුය. ගම්බද දිස්ත්‍රික්කවලද කොමියුනිස්ට්වරුන් ප්‍රථමයෙන්ම රතු හමුදා භටයන්ගේ කෙත් වගා කිරීමෙන් ඔවුන්ගේ පවුල්වලට ආධාර කිරීමට වැඩ කිරීම ආරම්භ කළ යුතුය.

මොස්කව්-කසාන් සහෝදරවරුන් ඔවුන්ගේ ප්‍රථම කොමියුනිස්ට් සුබොත්නික් වැඩ දිනය හමාර කළේ ජාත්‍යන්තර ගීය ගායනා කරමිනි. රුසියාව මුළුල්ලේම කොමියුනිස්ට් සංවිධාන මෙම ආදර්ශය අනුගමනය කරන්නේ නම්, එසේම එය නිරන්තර ලෙස ක්‍රියාත්මක කරන්නේ නම්, සමූහාණ්ඩුවේ වැඩ කරන ජනයා සියලු දෙනාම ගයන ජාත්‍යන්තර ගීතයේ මහා රාවයට අනුව යමින්, සෝවියට් සමූහාණ්ඩුවට ලබන මාස කීපයේ ඇති වන දරුණු තත්වයන් ජයගත හැකි වෙනවා නිසැකය...

වැඩට යමු, කොමියුනිස්ට් සහෝදරවරුනි.

1919 මැයි 23 දින ප්‍රාව්දා පත්‍රය පහත සඳහන් පරිදි වාර්තා කළේය:

''අලෙක්සන්ද්‍රොව්ස්කයා දුම්රිය සේවයේ ප්‍රථම කොමියුනිස්ට් 'සුබොත්නික්' වැඩ දිනය මැයි 17 දින පැවැත්විනි. මහ සභාවෙන් සම්මත කරන ලද යෝජනාව අනුව, කොමියුනිස්ට්වරු සහ හිතවත්තු අනූ අට දෙනෙක් වැටුප් රහිතව පැය පහක් අතිකාල වැඩ කළහ. මෙම වැඩ කිරීම වෙනුවෙන් ඔවුන්ට ලැබුණේ අතිරේක දිවා ආහාරයක් මිළට ගැනීමේ අයිතිය හා වෙර වැඩ කරන්නෙකුට දිවා ආහාරය සමග ලැබෙන පාන් රාත්තල් භාගය පමණකි.''



වැඩ කිරීමට පිළියෙළ යෙදීමේ සහ සංවිධානයෙහි අඩුපාඩු කම් තිබුණේ වී නමුත්, ශ්‍රම ඵලදයකත්වය සාමාන්‍ය මට්ටම මෙන් දෙගුණයේ සිට තුන් ගුණය දක්වා විය.

නිදර්ශන කීපයක් මෙසේය:

පට්ටල් කරුවෝ පස් දෙනෙක් පැය හතරකදී ඉද්ද අසූවක් තනා නිම කළහ. එහිදී ශ්‍රම ඵලදයකත්වය සාමාන්‍ය මට්ටම මෙන් සියයට 213 ක් විය.

නුපුහුණු කම්කරුවෝ විසි දෙනෙක් පැය හතරකදී පූඩ් 600 ක් මුළු බර ඇති පරණ ද්‍රව්‍ය සහ එකක් පූඩ් $3^1/_2$ ක් හා පූඩ් 850 මුළු බර ඇති ආස්තරණ කොපු දුනු හැත්තෑවක් එකතු කළහ. ශ්‍රම ඵලදයකත්වය සාමාන්‍ය මට්ටම මෙන් සියයට 300 ක් විය.

''මෙසේ වීමට හේතුව තමන්ගේ සාමාන්‍ය වැඩ උද්‍යෝගයෙන් තොර සහ වෙහෙසකාරී වීමත්, මෙහිදී ඔවුන් අධිෂ්ඨානය හා උද්‍යෝගය ඇතිව වැඩ කිරීමත්, බව සහෝදරවරු පැහැදිලි කළහ. නමුත්, දැන්, ඔවුන් කොමියුනිස්ට් සුබොත්නික්වලදී වැඩ කළාට වඩා අඩුවෙන් වැඩ කළහොත් එය තමන්ට ලජ්ජාවක් වන බවද ඔවුහු කීහ.''

''තමන් සුබොත්නික් වැඩට සහභාගි වන බව දැන් පාක්ෂික නොවන බොහෝ කම්කරුවෝ කියති. දුම්රිය ඇන්ජින් යන්ත්‍ර 'සුසාන භූමියෙන්' ගෙන, සුබොත්නික් වැඩ කරන විට ඒවා අළුත්වැඩියා කොට ධාවනීමට දුම්රිය ඇන්ජින් සේවක කණ්ඩායම් ස්වේච්ඡාවෙන් ඉදිරිපත් වෙති.

ව්‍යාස්මා මාර්ගයේද එවැනි සුබොත්නික් සංවිධාන කරනු ලබන බවට වාර්තා ලැබී තිබේ.''

සුබොත්නික් කම්කරුවෙකුගේ සටහන් යන මාතෘකාව යටතේ ජූනි 7 දින 'ප්‍රාව්දා' පත්‍රයේ ලිපියක් ලියූ ඒ. දියචෙන්කො සහෝදරයා, මෙම කොමියුනිස්ට් සුබොත්නික්වල වැඩ කෙරෙන ආකාරය ගැන එයින් විස්තර කර ඇත. එම ලිපියෙහි ප්‍රධාන කොටස මෙහි උපුටා දක්වමු.

''පක්ෂයේ දුම්රිය දිස්ත්‍රික් කාරක සභාවේ තීරණයක් අනුව පිළියෙළ කරන ලද සුබොත්නික් වැඩට ගොස් අපේ 'ටිකත්' ඉටු කිරීමට මා හා තවත් සහෝදරයෙක් සූදනම් වූවෙමු. ටික වේලාවකට, පැයකීපයකට මම මගේ හිසට නිවාඩුවක් දී, මගේ මස් පිඩුවලට සුළු ව්‍යායාමයක් දෙන්නෙමි... අප දුම්රිය වඩු මඩුවේ වැඩට යවන ලදී. අපි එතැනට ගියෙමු. අපේ මිනිස්සු කීප දෙනෙක් එහි සිටියහ. ආචාර සමාචාර හුවමාරු කරගත්තෙමු. කවට කමක් දෙකක් කෙළෙමු. ඊළඟට අපේ පිරිස ගණන්-ගෙන බැලුවෙමු. අපි තිස් දෙනෙක් එහි සිටියෙමු... අප ඉදිරියේ වූයේ ''පර්වතයකි.'' එය පූඩ් හය සියයක්, නැතහොත්, හත්සියයක් බරැති වාෂ්ප බල බොයිලේරුවක් විය. අපට භාර කටයුත්ත වූයේ මෙය නිසි තැන තැබීමය. එනම්, වියොර්ස්ට් එකකින් තුනෙන් පංගුවක් හෝ හතරෙන්

පංගුවක් දුරින් පිහිටි එහි මූලස්ථානයට ගෙන යාමය. මෙය කළ හැකිද යන්න ගැන අපට සැකයක් ඇති විය. කෙසේ හෝ වේවා අපි වැඩය පටන් ගත්තෙමු. සහෝදරවරු සමහර දෙනෙක් බොයිලේරුවට යටින් ලී කොට තැබූහ. එයට කඹ දෙකක් ගැට ගැසූහ. ඊට පසු අපි අදින්නට පටන් ගත්තෙමු... බොයිලේරුව නොකැමැත්තෙන් සෙලවින. අවසානයේ දී එය ගමනාරම්භ කළේය. අපි ප්‍රීතියෙන් උදම් වූයෙමු. ඇත්තෙන්ම අපගේ පිරිස ඉතා ස්වල්ප විය... මෙම බොයිලේරුව, අපේ මෙන් තුන් ගුණයක් විශාලවූ කොමියුනිස්ට් නොවන කම්කරුවන්ගේ පරිශ්‍රමයට ප්‍රතිරෝධය දක්වමින් සති දෙකක් තිස්සේ, අප එයට අත තබන තෙක්, නොසැලී සිටි එකක් විය... අපි පැයක්, අපගේ 'වැඩ මූලිකයාගේ' 'එකයි, දෙකයි, තුනයි' යන අණදීම අනුව මහත් වෙහෙස දරමින් ලතාවකට වැඩ කෙළෙමු. ඒ අනුව බොයිලේරුව කොට උඩින් ගමන් කරන්නට විය. හිටි ගමන්ම අවුලකි. අපගේ සහෝදරවරු ගණනාවක්, ඉතාමත් අනපේක්ෂිත ආකාරයෙන් වීසිවී ගොස් බිම ඇද වැටුනහ. 'ඔවුන් අමාරුවේ හෙළන' ලද්දේ කඹය විසිනි... සුළු වේලාවක ප්‍රමාදයක් විය. වඩාත් ලොකු කඹයක් ඉක්මණින්ම යොදන ලදී... සවස් විය. රෑ බෝවන්නට පටන් ගති. නමුත් තව කුඩා කඳු ගැටයක් පසු කිරීමට අපට තිබිණි. එය පසු කළ විට ඉක්මණින්ම අපගේ කටයුත්ත සම්පූර්ණ වනු ඇත. අපේ අත් කැක්කුම් දුන්නේය. අතුල් දැවෙන්නට විය. අපේ ඇඟ රත් වී තිබිණි. අපි අපේ මුළු ධෛර්යයෙන් ඇද්දෙමු. එසේ අපි ඉදිරියට යමින් සිටියෙමු. 'කළමනාකාරයෝ' වටේට සිටි අතර අපගේ හපන් කම නිසා තරමක් ලජ්ජාවට පත් වූ ස්වභාවයක් පාමින් එක කඹයක් අල්ලාගත්හ. '' උදව් කරපල්ලා.මේ වෙලාවේ උදව් කරන්න ඕනෑ!'' රතු හමුදා භටයෙක් අපගේ ශ්‍රම කරුවන් වැඩ කරන සැටි බලාසිටියේය. ඔහු අතෙහි ඇකෝඩියනයක් විය. ඔහු සිතමින් සිටියේ කුමක් ගැන ද? මේ මිනිස්සු කවුද? සැම දෙනාම ගෙදර සිටියදී මොවුන් සෙනසුරාද දිනක වැඩ කළ යුත්තේ මන්ද? ඔහුගේ පටලැවිල්ල ඔහුට විසඳා දෙමින් මම ඔහුට මෙසේ කීවෙමි: 'සහෝදරයා හොඳ තාලයක් වාදනය කරන්න. අප කෝඩුකාරයෝ නොවෙයි. අප නියම කොමියුනිස්ට් කාරයෝ. අප අත ගැසූ විට කොතරම් ඉක්මනින් වැඩ කෙරෙනවාද කියා පෙනෙනවා නේද? අප කම්මැලි නෑ. අප අපට ඇති මුළු වැරෙන් අදිනවා!' ඊට ප්‍රතික්‍රියා දැක්වීමක් ලෙසට ප්‍රවේසමෙන් ඇකෝඩියනය බිම තැබූ රතු හමුදා භටයා ඉක්මණින් කඹයක කොනක් අල්ලා ගත්තේය...

හිටි ගමන්ම උ. සහෝදරයා 'දුබිනුෂ්කා' යන කම්කරු ගීය ගායනය කරන්නට පටන්ගත්තේය. ඔහු අගේ ඇති රළු හඬකින් ගායනා කළේය. අපි සියලු දෙනාම ඔහු අනුගමනය කරමින් ගැයීමු.

අපි මේ වැඩට පුරුදුව නොසිටියෙමු. අපගේ මස්පිඩු තෙහෙට්ටු වී තිබිණ. අපගේ උරහිස් හා කොඳු කැක්කුම් දුන්නේය... නමුත් ඊළඟ දිනය නිවාඩු දිනයක්, අපගේ විවේක දිනයක් වනු ඇත. එදින අපට උවමනා තරම් නිද ගන්නට පිළිවන. අපගේ ඉලක්කය ආසන්නයේ විය. මඳක් පැකිලීමෙන් පසුව අපගේ 'පර්වතය' හරියටම එය තිබිය යුතු තැනටම පෙරළුණේය. 'යටින් ලෑලි දමා බොයිලේරුව අඩියෙන් සිටුවමු. මින් පසු එය බොහෝ කාලයක් තිස්සේ එයින් බලාපොරොත්තු වූ වැඩ කළ



යුත්තේය.' අපි රංචුවක් මෙන් සැදී, ප්‍රාදේශීය පක්ෂ කණ්ඩායමේ සමාජශාලා කාමරයට ගියෙමු. එම කාමරය හොඳින් ආලෝක කර තිබුණේය. බිත්ති පෝස්ටර්වලින් සරසා තිබිණි. කටපුරා ජාත්‍යන්තර ගීය ගැයීමෙන් පසු අපි තේ සහ 'රම්' වීදුරුවක් හා පාන් කැබැල්ලක් පවා භුක්ති වින්දෙමු. ප්‍රදේශයේ සහෝදරවරුන් දුන් මේ සංග්‍රහය, බොහෝ වෙහෙසව වැඩ කර සිටි අපට ඉතාමත් රසවත් විය. සහෝදරාත්මක ලෙස සමුගත් අපගේ සහෝදරවරු ආපසු යාමට පෙළ ගැසුණහ. රාත්‍රියේ නිහැඩියාව බිඳගෙන නිදිගත වීදි ඔස්සේ විප්ලවවාදී ගීත නාදය රැව් දුන් අතර, එක දුරින් තබන අපේ අඩි ශබ්දයෙන් එයට සංගීත තාලය සැපයුනේය. අපි ජාත්‍යන්තර ශ්‍රමකරුවන්ගේ ගීත වන, 'සොයුරනි, බියුගලයේ හඬ ඇසේ' සහ 'සාදුකින් පෙළෙනවුන් අවදි වී නැගිටියව්' නම් ගී ගායනා කෙළෙමු.

සතියක් ගෙවී ගියේය. අපගේ අත් සහ උරහිස් නැවතත් සාමාන්‍ය තත්වයට පත්ව තිබිණ. ඊළඟට අපි තවත් සුබොත්නික් වැඩකට ගියෙමු. මෙවර අප ගියේ වියොර්ස්ට් නවයක් ඈත දුම්රිය මැදිරි අළුත්වැඩියා කිරීමටය. අප යායුතුව තිබුණේ පෙරෝවො වලටය.'ඇමෙරිකානු' පෙට්ටි මැදිරියේ වහළ උඩට නැගගත් සහෝදරවරු ඉතා හොඳට හා මහ හඬින් ජාත්‍යන්තර ගීතය ගායනා කළහ. දුම්රියේ සිටි මිනිස්සු පුදුමව එම ගායනයට කන්දුන්හ. රෝදවලින් එක තාලයකට ශබ්ද නැඟුනේය. වහළට නැග ගත නුහුනු අපි බෙල්ල කඩාගෙන ගියත් නොසලකන මගීන්ගේ වේශයක් පාමින් පාපුවරුවල සිට දුම්රියේ එල්ලී ගත්තෙමු. දුම්රිය වේගය අඩු වී නැවතුනේය. අපි නියමිත තැනට පැමිණ සිටියෙමු. දීර්ඝ අංගනයක් පසු කොට ගිය අප කොමිසාර් ජී. සහෝදරයා විසින් උණුසුම් ලෙස පිළිගන්නා ලදී.

'කළ යුතු වැඩ ගොඩක් තිබේ. නමුත් එය කිරීමට ඇත්තේ අප ස්වල්ප දෙනෙකි. අප සිටියේ තිස් දෙනෙක් පමණකි. නමුත්, පැය හයක් ඇතුළත දී මැදිරි දහතුනක සාමාන්‍ය අළුත් වැඩියා වැඩ කළ යුතුව තිබිණි! කල්තබා සලකුණු යෙදූ යුගල රෝද මෙහි ඇත. අපට හිස් මැදිරි පමණක් නොව පිරීගිය ජල ටැංකියක්ද ඇත... නමුත් එය සැලකිය යුතු කරුණක් නොවේ. මෙම ''වැඩේ හමාර කරන්න උත්සාහ කරන්න'', සහෝදරවරුනි!'

වැඩ සීඝ්‍රයෙන් කෙරිණ. සහෝදරවරු පස් දෙනෙක් හා මා ඔසවනුවෙන් වැඩ කෙළෙමු. යුගලක් පූඩ් හැටක්, නැතහොත්, හැත්තැවක් බර මෙම යුගල රෝද අපගේ උරහිස්වල හා ඔසවනු දෙකෙහි තල්ලුව සහ අපගේ වැඩ මූලිකගේ හැරවීම අනුව එක පීලි මගකින් අනිකට පැන්නේ ඉතාමත් ප්‍රාණවත් ආකාරයෙනි. එක රෝද යුගලක් නොපෙනී යත්ම වෙනත් යුගලක් එතැනට පෙරළී ආයේය. අවසානයේදී සියල්ලම ඒවාට නියමිත තැන්වල විය. අනතුරුව කඩිනම් ලෙස වැඩ කරමින් අපි පැරණි කැඩුණු බිඳුණු හා ගෙවුනු කොටස් සමූහය මඩුවකට ගෙන ගියෙමු. එකයි, දෙකයි, තුනයි — කැරකෙන යකඩ ඔසවනයෙන් ඔසවා ලූ ඒවා එක මොහොතිකින් පීලිවලින් ඉවත් කෙරිණ. අතන අඳුරේ වේගයෙන් වදින මිටි පහරවල හඬ අපට ඇසුනේය. කම්කරු මීමැස්සන් මෙන් සහෝදරවරු ඔවුන්ගේ 'රෝගී මැදිරිවල වැඩ කරමින් සිටියහ. සමහරු වඩු වැඩ කරමින් සිටියහ. තවත් අය තීන්ත ගෑහ. තව පිරිසක් වහළවල් වසා සකස් කළහ. මෙම දර්ශනය කොමිසාර් සහෝදරයාගේ මෙන්ම අපගේද සතුටට හේතු විය.

කම්මල් කරුවෝද අපගේ ආධාර ඉල්ලූහ. ජංගම කම්මල් පළක පූට්වූ කොක්කක් සහිත යදණ්ඩක් ගිනියම්ව සුදු පාටින් දිලිසුනේය. නොසැලකිලිමත් ලෙස මැදිරි පූට්වූ කිරීම නිසා එය නැමී ගොස් තිබණි. එය කිනිහිරය මත තබන ලදී. එයින් සුදු පාට ගිනි පුපුරු විසිරුණි. පළපුරුදු කම්මල් කරුවාගේ මෙහෙයීම යටතේ අපගේ කීකරු කුළුගෙඩි පහරවල් කාගෙන එය නැවතත් නිසි හැඩය ගත්තේය. තවමත් ගිනියම්ව රතුපාටින් යුතුව ගිනි පුපුරු විසුරුවමින් තිබියදීම අපි එය උරමතින් අවශ්‍ය තැනට ගෙන ගියෙමු. අපි එය එහි තව්ව තුළට තල්ලු කෙළෙමු. මිටි පහරවල් කීපයකින් එය සවි කෙරිණ. අපි මැදිරිය යටට රිංගුවෙමු. පූට්වූ ක්‍රමය පෙනෙන තරම් සරල එකක් නොවේ. එහි නොයෙක් ආකාර කැලි, මිටියම් කළ තැන් හා දුනු ඇත...

සීඝ්‍රයෙන් වැඩ කෙරුනේය. අඳුර වැටී එන්නට පටන් ගත්තේය. පන්දම් මුලින් තිබුණාට වඩා දීප්තිමත් ලෙස දැල්වෙන ස්වභාවයක් දිස්විය. දැන් සුළු වේලාවකින් වැඩ හමාර කිරීමට කාලය එලඹෙනු ඇත. සහෝදරවරු සමහර දෙනෙක් රෝදවලට හෙත්තු වී විවේක ගනිමින් උණුසුම් තේ 'තොලගාමින්' සිටියහ. මැයි රාත්‍රිය සිසිල දැනවිය. නව සඳ දිලිසෙන දෑකැත්තක් මෙන් අහසේ රුවට බැබලුනේය. මිනිස්සු සිනාසෙමින් කවටකම් කරමින් සිටියහ.

'ජී. සහෝදරයා වැඩ නවත්වන්න. මැදිරි දහතුනක් මදූයි!'

නමුත් ජී. සහෝදරයා සෑහීමට පත් වූයේ නැත.

අපි අපගේ තේ බී අවසන් කර, අපගේ ජයග්‍රහණයේ ගීත ගායනා කොට දෙරවුව බලා ගමනේ ගියෙමු...''

''කොමියුනිස්ට් සුබොත්නික්'' ව්‍යාපාරය මොස්කව් නගරයට සීමා වී නැත. ජූනි 6 දින ප්‍රාව්දා පත්‍රය මෙසේ වාර්තා කළේය:

''ත්වෙර්හි ප්‍රථම කොමියුනිස්ට් සුබොත්නික් වැඩ දිනය මැයි 31 දින පැවැත්විණ. කොමියුනිස්ට්වරු එකසිය විසි අටදෙනෙක් දුම්රිය සේවා වැඩ කළහ. පැය තුන හමාරකදී ඔවුහු වැගන් පෙට්ටි දහ හතරක බඩු බෑම හා පැටවීම කළහ. ඇන්ජින් යන්ත්‍ර තුනක් අළුත්වැඩියා කළහ. දර සාෂෙන් දහයක් කපා රැස් කළහ. තවත් වෙනත් වැඩද කළහ. පුහුණු කොමියුනිස්ට් කම්කරුවන්ගේ ශ්‍රමඵලදායකත්වය සාමාන්‍ය මට්ටමට වඩා දහතුන් ගුණයක් උසස්විය.''

නැවත, ජූනි 8 වැනිද ප්‍රාව්දා පත්‍රයෙන් මෙසේ කියවන්නට ලැබිණි.

කොමියුනිස්ට් සුබොත්නික් වැඩ

''සරාතොව්, ජූනි 5. මෙහි කොමියුනිස්ට් දුම්රිය කම්කරුවෝ ඔවුන්ගේ මොස්කව් සහෝදරවරුන්ගේ ආයාචනය අනුව යමින් පක්ෂ මහා සභා රැස්වීමකදී මෙසේ තීරණය කළහ: ජාතික ආර්ථිකයට ආධාර කිරීම පිණිස වැටුප් නොමැතිව සෙනසුරාද දිනවල පැය පහක් අතිකාල වැඩ කිරීමට''.



* * *

මම කොමියුනිස්ට් සුබොත්නික් ගැන ඉතාමත් සම්පූර්ණ ලෙස හා විස්තරාත්මක වශයෙන් තොරතුරු ඉදිරිපත් කෙළෙමි. මා එසේ කළේ මෙහි කොමියුනිස්ට් ක්‍රමය ගොඩනැගීම පිළිබඳවූ ඉතාමත් වැදගත් අංගයක් පෙනෙන්නට තිබෙන හෙයිනි. අපගේ පුවත් පත් ඒ කෙරෙහි ප්‍රමාණවත් තරම් අවධානයක් යොමු කර නැත. එමෙන්ම ඒ ගැන නිසි ලෙස අගය කිරීමෙහිලා අපි සියළු දෙනාම තවමත් අසමත් වී සිටිමු.

දේශපාලන ගිනි කෙළි අඩු කොට, සැබෑ ජීවිතයෙන් උපුටාගත් සහ පරීක්ෂාකර බැලූ සරලතම එහෙත් ජීවමාන කරුණු ගැන වැඩි අවධානයක් දක්වමු. අප සියලු දෙනාම, අපගේ ලේඛකයන්, උද්ඝෝෂකයන්, ප්‍රචාරකයන්, සංවිධායකයන් ආදීන් නොකඩවාම, නැවත නැවතත් කිවයුතු සටන් පාඨය එයයි.

නිර්ධන-පංති විප්ලවයෙන් ඉක්බිති මුල් මාස කීපය තුළ, අප ප්‍රථම වශයෙන්, ධනපතියන්ගේ ප්‍රතිරෝධය මෙල්ල කිරීමේද, සූරාකන්නන් පරාජය කිරීමේද ඔවුන්ගේ (කළුසියය පිරිස්වල සහ කැඩෙට්වරුන්ගේ සිට මෙන්ෂෙවික්වරුන් සහ සමාජවාදී-විප්ලවවාදීන් දක්වා වූ සියලු දෙනාගේම සම්බන්ධය ඇතිව පෙට්‍රෝග්‍රෑඩය පාවා දීමට කරන ලද ''වහල් හිමියන්ගේ කුමන්ත්‍රණය'' වැනි[111]) කුමන්ත්‍රණ සුන් කිරීමේද, ප්‍රධාන සහ මූලික කර්තව්‍යය ඉටු කිරීමට යොමු වීම ස්වාභාවික හා නොවැලැක්විය හැකි දෙයක් විය. නමුත් මෙම කර්තව්‍යය හා සමගම, තවත් කර්තව්‍යයක් ඉදිරියට එන්නේය. එයද කල් ගත වෙත්ම මුලින් සඳහන් කර්තව්‍යය මෙන්ම අනිවාරණීය ලෙස හා වඩ වඩාත් අත්‍යාවශ්‍ය ලෙස පෙරට එන්නේය. එය නම්, නියත වශයෙන් කොමියුනිස්ට් ක්‍රමය ගොඩනැගීමේ, නව ආර්ථික සම්බන්ධකම් ගොඩනැගීමේ, නව සමාජයක් ගොඩ නැගීමේ කර්තව්‍යයයි.

මා එක් වරකට වඩා පෙන්නුම් කළ පරිදි, වෙනත් අවස්ථාවලදී මෙන්ම, මාර්තු 12 දින මා පෙට්‍රෝග්‍රෑඩ් සෝවියට් සභාවේ රැස්වීමට කළ කථාවේදී සඳහන් කළ පරිදි, නිර්ධන පංති ආඥාදායකත්වය යනු සූරාකන්නන්ට විරුද්ධව බලහත්කාරය යෙදීම පමණක් නොවේ. ඒ තබා එය ප්‍රධාන වශයෙන් බලහත්කාරය යෙදීම වුවද නොවේ. විප්ලවවාදී බලහත්කාරයේ ආර්ථික පදනම වන්නේත්, එහි බලගතු බව හා සඵලත්වයේ සහතිකය වන්නේත්, ධනපති ක්‍රමයට වඩා උසස් වන සමාජමය ශ්‍රම සංවිධානයක් නියෝජනය කිරීමට හා නිර්මාණය කිරීමට නිර්ධන පංතියට හැකි වීමෙනි. වැදගත් කරුණ මෙයයි. ශක්තියේ ප්‍රභාව මූලය සහ කොමියුනිස්ට් ක්‍රමයේ අවසාන ජයග්‍රහණයේ අනිවාරණීයත්වයේ සහතිකය මෙයයි.

වැඩවසම් ක්‍රමයේ සමාජ ශ්‍රම සංවිධානය රැඳී පැවතුනේ පොල්ලේ විනය මතය. ඒ අතර, ඉඩම් හිමියන් විසින් මංකොල්ල කන ලද හා තලා පෙළන ලද වැඩ කරන ජනයා අන්ත අඥාන භාවයෙහි සහ දීනත්වයෙහි ගිලී සිටියහ. ධනපති ක්‍රමයේ සමාජ ශ්‍රම සංවිධානය සාගින්නේ විනය මත රැඳුනේ විය. එනිසා, ධනපති සංස්කෘතියේ හා ධනපති ප්‍රජාතන්ත්‍රවාදයේ කොතරම් දියුණුවක් පෙනෙන්නට තිබුණත්, ඉතාමත් දියුණු, ශිෂ්ටාචාර හා ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුවල පවා වැඩ කරන ජනතා අති බහුතරය, ධනපතියන් අතලොස්සක් විසින් කොල්ල කනු ලබන හා තලනු පෙළනු ලබන, අඥාන හා හීන දීන වේතන වහලුන් නැතහොත්, පීඩිත ගොවිජන සමූහයක් විය. කොමියුනිස්ට් ක්‍රමයේ — එම ක්‍රමය කරා යන ප්‍රථම පියවර සමාජවාදය වේ — සමාජ ශ්‍රම සංවිධානය රැඳී පවත්නේ, ඉඩම් හිමියන් සහ ධනපතියන් යන දෙකොටසෙහිම වියගස ඉවත ලූ වැඩ කරන ජනතාව තමන්ම ඇති කර ගන්නා හා කල් යත් යත්ම වඩාත් සම්පූර්ණ ලෙස ඇති කර ගන්නා, වැඩ කරන ජනතා විනය මතය.

මෙම නව විනය අහසෙන් වැටෙන්නේ නැත. නැතහොත්, එය අහිංසක ප්‍රාර්ථනාවලින් මතුවන්නේද නැත. එය මහාපරිමාණ ධනපති නිෂ්පාදනයේ ද්‍රව්‍යමය කොන්දේසිවලින් වැඩී උද්ගත වන්නකි. එම විනය උපදනේ එයින්ම පමණකි. එම කොන්දේසි නොමැතිව එම විනය ඇතිවිය නොහැක්කේය. තවද, එම ද්‍රව්‍යමය කොන්දේසි සහිත භාණ්ඩාගාරය, නැතහොත්, ඒවා ගෙන එන වාහනය මහා පරිමාණ ධනපති ක්‍රමය විසින් නිර්මාණය කෙරෙන, සංවිධානය කෙරෙන, එක්සත් කෙරෙන, පුහුණු කෙරෙන, ශික්ෂණය කෙරෙන හා දැඩි කෙරෙන එකම නිශ්චිත ඓතිහාසික පංතියකි. මෙම පංතිය වූකලී නිර්ධන පංතිය ය.

අපි, ලතින් බස අනුව ගත් ''නිර්ධන පංති ආඥාදායකත්වය'' යන වචන වඩාත් සරල භාෂාවට පරිවර්තනය කරන්නෙමු නම්, එහි අර්ථය හුදෙක්ම මෙසේය:

ප්‍රාග්ධනයේ වියගස ඉවත ලීමට කරන අරගලයේදී, එම කර්තව්‍යය සැබැවින්ම ඉටු කිරීමේදී, ජයග්‍රහණය රැකගැනීමට හා තහවුරු කිරීමට කරන අරගලයේදී, නව, සමාජවාදී සමාජ ක්‍රමය නිර්මාණය කිරීමේ වැඩ කටයුතු වලදී සහ පංති සම්පූර්ණයෙන්ම අහෝසි කිරීමට ගෙනයන මුළු මහත් අරගලයේ දී වැඩ කරන හා සූරාකනු ලබන මුළු ජනකායටම නායකත්වය දීමට සමත් වන්නේ එකම නිශ්චිත පංතියක් පමණකි. එම පංතිය නම්, නාගරික කම්කරුවන් සහ පොදුවශයෙන් පැක්ටරි, කාර්මික කම්කරුවන්ය. (සමාජවාදී ක්‍රමය හා කොමියුනිස්ට් ක්‍රමය අතර ඇති එකම විද්‍යානුකූල වෙනස, ධනපති ක්‍රමයෙන් පැන නගින නව සමාජයේ ප්‍රථම අවධිය ප්‍රථම පාඨයෙන්ද, එහි ඊළඟ, වඩාත් උසස් අවධිය



දෙවන පාඨයෙන්ද අදහස් වීම බව මෙහි ලා අමතර වශයෙන් සඳහන් කරමු.)

''බර්න්'' ජාත්‍යොන්මාදවාදී ජාත්‍යන්තරය[112] කරන වරද නම්, එහි නායකයන් පංති අරගලයත්, නිර්ධන පංතියේ නායක කාර්ය භාරයත්, වචනයෙන් පමණක් පිළිගන්නා අතර, එහි තර්කානුකූල අවසානය ගැන සිතා බැලීමට ඔවුන් බියවීමය. විශේෂයෙන්ම ධනපති පංතිය තැති ගන්වන හා ඔවුන්ට කිසිසේත් පිළිගත නොහැකි වන අනිවාර්ණීය නිගමනයට එම නායකයෝ බියවෙති. නිර්ධන පංති ආඥාදායකත්වය පංති අරගලයේ කාල පරිච්ඡේදයක්ම වන බවද, පංති අහෝසි කර නොමැති තාක් කල් එය නොවැලැක්විය හැකි බවද, එසේම, එය වෙනස් ආකෘති ගන්නා බව හා ප්‍රාග්ධන පෙරළා දැමීමෙන් ඉක්බිති මුල් කාලයේදී විශේෂයෙන්ම සැඩ පරුෂ වන බවද, පිළි ගැනීමට ඔවුහු බිය වෙති. නිර්ධන පංතිය බලය අල්වා ගත් පසු පංති අරගලය නවත්වන්නේ නැත. පංති අහෝසි වන තෙක්ම එය එම අරගලය ගෙනයයි. නමුත් එම අරගලය ගෙන යන්නේ විවිධාකාර තත්වයන් යටතේය. විවිධාකාර ආකෘති තුළිනි. විවිධාකාර මාධ්‍යයන් උපයෝගී කරගනිමිනි.

අනිත් අතට, ''පංති අහෝසි කිරීම'' යන්නෙන් අදහස් වන්නේ කුමක්ද? තමන් සමාජවාදීන් යයි කියාගන්නා සියලු දෙනාම, මෙය සමාජවාදයේ අවසාන අරමුණ ලෙසට පිළිගනිති. නමුත් ඒ සියලු දෙනාම එහි අර්ථය ගැන කිසිසේත් සිතා නොබලති. පංති වූකලී, ඓතිහාසික වශයෙන් නිර්ණය වූ සමාජමය නිෂ්පාදන ක්‍රමයක් තුළ තමන් දරන තැන විසින්ද, නිෂ්පාදන මාර්ග කෙරෙහි ඇති (බොහෝ විට නීතියෙන් නියම කර හා පැහැදිලි කර ඇති) සම්බන්ධතාවය විසින්ද, සමාජ ශ්‍රම සංවිධානය තුළ ඔවුන් ඉටු කරන කාර්ය කොටස විසින්ද, ඒ අනුව ඔවුන් පරිහරණය කරන සමාජ වස්තුවෙහි ප්‍රමාණය සහ එය ලබා ගන්නා ක්‍රමය විසින්ද අන්‍යොන්‍ය වශයෙන් වෙනස් වන විශාල ජන කණ්ඩායම් වේ. පංති වූකලී, නිශ්චිත සමාජ ආර්ථික ක්‍රමයක් තුළ තම තමන් දරන විවිධ තැන් අනුව එක් කොටසකට තවත් පිරිසකගේ ශ්‍රමය අත්පත් කර ගැනීමේ හැකියාව ඇති ජන කණ්ඩායම් වේ.

පංති සම්පූර්ණයෙන්ම අහෝසි කරනු සඳහා, සූරාකන්නන්, ඉඩම් හිමියන් හා ධනපතියන් බලයෙන් පහකිරීම ප්‍රමාණවත් නොවන බව පැහැදිලිය. ඒ සඳහා ඔවුන්ගේ හිමිකම් අයිතිවාසිකම් අහෝසි කිරීම ප්‍රමාණවත් නොවේ. පංති අහෝසි කරනු සඳහා නිෂ්පාදන මාර්ග පිළිබඳ සියලු පුද්ගලික හිමිකම් අහෝසි කිරීම අවශ්‍යය. නගරය හා ගම අතර වෙනස අහෝසි කිරීම අවශ්‍යය. එමෙන්ම වෙර වැඩ කරන්නන් හා මානසික වැඩ කරන්නන් අතර වෙනස නැති කිරීම අවශ්‍යය. මේ සඳහා

ඉතා දීර්ඝ කාලයක් ගත වේ. මෙය සාර්ථක කරගැනීම පිණිස නිෂ්පාදනීය බලවේගයන් සංවර්ධනය කිරීම අතින් දූවැන්ත ඉදිරි පියවරක් ගත යුතුය. කුඩා පරිමාණ නිෂ්පාදනයේ නිමක් නැති නෂ්ඨාවශේෂයන් ජය ගත යුතුය. (ඒවා බොහෝවිට ක්‍රියාශීලී නොවෙතත්, ඉතාමත් දැඩි හා පරාජය කිරීම දුෂ්කරවේ.) මෙම නෂ්ඨාවශේෂයන් හා සම්බන්ධ පුරුද්දේ බලය හා ගතානුගතිකත්වය යටපත් කිරීම අවශ්‍යය.

''වැඩ කරන ජනතාව'' සියලු දෙනාටම මෙම වැඩ කිරීමේ සමාන හැකියාවක් ඇතැයි සිතීම පුස්සක් වනු ඇත. එසේ නැතහොත්, එය මහෝඝ පූර්ව, මාක්ස් පූර්ව සමාජවාදියෙකුගේ මායා මතයක් වනු ඇත. එසේ කියන්නේ මෙම හැකියාව ස්වේච්ඡාවෙන් මතුවන දෙයක් නොව, ඓතිහාසික වශයෙන් වැඩෙන, එමෙන්ම මහා පරිමාණ ධනපති නිෂ්පාදනයේ ද්‍රව්‍යමය කොන්දේසි කෙරෙන් පමණක් වැඩී එන දෙයක් වන හෙයිනි. ධනපති ක්‍රමයේ සිට සමාජවාදයට යන ගමනේ මුල් අදියරෙහි දී මෙම හැකියාව ඇත්තේ නිර්ධන පංතියට පමණකි. තමන් හමුවේ තිබෙන යෝධ කර්තව්‍යය ඉටු කිරීමේ හැකියාව නිර්ධන පංතියට ඇත. එසේ වන්නේ ප්‍රථමයෙන්ම, එය ශිෂ්ටාචාර සමාජවල ඇති ඉතාමත් බලවත් හා ඉතාමත් දියුණු පංතිය වන හෙයිනි. දෙවැනිව, දියුණු රටවල ජනගහනයෙන් බහුතරය එයින් සමන්විත වන හෙයිනි. තුන්වැනිව, රුසියාව වැනි නොදියුණු ධනපති රටවල ජනගහනයෙන් බහුතරය අර්ධ නිර්ධන පංතිකයන්ගෙන්, එනම්, අවුරුද්දේ කොටසක් නිතිපතාම නිර්ධන පංති ලෙස වෙසෙන අයගෙන්, නිතිපතාම ස්වකීය ජීවනෝපායෙන් කොටසක් ධනපති ව්‍යවසායවල වේතන කම්කරුවන් ලෙසට උපයා ගන්නා අයගෙන් සමන්විත වන හෙයිනි.

නිදහස, සමානත්වය, සමාන්‍ය ප්‍රජාතන්ත්‍රවාදය, ශ්‍රම ප්‍රජාතන්ත්‍රවාදයේ සමානත්වය ආදිය ගැන (බර්න් ජාත්‍යාන්මාදවාදී ජාත්‍යන්තරය කෞට්ස්කි, මාර්තව් සහ වෙනත් වීරයන් මෙන්) පොදුවේ කථා කිරීම පදනම්කරගෙන, ධනපති ක්‍රමයේ සිට සමාජවාදයට පරිවර්තනය වීම හා සම්බන්ධ ප්‍රශ්න විසඳීමට උත්සාහ දරන අය කරන්නේ, තමන්ගේ සුළු ධනපති අමන ස්වභාවය හෙළිදරව් කිරීම හා දෘෂ්ටිමය වශයෙන් දාස ආකාරයෙන් ධනපති පංතිය පසු පස්සේ ගමන් කිරීම පමණකි. මෙම ප්‍රශ්නයට නිවැරදි විසඳීමක් සොයා ගත හැක්කේ, දේශපාලන බලය දිනාගත් විශේෂ පංතිය වන නිර්ධන පංතියත්, මුළු මහත් නිර්ධන පංති නොවන හා අර්ධ නිර්ධන පංතික බහුජනකායත්, අතර වන විශේෂිත සම්බන්ධකම් ගැන යථාභූත අධ්‍යයනයක් මගින් පමණකි. එම සම්බන්ධකම් හැඩගැසෙන්නේ මනෝ විකාරයන් මෙන් සංගත වූ ''පරමාදර්ශ'' කොන්දේසි යටතේ නොව, බොහෝ සහ විවිධ ආකෘති



ගන්නා දරුණු ධනපති ප්‍රතිරෝධයේ සැබෑමය කොන්දේසි යටතේය.

රුසියාව ඇතුළු ඕනෑම ධනපති රටක ජනගහනයෙන් අති බහුතරය, වැඩ කරන ජනගහනයෙන් ඊටත් වැඩි කොටසක්, ප්‍රාග්ධනයේ පීඩනයත්, එහි මංකොල්ලය සහ මහා අපරාධත්, වාර දහස් ගණනින් තමන්ම හා තම නෑදෑ වර්ගයා මගින් අත් දැක ඇත්තේය. අධිරාජ්‍යවාදී යුද්ධය නිසා, එනම්, මුළු ලෝකයම සූරාකෑමේ ආධිපත්‍යය තිබිය යුත්තේ බ්‍රිතාන්‍ය ප්‍රාග්ධනයටද, නැතහොත්, ජර්මන් ප්‍රාග්ධනයටද, යන්න නිගමනය කිරීමට මිනිසුන් කෝටි ගණනින් ඝාතනය කිරීම නිසා, මෙම වධ වේදනා තවත් බෙහෙවින් උග්‍ර වී තිබේ. ඒවා වැඩි වී හා තියුණු වී තිබේ. ඒවායේ අර්ථය ගැන වැටහීමක් ජනතාවට ලැබී තිබේ. ජනගහනයෙන්, විශේෂයෙන්ම වැඩ කරන ජනතාවගෙන් අතිබහුතරය අනිවාරණීය වශයෙන්ම නිර්ධන පංතියට හිතවත් කම් දක්වන්නේ එහෙයිනි. ඔවුන් එයට හිතවත් කම් දක්වන්නේ ප්‍රාග්ධනයේ වියගස ඉවත ලීමේදී, සූරාකන්නන් බලයෙන් පහකර දැමීමේදී සහ ඔවුන්ගේ ප්‍රතිරෝධය මර්දනය කිරීමේදී එය විප්ලවවාදී නිර්දයභාවයක් පාන නිසාත්, සූරාකන්නන්ට ඉඩ නැති නව සමාජයක් නිර්මාණය කිරීමේදී, එය එහි රුධිරය පූජා කරන නිසාත්ය.

නිර්ධන පංතික නොවන ජනයාගේ සහ වැඩ කරන ජනගහනයේ අර්ධනිර්ධන පංතික ජනකායෙහි වැනෙනසුලු ගති සහ ධනපති පංතියේ ''සෙවනේ'' සිටීමින් ධනපති ''ක්‍රමය'' වෙත ආපසු යාමට ඇති නැඹුරුව කොතරම් බලවත් හා අනිවාරණීය වුවත්, ඔවුන්ට නිර්ධන පංතියේ සදාචාර සහ දේශපාලන අධිකාරය, එනම්, සූරාකන්නන් බලයෙන් පහකිරීම හා ඔවුන්ගේ ප්‍රතිරෝධ මැඩලීම පමණක් නොව, නව සහ වඩාත් උසස් සමාජ බැඳියාවක්, සමාජ විනයක්, නැතහොත්, තමන්ගේම සමගියේ, වැඩි පංති විඥනයක් ඇති, එඩිතර, දැඩි, විප්ලවවාදී සහ ස්ථිරසාර පෙරමුණු බල ඇණියේ අධිකාරය හැර, වෙනත් කිසිම අධිකාරයක් හෝ බැඳුමක් නොදන්නා පංති විඥනය ඇති සහ එක්සත් වූ වැඩ කරන ජනතාවගේ විනය ගොඩනැගීමද කරමින් සිටින ඒ නිර්ධන පංතියේ සදාචාර සහ දේශපාලන අධිකාරය පිළි නොගෙන සිටීමට බැරිය.

ජයග්‍රහණය අත්පත් කර ගැනීම සඳහා, සමාජවාදය ගොඩනැගීම සහ තහවුරු කිරීම සඳහා නිර්ධන පංතිය දෙආකාර, නැතහොත්, ද්විධ කර්තව්‍යයක් ඉටු කළ යුත්තේය. ප්‍රථමයෙන්, ප්‍රාග්ධනයට විරුද්ධව කරන විප්ලවවාදී අරගලයේදී එය ගෙන හැර පාන උදරතර වීරත්වය මගින් එය මුළු මහත් වැඩ කරන සහ සූරාකනු ලබන පොදුජනතා සමූහයාම දිනාගත යුතුය. එය ඔවුන් දිනාගෙන, සංවිධානය කර, ධනපති පංතිය බලයෙන් පහකිරීමට සහ ධනපතියන්ගේ ප්‍රතිරෝධය මර්දනය කිරීමට

කරන අරගලයේදී ඔවුන්ට නායකත්වය දිය යුතුය. දෙවැනිව, නව ආර්ථික සංවර්ධනයක් කරා යන මාර්ගයේදී, නව සමාජ බැඳියාවක්, එනම්, නව ශ්‍රම විනයක්, නැතහොත්, මහා පරිමාණ සමාජවාදී කර්මාන්ත නිර්මාණය කෙරෙන ලෙසට විද්‍යාවේ හා ධනපති කාර්මික ශිල්පයේ උපරිමතම වර්ධනයත්, පංති විඥානය ඇති කම්කරුවන් සංවිධානය කිරීමත් යන දෙක එකට සම්බන්ධ කිරීමක් දෙසට යන ගමනේ දී, එය, වැඩ කරන සහ සූරාකනු ලබන මුළු ජනතාවට සහ සියලුම සුළු ධනපති කොටස්වලටද නායකත්වයක් දිය යුතුය.

මෙහි සඳහන් දෙවැනි කර්තව්‍යය ප්‍රථම කර්තව්‍යයට වඩා දුෂ්කරය. එයට හේතුව, එය වීර උද්වේගයේ තනි ක්‍රියා මගින් ඉටු කළ හැකි නොවීමය. ඒ සඳහා දිනපතා කරන අවිශේෂ වැඩ ඉටු කිරීමෙන් දක්වන ඉතාමත් දිග්ගැස්සුනු, ඉතාමත් අනවරථ සහ ඉතාමත් දුෂ්කර පොදුජන වීරත්වයක් අවශ්‍ය වන්නේය. නමුත් මෙම කර්තව්‍යය ප්‍රථම කර්තව්‍යයට වඩා අවශ්‍ය වේ. මන්ද යත්, අවසාන විග්‍රහය අනුව බලන කළ, ධනපති පංතිය පරදවා ලබන ජයග්‍රහණයන්ට ශක්තිය සපයන ගැඹුරුතම ප්‍රභව මූලයත්, මෙම ජයග්‍රහණයන්ගේ කල්පවත්නා සහ ස්ථිර භාවය පිළිබඳ එකම සහතිකයත්, අනෙකක් නොව, නව සහ උසස් නිෂ්පාදන ක්‍රමයක්, එනම්, ධනපති සහ සුළු ධනපති නිෂ්පාදනය වෙනුවට මහා පරිමාණ සමාජවාදී නිෂ්පාදනය ආදේශ කිරීමක් වන හෙයිනි.

* * *

"කොමියුනිස්ට් සුබොත්නික්" වලින් ප්‍රදර්ශනය වන්නේ, ශ්‍රමඵලදායකත්වය වැඩි කිරීමේ දී, නව ශ්‍රම විනයක් පිළිගැනීමේදී, ආර්ථිකයේ හා ජීවිතයේ සමාජවාදී කොන්දේසි නිර්මාණය කිරීමේදී කම්කරුවන් දක්වන විඥාත සහ ස්වේච්ඡා ක්‍රියාරම්භකත්වයක් වන හෙයින්, ඒවා එතරම් මහා ඓතිහාසික වැදගත් කමකින් යුක්තය.

1870–1871 පාඩම්වලින් පසුව ජාත්‍යොන්මාදවාදය වෙත, නැතහොත්, ජාතික ලිබරල්වාදය වෙත නොව, සමාජවාදය වෙත පා තැබූ ස්වල්ප දෙනෙක් වූ, වඩාත් නිවැරදි ලෙස කියතොත් අතිශය දුර්ලභයන් වූ, ජර්මන් ධනපති ප්‍රජාතන්ත්‍රවාදීන් අතුරෙන් කෙනෙක් වූ ජේ. යාකොබි වරක් කී පරිදි, එක වෘත්තීය සමිතියක් පිහිටුවීම සදෝවයා[113] සංග්‍රාමයට වඩා ඓතිහාසික වශයෙන් වැදගත් විය. එය සත්‍ය කියමනකි. සදෝවයා සංග්‍රාමයෙන් තීරණය වූයේ ජර්මන් ජාතික ධනපති රාජ්‍යයක් පිහිටුවීමේදී ධනපති රාජාණ්ඩු දෙකකින්, එනම්, ඕස්ත්‍රියානු හා ප්‍රරුසියානු යන රාජාණ්ඩු දෙකෙන් කුමක් ආධිපත්‍යය දැරිය යුතුද යන්නය. එක වෘත්තීය සමිතියක් පිහිටුවීම යනු, ධනපති පංතිය



පරදවා නිර්ධන පංතිය ලබන ලෝක ජයග්‍රහණය කරා යන ගමනේ කුඩා පියවරක් විය. එලෙසින්ම, මොස්කව්හි මොස්කව්-කසාන් දුම්රිය සේවයේ කම්කරුවන් විසින් 1919 මැයි 10 දින සංවිධානය කරන ලද ප්‍රථම කොමියුනිස්ට් සුබොත්නික් වැඩ දිනය 1914–1918 අධිරාජ්‍යවාදී යුද්ධයේදී හින්දන්බුර්ග්, නැතහොත්, ෆොෂ් හා බ්‍රිතානීන් ලත් ඕනෑම ජයග්‍රහණයකට වඩා ඓතිහාසික වශයෙන් වැදගත් වූ බව අපට කිව හැකිය. අධිරාජ්‍යවාදීන්ගේ ජයග්‍රහණවලින් අදහස් වන්නේ ඉංග්‍රිසි-ඇමෙරිකන් සහ ප්‍රංශ කෝටිපතියන්ගේ ලාභ උදෙසා දශ ලක්ෂ ගණන් කම්කරුවන් ඝාතනය කිරීමය. එම ජයග්‍රහණ වූකලී, වැඩියෙන් කෑම නිසා තරවුනු හා පණපිටින්ම කුණුවන, එසේම මරණයට කැප වූ ධනපති ක්‍රමයේ කෲරකම් විය. මොස්කව්-කසාන් දුම්රිය සේවයේ කම්කරුවන් විසින් සංවිධානය කරන ලද කොමියුනිස්ට් සුබොත්නික් වැඩ දිනය මිහිතලයේ වෙසෙන ජනතාවට ප්‍රාග්ධනයේ වියගසෙන් හා යුද්ධ වලින් නිදහස ළඟා කර දෙන සෙල අතුරෙන් එකකි.

ධනපති මහත්වරුද, තමන් "මහජන මතයේ" නියෝජිතයන් ලෙස සලකාගැනීමට පුරුදුව සිටින මෙන්ෂෙවික්වරුන් සහ සමාජවාදීවිප්ලවවාදීන් ඇතුළු ඔවුන්ගේ අන්තේවාසිකයෝ ද ස්වාභාවික ලෙසින්ම කොමියුනිස්ට්වාදීන්ගේ බලාපොරොත්තු සිනහවට ලක් කරති. ඔවුහු එම බලාපොරොත්තු "මල් පෝච්චිවල සිටවූ මහා වෘක්ෂ" ලෙසට හඳුන්වති. සොරකම් කිරීම, උදාසීනත්වය, අඩු නිෂ්පාදකත්වය, අමුද්‍රව්‍ය හා නිමිභාණ්ඩ නාස්තිය, ආදිය පිළිබඳ රාශියක් අවස්ථා හා සමග සසඳන කල, සුබොත්නික් සංඛ්‍යාව අල්ප ස්වල්ප වීම ගැන ඔවුහු උසුළු විසුළු කරති. ධනපති බුද්ධිමත්හු, ධනපතියන්ගේ බලය යළි ස්ථාපිත කිරීම සඳහා තම දැනුම රුසියානු සහ විදේශ ධනපතියන්ට නොදී, එය වැඩ කරන ජනතාවට ආධාර කිරීමට කැප කළෝ නම්, විප්ලවය මීට වඩා සීඝ්‍ර ලෙස හා සාමකාමීව ඉදිරියට යන්නට තිබුණු බව කියමින් අපි ඊට පිළිතුරු දෙන්නෙමු. නමුත්, එම ප්‍රශ්නය පංති අරගලයෙන් විසඳෙන්නක් වන නිසා සහ බුද්ධිමතුන්ගෙන් බහුතරය ධනපති පැත්තට නැඹුරුවන නිසා, බුද්ධිමතුන් වැඩ කරන ජනතාවට එසේ ආධාර කරතැයි සිතීම මනෝරාජික වනු ඇත. නිර්ධන පංතිය එහි ජයග්‍රහණය ලබනු ඇත්තේ බුද්ධිමතුන්ගේ ආධාරයෙන් නොවේ. ඔවුන්ගේ (යටත් පිරිසෙයින් වැඩි දෙනෙකුගේ හෝ) විරුද්ධත්වය මධ්‍යයේය. එහිදී අසාධ්‍ය ලෙස ධනපති වන අය ඉවත් කිරීමටද, වැනෙන්නන් පුනරුත්ථාපනය කර, යළි උගන්වා සහ අවනත කර ගැනීමටද, ක්‍රමානුකූල ලෙස ඔවුන්ගෙන් වඩාත් විශාල කොටස් තම පැත්තට දිනා ගැනීමට ද නිර්ධන පංතියට සිදුවනු ඇත. විප්ලවයේ දී මතුවන අමාරුකම් හා පසුබැසීම් ගැන උදම් ඇනීම,

තැතිගැන්ම පැතිරවීම, අතීතය වෙත ආපසු යන ලෙස දේශනා කිරීම, යන මේ සියල්ලම ධනපති බුද්ධිමතුන්ගේ පංති අරගලයේ ආයුධ හා විධික්‍රම වන්නේය. ඔවුන් විසින් තමන් රවටනු ලැබීමට නිර්ධන පංතිය ඉඩ නොදෙනු ඇත.

අපි යථාර්ථය ගැන බලන්නෙමු නම්, දීර්ඝ පසු බැසීම්, වැරදීම් හා ආපසුයාම් මාලාවකට මුහුණ නොදී ඉතිහාසයේ කිකලක හෝ නව නිෂ්පාදන ක්‍රමයක් තහවුරු වී තිබේද? ප්‍රවේණිදස ක්‍රමය අහෝසි කිරීමෙන් අර්ධ ශත වර්ශයකට පසුව රුසියාවේ ප්‍රවේණිදස ක්‍රමයේ[114] නෂ්ඨාවශේෂයන් රැසක් තවමත් තිබිණි. ඇමරිකාවේ වහල් ක්‍රමය අවලංගු කිරීමෙන් අර්ධ ශතවර්ෂයකට පසුවද, එහි නීග්‍රෝවරුන්ගේ තත්වය බොහෝ විට තවමත් අර්ධ වහල් ස්වභාවයක් ගත්තේය. මෙන්ෂෙවික්වරුන් සහ සමාජවාදී-විප්ලවවාදීන් ඇතුළු ධනපති බුද්ධිමත්හු ධනපතියන්ට සේවය කිරීමේදී සහ අන්ත බොරු තර්ක දිගටම උපයෝගී කර ගැනීමේදී, ස්වකීය හෘදය සාක්ෂියට අනුව කටයුතු කරති. නිර්ධන පංති විප්ලවයට පෙර ඔවුහු අප මනෝරාජිකවාදීන් ලෙසට හඳුන්වා අපට චෝදනා කලහ. විප්ලවයෙන් පසු අතීතයේ සියලු සටහන් අද්භූත සීඝ්‍රතාවයකින් මකා දමන ලෙස ඔවුහු අපට බල කරති!

අපි මනෝරාජිකවාදීන් නොවන්නෙමු. එපමණක් නොව, අපි ධනපති ''තර්කවල'' නියම අගයද දන්නෙමු. විප්ලවයෙන් පසු යම් කලක් ගතවන තෙක් නව ජීවනයේ ලාබාල අංකුර වලට වඩා පැරණි ආචාර ධර්මවල සෙවනැලි බලවත්ව පවතිනු ඇති බවද අපි දන්නෙමු. අළුත් දෙය උපන් වහාම කලක් යන තෙක් පැරැන්න එයට වඩා නිතරම ශක්තිමත්ව පවතින්නේය. ස්වභාව ධර්මයේ හා සමාජ ජීවිතයේ නිතරම බලපවත්වන ස්වභාවය එයයි. බුද්ධිමතුන් සහ එවැනි වෙනත් අය නව ක්‍රමයේ ලාබාල අංකුරවල නොදැඩි කම ගැන උසුළු විසුළු කිරීම සහ හරයක් නොමැති සැක පහළ කිරීම, යන මේවා ප්‍රධාන වශයෙන් නිර්ධන පංතියට විරුද්ධව ධනපති පංතිය ක්‍රියාත්මක කරන පංති අරගල ක්‍රම වේ. ඒවා, සමාජවාදයට එරෙහිව ධනපති ක්‍රමය ආරක්ෂා කිරීමේ ක්‍රමයක්වේ. නොදැඩි නව අංකුර ගැන අපි සුපරීක්ෂාකාරී ලෙස අධ්‍යයනය කළ යුත්තෙමු. අපි ඒවා කෙරෙහි මහත් අවධානයක් යොමු කළ යුත්තෙමු. ඒවායේ වර්ධනයට ආධාර දීමට හා ඒවා ''හද වඩා ගැනීමට'' සියල්ලක්ම කළ යුත්තෙමු. එයින් සමහරක් විනාශ වී යාම නොවැලැක්විය හැකි වනු ඇත. හරියටම ''කොමියුනිස්ට් සුබොත්නික්'' ව්‍යාපාරයම විශේෂ වැදගත් කාර්ය කොටසක් ඉටු කරනු ඇතැයි යන්න අපට සහතික කිරීමට පුළුවන් කමක් නැත. නමුත් වැදගත් කරුණ එය නොවේ. වැදගත් කරුණ නම්, සෑම අළුත් අංකුරයක්ම එකක් හෝ නොහැර පෝෂණය කළ යුතු බවය. එයින්



වැඩීම ප්‍රරෝහණ ශක්තිය ඇති ඒවා තේරීම ජීවිතය විසින් සිදු කෙරෙනු ඇත. බෙහෙත් නිෂ්පාදන හයසිය පහක් අසාර්ථක ලෙස අත්හද බැලීමෙන් පසුව හයසිය හය වැනි නිෂ්පාදනය අත්හද බැලීමෙන් උපදංශ රෝගයට ප්‍රතිකාරයක් වීමට සුදුසුකම් ඇති බෙහෙත සොයා ගැනීමට තරම්, එම ප්‍රතිකාරය සොයාගත් ජපන් විද්‍යාඥයාට ඉවසීමක් තිබුණේ නම්, ඊට වඩා බොහෝ දුෂ්කර ප්‍රශ්නයක් වන ධනපති ක්‍රමය පරාජය කිරීමේ ප්‍රශ්නය විසඳීමට බලාපොරොත්තු වන අයට, ඒ සඳහා යොදා ගතහැකි ඉතාමත්ම සුදුසු නව විධික්‍රම, මාධ්‍යයන් හා අවිආයුධ ගැන විස්තර විභාග නියම කරගැනීමට පෙර, ඒවා ලක්ෂ ගණනක් අත්හද බැලීමට තරම් ධෛර්යයක් තිබිය යුතුය.

''කොමියුනිස්ට් සුබොත්නික්'' ආරම්භ කරන ලද්දේ විශේෂ හොඳ තත්වයන් කිසිවක් භුක්ති නොවිඳින, විවිධ විශේෂඥතාවයන් ඇති කම්කරුවන් හා සමහර දෙනෙක් සාමාන්‍ය, එනම්, අතිශයින්ම දුෂ්කර තත්වයන් යටතේ සිටි, විශේෂඥතාවයක් නොමැති, හුදෙක්ම නොපුහුණු කම්කරුවන් විසින් වන නිසා, ඒවා එතරම් වැදගත්ය. රුසියාවේ පමණක් නොව, මුළු ලෝකයේම දක්නට ලැබෙන ශ්‍රම ඵලදායකත්වයේ පහත වැටීමට හේතුව අපි සියලු දෙනාම දන්නෙමු. එයට හේතුව, අධිරාජ්‍යවාදී යුද්ධය, ලෙඩ රෝග හා මන්ද පෝෂණය නිසා ඇති වූ විනාශය හා දරිද්‍රතාවයය, දැඩි අප්‍රසාදය හා විඩාව වේ. මෙයින් මන්ද පෝෂණය ප්‍රධානය. සාගින්න ඒයට හේතුවයි. අනිත් අතට, සාගින්න පිටු දැකීමට නම්, කෘෂිකර්මාන්තයේ, ප්‍රවාහණයේ සහ කර්මාන්තයේ ශ්‍රම ඵලදායකත්වය වැඩි කළ යුත්තේය. එනිසා, අප මුහුණ පාන්නේ එක්තරා ආකාරයක විෂම වට වලල්ලකටය. ශ්‍රම ඵලදායකත්වය වැඩි කිරීම පිණිස අපි සාගින්නෙන් නිදහස් විය යුත්තෙමු. අනිත් අතට, සාගින්නෙන් නිදහස් වීම සඳහා අපි ශ්‍රම ඵලදායකත්වය වැඩි කළ යුත්තෙමු.

ව්‍යවහාරයේදී එවැනි ප්‍රතිවිරෝධතාවයන් විසඳනු ලබන්නේ, ජනතාවගේ මනෝ ගතියෙහි මූලික වෙනසක් ඇති කිරීමත්, එම මූලික වෙනස පිළිබඳ පසුතලය හමුවේ බොහෝ විට තීරණාත්මක කාර්ය කොටසක් ඉටු කරන පුද්ගල කණ්ඩායම්වල වීරෝදර ක්‍රියාරම්භකතාවයත් විසින් බව අපි දන්නෙමු. මොස්කව් නගරයේ නුපුහුණු ශ්‍රම කරුවන් හා දුම්රිය කම්කරුවන් (අප අදහස් කරන්නේ ඔවුන් බහුතරය ගැන මිස ලාභ ගරන්නන්, නිලධාරීන් හා සුදු හමුද පාක්ෂිකයින් අතලොස්ස ගැන නොවේ) ඉතාමත් දරුණු දුෂ්කර තත්ත්වයන් මධ්‍යයේ වෙසෙන පිරිසකි. නිතරම පාහේ ඔවුන්ට ලැබෙන්නේ ස්වල්ප ආහාරයකි. දැන්, අස්වැන්න එකතු කර ගැනීමට ප්‍රථම, පොදු වශයෙන් නරක අතට හැරෙමින් පවතින මේ වකවානුවේදී ඔවුහු ඇත්ත වශයෙන් සාගින්නේ පෙළෙමින් සිටිති.

එසේ වුවත්, මෙම සාගින්නේ පෙළෙමින් හා ධනපති, මෙන්ෂෙවික් සහ සමාජවාදී-විප්ලවවාදී පිරිස්වල අගති සහිත ප්‍රතිවිප්ලවවාදී උද්ඝෝෂණයෙන් වටවී සිටින කම්කරුවෝ, කිසිම ගෙවීමකින් තොරව අතිකාල වැඩ කරමින්ද, මන්ද පෝෂණය නිසා ඔවුන් වෙහෙසව, හිරිහැරව හා දුර්වලව සිටියත් එය නොතකා ශ්‍රම ඵලදායකත්වයේ අති මහත් වර්ධනයක් අත් කර ගනිමින් ද, "කොමියුනිස්ට් සුබොත්නික්" සංවිධානය කරති. එය ශ්‍රේෂ්ඨ වීරත්වය නොවේද? මෙය මහා වැදගත් වෙනසක ආරම්භය නොවේද?

අවසාන විග්‍රහය අනුව බලන කල, නව සමාජ ක්‍රමයේ ජයග්‍රහණය සඳහා අන් සියල්ලටම වඩා වැදගත් වන්නේ හා ප්‍රධාන වන්නේ ශ්‍රම ඵලදායකත්වයය. ප්‍රවේණිදාස ක්‍රමය යටතේ කිසි කලෙකත් නොදුටු ශ්‍රම ඵලදායකත්වයක් ධනපති ක්‍රමය විසින් ජනිත කරන ලදී. නව සහ ඉතා උසස් ශ්‍රම ඵලදායකත්වයක් නිර්මාණය කිරීම මගින් සමාජවාදය විසින් ධනපති ක්‍රමය අන්ත පරාජයට පත් කරනු ලැබිය හැකිය. මෙය ඉතා දුෂ්කර කටයුත්තකි. ඒ සඳහා දීර්ඝ කාලයක් අවශ්‍යය. නමුත් එය ආරම්භ කර තිබේ. වැදගත් කාරණය එයයි. අධිරාජ්‍යවාදී යුද්ධයේ අමාරු හතර වර්ෂයකත්, ඊටත් වඩා අමාරු සිවිල් යුද්ධයේ වර්ෂ එක හමාරකත් දුක් ගැහැට වින්ද, සාගතයෙන් පෙළෙන මොස්කව් නගරයේ වෙසෙන, සාගින්නේ දැවෙන කම්කරුවන්ට 1919 ග්‍රීෂ්ම ඍතුවේදී මෙම ශ්‍රේෂ්ඨ කටයුත්ත ආරම්භ කළ හැකි වී නම්, අප සිවිල් යුද්ධයෙන් ජය ගෙන, සාමය දිනාගත් පසු වැඩ කටයුතු කෙසේ සංවර්ධනය වනු ඇද්ද?

කොමියුනිස්ට් ක්‍රමය යනු දියුණු ශිල්ප ක්‍රම උපයෝගී කර ගනිමින්, ස්වේච්ඡාවෙන්, පංති විඥානය ඇතිව හා එක්සත්ව වැඩ කරන කම්කරුවන්ගේ උසස්, එනම්, ධනපති ක්‍රමය යටතේ පවතින මට්ටමට වඩා උසස්, ශ්‍රම ඵලදායකත්වය ය. කොමියුනිස්ට් ක්‍රමයේ සැබෑ ආරම්භය වශයෙන් කොමියුනිස්ට් සුබොත්නික් අති විශේෂයෙන්ම වැදගත්ය. එමෙන්ම, මෙය ඉතා දුර්ලභ දෙයකි. එසේ කියන්නේ, අප දැනට සිටින අවධිය (අපගේ පක්ෂ වැඩ පිළිවෙළ[115] නිවැරදි ලෙස පෙන්වා දෙන පරිදි) "ධනපති ක්‍රමයේ සිට කොමියුනිස්ට් ක්‍රමයට සංක්‍රමණය වීමේ ප්‍රථම පියවරයන් පමණක්" ගන්නා අවධියක් හෙයිනි.

කොමියුනිස්ට් ක්‍රමය ආරම්භ වන්නේ, කම්කරුවන්ට පෞද්ගලිකව, නැතහොත්, ඔවුන්ගේ "සමීප" නෑදෑයන්ට හිමි නොවන, එහෙත්, ඔවුන්ගේ "දුර" නෑදෑයන්ට, එනම්, ප්‍රථමයෙන් එක සමාජවාදී රාජ්‍යයක හා ඊළඟට සෝවියට් සමූහාණ්ඩු සංගමයක කෝටි ගණනින් හා දස කෝටි ගණනින් සමගිව සිටින සමස්ත සමාජයටම හිමිවන ධාන්‍ය, ගල් අඟුරු, යකඩ හා වෙනත් නිෂ්පාදන සෑම පූඩයක්ම නිසිසේ මෙහෙයා



ගැනීම සඳහා, ශ්‍රම ඵලදායකත්වය වැඩි කිරීම සඳහා, වෙහෙසී වැඩ කිරීමට නොපසුබට ලෙස සාමාන්‍ය පිරිසේ කම්කරුවන් උද්‍යෝගිමත් උවමනාවක් දක්වන විටය.

තම "ප්‍රාග්ධනය" කෘතිය ලියන මාක්ස්, ජුගුප්සා ජනක බර්න් ජාත්‍යන්තරයේ වර්තමාන ජුගුප්සා ජනක වීරයන්ද ඇතුළු සියලුම රටවල සුළු ධනපතියන් සහ අමනයන් මන්මත් කරවන අත්‍යාලංකාර හා මහා වාග්වේදී ධනපති ප්‍රජාතන්ත්‍රවාදයේ නිදහස හා මිනිසා සතු අයිතිවාසිකම් පිළිබඳ ප්‍රඥප්තියට සමච්චල් කරයි. සාමාන්‍ය නිදහස, සමානත්වය හා සහෝදරත්වය ගැන කරන මේ සියලු වදන් හරඹවලට ඔහු සමච්චල් කරයි. මාක්ස් මෙම පූරාජේරුකාර අයිතිවාසිකම් පිළිබඳ ප්‍රකාශනයන් ගනිමින්, නිර්ධන පංතිය ප්‍රශ්නය ඉදිරිපත් කරන පැහැදිලි, නිහතමානී, ප්‍රායෝගික, සරල ආකාරය සමග ඒවා විසංසන්දනය කරයි: කෙටි වැඩ දිනයක් නීතිගත කිරීම, එවැනි සැලකීම ගැන කියන නියම නිදර්ශනයකි. නිර්ධන පංති විප්ලවයේ සන්ධාරය අප හමුවේ වැඩි වැඩියෙන් අනාවරණය වත්ම, මාක්ස්ගේ නිරීක්ෂණයෙහි යෝග්‍යතාවය සහ ගාම්භීරතාවය අපට වඩ වඩාත් පැහැදිලි හා නිරාකූල වේ. නියම කොමියුනිස්ට් ක්‍රමයේ "සූත්‍ර", මෙන්ෂෙවික්වරුන්ගේ සහ සමාජවාදී-විප්ලවවාදීන්ගේද බර්න්හි ඔවුන්ගේ සාදර "සොහොයුරන්ගේද" අත්‍යාලංකාර, අහර-දහර සහ බුහුමන් සහිත වාග් විලාසයට වඩා වෙනස්ය. එම සූත්‍රවලින් සියල්ලක්ම ශ්‍රම කොන්දේසි දක්වා සරල කෙරෙයි. "ශ්‍රම ප්‍රජාතන්ත්‍රවාදය" ගැන, "නිදහස, සමානත්වය හා සහෝදරත්වය" ගැන, "ජනතාව විසින් කෙරෙන ආණ්ඩුව" ගැන සහ එවැනි සියලු දේ ගැන නගන කචිබිචිය අඩු කළ යුතුය. කියන්න අඩුවක් නැති තරමට "ඔප වැටුනු" අංග ලක්ෂණ හා පාරිශුද්ධ පෙනුමක් ඇති, "හරි මිනිහා, දන්නෙයි" යනුවෙනි විස්තර කරනු ලබන තැනැත්තා දෙස බලන සාමාන්‍ය ව්‍යවහාර බුද්ධිය හා පළපුරුද්ද ඇති මිනිසා, එක සැනින්ම හා නොවරදින ලෙසින් ඔහු "කොහේදෝ හොරෙක් වෙන්න ඇති!" යනුවෙන් නිගමනය කරන්නාක් මෙන්ම පහසුවෙන්, අප කාලයේ සිටින පංති විඥානය ඇති කම්කරුවෝ හා ගොවි ජනතාව මෙම අලංකාර වදන්වල අඩංගු අර්ථය ගැන දැන ගනිති. ඔවුහු එතරම්ම පහසුවෙන් ධනපති බුද්ධිමතාගේ කපටි ස්වභාවය හඳුනා ගනිති.

අලංකාර වදන් අඩු කර, වඩාත් සාමාන්‍ය ස්වභාවයේ වන සෑමදා කරන වැඩ ගැන, ධාන්‍ය පූඩය ගැන සහ ගල් අඟුරු පූඩය ගැන වැඩි සැලකිල්ල දැක්විය යුතුය!. වාද භේද කර ගැනීමෙන් නොව, ධනපති ආකාරයකින් නොව, මොස්කව්-කසාන් දුම්රිය මාර්ගයේ නුපුහුණු කම්කරුවන් හා දුම්රිය සේවකයන් වැනි සාමාන්‍ය වැඩ කරන මිනිසුන්

කරන විඥත, ස්වේජා හා නිම්හිම් නැති තරම් වීරෝදර ශ්‍රම කටයුතු මගින්, නිරාහාර කම්කරුවන්ට හා දුප්පත්, පාවහන් නැති ගොවීන්ට අවශ්‍ය වන මෙම ධාන්‍ය පූඩය හා ගල් අඟුරු පූඩය සැපයීමට වැඩි සැලකිල්ලක් දැක්විය යුතුය.

ධනපති බුද්ධිමත් වදන් හරඹයේ ස්වරූපයෙන් විප්ලවය පිළිබඳ ප්‍රශ්නයට ළඟා වීමේ සේයාවන් අඩියක් අඩියක් පාසා, සෑම තැනකදීම, අපගේ පිරිස් අතර පවා දක්නට ලැබෙන බව අපි පිළිගත යුත්තෙමු. නිදසුනක් ලෙසට ජරා ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී අතීතයෙන් ඉතිරි වූ මෙම ජරා නෂ්ටාවශේෂයන් පිටු දැකීම පිණිස අපගේ පුවත් පත් යොමු වන්නේ අල්ප වශයෙනි. නියම කොමියුනිස්ට් ක්‍රමයේ සරල, නොමහත්, සාමාන්‍ය, එහෙත්, ප්‍රරෝහණ ශක්තිය ඇති අංකුර පෝෂණය කිරීමට එයින් කටයුතු කෙරෙන්නේ ස්වලප වශයෙනි.

කාන්තාවන්ගේ තත්වය ගෙන බලමු. මෙම ක්ෂේත්‍රයෙහිදී අප අපගේ බලයේ මුල් වර්ෂයේදීම ඉටු කළ කාර්ය කොටසින් සියයෙන් පංගුවක්වත් ඉටු කිරීමට ලෝකයේ කිසිම ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයකට, ඉතාමත් දියුණු ධනපති සමූහාණ්ඩුවේ පවා එවැනි පක්ෂයකට, දශක ගණනකදී හෝ හැකි වූයේ නොවේ. දික්කසාදයට බාධා කරමින් හා එය ජුගුප්සා ජනක විධික්‍රමවලින් වටකර තබමින්ද, විවාහ නොවී සිටියදී උපන් දරුවන් පිළිගැනීම ප්‍රතික්ෂේප කරමින්ද, ඔවුන්ගේ පීතෘවරුන් සෙවීමක් ක්‍රියාත්මක කරමින්ද, යනාදී වශයෙන් වූ, කාන්තාවන් අසමාන තත්වයක ලූ නීති ඇත්ත වශයෙන්ම පොළවට සමතලා කිරීමේ කටයුත්ත අපි ඉටු කෙළෙමු. මෙම නීතිවල නෂ්ටාවශේෂයන් රැසක්ම ධනපතියන්ට හා ධනපති ක්‍රමයට නිගා දෙමින් සියලුම ශිෂ්ටාචාර රටවල පවතිනු දක්නා ලැබේ. මෙම ක්ෂේත්‍රයෙහිදී අප ඉටු කර තිබෙන කාර්ය කොටස සම්බන්ධයෙන් දහස් වරක් උදම් වීමේ අයිතිය අපට තිබේ. නමුත්, පැරණි ධනපති නීති හා ආයතන නැමති කුණු කන්දල් ඉවත් කර භූමිය වඩාත් තරයේ පිරිසිදු කළ තරමට, අප කර තිබෙන්නේ ගොඩනැගිලි භූමිය ශුද්ධ කිරීම පමණක් බවත්, ගොඩනැගීම තවමත් කෙරෙන්නේ නැති බවත්, අපට වඩ වඩාත් පැහැදිලිව පෙනේ.

කාන්තාවට විමුක්තිදයක නීති කොතරම් තිබුණත්, ඇ තවදුරටත් ගෙදර වහළියක්ම වන්නීය.එසේ වන්නේ,අවශේෂ ගෙදර වැඩ විසින් ඇය පෙළනු ලබන, ඇගේ බෙල්ල හිරකරනු ලබන, ඇය ඔබා තබනු ලබන හා ඇය කුස්සියටත්, ළදරුවන් බලාගැනීමටත් බැඳ තබනු ලබන හෙයිනි. එනිසා ඇයට සිදුවන්නේ අමානුෂික තරම් අඩු ඵලදයක වූද, අති අවශේෂවූද, මනස්තාපය දල්වන්නාවූද, අවහිර ගෙන දෙන්නාවූද දස වැඩ කරමින් ස්වකීය ශ්‍රමය අපතේ හැරීමටය. කාන්තාවන්ගේ නියම විමුක්තිය, නියම කොමියුනිස්ට් ක්‍රමය ආරම්භවන්නේ (රාජ්‍ය බලය මෙහෙයන නිර්ධන පංතියේ නායකත්වය යටතේ) මෙම අවශේෂ ගෙදර වැඩට විරුද්ධව සමා නැති අරගලයක් ආරම්භවූ විට, නැතහොත්, එය සම්පූර්ණයෙන්ම මහා පරිමාණ සමාජවාදී ආර්ථිකයකට පරිනාමණය වීම ආරම්භ වූ විට පමණකි.

න්‍යායික වශයෙන් සෑම කොමියුනිස්ට්වාදියෙක්ම අවිවාදී සේ සලකන මෙම ප්‍රශ්නය ගැන අපි භාවිතයේදී සෑහෙන තරම් සැලකිල්ලක් දක්වමුද? ඇත්තෙන්ම නැත. මෙම ක්ෂේත්‍රයේ දැනටමත් දක්නට ලැබෙන කොමියුනිස්ට් ක්‍රමයේ අංකුර රැකබලා ගැනීමට අපි නිසි සැලකිල්ලක් දක්වන්නෙමුද? නැවතත් පිළිතුර නැත යනුයි. පොදුවේ ආහාර සපයන ආයතන, ළදරු නිවාස, බාලාංශ — මෙහි ඇත්තේ එම අංකුර පිළිබඳ නිදර්ශන වෙති. අපට මෙහි දක්නට ඇත්තේ අත්‍යාලංකාරය, මහා වාග්වේදය, නැතහොත්, උත්සව සම්බන්ධ කිසිවක් නොමැති, ඇත්ත වශයෙන්ම කාන්තාවන්ට විමුක්ති දනයෙහි සමත් කම් ඇති, සමාජමය නිෂ්පාදනයේදී හා ජන ජීවිතයේදී ඔවුන් ඉටු කරන කාර්ය කොටස අතින් පිරිමින් සමග ඇති ඔවුන්ගේ අසමානත්වය සැබවින්ම අඩු කිරීමේ හා නැති කිරීමේ සමත්කම් ඇති සරල, ඉතා සාමාන්‍ය මාධ්‍යයන්ය. මෙම මාධ්‍යයන් අළුත් නොවේ. ඒවා, (සමාජවාදයේ සියලුම ද්‍රව්‍යමය පූර්වාවශ්‍යතාවයන් මෙන්) මහා පරිමාණ ධනපති ක්‍රමය විසින් නිර්මාණය කරන ලද්දේය. නමුත් ධනපති ක්‍රමය යටතේ ඒවා ප්‍රථමයෙන් දුර්ලභ විය.දෙවැනිව විශේෂයෙන්ම වැදගත් වන්නේ මෙයයි— ඒවා සමපේක්ෂණයේ, ලාභ ගැරීමේ, රැවටීමේ හා වංචාවේ නරකම අංග ලක්ෂණ සියල්ලම සහිත ලාභ උපදවන ව්‍යවසායයන් විය. නැතහොත්, ඒවා ''ධනපති පුණ්‍යාධාරයේ විජ්ජාවක්'' විය. හොඳම කම්කරුවන් මෙම විජ්ජාව කෙරෙහි නිවැරදි ලෙසම දැක්වූයේ වෛරයක් හා පිළිකුළකි.

අප රටේ මෙම ආයතන සංඛ්‍යාව බෙහෙවින් වැඩි වන බවටත්, ඒවායේ ස්වභාවය වෙනස් වීමට පටන්ගෙන තිබෙන බවටත් සැකයක් නැත. වැඩ කරන සහ ගොවිජන කාන්තාවන් අතර අප දන්නවාට වඩා සංවිධාන කුසලතාවයන් ඇති බවටත්, අපේ ඔළුව උදුම්මාගත් ''බුද්ධිමතුන්ට'' හා කුරෝලු ''කොමියුනිස්ට්වාදීන්ට'' ''ආවේශ වී'' තිබෙන ඒ වචන බහුලත්වය, කලබැගැනිකාරිත්වය, පොර ඇල්ලීම සහ සැලසුම්, ක්‍රම, ආදිය ගැන කරන කෝලාහලය නොමැතිව, විශාල කම්කරු පිරිස්වල හා ඊටත් වඩා විශාල පාරිභෝගික පිරිස්වල සහයෝගිතාවය ඇතිව ප්‍රායෝගික වැඩ සංවිධානය කිරීමෙහි සමත් අය අප දන්නවාට වඩා සිටින බවටත් සැකයක් නැත. නමුත් අප කළ යුතු පරිද්දෙන් අපි මෙම අංකුර පෝෂණය නොකරන්නෙමු.

ධනපතියන් දෙස බලන්න. ඔවුහු ඔවුන්ට උවමනා දේ කොතරම් හොඳින් දනිත්ද — කොතරම් හොඳින් ප්‍රචාරයකරත්ද? ධනපතියන් විසින් ''ආදර්ශමත්'' සේ සැලකෙන ව්‍යවසායයන් ඔවුන්ගේ දශලක්ෂ ගණන් පුවත්පත් පිටපත් මගින් හුවා දක්වන ආකාරයත්, ධනපති ''ආදර්ශ'' ආයතනයන් ජාතික අභිමානයේ මාතෘකා කරගෙන තිබෙන ආකාරයත් බලන්න! හොඳම ආහාර සම්පාදක ආයතන, නැතහොත්, ළදරුනිවාස ගැන දිනපතා විස්තර කිරීමෙන් ඒවා මෙම වර්ගයේ ආදර්ශ බවට පරිවර්තනය කරනු පිණිස ඒවා ගැන විස්තර සැපයීමට, නැතහොත්, කිසි ලෙසකින් හෝ විස්තර කිරීමට අපගේ පුවත් පත් වෙහෙස ගන්නේ නැත. ඒවා එම ආයතනයන්ට ප්‍රමාණවත් තරම් ප්‍රසිද්ධියක් දෙන්නේ නැත. ආදර්ශමත් කොමියුනිස්ට් වැඩ කටයුතු නිසා හා ඒවා මුළු සමාජයටම සහ වැඩ කරන මුළු ජනතාවම වෙත ව්‍යාප්ත කිරීම හේතු කොට ගෙන සිදුවන මිනිස් ශ්‍රමය ඉතිරි වීම, පාරිභෝගිකයාට පහසුකම්, නිෂ්පාදිතයන් පිරිමැස්ම, කාන්තාවන් ගෙදර වහල් කමෙන් නිදහස් වීම, සෞඛ්‍ය තත්වයන් දියුණුවීම ගැන විස්තර සහිතව කියන්නේ නැත.

ආදර්ශමත් නිෂ්පාදනය, ආදර්ශමත් කොමියුනිස්ට් සුබොත්නික්, සෑම ධාන්‍ය පූඩ් එකක්ම ලබා ගැනීමේ දී සහ බෙදහැරීමේදී දක්වන ආදර්ශමත් ප්‍රවේසම හා විඥතභාවය, ආදර්ශමත් ආහාර සම්පාදන ආයතන, මේ මේ කම්කරු නිවාසයෙහි, මේ මේ නිවාස කාණ්ඩයෙහි ඇති ආදර්ශමත් පිරිසිදුකම සම්බන්ධයෙන් අපගේ පුවත් පත් වලින් සහ එමෙන්ම අපගේ සෑම කම්කරු හා ගොවි සංවිධානයකින්ද දැන් මෙන් දස ගුණයකටත් වඩා අවධානය හා සැලකිල්ල යොමු විය යුතුය. මේ සියල්ලම කොමියුනිස්ට් ක්‍රමයේ අංකුර වන්නේය. ඒවා පෝෂණය කිරීම අපගේ පොදු සහ මූලික යුතුකමය. බොල්ෂෙවික් පාලනය පැවති වසර එක හමාර තුළ අපගේ ආහාර හා නිෂ්පාදන තත්වය දුෂ්කර වූ නමුත්, මෙම ක්‍රියාමාර්ගය. අතින් නිසැක වර්ධනයක් ඇති විය: ධාන්‍ය ලබා ගැනීම (1917 අගෝස්තු 1 සිට 1918 අගෝස්තු 1 දක්වා) පූඩ් තුන් කෝටියේ සිට (1918 අගෝස්තු 1 සිට 1919 මැයි 1 දක්වා) පූඩ් දහ කෝටිය දක්වා වැඩි විය. එලවළු වතු ක්‍රමය දියුණු වී තිබේ. වැඩ නොකර ඇරෙන බිම් ප්‍රමාණය අඩු වී තිබේ. දරුණු ඉන්ධන හිඟයක් ඇතත් දුම්රිය ප්‍රවාහණය දියුණු වන්නට පටන්ගෙන තිබේ. මේ ආදී වශයෙනි. මෙම පොදු පසු තලය තිබෙන කල හා නිර්ධන පංති රාජ්‍ය බලයේ ආධාරය ලැබෙන කල, කොමියුනිස්ට් ක්‍රමයේ අංකුර හැකිළී නොයනු ඇත. ඒවා වැඩී සම්පූර්ණ කොමියුනිස්ට් ක්‍රමය ලෙසට මල් එල දරනු ඇත.



* * *

මෙම ශ්‍රේෂ්ඨ ආරම්භයෙන් ලබා ගත හැකි පාඩම් උගෙන ගනු පිණිස අපි ''කොමියුනිස්ට සුබොත්නික් වල'' වැදගත් කම ගැන බොහෝ සේ සිතා බැලිය යුතුය.

ප්‍රථම සහ ප්‍රධාන පාඩම වන්නේ මෙම ආරම්භයට සෑම ආධාරයක්ම දිය යුතු බවය. ''කොමියුන්'' යන වචනය පමණට වඩා බොහෝ නිදහස් ලෙස යොදනු ලැබේ. කොමියුනිස්ට්වරුන් විසින් හෝ ඔවුන්ගේ සහභාගිත්වය ඇතිව හෝ ආරම්භ කරනු ලබන ඕනෑම වර්ගයේ ව්‍යවසායයක්ම බොහෝවිට හා එක්වරම ''කොමියුන්'' ලෙසට ප්‍රකාශ කරනු ලැබේ. එසේ කිරීමේදී අමතක කරන දෙයකි, මෙය ඉතා ගෞරවනීය නාමයක් බව හා එය දීර්ඝ හා ධෛර්යමත් අරගලය මගින් හා සැබෑ කොමියුනිස්ට් සංවර්ධනයේදී ලබන ප්‍රායෝගික ජයග්‍රහණ මගින් දිනාගත යුතු බව.

''පාරිභෝගිකයන්ගේ කොමියුන'' යන නාමයට අදළ වන තාක් දුරට, මහජන කොමිසාර් මණ්ඩලයේ ආඥාව[116] අවලංගු කිරීම ගැන මධ්‍යම විධායක කාරක සභාවේ සාමාජිකයන් බහුතරයකගේ සිත් තුළ මුහුකුරා ගොස් තිබෙන තීරණය ඉතාමත් නිවැරදි යයි මා අදහස් කරන්නේ එහෙයිනි. නාමය වඩාත් සරල වීම සුදුසුය. ඒ අතරම, නව සංවිධාන වැඩ කටයුතුවල මුල් අවධිවලදී ඇතිවන අඩු පාඩු කම් හා දුර්වල කම් පිළිබඳ වරද ''කොමියුන්'' මත නොදමා (සෑම අතින්ම සාධාරණ වන පරිදි) නරක කොමියුනිස්ට්වාදීන් මත දමනු ඇත. ''කොමියුන්'' යන වචනය පොදු භාවිතයෙන් ඉවත් කිරීම, සෑම කෙනෙක්ම මෙම වචනය අල්ලා ගැනීම තහනම් කිරීම, නැතහොත්, ස්වකීය වැඩ කටයුතු කොමියුනිස්ට් පිළිවෙළට සංවිධානය කර ගැනීමෙහි තමා සමත් බව භාවිතයෙන් පෙන්නුම් කළ (හා අවට මුළු ජනගහනයේම පිළිගැනීමෙන් ඒ බව ඔප්පු කළ) සැබෑ කොමියුන් වලට පමණක් මෙම නාමය දැරීමට ඉඩ දීම සුදුසු ය. සමාජයේ යහපත පිණිස, වැඩ කරන මුළු ජනතාවගේ යහපත පිණිස, වැටුප් රහිතව වැඩ කිරීමට ඔබ සමත් බව පළමුව පෙන්වන්න. ඔබ ''විප්ලවවාදී ආකාරයෙන් වැඩ කිරීමට'' සමත් බවත්, ඔබ ශ්‍රම ඵලදායකත්වය වැඩි කිරීමට සමත් බවත්, ආදර්ශමත් ආකාරයෙන් වැඩ කටයුතු සංවිධානය කිරීමට සමත් බවත් පෙන්නුම් කරන්න. ඊට පසු ගෞරවනීය ''කොමියුන්'' යන නාමය ඉල්ලා අත දිගු කරන්න!

මේ හා සම්බන්ධයෙන් ''කොමියුනිස්ට් සුබොත්නික්'' ඉතා අගනා විශේෂත්වයකි. මොස්කව්-කසාන් දුම්රිය සේවයේ නුපුහුණු කම්කරුවෝ සහ දුම්රිය සේවකයෝ තමන් කොමියුනිස්ට්වරුන් ලෙස වැඩ කිරීමෙහි

සමත් බව ප්‍රථමයෙන් ක්‍රියාවෙන් ප්‍රදර්ශනය කොට තමන්ගේ එම ව්‍යාපාරයට ''කොමියුනිස්ට් සුබොත්නික්' යන නම තබා ගත්හ. තමන්ගේ ව්‍යවසාය, ආයතනය නැතහොත්, කටයුත්ත කොමියුනයක් සේ හැඳින්වීමට තරම් සුදුසු බව අමාරු වැඩ කිරීම හා දීර්ඝ ප්‍රයත්නයෙන් ලබන ප්‍රායෝගික සාර්ථකත්වය මගින්ද, නියම හා ආදර්ශමත් කොමියුනිස්ට් සංවිධාන කටයුතු මගින්ද ඔප්පු කිරීමෙන් තොරව, අනාගතයේදී එම නම යොද ගන්නා ඕනෑම අයෙක් බොරු කාරයෙක්, පුහු කථාකාරයෙක් ලෙසට හඳුන්වා ඔහු නිර්දය සමච්චලයට හා අවඥාවට ඉලක්ක වන බවට අපි වග බලාගත යුත්තෙමු.

ඒ ශ්‍රේෂ්ඨ ආරම්භය වන ''කොමියුනිස්ට් සුබොත්නික්'' තවත් උවමනාවක් ඉටුකර ගැනීමට උපයෝගි කර ගත යුත්තේය. එය නම් පක්ෂය පිරිසිදු කර ගැනීමය. විප්ලවයෙන් ඉක්බිති මුල් කාලයේදී ''අවංක'' සහ නිවට සිත් ඇති ජනයා විශේෂයෙන්ම පසුබා සිටි කල්හි සහ මෙන්ෂෙවික්වරු හා සමාජවාදී-විප්ලවවාදීන් ද ඇතුළුව ධනපති බුද්ධිමතුන් සෑම කෙනෙක්ම ධනපති පංතියට දසකම් කරමින් හා කඩාකප්පල් ක්‍රියාවල යෙදෙමින් සිටි කල්හි, වාසි සොයන්නන් හා වෙනත් වින කාර කොටස් පාලක පක්ෂය තුළට රිංගා ගැනීම කිසිසේත් වැලැක්විය හැකි දෙයක් නොවීය. එසේ වීමෙන් තොරව කිසි කලෙකත් විප්ලවයක් ඇති නොවූයේය. ඇතිවන්නේද නොවේ. වැදගත් කාරණය වන්නේ, දැඩි සහ ශක්තිමත් දියුණු පංතියක් කෙරෙහි විශ්වාසය තබමින් පාලක පක්ෂයට එහි සාමාජිකත්වය පිරිසිදු කරගත හැකි වීමය.

අපි දීර්ඝ කාලයකට පෙර මෙම කටයුතු පටන් ගත්තෙමු. එය දැඩි ලෙස හා වෙහෙස නොබලා කරගෙන යා යුත්තෙමු. යුද්ධය සඳහා කොමියුනිස්ට්වරුන් සූදනම් කිරීම මේ අතින් අපට ආධාරයක් විය: බියගුල්ලෝ හා තක්කඩියෝ අපේ පක්ෂ සාමාජිකත්වය දමා පැන ගියහ. ඔවුන් ගිය එකමැයි කාරිය!පක්ෂ සමාජිකත්වයේ එවැනි අඩුවීමක ප්‍රතිඵලය වන්නේ එහි ශක්තියෙහි හා බලයෙහි දැවැන්ත වර්ධනයකි. අපි දිගටම මෙම පිරිසිදු කිරීම ගෙන යා යුත්තෙමු. ඒ සඳහා එම නව ආරම්භය වන ''කොමියුනිස්ට් සුබොත්නික්'' යොදගත යුත්තෙමු. පක්ෂයට සාමාජිකයන් බඳවා ගත යුත්තේ නිදසුනක් වශයෙන් ''විප්ලවවාදී ආකාරයෙන් වැඩ කිරීමේ'' හයමසක ''පරීක්ෂණ'' නැතහොත්, ''පරිවාස'' කාලසීමාවකින් පසුවය. 1917 ඔක්තෝබර් 25 දිනෙන් පසුව පක්ෂයට බැඳුනු හා කිසියම් විශේෂ වැඩක් හෝ සේවයක් ඉටු කිරීමෙන් තමන් කොමියුනිස්ට්වාදීන් වීමට තරම් විශ්වාසදයකත්වය, පක්ෂපාතිත්වය හා හැකියාව සහිත බව ඔප්පු කර නොමැති සියලුම පක්ෂ සාමාජිකයින්ද එවැනි පරීක්ෂණයකට භාජනය වන සේ ඔවුන්ට නියම කළ යුතුය.



නියම කොමියුනිස්ට් ආකාරයෙන් වැඩ කිරීම සම්බන්ධයෙන් පක්ෂයේ නියමයන් වැඩි කිරීම තුළින් පක්ෂය පිරිසිදු කිරීමෙන් රාජ්‍ය යන්ත්‍රය වැඩි දියුණු වනු ඇත. එසේම ගොවි ජනතාව අවසාන වශයෙන් විප්ලවවාදී නිර්ධන පංතියේ පැත්තට ඒමද එනිසා බෙහෙවින් ඉක්මන් වනු ඇත.

''කොමියුනිස්ට් සුබොත්නික්'' නිසා, නිර්ධන පංති ආඥාදයකත්වය යටතේ රාජ්‍ය යන්ත්‍රයේ පවතින පංති ස්වභාවය විස්මය ජනක තරම් පැහැදිලි ලෙස පෙනීගොස් තිබේ. පක්ෂයේ මධ්‍යම කාරක සභාව ''විප්ලවවාදී ආකාරයෙන් වැඩ කිරීම'' ගැන ලිපියක් කෙටුම්පත් කරන්නේය. 1,00,000 සිට 2,00,000 දක්වා සංඛ්‍යාවක් සාමාජිකත්වය සහිත පක්ෂයක් පිළිබඳ අදහස මධ්‍යම කාරක සභාව විසින් ඉදිරිපත් කරනු ලැබේ (තරයේ පිරිසිදු කිරීමෙන් පසුව ඉතිරිවන සංඛ්‍යාව එය යයි මම අදහස් කරමි. දැනට සාමාජිකත්වය ඊට වැඩිය).

වෘත්තීය සමිතිවලට සංවිධානය වී සිටින කම්කරුවෝ මෙම අදහස පිළිගනිති. රුසියාවේ හා උක්‍රේනියාවේ ඔවුන්ගේ සංඛ්‍යාව හතළිස් ලක්ෂයක් පමණ වේ. ඔවුන් අතුරෙන් අති බහුතරය නිර්ධන පංතියේ රාජ්‍ය බලයටත්, නිර්ධන පංති ආඥාදයකත්වයටත් පක්ෂ වෙති. දෙලක්ෂයක් හා හතළිස් ලක්ෂයක් — යමෙක් මෙම යෙදුමට කැමති වෙතොත්, ''ගියර රෝදවලට'' යෙදෙන අනුපාතය එයයි. ඊළඟට ප්‍රධාන කණ්ඩායම් තුනකට බෙදෙන කෝටි ගණන් ගොවි ජනතාව සිටිති. එයින් සංඛ්‍යාවෙන් විශාලතම හා නිර්ධන පංතියට ආසන්නවම සිටින කණ්ඩායම අර්ධ නිර්ධනයන්, නැතහොත්, දුප්පත් ගොවිජනතාවය. ඊළඟට මධ්‍යම ගොවීන් හා අවසාන වශයෙන්, සංඛ්‍යාව අතින් ඉතාමත් කුඩා කණ්ඩායම වන කුලාකයන්, නැතහොත්, ගම්බද පොහොසතුන් ඇත.

ධාන්‍ය වෙළෙඳාම් කිරීමට සහ සාගතයෙන් ලාභ ලැබීමට හැකිව තිබෙන තාක් කල් ගොවියා අඩක් වැඩකරන මිනිසෙක් හා අඩක් ලාභ ගරන්නෙක්ව සිටිනු ඇත (නිර්ධන පංති ආඥාදයකත්වය යටතේ කලක් යන තෙක් මෙම තත්වය පැවතීම වැලැක්විය නොහැකිය). ලාභ ගරන්නෙක් ලෙසට ඔහු අපට සතුරුය. නිර්ධන පංති රාජ්‍යයට සතුරුය. ඔහු ධනපතියන් සමග සහ ධාන්‍ය වෙළඳාමේ නිදහසට පක්ෂව සිටින මෙන්ෂෙවික්වර ෂියෙර්, නැතහොත්, සමාජවාදී-විප්ලවවාදී බී. චෙර්නෙන්කොව් ඇතුළු ධනපතියන්ගේ අතවැස්සන් සමග එකඟ වීමට නැඹුරු වන්නේය. නමුත් වැඩ කරන මිනිසෙක් ලෙසට ගොවියා නිර්ධන පංති රාජ්‍යයේ මිතුරෙකි. ඉඩම් හිමියාට සහ ධනපතියාට විරුද්ධව කරන අරගලයේදී ඔහු කම්කරුවාගේ ඉතාමත් පක්ෂපාත මිතුරෙකි. වැඩ කරන

මිනිසුන් ලෙසට, ගොවි ජනයා, දශලක්ෂ ගණන් වූ ඒ අති විශාල පිරිස, නිර්ධන පංති පෙරමුණු බල ඇණියේ ලක්ෂයක් හෝ දෙකක් කොමියුනිස්ට්වාදීන්ගේ නායකත්වයෙන් යුත් වූ සහ සංවිධානය වූ දශ ලක්ෂ සංඛ්‍යාත නිර්ධන පංතිකයන්ගෙන් සමන්විත වන රාජ්‍ය යන්ත්‍රයට ආධාර කරති.

වචනයේ නියම අර්ථයෙන් මීට වඩා ප්‍රජාතන්ත්‍රවාදී වූ ද, වැඩ කරන සහ සූරාකනු ලබන ජනතාව සමග මීට වඩා සමීප ලෙස සම්බන්ධ වූ ද රාජ්‍යයක් කිසි කලෙකක් නොපැවතුණේය.

නිර්ධන පංති රාජ්‍යය වෙත ගොවි ජනතාවගේ සම්පූර්ණ ගෞරවය හා ආදරය දිනා ගැනීමට ඒකාන්ත වශයෙන් හේතු වන්නේ "කොමියුනිස්ට් සුබොත්නික්" වලින් කරන ආකාරයේ වැඩම ය. අප නිවැරදිය, කොමියුන නිවැරදිය, යන විශ්වාසය ගොවියා තුළ ඇති කරමින් ඔහු අපගේ මිතුරා බවට පත් කරන්නේද, ඒ අනුව අපගේ ආහාර අමාරුකම් මුළුමනින්ම දුරු කිරීමට හා ධාන්‍ය නිෂ්පාදනයේදී හා බෙදහැරීමේදී ධනපති ක්‍රමය පරදවා කොමියුනිස්ට් ක්‍රමය සම්පූර්ණයෙන්ම ජයග්‍රාහී වීමට හා කොන්දේසි විරහිතව කොමියුනිස්ට් ක්‍රමය තහවුරු වීමට මග සලස්වන්නේ ද, එවැනි වැඩය. එවැනි වැඩම පමණකි.

1919 ජුනි 28

සම්පූර්ණ කෘති, 5 වැනි
මුද්‍රණය, වෙළුම 39
පිටු 5–29

# ඩෙනිකින්ට විරුද්ධව සටන සඳහා හැම ශක්තියක්ම යොදමු!

රුසියානු කොමියුනිස්ට් (බොල්ෂෙවික්) පක්ෂයේ මධ්‍යම කාරක සභාව පක්ෂ සංවිධාන වෙත යැවූ ලිපිය[117]

සහෝදරවරුනි! මෙය සමාජවාදී විප්ලවයේ ඉතාමත් උපද්‍රැත අවස්ථාවලින් එකකි. සමහර විට එය වැඩියෙන්ම උපද්‍රව සහිත අවස්ථාව වන්නට පිළිවන. රුසියාවේ සහ විදේශයෙහි (මූලික වශයෙන් ප්‍රංශයේ සහ බ්‍රිතාන්‍යයේ) සූරාකන්නන්, ඉඩම් හිමියන් සහ ධනපතියන් ආරක්ෂා කරන්නවුන්, ජනතාවගේ ශ්‍රමය උදුරා ගන්නවුන්ගේ, එනම්, රුසියාවේ ඉඩම් හිමියන්ගේ සහ සූරාකන්නන්ගේ බලය යළි ස්ථාපිත කරනු සඳහා දරුණු ප්‍රයත්නයක යෙදෙනු පෙනේ. ඔවුන් එසේ කරන්නේ ලෝකය මුළුල්ලේම හීන වී යමින් පවතින ඔවුන්ගේ බලයට රුකුල් දීම සඳහාය. බ්‍රිතාන්‍ය සහ ප්‍රංශ ධනපතියන් තමන්ගේම යුද්ධ හමුද යොදමින් උක්‍රෙනියාව අල්ලා ගැනීමට අනුගමනය කළ සැලැස්ම අසාර්ථක වී තිබේ. ඔවුන් සයිබීරියාවේදී කොල්චාක්ට ආධාර දීමෙන් ගෙනගිය ක්‍රියාමාර්ගයද අසාර්ථක වී තිබේ. එකෙක් නැර නැගී සිටින උරල් ප්‍රදේශයේ කම්කරුවන්ගේ ආධාරය ඇතිව රතු හමුදව උරල් ප්‍රදේශය ඔස්සේ වීරෝදර ලෙස ඉදිරියට යමින් සිටී. එසේ ඉදිරියට යන ඔවුන්, සයිබීරියාව පාලනය කරන ධනපතියන්ගේ පුදුම එලවන අපරාධවලින් හා ම්ලේච්ඡකම්වලින් එය මුද ගැනීමට ආසන්නය. අවසාන වශයෙන්, රුසියානු රාජාණ්ඩුවාදීන්ගේ, කැඩෙට්වරුන්ගේ මෙන්ෂෙවික්වරුන්ගේ සහ (වාම සමාජවාදී-විප්ලවවාදීන් පවා ඇතුළුවූ) සමාජවාදී-විප්ලවවාදීන්ගේ සහභාගිත්වය ඇතිව සැලසුම් කරන ලද ප්‍රතිවිප්ලවවාදී කුමන්ත්‍රණයක් මගින් පෙට්‍රොග්‍රෑඩය අල්වා ගැනීමට බ්‍රිතාන්‍ය-ප්‍රංශ අධිරාජ්‍යවාදීන් දරූ ප්‍රයත්නයද වැරදී ගියේය.

දැන් ඩෙනිකින් ගසන බලවත් පහරක් මගින් ප්‍රාග්ධනයේ වියගස නැවත බැඳීම සඳහා විදේශ ධනපතියෝ තීරණාත්මක ප්‍රයත්නයක යෙදී සිටිති. ඔවුහු වරක් කොල්චාක්ට ආධාර දෙමින් කළ මෙන්ම, දැන් ඩෙනි-

කින්ට යුද්ධ නිලධාරීන්, ෂෙල්වෙඩි, යුද්ධ ටැංකි, යනාදිය සපයා ඇත්තාහ.

උරල් ප්‍රදේශයට හා සයිබීරියාවට යන රතු හමුදාවේ ජයග්‍රාහී ඉදිරි ගමන නොනවත්වන අතරම, ඩෙනිකින්ගේ මහා ප්‍රහාරය පසුබැස්වීම පිණිස කම්කරුවන්ගේ සහ ගොවිජනතාවගේ සියලුම බලවේගයන්, සෝවියට් සමූහාණ්ඩුවේ සියලුම බලවේගයන්, මෙහෙයවා ගත යුතුය. එයයි

## මේ මොහොතේ ප්‍රධාන කර්තව්‍යය

ප්‍රථම හා ප්‍රමුඛ වශයෙන් කොමියුනිස්ට්වරුන් සියලු දෙනාද, ඔවුන් හා සමග පක්ෂ හිතවතුන් සියලු දෙනාද, අවංක කම්කරුවන් හා ගොවීන් සියලු දෙනාද, සෝවියට් නිලධාරීන් සියලු දෙනාද, යුද්ධ හමුද හටයන් මෙන් ඒකරාශීව ක්‍රියා කළ යුතු අතර, ඔවුන්ගේ කටයුතු, ඔවුන්ගේ ප්‍රයත්නයන් සහ ඔවුන්ගේ සංකල්පනා එක එල්ලේම යුද්ධයේ කර්තව්‍ය යන් වෙත, ඩෙනිකින් ප්‍රහාරය සීඝ්‍රයෙන් පසුබැස්වීම වෙත, උපරිම මට්ටමින් යොමු කළ යුතු වේ. මෙම කර්තව්‍යය ඉටු කිරීම සඳහා ඉඩ කඩ ලබා ගත හැකි වන සේ ඔවුන් තමන්ගේ අන් සියලු වැඩ කටයුතු අඩු කර ඒවා නැවත සකස් කර ගත යුතුය.

සෝවියට් සමූහාණ්ඩුව සතුරාට කොටු වී තිබේ. එය එකම යුද්ධ කඳවුරක් වන සේ කොටුවී තිබේ. වචනයෙන් නොව ක්‍රියාවෙන්ම එය එසේ වී තිබේ.

සියලුම ආයතනවල සියලුම වැඩ යුද්ධයට ගලපමින් යුද්ධ පදනමක් මත තැබිය යුතුය!

කම්කරුවන්ගේ සහ ගොවි ජනතාවගේ රාජ්‍යයේ කටයුතු කරගෙන යාම සඳහා මණ්ඩල ක්‍රම අත්‍යාවශ්‍ය ය. නමුත් මෙම විධික්‍රම පමණට වඩා පුළුල් වීම, අනුබැඳියාව සහ නොසැලකිල්ල ඇති වන ලෙසට එය කිසියම් ආකාරයකින් විකෘති කිරීම, නැතහොත්, සාමූහික මණ්ඩල කථා සාප්පු බවට කිසියම් හෝ ලෙසකින් පරිවර්තනය වීම මහා විනයකි. ඕනෑම කැප කිරීමක් කර, හැකි තරම් ඉක්මණින් හා ඕනෑම ක්‍රමයකින් ක්‍රියාත්මක වී, මෙම විනය ඇතිවිය නොදී නැවැත්විය යුතුය.

කාරක සභාවල සාමාජික සංඛ්‍යාව සහ කාර්යක්ෂම ලෙස වැඩ කිරීම යන දෙකම සලකා මණ්ඩල විධික්‍රම, ඒවායේ අත්‍යවශ්‍ය සහ නැතිවම බැරි අවමය නොඉක්මවන බවට වග බලාගත යුතුය: ''වාග් වේදය'' තහනම් කළ යුතුය. අදහස් හුවමාරුව හැකි තරම් ඉක්මණින් කළ යුතුය.



එම අදහස්, තොරතුරු සහ නිශ්චිත වශයෙන් වදන් ගත කෙරුණු ප්‍රායෝගික යෝජනාවලට සීමා විය යුතුය.

සුළු ඉඩක් හෝ ඇති සෑම අවස්ථාවකම ඉතාමත්ම වැදගත් ප්‍රශ්න පමණක්, ඉතාමත්ම පටු සමූහ මණ්ඩල තුළ ඉතාමත් කෙටියෙන් සාකච්ඡා කරන සේ එවැනි විධි ක්‍රම යෙදීම අඩු කළ යුතුය. ඒ අතර ආයතන, ව්‍යවසායයන්, කාර්යයන්, නැතහොත්, කර්තව්‍යයන් පිළිබඳ ප්‍රායෝගික කළමනාකරණය, ස්ථිරකම, අධිෂ්ඨාන සහගත බව, ඒඩිතරකම හා ප්‍රායෝගික කටයුතු ඉටු කිරීමේ හැකියාව අතින් නමක් ගෙන සිටින සහ වැඩිම විශ්වාසයක් දිනාගෙන සිටින එක සහෝදරයෙකුට පැවරිය යුතුය. කෙසේ හෝ වේවා මණ්ඩල කලමනාකරණය හා සමග, සෑම තත්වයක්ම යටතේ, කිසිම විශේෂයක් නොමැතිව, නිශ්චිත වශයෙන් නිර්ණය කළ කටයුත්තක් සම්බන්ධයෙන් සෑම පුද්ගලයෙකුගේම ඇති පුද්ගලික වගකීම විස්තර කරන ඉතාමත් නිශ්චිත ආකාරයේ නියමයක්ද, තිබිය යුතුය. වගකීමෙන් තොර බව වසා ගැනීමට සාමූහික මණ්ඩල ක්‍රමය ගැන සඳහන් කිරීම ඉතාමත් භයානක උපද්‍රවයකි. කාර්යක්ෂම සාමූහික වැඩ කිරීමේ විශාල පළ පුරුද්දක් නැති සියල්ලන්ම කෙරෙහි එහි තර්ජනය එල්ලවන්නේය. යුද්ධ හමුදාවේ එය තිබීමෙන් බොහෝ විට වැනසුම, වියවුල, තැතිගැන්ම, අධිකාරය බෙදී යාම හා පරාජය ඇති වීමට හේතු වන්නේය.

සංවිධාන ගාලගෝට්ටිය සහ සංවිධාන මනෝවිකාර ඊට වඩා නොදෙවැනි වන භයානක උපද්‍රවයකි. යුද්ධය නිසා අවශ්‍යවන සංවිධාන වැඩ හේතුකොට ගෙන ආයතන ප්‍රතිසංවිධානය කිරීමක් කිසිසේත් ඇති විය යුතු නොවේ. ඉක්මන්කාරී ලෙස නව සංවිධාන ඇති කිරීම එතරම්වත් අවශ්‍ය නොවේ. එයට කොහෙත්ම ඉඩ දිය නොහැකිය. එයින් සිදුවනු ඇත්තේ අවුල් ඇතිවීම පමණකි.අවශ්‍ය ප්‍රතිසංවිධාන වැඩ,යම් යම් නැතිවම බැරි නොවන ආයතන කලකට වසා දැමීමට, නැතහොත්, යම් කරමකට ඒවායේ ප්‍රමාණය අඩු කිරීමට සීමා කළ යුතුය. නමුත් සියලුම යුද්ධ කටයුතු කරගෙන යා යුත්තේ සම්පූර්ණයෙන්ම හා තනිකරම දැනට තිබෙන යුද්ධ ආයතන මගින් පමණකි. ඒවා වැඩි දියුණු කිරීමෙන්, ශක්තිමත් කිරීමෙන්, පුළුල් කිරීමෙන් හා ඒවාට ආධාර දීමෙන්ය. විශේෂ ''ආරක්ෂක කාරක සභා'' නැතහොත්, ''රෙව්කොම්'' (විප්ලවවාදී, නැතහොත්, විප්ලවවාදී යුද්ධ කාරක සභා) ඇති කිරීමට ඉඩ දිය හැක. එහෙත් ඊට දිය හැක්කේ ප්‍රථමව, විශේෂයක් වශයෙන්ද, දෙවැනිව, අදාළ යුද්ධ අධිකාරයේ, නැතහොත්, ඊට උසස් සෝවියට් අධිකාරයේ අවසර ඇතොත්ද, තුන්වැනිව, ඉහත අවසාන කොන්දේසියට අනුකූලව කටයුතු කර ඇතොත්ද පමණකි.

## කොල්චාක් හා ඩෙනිකින් ගැන සත්‍යය ජනතාවට පැහැදිලි කර දිය යුතුය

සෝවියට් සමූහාණ්ඩුවේ ප්‍රධාන සහ එකම බරපතල සතුරෝ කොල්චාක් සහ ඩෙනිකින් වෙති. එන්ටෙන්ට් මිත්‍ර ගිවිසුමෙන් (බ්‍රිතාන්‍යය, ප්‍රංශය, ඇමරිකාව) ඔවුනට ලැබෙන ආධාර නිසා නොවේනම්, ඔවුන් ඇද වැටී දැන් බොහෝ කල්ය. ඔවුන්ට ශක්තිය ලැබෙන්නේ එන්ටෙන්ට් මිත්‍ර ගිවිසුමේ ආධාර නිසාම පමණකි. එසේ වුවත්, ජනතාව රැවටීමට, එනම්, ඔවුන් ''ප්‍රජාතන්ත්‍රවාදයට'', ''ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය කට'', ''ජනතාව විසින් කෙරෙන ආණ්ඩුවකට'' පක්ෂ බව කලින් කළ පෙන්වීමට ඔවුන්ට සිදුවී තිබේ. මෙන්ෂෙවික්වරුන් සහ සමාජවාදී-විප්ලවවාදීන් රැවටෙන්නේ ඉතා කැමැත්තෙනි.

කොල්චාක් සහ (ඔහුගේ දෙවැනි වේශය වන) ඩෙනිකින් ගැන සත්‍යය දැන් සම්පූර්ණයෙන්ම හෙළිදරව් වී තිබේ. කම්කරුවන් දස දහස් ගණන් වෙඩිතබා දමා ඇත. මෙන්ෂෙවික්වරුන්ට හා සමාජවාදී-විප්ලවවාදීන්ට පවා වෙඩි තබා දමා ඇත. දිස්ත්‍රික්කවල මුළු ගොවි ජනතාවටම කස පහර දෙනු ලැබේ. ඉඩම් හිමියන්ගේ පුතුන් වන යුද්ධ නිලධාරීන්ට අසීමිත හිතුවක්කාර බලතල දී තිබේ. කොල්ලකෑමේ කෙළවරක් නැත. කොල්චාක් සහ ඩෙනිකින් ගැන සත්‍යය එයයි. තමන්ම කම්කරුවන් පාවා දෙමින් කොල්චාක්ගේ හා ඩෙනිකින්ගේ පැත්ත ගත් මෙන්ෂෙවික්වරුන් සහ සමාජවාදී-විප්ලවවාදීන් අතර පවා ජනයා වැඩි වැඩියෙන් සත්‍ය පිළිනොගෙන බැරි තත්වයට පත් වේ.

අපගේ උද්ඝෝෂණ සහ ප්‍රචාරක කටයුතු සියල්ලම ජනතාවට සත්‍ය දැන්වීම සඳහා යොමු කළ යුත්තේය. විකල්පය වන්නේ, එක්කෝ කොල්චාක් හා ඩෙනිකින් බවත්, නැතහොත්, සෝවියට් බලය, එනම්, කම්කරුවන්ගේ බලය (නිර්ධන පංති ආඥාදායකත්වය) බවත්, පැහැදිලි කළ යුතුය. මැද මාවතක් නොමැත. මැද මාවතක් තිබිය නොහැක. කොල්චාක් සහ ඩෙනිකින් විසින් අල්ලා ගන්නා ලද පෙදෙස්වල සිටි, එහි වූ දේ සියැසින් දුටු බොල්ෂෙවික් නොවන අයගෙන්, මෙන්ෂෙවික්වරුන්ගෙන්, සමාජවාදී-විප්ලවවාදීන්ගෙන් සහ පක්ෂයේ නොවන ජනයාගෙන් විශේෂයෙන්ම ප්‍රයෝජන ගත යුත්තේය. අරගලයට විෂය වූ ප්‍රශ්නය කුමක්ද යනුත්, කොල්චාක්, නැතහොත්, ඩෙනිකින් ජයගතහොත් තමන්ට සිදුවනු ඇත්තේ කුමක්ද යනුත්, සෑම කම්කරුවෙකුටම හා ගොවියෙකුටම දැනගන්නට සැලැස්විය යුතුය.



## යුද්ධ සේවයට කැඳවනු ලබන අය අතර වැඩ කිරීම

යුද්ධ සේවයට බඳවා ගැනීමට ආධාර කරනු පිණිස, එම සේවයට කැඳවීම් ලැබීමට සිටින අය අතර හා දැනටමත් හමුදාවට බඳවාගෙන සිටින අය අතර වැඩ කිරීම දැන් සැලකිල්ල යොමු විය යුතු ප්‍රධාන කරුණුවලින් එකකි. හමුදාවට බඳවාගත් පිරිස් සංකේන්ද්‍රනය වී සිටින සෑම තැනෙකම, නැතහොත්, මුර සේනාංක ඇති තැන්වල හා පුහුණු කිරීමේ මධ්‍යස්ථාන ආදියෙහි වන අන්තිම කොමියුනිස්ට් පාක්ෂිකයා හා හිතවතා දක්වා ක්‍රියාත්මක කරවිය යුතුය. ඔවුන් කිසිම විශේෂයක් නොමැතිව එක්සත් වී වැඩ කළ යුතුය. සමහරුන් දිනපතා ද, අන් අය නිදසුනක් ලෙසට සතියකට පැය හතරක් හෝ අටක්ද, හමුදාවට බඳවාගෙන සිටින පිරිස් අතර, ප්‍රදේශයේ මුර සේනාංකයේ සොල්දාදුවන් අතර හමුදාවට බඳවාගැනීමට ආධාර වනසේ වැඩ කළ යුතුය. එහෙත්, එය කළ යුත්තේ සංවිධානය වූ ආකාරයෙනි. එක් එක් පුද්ගලයාට ප්‍රදේශයේ පක්ෂ සංවිධානය හා යුද්ධ අධිකාරීන් විසින් සුදුසු වැඩ කටයුතු පවරනු ලැබීම මගිනි.

ඩෙනිකින්ට හා කොල්චාක්ට විරුද්ධව දෘෂ්ටිමය වැඩ කරගෙන යාමට හැකි තත්වයක්, පක්ෂයට අයත් නොවන, නැතහොත්, වෙනත් පක්ෂවල සමාජිකයින් වන අයට නොතිබීම ස්වාභාවිකය. නමුත්, එය හේතුවක් කොටගෙන ඔවුන් සියලු වැඩවලින් නිදහස් කිරීමට පුළුවන් කමක් නැත. යුද්ධ හමුදාවට බඳවා ගැනීමේ කටයුතුවලට, නැතහොත්, හමුදාවට බඳවා ගත් අයට ආධාර දීම පිණිස තමන්ගේ කොටස ඉටු කරනු වස්, මුළු ජනගහනයටම (සහ නගරයේ සහ ගමේ යන දෙපෙදෙසෙහිම පොහොසත් කොටස්වලට, ප්‍රථමයෙන්ම) බල කරන සේ සෑම මාධ්‍යයක්ම යොදා ගත යුතුය.

හමුදාවට බඳවා ගත් අය ඉතාමත් ඉක්මනින් හා ඉතාමත් සාර්ථක ලෙස පුහුණු කිරීමට සහායවන පියවරයන් එක් විශේෂ වර්ගයක ආධාරයකි. සෝවියට් ආණ්ඩුව හිටපු යුද්ධ නිලධාරීන්, අධිකාර නොලත් නිලධාරීන්, ආදීන් සියලු දෙනාම සේවයට කැඳවා තිබේ. ප්‍රථමයෙන්, සේවයට වාර්තා නොකරන හිටපු යුද්ධ හමුදා නිලධාරීන්, අධිකාර නොලත් නිලධාරීන්, ආදීන්, සියලු දෙනාම කොටුකර අල්වා ගැනීමට ආධාර කිරීමෙන්ද, දෙවැනිව, න්‍යායික, නැතහොත්, ප්‍රායෝගික (නිදසුනක් ලෙසට, අධිරාජ්‍යවාදී යුද්ධයේදී) යුද්ධ පුහුණුව ලබා ඇති සහ තමන්ගේ කොටස ඉටු කිරීමෙහි සමත් අයගෙන් යුත් කණ්ඩායම් පක්ෂ සංවිධානයේ පාලනය යටතේ, නැතහොත්, ඊට සම්බන්ධ ලෙසින් සංවිධානය කිරීමෙන්ද,

කොමියුනිස්ට් පක්ෂය මෙන්ම, සියලුම හිතවතුන් හා සියලුම කම්කරුවන්, කම්කරුවන්ගේ හා ගොවි ජනයාගේ රාජ්‍යයට ආධාර කළ යුතුය.

## හමුදවෙන් පලා යන අය අතර වැඩ කිරීම

හමුදව හැර පලා යාමට විරුද්ධව කරන සටන මෑතකදී පටන් හොඳ පැත්තට වෙනස් වී තිබෙන බව පැහැදිලිවම පෙනේ. ගුබෙර්නියා ප්‍රදේශ ගණනාවකම පලා ගිය අය සමූහ වශයෙන් ආපසු හමුදවට එන්නට පටන්ගෙන තිබේ. පලා ගිය අය රංචු පිටින් රතු හමුදවට එන බව කීම අතිශයෝක්තියක් නොවේ. එසේ වීමට හේතුව මෙසේය. පළමුව, පක්ෂ සහෝදරවරු වඩාත් කාර්යක්ෂම ලෙස සහ ක්‍රමානුකූල ලෙස වැඩ කරති. දෙවැනිව, කොල්චාක්ගෙන් සහ ඩෙනිකින්ගෙන් සිදුවන්නේ, සාර් පාලනයටත් වඩා දරුණු පාලනයක් යළි ස්ථාපිත වීමත්, කම්කරුවන්ගේ සහ ගොවි ජනතාවගේ වහල්භාවය යළි ස්ථාපිත වීම හා නිලධාරීන්ගේ හා වංශවතුන්ගේ උරුමක්කාරයන් ගේ කස පහරට, මංකොල්ලයට හා නින්ද අපහාසවලට කම්කරුවන් හා ගොවිජනතාව යළි භාජනය වීමත් බව ගොවීන්ට වඩ වඩාත් හොඳින් අවබෝධ වීමය.

එනිසා, හමුදව හැර ගියවුන් ආපසු හමුදවට ගෙන්වන වැඩ සම්බන්ධයෙන් සෑම තැනකදීම අවධාරණය කළ යුතුවේ. මෙම වැඩ කටයුතුවලදී නොදරා හැරිය යුතු පරිශ්‍රමයක් නැත. අද ඉටු කළ යුතුව තිබෙන මූලික සහ හදිසි කර්තව්‍ය අතුරෙන් එකක් මෙය යි.

කරුණු පැහැදිලි කර දීම තුළින් පලා යන්නන් කෙරෙහි බල පෑමක් කිරීමට හැකි වීමෙන් හා කරුණු පැහැදිලි කරදීම ඵලදායක වීමෙන් පෙනෙන්නේ, කම්කරු රාජ්‍ය ගොවි ජනතාව කෙරෙහි විශේෂ ආකල්පයක් දක්වන බවය. එය ඉඩම් හිමි, නැතහොත්, ධනපති රාජ්‍යය දක්වන ආකල්පයට වඩා වෙනස් බවය. මෙහි පසු කී රාජ්‍ය ද්වයෙහිම විනයේ එකම ප්‍රභව මූලය වන්නේ පොල්ලේ පාලනය, නැතහොත් කුසගින්නේ පාලනය ය. කම්කරු රාජ්‍යය, නැතහොත් නිර්ධන පංති ආඥදායකත්වය තුළ වෙනත් ආකාරයක විනයක් ඇති කළ හැකිය. එය නම් කම්කරුවන් විසින් ගොවීන්ට කරුණු පැහැදිලි කර ඒත්තු ගන්වනු ලැබීම, නැතහොත්, ඔවුන් අතර වන සහෝදරාත්මක සන්ධානයක් වේ. අසුවල් ගුබෙර්නියා (නිදසුනක් ලෙසට රියසාන්) ප්‍රදේශයේ පලාගියවුන් දහස් ගණනින් සිය කැමැත්තෙන්ම ආපසු එන බවත්, රැස්වීම්වලදී ''සහෝදර පලා යන්නන්'' වෙත කරන ආයාචනය විස්තර කළ නොහැකි තරම් සාර්ථක වූ බවත් සියැසින් දුටුවන් කරන විස්තරත්, අසන විට ඔබට අවබෝධ වන්නේ,



කම්කරුවන් හා ගොවි ජනතාව අතර වන මෙම සන්ධානය තුළ කොතරම් නම් ශක්තියක් තවමත් උපයෝගි කර නොගෙන තිබේද යන්නය. ධනපතියාට, සමාජවාදී-විප්ලවවාදියාට සහ ''වෙළඳාම් කිරීමේ නිදහසට'' ගොවියාගේ ආධාරය දෙන සේ ඔහු නැඹුරු කරන පූර්ව මතියක් ඔහු තුළ ඇත. නමුත් ඔහු වඩ වඩාත් කම්කරුවන් සමග සන්ධානයකට යොමු කරවන ඥනාන්විත නිගමනවලට එළඹීමේ හැකියාවද ඔහුට ඇත.

## එක එල්ලේම හමුදවට ආධාර දීම

යුද්ධ හමුදවට වැඩියෙන්ම අවශ්‍ය වන්නේ බඩු භාණ්ඩය — ඇඳුම්, පාවහන්, අවි ආයුධ හා ෂෙල් වෙඩි ය. රට දැන් දරිද්‍රතාවයට පත්ව තිබෙන තත්වය යටතේ, හමුදවේ අවශ්‍යතාවයන් සපුරාලීමසඳහා දැවැන්ත පරිශ්‍රමයක් දැරීම අවශ්‍ය වේ. බඩු භාණ්ඩ හිඟය නිසා අනිවාරණීය වශයෙන් විනාශ වී යාමේ ඉරණමෙන් කොල්චාක් හා ඩෙනිකින් බේරී සිටින්නේ බ්‍රිතාන්‍යයේ, ප්‍රංශයේ සහ ඇමෙරිකාවේ ධනපති සොරුන් දෙන විශාල ආධාර පිහිට කොට ගනිමිනි.

රුසියාව දරිද්‍රතාවයට පත්ව ඇතත්, අසීමිත තරම් සම්පත් තවමත් ඇය සතුව තිබේ. අප තවමත් ඒවායින් ප්‍රයෝජන ගෙන නැත. බොහෝ විට අපි ඒවා උපයෝගි කරගැනීමෙහි අසමත් බව පෙන්නුම් කර ඇත්තෙමු. තවමත් හෙළිදරව් කර නැති, නැතහොත්, පරීක්ෂාකර නැති යුද්ධ හමුද ගබඩා සහ නිෂ්පාදන ශක්‍යතා රාශියක් තවමත් ඇත්තේය. ඒවා ගැන සැලකිල්ලක් දක්වනු නොලැබේ. එසේ වන්නේ අඩ වශයෙන් නිලධාරීන් උවමනාවෙන්ම කරන කඩා කප්පල් කිරීම් නිසාය. අඩ වශයෙන් අනුබැදියාව, අනවශ්‍ය ලියකියවිලි අකාර්යක්ෂමතාවය සහ නොසමත් කම නිසාය — නව සමාජ ක්‍රමයක් කරා ''පිම්මක්'' පනින සෑම විප්ලව-යකදීම අනිවාරණීය වශයෙන්ම බලවත් අපහසුවක් වන, ඒ ''පරණ පව්'' සියල්ල නිසාය.

මේ අතින් බලන කල යුද්ධ හමුදවට එක එල්ලේ දෙන ආධාර විශේෂයෙන්ම වැදගත් වේ. එම කටයුත්ත භාරව සිටින ආයතනවලට බාහිර ආධාරය, එනම්, ප්‍රදේශවල කම්කරුවන්ගේ සහ ගොවි ජනයාගේ ස්වේච්ඡා, බලවත් සහ වීරෝදර ක්‍රියාරම්භකත්වයක ''නවතාවය'' අවශ්‍ය වී තිබේ.

පංති විඥනය ඇති සියලුම කම්කරුවන්ගේ සහ ගොවි ජනයාගේත්, සෝවියට් නිලධාරීන්ගේත්, ක්‍රියාරම්භකත්වය පෙන්නුම් කරන ලෙස

අපි හැකි තරම් පුළුල් ලෙස ආයාචනා කළ යුත්තෙමු. යුද්ධ හමුදාවට මේ අතින් දෙන විවිධ ආකාරයේ ආධාර විවිධ ප්‍රදේශවල දී හා විවිධ වැඩ ක්ෂේත්‍රයන්හිදී අත්හදා බැලීම අපි කළ යුතු වෙමු. මෙම ක්ෂේත්‍රයෙහිදී ''විප්ලවවාදී ආකාරයෙන් කරන වැඩ'' දක්නට ඇත්තේ අන් ක්ෂේත්‍රවලට වඩා බොහෝ අඩුවෙනි. නමුත්, විප්ලවවාදී ආකාරයෙන් කරන වැඩ ඉතාමත් වැඩියෙන් අවශ්‍යව ඇත්තේ මෙහිදීය.

ජනගහනයෙන් අවි ආයුධ එකතු කිරීම මෙම කටයුත්තෙන් වෙන් නොකළහැකි කොටසකි. අධිරාජ්‍යවාදී යුද්ධයේ හතර අවුරුද්දක්ද, ඊළඟට ජනතා විප්ලව දෙකක්ද, පසු කළ රටක ගොවි ජනයා සහ ධනපතියන් බොහෝ අවි ආයුධ සහවා ගෙන සිටීම නොවැලැක්විය හැකි ලෙසම සිදුවන්නකි. මෙය සිදුවීම අනිවාරණීය දෙයක් විය. නමුත් ඩෙනිකින්ගේ ප්‍රහාරය ඉදිරියේ, දැන්, අපි එයට විරුද්ධව මුළු ශක්තියෙන්ම සටන් කළ යුත්තෙමු. අවි ආයුධ සහවා තබා ගන්නා, නැතහොත්, සැඟවීමට ආධාර කරන කුමණ හෝ අයෙක් වේවා හේ බරපතල අපරාධයකට වරද කරුවෙකි. ඔහු වෙඩි තබා මරනු ලැබීමට සුදුසු වන්නේය. මක්නිසාද යත්, බොහෝ විට පෙරමුණුවල අවි ආයුධ හිඟකම නිසාම පමණක් විනාශයට ගොදුරුවන කදිම තම රතු හමුදා භටයන් දහස් ගණනින් මිය යාම ගැන ඔහු වගකිව යුතු හෙයිනි.

පෙට්‍රොග්‍රෑඩයේ සහෝදරවරු තරයේ සංවිධාන වූ ආකාරයෙන් පොදු ජන පරීක්ෂාවන් කළ අවස්ථාවේ දහස් ගණනින් රයිපල් තුවක්කු සොයා ගැනීමට ඔවුහු සමත් වූහ. රුසියාවේ සෙසු පෙදෙස් පෙට්‍රොග්‍රෑඩයට දෙවැනි නොවිය යුතුය. මොන ක්‍රමයකින් හෝ එය පසු කර, එය අභිභවා යා යුතුය.

අනිත් අතට, රයිපල් තුවක්කු විශාලම සංඛ්‍යාවක් සහවාගෙන සිටින්නේ ගොවීන් බවටත්, බොහෝ විට ඔවුන් එසේ කරන්නේ කිසිම නපුරු අපේක්ෂාවකින් නොව, සෑම ''රාජ්‍යයක්ම'' අවිශ්වාසයට භාජනය කරන අදහසක් ඔවුන් තුළ ආවේණිකව තිබීම ආදිය නිසා බවටත්, සැකයක් නැත. පලා යන්නන් ස්ව කැමැත්තෙන් ආපසු රතු හමුදාවට ගෙන්වා ගැනීම සඳහා කරුණු වටහා දීම, දක්ෂ උද්ඝෝෂණය හා කටයුත්ත වෙත නියම ආකාරයෙන් සමීප වීම මගින් අපට එතරම් කාර්ය කොටසක්, (හොඳම ගුබේර්නියා පෙදෙස්වල තරම්) විශාල කාර්ය කොටසක් ඉටු කළ හැකි වී නම්, සිය කැමැත්තෙන්ම ආයුධ ආපසු දීමට සැලැස්වීම සඳහාද, ඊට වඩා, නැතහොත්, එතරම්මවත්, කටයුතු කළ හැකි හා කළ යුතු බවට සැකයක් තිබිය නොහැකිය.

කම්කරුවනි හා ගොවියනි, සහවා තිබෙන රයිපල් තුවක්කු සොයා බලා ඒවා හමුදාවට භාර දෙන්න! එසේ කිරීම යනු, කොල්චාක්ගෙන් සහ



ඩෙනිකින්ගෙන් ඔබට එල්ලවන ඝාතනයේ, වෙඩි තැබීමේ, සමූහයාටම කස පහර දීමේ හා කොල්ල කෑමේ තර්ජනයෙන් නිදහස ලැබීමක් වන්නේය!

## යුද්ධය සඳහා නොවන වැඩ අඩු කිරීම

ඉහත සංක්ෂිප්ත වශයෙන් විස්තර කරන ලද කටයුතුවලින් කොටසක් පවා කිරීම සඳහා අපට වැඩි වැඩියෙන් කාරකවරුන් අවශ්‍යවේ. එපමණක් නොව ඔවුන් ඉතාමත් විශ්වාසදායක, කැප වූ හා ධෛර්යමත් කොමියුනිස්ට්වරුන් අතරින් ගත් කාරකවරුන් විය යුතුය.

එවැනි කාරකවරුන්ගේ හිඟය ගැන හා අධික වෙහෙස නිසා ඔවුන් පීඩා විඳින බවට සෑම පැත්තෙන්ම ඇසෙන පැමිණිල්ල ගැන සිතන කල, මෙම කටයුත්තට අවශ්‍ය කාරක වරුන් ලබා ගත හැක්කේ කොහෙන්ද?

මෙම පැමිණිලි බොහෝ දුරට සාධාරණ බවට සැකයක් නැත. කම්කරු සහ ගොවි ජනතාවගේ ආධාරය සහ සහයෝගය ඇතිව මේ පසුගිය විසි මාසය තුළ රුසියාව පරිපාලනය කළ දියුණු කම්කරුවන්ගෙන් හා කොමියුනිස්ට්වරුන්ගෙන් යුත් තට්ටුව කොතරම් තුනී එකක්ද යන්න යමෙක් හරි ආකාරව මැන බලන්නේ නම් ඇත්තෙන්ම අදහා ගැනීමට අපහසු වනු ඇත. නමුත්, සමාජවාදය ගොඩනගමින්ද, අසම සම දුෂ්කරතාවයන් ජය ගනිමින්ද, සෑම තැනෙකම ඉස එසවූ ධනපතියන් සමග කෙළින්ම හා අනියම් ආකාරයෙන් සම්බන්ධ වූ සතුරන් ජයගනිමින්ද, අපි ඉතාමත් සාර්ථක ලෙසින් පරිපාලන කටයුතු කෙළෙමු. අපි අපගේ සතුරන්ගෙන් එකෙක් හැර, එනම්, එන්ටේන්ට් මිත්‍ර ගිවිසුමේ, ඒ සර්වබලධාරී බ්‍රිතාන්‍ය, ප්‍රංශ සහ ඇමෙරිකානු අධිරාජ්‍යවාදී ධනපතියන් හැර, අන් සියලු සතුරන්ම දැනටමත් ජයගෙන සිටින්නෙමු. තවද, අපි මෙම සතුරාගේද එක අතක් — කොල්චාක් — බිඳ දමා ඇත්තෙමු. දැන් අපට තර්ජනය කරන්නේ ඔහුගේ අනිත් අත වන ඩෙනිකින් පමණකි.

රාජ්‍ය පරිපාලන සහ නිර්ධන පංති ආඥාදායකත්වයේ කර්තව්‍යයන් ඉටු කිරීම සඳහා කම්කරු හා ගොවිජන තරුණයන්ගේ ස්වරූපය ගත් නව ශ්‍රම ශක්තිය ඉස්මතු වන්නේය. මෙම තරුණයෝ ඉතාමත් උනන්දුවෙන්, උත්සුක ලෙස හා ගිජු ලෙස උගෙන ගනිති. නව ක්‍රමය පිළිබඳ හැඟීම් ආසක්ත කර ගනිති. පැරණි ධනපති සහ ධනපති ප්‍රජාතන්ත්‍රවාදී පූර්ව මත නැමැති පිට ලෙල්ල ඉවත දමති. ඔවුහු පැරණි පරම්පරාවටත් වඩා හොඳ කොමියුනිස්ට්වාදීන් ලෙසට හැඩ ගැසෙති.

නමුත්, මෙම නව තට්ටුව කොතරම් සීඝ්‍ර ලෙස ඉස්මතු වුනත්, සිවිල් යුද්ධයේ හා ධනපතියන්ගේ උග්‍ර ප්‍රතිරෝධනයේ ගින්න තුළින් යමින් එය කොතරම් සීඝ්‍රයෙන් උගෙනුම හා මේරීම ලැබුවත්, ඒ සියල්ලම එසේ වුවත්, මීළඟ මාස කීපය තුළදී, රාජ්‍ය පරිපාලන කටයුතු කිරීම සඳහා පුහුණු කාර්ය මණ්ඩලයක් අපට සැපයීම එයට කළ හැකි නොවේ. එසේ වුවත්, වැදගත් වන්නේ මෙම මාස කීපයයි — 1919 ග්‍රීෂ්ම ඍතුව සහ ශරත් ඍතුවයි. එසේ වන්නේ ඩෙනිකින්ට විරුද්ධ අරගලය නිශ්චයක් කළ යුතු හා එය වහාම කළ යුතු හෙයිනි.

යුද්ධ ප්‍රයත්නය ශක්තිමත් කිරීමට මනාව පුහුණු කළ කාරකවරුන් විශාල සංඛ්‍යාවක් ලබාගනු සඳහා, යුද්ධ වැඩ නොකරන, නැතහොත්, යුද්ධය හා කෙළින්ම සම්බන්ධ වී නොමැති, එහෙත්, සෝවියට් වැඩ කරන ශාඛා හා ආයතන විශාල සංඛ්‍යාවක්ම ප්‍රමාණයෙන් කුඩා කිරීමට අපි පියවර ගත යුතු වෙමු. අපි මෙම ක්‍රියාමාර්ගය අනුව (එනම්, කුඩා කිරීමේ ක්‍රියාමාර්ගය අනුව) යමින්, නැතිවම බැරි තත්වයක නොපවතින සියලුම ආයතන හා ව්‍යවසායයන් ප්‍රතිසංවිධානය කළ යුත්තෙමු.

අදාළ නිදර්ශනයක් වන ශ්‍රේෂ්ඨ ආර්ථික මණ්ඩලයේ විද්‍යා-තාක්ෂණික දෙපාර්තුමේන්තුව ගෙන බලමු. මෙය ඉතාමත් අගනා ආයතනයකි. පූර්ණ පරිමාණ සමාජවාදය ගොඩනැගීම සහ අපගේ විද්‍යාමය සහ තාක්ෂණික බලවේගයන් සියල්ල නිසි පරිදි බෙදා හැරීම සඳහා අතිශයින්ම අවශ්‍ය එකකි. නමුත්, එය ඉඳුරාම නැතිවම බැරිම ආයතනයක්ද? ඇත්තෙන්ම නැත. යුද්ධ හමුදාව තුළ කළ යුතු හා ඉඳුරාම නොකරම බැරි කොමියුනිස්ට් වැඩ කටයුතු සඳහා නැතහොත් එක එල්ලේම හමුදාවේ සේවය සඳහා යෙදිය යුතු පිරිස්, වර්තමාන අවස්ථාවේ එයට අනුයුක්ත කිරීම එක හෙළාම අපරාධයක් වන්නේය.

මධ්‍යස්ථානයේ සහ ප්‍රදේශවල එවැනි ආයතන සහ ආයතනවල දෙපාර්තුමේන්තු බොහොමයක් ඇත්තේය. පූර්ණවශයෙන් සමාජවාදය වෙත යාමට ප්‍රයත්න දැරීමේදී අපට එවැනි ආයතන පිහිටුවීම වහාම ආරම්භ කිරීමට සිදුවිය. නමුත්, ඩෙනිකින්ගේ බලවත් ප්‍රහාරය හමුවේ, ඉඳුරාම නොකර හැරිය නොහැකි නොවන සියල්ලම තාවකාලිකව නවත්වන, නැතහොත් අඩුකරන පරිදි අපගේ පිරිස් ප්‍රතිසංස්කරණය කර ගැනීමට අපි අපොහොසත්වන්නෙමු නම්, අපි මෝඩයන් හා අපරාධකරුවන් වන්නෙමු.

අපි නැතිගැන්මට ඉඩ නොදිය යුත්තෙමු. සංවිධානාත්මක උත්ප්‍රායට යට නොවිය යුත්තෙමු. අපි සංවිධාන කිසිවක් සම්පූර්ණයෙන්ම ප්‍රතිසංවිධානය කිරීම හෝ වසා දැමීම නොකළ යුත්තෙමු. එමෙන්ම නව සංවිධානද ගොඩ නැගීමද නොකළ යුත්තෙමු. එලෙසින්, ඉක්මන්කාරී



ලෙස කටයුතු කළ විට, එය විශේෂයෙන්ම හානිදායක වනු ඇත. අප කළ යුත්තේ, මධ්‍යස්ථානයේ හා ප්‍රදේශයේ තිබෙන, ඉඳුරාම නැතිවම බැරි නොවන ආයතන, නැතහොත්, ආයතනවල දෙපාර්තුමේන්තු සියල්ල මාස තුනක්, හතරක් හෝ පහක් සඳහා තාවකාලිකව නවත්වා දැමීමය. එසේ නැතහොත්, ඒවා මුළුමනින්ම නවත්වා දැමීමට නොහැකි නම්, ඒවා (දළ වශයෙන්) එම කාලයම සඳහා කුඩා කළ යුතුය. හැකි වැඩිම පමණින් කුඩා කළ යුතුය. වෙනත් වචනවලින් කියතොත්, ඒවායේ වැඩ ඉඳුරාම නොකර බැරි අවමය දක්වා අඩු කළ යුතුය.

අපගේ ප්‍රධාන අරමුණ යුද්ධ වැඩ කටයුතු සඳහා හොඳ පුහුණුවක් ඇති, පළපුරුදු, කැප වූ සහ උරගා බලන ලද කොමියුනිස්ට්වරුන් හෝ සමාජවාදී හිතවතුන් හෝ විශාල සංඛ්‍යාවක් එක් වරම ලබා ගැනීම වන හෙයින්, බොහෝ සේ කුඩා කරන ලද ආයතන (නැතහොත් ආයතනවල දෙපාර්තුමේන්තු) බොහෝ ගණනක් එකම කොමියුනිස්ට්වාදියෙක් වත් නොමැතිව තිබෙන්නට හැරීමේ, නැතහොත්, ඒවා තනිකරම ධනපති විධායක නිලධාරීන් අතෙහි තිබෙන්ට හැරීමේ තාවකාලික අනතුරට මුහුණ දීමට අපට සිදුවිය හැක. එය විශාල අනතුරක් නොවේ. මන්ද යත් මෙවැනි තත්වයක් ඇතිවන්නේ ඉඳුරාම නැතිවම බැරි නොවන ආයතනවල පමණක් හෙයිනි. ඒවායේ (අර්ධ වශයෙන් නැවැත්වුනු) ක්‍රියාකාරිත්වය දුර්වල වීම නිසා ඇත්ත වශයෙන්ම පාඩුවක් සිදුවනු ඇති නමුත්, එය විශාල පාඩුවක් විය නොහැකිය. කෙසේ හෝ වේවා, එයින් අපට මරණීය පාඩුවක් නොවන්නේය. නමුත් යුද්ධ කටයුතු තර කිරීමට සහ වහාම හා සැලකිය යුතු තරමින් ඒවා තර කිරීමට යොදන ශක්තියේ අඩු ලුහුඬු කම් අපට මරණීය අන්තරායක් විය හැක. මෙය පැහැදිලිව වටහා ගත යුතුය. එයින් අවශ්‍ය වන සියලු නිගමනයන්ට එළඹ ගත යුතුය.

මේ මේ ආයතනය, මේ මේ දෙපාර්තුමේන්තුව ඉඳුරාම නැතිවම බැරි එකක්ද, අපි එය තාවකාලිකව නවත්වන්නෙමු නම්, නැතහොත්, එහි කටයුතුවලින් දහයෙන් නව පංගුවක් අඩු කර එහි කොමියුනිස්ට්වරු කිසිවෙක් නොසිටවන්නෙමු නම්, අප විනාශ වනු ඇද්ද? යන ප්‍රශ්නය, සෑම ගුබේර්නියා ප්‍රදේශයකම, උයෙස්ද් ප්‍රදේශයකම, ආදී වූ සෑම ආණ්ඩුවේ දෙපාර්තුමේන්තුවකම, නැතහොත්, අංශයකම කළමණාකරුවෙක්ම, එසේම සෑම කොමියුනිස්ට් න්‍යෂ්ටියක්ම අසන්නේ නම්, මෙම ප්‍රශ්නය මතු කිරීමට ඉක්බිතිව අප්‍රමාදව ඒවායේ වැඩ සීඝ්‍ර ලෙස හා දැඩි ලෙස අඩු කරන්නේ නම් හා කොමියුනිස්ට්වරුන් (සහ ඒ සමග පක්ෂ හිතවතුන් සහ පක්ෂයේ නොවන අය. අතර සිටින ඉතාමත් විශ්වාසදායක සහායකයන්ද) ඉවත් කර ගන්නේ නම්, යුද්ධ හමුදාවේ

දේශපාලන දෙපාර්තුමේන්තුවල, කොමිසාර්වරුන් ආදීන් වශයෙන් වැඩ කිරීම සඳහා අය සිය ගණනින් ඉතා කෙටිකාලයකදී ලබා ගත හැකි වනු ඇත. එවිට ඩෙනිකින් පරාජය කිරීමේ ඉතා හොඳ හැකියාවක් අපට ලැබෙනු ඇත. ඊට වඩා බොහෝ ශක්තිමත් කොල්චාක් පරාජය කළ සේම අපට ඩෙනිකින්ද පරාජය කළ හැකි වනු ඇත.

## පෙරමුණු කලාපයෙහි වැඩ කිරීම

පසු ගිය සති කීපය තුළදී රුසියානු සමාජවාදී ඒකාබද්ධ සෝවියට් සමූහාණ්ඩුවේ යුද්ධ පෙරමුණ කලාපය බෙහෙවින් විශාල වී සහ ඉතාමත් සීඝ්‍ර වෙනසකට භාජනය වී ඇත. මෙය යුද්ධයේ තීරණාත්මක අවස්ථාව, එහි අවසාන අදියර ළඟ එන බව කියන, නැතහොත්, ඊට අනුබද්ධ ලක්ෂණයකි.

එක් අතකින් රතු හමුදාවේ ජයග්‍රහණ නිසා, කොල්චාක් හමුදා බිඳී විසිරී යාම නිසා, කොල්චාක් යටතේ පවතින පළාත්වල විප්ලවය වර්ධනය වී යාම නිසා උරල් කඳුවලින් බටහිර විශාල ප්‍රදේශයක් හා උරල් කඳු පෙදෙස අපගේ පෙරමුණු කලාපය වී තිබේ. අනිත් අතින් අපගේ පරාජයන් නිසා, සතුරා විශාල වශයෙන් පෙට්‍රොග්‍රෑඩය දෙසට ඉදිරියට ගමන් කර තිබෙන නිසා සහ දකුණේ සිට උක්‍රේනියාවට සහ රුසියාව මධ්‍යය දෙසට පෙරට විත් සිටින නිසා, පෙට්‍රොග්‍රෑඩය අසල සහ දකුණේ ඊටත් වඩා විශාල ප්‍රදේශයක් පෙරමුණු කලාපයක් බවට පත්ව තිබේ.

පෙරමුණු කලාපයෙහි කරන වැඩ වැදගත්කම අතින් ප්‍රධාන තැනට පත් වෙමින් තිබේ.

නිර්මාණශීලී සෝවියට් වැඩ කිරීම සඳහා අළුත දිනාගත් ප්‍රදේශවල පදිංචි වීමේ ස්වාභාවික ආශාවක් රතු හමුදාව සීඝ්‍රයෙන් පෙරට යමින් සිටින උරල් අවට ප්‍රදේශයේ හමුදා කාරක වරුන්, එනම්, කොමිසාර්වරුන්, දේශපාලන දෙපාර්තුමේන්තුවල සාමාජිකයින් ආදීන්ද, එමෙන්ම කම්කරුවන් සහ ගොවීන්ද තුළ පවතී. යුද්ධ විඩාව මහත් වූ තරමට, කොල්චාක් කළ මහා විනාශයේ පින්තූරයෙන් ඇති කරන මනස්තාපය වැඩි වූ තරමට මෙම ආශාව වඩාත් ස්වාභාවික වන්නේය. නමුත් මෙම ආශාවට යට වීමට වඩා අන්තරාදායක තවත් දෙයක් තිබිය නොහැක. එයින් අපගේ ප්‍රහාරය දුර්වල වීමේ සහ ප්‍රමාද වීමේ තර්ජනය මතු වන අතර, කොල්චාක්ගේ ශක්තිය නැවත ඇති කර ගැනීමට ඔහුට ලැබෙන අවස්ථාවන් වැඩි වන්නේය. අප එයට යට වෙතොත්, එය විප්ලවයට එක එල්ලේම විරුද්ධව අප කරන අපරාධයක් වනු ඇත.



මොනම තත්වයක් යටතේ හෝ නැගෙනහිර යුද්ධ සේනාවෙන් එකම අතිරේක කාරකවරයෙක් වත් ප්‍රාදේශීය වැඩ සඳහා නොගත යුතුය!* කිසිම හේතුවක් හෝ නිසා ප්‍රහාරය දුර්වල කළ යුතු නොවේ! අපට සම්පූර්ණ ජයග්‍රහණය ලැබීමට ඇති එකම අවස්ථාව නම්, කොල්චාක්ගේ "ප්‍රජාතන්ත්‍රයේ" මහා සෝරය අත්දුටු] උරල් ප්‍රදේශයේ මුළු මහත් ජනගහනයම, එක මිනිසෙක් හෝ නැර, ප්‍රහාරයට සහභාගි වීම සහ සයිබීරියාවේ විප්ලවය සම්පූර්ණයෙන් ජයග්‍රහණය කරන තෙක් එය දිගටම සයිබීරියාව තුළට ගෙන යාමය.

උරල් සහ උරල් ප්‍රදේශයේ සංවිධාන වැඩ ප්‍රමාද වෙද්දෙන්. ඒවා ප්‍රදේශයේ තරුණ, පළපුරුදු අඩු සහ දුර්වල බලවේගයන් පමණක් විසින් කරනු ලැබීම නිසා අඩු වේගයකින් සිදුවෙද්දෙන්. එනිසා අප විනාශයට පත් වන්නේ නැත. නමුත් උරල් ප්‍රදේශයට හා සයිබීරියාවට විරුද්ධව දෙන ප්‍රහාරය දුර්වල කළහොත්, අපි විනාශයට පත්වන්නෙමු. උරල් ප්‍රදේශයේ කැරළිකාර කම්කරුවන්ගේ බලවේග එකතු කර ගනිමින්ද, මෙන්ෂෙවික් මයින්ස්කි සහ සමාජවාදී-විප්ලවවාදී චෙර්නොව් දූන් "ආණ්ඩු ක්‍රම සම්පාදක" පොරොන්දුවල අර්ථය හා එම පොරොන්දුවල නියම අර්ථය වූ කොල්චාක්ගෙන් ඉටුවන අර්ථ සිද්ධිය ගැන බොහෝ දුක් ගැහැට විඳ දූන් උගෙන දූන ගෙන සිටින උරල් ගොවීන්ගේ බලවේග එකතු කර ගනිමින්ද, අපි ප්‍රහාරය ශක්තිමත් කළ යුත්තෙමු.

උරල් ප්‍රදේශයට හා සයිබීරියාවට විරුද්ධව ගෙන යන ප්‍රහාරය දුර්වල කිරීම යනු විප්ලවය පාවාදීමක් වනු ඇත. කොල්චාක් වියගසින් කම්කරුවන් හා ගොවිජනතාව මුදාගැනීමේ ව්‍යායාමය පාවා දීමක් වනු ඇත.

මේ දූන් මුදාගන්නා ලද පෙරමුණු කලාපවල වැඩ කිරීමෙහිදී, එහි ඉටු කළ යුතු ප්‍රධාන කර්තව්‍යය වන්නේ කම්කරුවන් පමණක් නොව ගොවි ජනතාවද සෝවියට් බලය කෙරෙහි විශ්වාසය තබන සේ ඔවුන් පෙළඹවීමය. සෝවියට් බලය යනු කම්කරුවන්ගේ සහ ගොවි ජනතාවගේ බලය බව ව්‍යවහාරයෙන් ඔවුන්ට පැහැදිලි කර දීමය. එසේම, එක් වරම නිවැරදි මාර්ගය, එනම්, විසිමාසයක් වැඩ කිරීමෙන් ලැබූ අත්දැකීම අනුව පක්ෂය පිළිගත් ක්‍රියාමාර්ගය අනුගමනය කිරීමය. අප සමහර විට මහ රුසියාවේදී කළ සහ අප සීඝ්‍රයෙන් මගහැරීමට උගෙන ගනිමින් සිටින ඒ වැරදිම නැවතත් උරල්හිදී නොකළ යුත්තෙමු.

පෙට්‍රොග්‍රෑඩයෙන් ඔබ්බෙහි වන යුද්ධ පෙරමුණ කලාපයෙහිද,

---

* ඉතා හදිසි අවශ්‍යතාවයක් සඳහා නොවේ නම් කිසිම අයෙක් නොගෙන, ජනයා මධ්‍යම ගුබෙර්නියාවලින් මාරු කළ යුතුය!

උක්‍රේනියාවේ සහ දකුණෙහි එතරම් සීඝ්‍ර ලෙස හා තර්ජනාත්මක ලෙස වර්ධනය වෙමින් පැවති අති විශාල යුද්ධ පෙරමුණු කලාපයෙහි ද සෑම සියලු දෙයක්ම යුද්ධ පදනමක් මත තැබිය යුතුය. එසේම එහි සියලුම වැඩ, සියලුම පරිශ්‍රමයන් සහ සියලුම සංකල්පනා යුද්ධයට හා යුද්ධයටම පමණක් යටත් කළ යුතුය. නො එසේ නම්, ඩෙනිකින්ගේ ප්‍රහාරය පළවාහැරීම කොහෙත්ම කළ නොහැකි වනු ඇත. එය පැහැදිලිය. එමෙන්ම, මෙය පැහැදිලිව වටහා ගෙන පූර්ණ වශයෙන් ව්‍යවහාරයට නැගිය යුතුය.

අමතර වශයෙන් තවත් සඳහන් කළ යුතු කරුණකි. ඩෙනිකින්ගේ හමුදාවේ යුද්ධ නිලධාරීන් හා කොසැක්වරුන් රැසක් සිටීම එහි එක් අංග ලක්ෂණයකි. මෙම කොටස පිටුපස එයට ආධාර දෙන ජනතා බලවේගයක් නැත්තේය. එහෙත් තැතිගැන්ම පැතිරවීම සහ හුදෙක් විනාශකාරී අවියෙන්ම විනාශයෙහි යෙදීම සඳහා මොවුන් ක්ෂණික ප්‍රහාරයන්හි, අවදානම් ක්‍රියාවන්හි හා වියරු ප්‍රයත්නයන්හි යෙදීමට සමත්ය.

එවැනි සතුරෙකුට විරුද්ධව සටන් කිරීමේදී ඉතාමත් උසස් මට්ටමේ යුද්ධ විනයක් හා යුද්ධ සුපරීක්ෂාකාරිත්වයක් තිබීම අවශ්‍යය. කල්පනාවෙන් තොරව සිටීම සහ අපරීක්ෂාකාරී වීම යනු, සියල්ල නැති කර ගැනීමකි. වගකිව යුතු සෑම පක්ෂ සහ සෝවියට් කාරකවරයෙක්ම මෙය සිත්හි දරාගත යුත්තේය.

යුද්ධ සහ වෙනත් සියලුම කටයුතුවලදී යුද්ධ විනය රකිමු!

යුද්ධ සුපරීක්ෂාකාරිත්වය හා තදබලකමත්, සහ ආරක්ෂාකාරී පියවරයන් සියල්ලක්ම ගැනීමේදී දැඩි බවත්, රකිමු!

## යුද්ධ විශේෂඥයන් කෙරෙහි දක්වන ආකල්පය

පෙට්‍රොග්‍රෑඩය පාවාදීමේ අරමුණ ඇතිව ක්‍රාස්නයා ගෝර්කා හි කරන ලද මහා කුමන්ත්‍රණය හේතු කොටගෙන, යුද්ධ විශේෂඥයන් සහ පසුමුණෙහි ප්‍රතිවිප්ලවයට විරුද්ධ සටන් කිරීම පිළිබඳ ප්‍රශ්නය නැවතත් බලවත් ලෙස ඉදිරියට විත් තිබේ. ආහාර හා යුද්ධ තත්වය උග්‍රවීම යනු අනිවාරණීය වශයෙන්ම ප්‍රතිවිප්ලවවාදීන් දරන නව තවත් විශාල ප්‍රයත්නයන්ට උනන්දු කාරකයකි. නුදුරු අනාගතයේදී එම උනන්දුකාරකය තවදුරටත් බලපවත්වනු ඇත (පෙට්‍රොග්‍රෑඩ් කුමන්ත්‍රණයට ''ප්‍රතිවර්ධන සංගමය,''[118] කැඩෙට්වරු, මෙන්ෂෙවික්වරු සහ දක්ෂිණ සමාජවාදී-විප්ලවවාදීහු සහභාගි වූහ. වාම සමාජවාදී-විප්ලවවාදීන් එයට සහභාගි වූයේ වෙනම කණ්ඩායමක් ලෙසට බව සැබවි. කෙසේ හෝ වේවා, ඔවුහුද එයට සහභාගි වූහ). එපමණක් නොව, කුලාකයන්, ධනපති බුද්ධිමතුන්, මෙන්ෂෙවික්වරුන් සහ සමාජවාදී-විප්ලවවාදීන් මෙන්ම යුද්ධ විශේෂඥයන්ද නුදුරු අනාගතයේදී වැඩි අනුපාතයක් ද්‍රොහීන් ඉදිරිපත් කරනු ඇති බවට සැකයක්ද නැත.

නමුත් මෙය හේතුවක් කොටගෙන අපගේ යුද්ධ හමුදාවේ මූලික ප්‍රතිපත්ති වෙනස් කිරීමේ ප්‍රශ්නය මතු කිරීම නොපිරිමැසිය හැකි වරදක් සහ සමාව දිය නොහැකි දුර්වල කමක්වනු ඇත. යුද්ධ හමුද විශේෂඥයන් සිය ගණන් අපට ද්‍රෝහී වෙති. ද්‍රෝහී වනු ඇත. අපි ඔවුන් අල්ලා වෙඩි තබන්නෙමු. නමුත් යුද්ධ හමුද විශේෂඥයන් දහස් ගණන් හා දස දහස් ගණන්, ක්‍රමානුකූල ලෙස සහ දීර්ඝ කාලයක් තිස්සේ අපට වැඩ කර තිබේ. ගරිල්ලා බලවේගයක් වීමේ අයහපත් මතකය ඉවත ලා වර්ධනය වී නැගෙනහිර පෙරමුණේදී කාන්තිමත් ජයග්‍රහණ ලැබීමට සමත් වූ රතු හමුද ගොඩනැගීම ඔවුන් නොමැතිව අපට කළ හැක්කක් නොවීය. යුද්ධ විශේෂඥයන් සහ ගරිල්ලා ජීවගුණය මකාලීම හා සම්බන්ධවූ පක්ෂයේ ප්‍රතිපත්තිය ඉතාමත් තරයේ අනුගමනය කරන තැන්වල, විනය ඉතාමත් දැඩිව රකින තැන්වල, හමුද භටයන් අතර කරන වැඩ සහ කොමිසාර්-වරුන්ගේ වැඩ ඉතාමත් අංගපූර්ණ ලෙස කරන තැන්වල, පොදු වශයෙන් කියතොත්, එම ස්ථානවල, ද්‍රෝහී වීමට නැඹුරුවන යුද්ධ විශේෂඥයන්ගේ ගණන ඉතාමත් අඩු බවත්, එම ස්ථානවල ස්වකීය කූටකාර සැලසුම් ක්‍රියාත්මක කිරීමට නැඹුරු වන්නන්ට ලැබෙන ඉඩප්‍රස්ථා ඉතාමත් අඩු බවත්, එහි අපගේ හමුදාවේ ලිහිල් ගතියක් නොමැති බවත්, එහි සංවිධානය සහ දෘඪ ගුණය ඉතාමත් යහපත් බවත්, එසේම එහිදී වැඩියෙන්ම ජයග්‍රහණ ලබන බවත්, අපගේ යුද්ධ දෙපාර්තුමේන්තුවේ ප්‍රධානත්වය දරන පළපුරුදුකම් ඇති අය කියති. යුද්ධ හමුද විශේෂඥයන් ද්‍රෝහී වීමට වඩා ගරිල්ලා ජීව ගුණය නිසා, එයින් එන හැඩ ගැසීම්, එහි නෂ්ඨාව-ශේෂයන් හා එයින් පැවත එන ගතිගුණ නිසා අප හමුදාවට හා උක්‍රේනියානු හමුදාවට අත්වූ දුර්භාග්‍යයන්, එහි සිදුවූ කැඩී විසිරීයාම්, ලැබුණ පරාජය, සිදුවූ ව්‍යසන හා නැතිව ගිය භටයින් සංඛ්‍යාව හා යුද්ධෝපකරණ ප්‍රමාණය අති විශාලය.

පොදු වශයෙන් ධනපති විශේෂඥයන් පිළිබඳ විෂය ගැනත්, ඔවුන් අතුරෙන් එක වර්ගයක් වන යුද්ධ විශේෂඥයන් ගැනත්, කොමියුනිස්ට් පක්ෂයේ ප්‍රතිපත්තිය අපගේ වැඩ පිළිවෙළෙන් ඉතාමත් නියත වශයෙන් පැහැදිලි කර තිබේ. ''ධනපති විශේෂඥයන්ගෙන් උගෙන ගන්නේ නැතිව, ඔවුන්ගේ සේවාවන් උපයෝගි කර ගන්නේ නැතිව සහ ඔවුන් සමග එකට වැඩ කරමින් දීර්ඝ කාලයක් පුහුණුව ලබන්නේ නැතිව වැඩ කරන ජනතාවට ධනපති ක්‍රමය සහ ධනපති සමාජ ක්‍රමය අභිභවන්නට හැකිය

යන බොරු උන්නතිකාමී සහ ඇත්ත වශයෙන්ම අඥාන හා උද්ධච්ච මතයට විරුද්ධව අපි බුරුලක් නොදෙන සටනක් කරමින් සිටින්නෙමු. දිගටම එම සටන කරන්නෙමු.

නමුත් ඒ අතරම, පක්ෂය "ජනගහනයේ මෙම ධනපති කොටසට අල්ප මාත්‍ර හෝ දේශපාලන සහනයක්" නොදෙන්නේය. එපමණක් නොව පක්ෂය "එම කොටසෙන් එන සෑම ප්‍රතිවිප්ලවවාදී ප්‍රයත්නයන්ම නිර්දය ලෙස මර්දනය කරයි. එය දිගටම එසේ කරනු ඇත". එවැනි "ප්‍රයත්නයක්" දරනු ලබන විට, නැතහොත්, දැරීමට බොහෝ ඉඩ කඩ තිබෙන විට එය "නිර්දය ලෙස මර්දනය" කිරීම සඳහා, දීර්ඝ පුහුණුවක් ලැබීමේදී අවශ්‍ය වන සහ ආධුනිකයා පුරුදු කර ගන්නා විචාරවත් කම සහ ප්‍රවේසම් සහිත කම යන ගති ගුණවලට වඩා වෙනත් ගතිගුණ අවශ්‍ය වේ. යුද්ධ විශේෂඥයන් සමග "එකට සිටිමින් දීර්ඝ කාලයක් වැඩ කිරීමෙහි යෙදී සිටින පුද්ගලයන්ගේ ආකල්පය සහ යුද්ධ විශේඥයන්ගේ "ප්‍රතිවිප්ලවවාදී ප්‍රයත්නය නිර්දය ලෙස මර්දනය කිරීමේ" කාර්යයෙහි එක එල්ලේම ඇලී ගැලී සිටින පුද්ගලයන්ගේ ආකල්පය නිසා පහසුවෙන්ම ඝර්ජණ සහ ඝට්ටන ඇතිවන්නට මහ සැලසේ — ඇතිවන්නේය. ප්‍රතිවිප්ලවවාදී "ප්‍රයත්න" දැරීමේ අවස්ථා සහ ඊටත් වඩා මහා පරිමාණ කුමන්ත්‍රණ නිසා අවශ්‍ය වන පිරිස් මාරුව, නැතහොත්, විශාල සංඛ්‍යාවක් යුද්ධ විශේෂඥයන් සමහර විට එහා මෙහා මාරු කිරීමට සිදුවීම නිසාද එසේ විය හැකිය.

අපි එවැනි ඝර්ෂණ සහ ඝට්ටන පක්ෂ පිළිවෙත අනුව බේරුම් කර ගනිමු. තව දුරටත් එසේ කරන්නෙමු. පක්ෂ සංවිධාන සියල්ලම එසේ කළ යුතු බවට බල කරමු. එසේ කිරීමේදී ප්‍රායෝගික කටයුතුවලට අල්ප මාත්‍ර හෝ හානියක් නොවන බවටත්, අවශ්‍ය පියවරයන් ගැනීමේදී අල්ප මාත්‍ර හෝ ප්‍රමාදයක් නොවන බවටත්, අපගේ පිළිගත් යුද්ධ ප්‍රතිපත්තිය පිළිපැදීමට අල්ප මාත්‍ර හෝ පැකිලීමක් නොවන බවටත්, වග බලාගත යුතු බව තරයේ කියන්නෙමු.

අප පක්ෂයේ යම් යම් මණ්ඩල යුද්ධ විශේෂඥයන් කෙරෙහි (මෑතදී පෙට්‍රොග්‍රෑඩයේදී සිදු වූ මෙන්) වැරදි ස්වරූපයක් පා කටයුතු කරන්නේ නම්, සමහර අවස්ථාවල යුද්ධ විශේෂඥයන් ගැන කරන "විවේචනය" ඔවුන් ක්‍රමානුකූල ලෙස සහ අනවරථ ලෙස සේවයෙහි යොදවා ගැනීමට ඍජු බාධකයක් වන්නේ නම්, පක්ෂය අප්‍රමාදවම එවැනි වැරදි නිවැරදි කරන්නේය. එය එම වැරදි නිවැරදි කරනු ඇත.

එම වැරදි නිවැරදි කිරීමේ ප්‍රධාන සහ මූලික මාර්ගය වන්නේ යුද්ධ හමුදාව තුළ සහ හමුදාවට බඳවා ගත් අය අතර කරන දේශපාලන වැඩ උත්සන්න කිරීමය. යුද්ධ හමුදාවේ කොමිසාර්වරුන්ගේ වැඩ වැඩි දියුණු



කිරීමය. වැඩි සුදුසු කම් ඇති කොමිසාර්වරුන් ලබා ගැනීමය. ඔවුන්ගේ මට්ටම උසස් කිරීමය. පක්ෂ වැඩ පිළිවෙළෙන් අපේක්ෂා කරනු ලබන හා බොහෝ විට අඩු පාඩු සහිතව ක්‍රියාත්මක කරනු ලබන දෙය වන, "(යුද්ධ හමුදාවේ) අණ දෙන නිලධාරීන් පිළිබඳ සර්ව පාර්ශවීය පාලනය කම්කරු පංතිය අතෙහි සංකේන්ද්‍රණය කිරීම" භාවිතයෙන් ක්‍රියාත්මක කරනු ලබන බවට වග බලා ගැනීමය. පිටස්තර අය විසින් යුද්ධ විශේෂඥයන් විවේචනය කරනු ලැබීම සහ "ක්ෂණික වැටලීම්" මගින් කාරණා පිළියම් කිරීමට ප්‍රයත්න දැරීම ඉතාමත් පහසුය. එනිසාම ඒවා ඉතාමත් අසාර්ථක හා අනර්ථකාරී වේ. තමන්ගේ දේශපාලන වගකීම පිළිගන්නා අය අපගේ යුද්ධ හමුදාවේ පරාජයවීම් ගැන සිතට ගන්නා අය සියලු දෙනාම, හමුදා පිරිසට, එක්කෝ යුද්ධ භටයන් වශයෙන්, නැතහොත්, අණදෙන නිලධාරීන් වශයෙන්ද, දේශපාලන කාරකවරුන්, නැතහොත්, කොමිසාර්වරුන් වශයෙන්ද බැඳෙන ලෙස කියමු. සෑම කෙනෙක්ම යුද්ධ හමුදාව වැඩි දියුණු කිරීම සඳහා එහි සංවිධානය තුළ වැඩ කරන ලෙස කියමු. තමන්ගේ දක්ෂකම්වලට ගැලපෙන තැනක් සෑම පක්ෂ සාමාජිකයෙකුට සොයා ගත හැකි වනු ඇත.

කම්කරුවන්ටත්, එමෙන්ම ගොවි ජනයාටත්, විශේෂයෙන්ම කොමියුනිස්ට්වරුන්ටත් බරපතළ ආකාරයේ යුද්ධ පුහුණුවක් ලැබීමට හැකියාව ලබා දෙනු පිණිස සෝවියට් ආණ්ඩුව දීර්ඝ කාලයක් තිස්සේ ඉමහත් අවධානයක් දක්වමින් සිටියේය. ආයතන, සංස්ථා හා පාඨමාලා ගණනාවක්ම මගින් මෙය කරනු ලබන නමුත්, එහිලා කෙරෙන කටයුතු තවමත් කොහෙත්ම ප්‍රමාණවත් නොවේ. මේ හා සම්බන්ධයෙන් පෞද්ගලික ක්‍රියාරම්භකත්වය සහ පෞද්ගලික ධෛර්යය පෑමේ ඉඩ කඩ තවත් බොහෝ ඇත. විශේෂයෙන්ම කොමියුනිස්ට්වරු, මැෂින් තුවක්කු, වෙනත් තුවක්කු, සන්නද්ධ වාහන ආදිය පරිහරණය කිරීම ගැන නිරතුරුව අධ්‍යයනය කළ යුතුය. එසේ වන්නේ, මෙහිදී අපගේ නොදියුණු කම බලවත් හෙයිනි. මෙහිදී, යුද්ධ නිලධාරීන් වැඩි සංඛ්‍යාවක් ඇති සතුරාගේ තත්වය උසස් හෙයිනි. මෙහිදී, අවිශ්වාසදායක යුද්ධ විශේෂඥයෙකුට කළ හැකි හානිය විශාල හෙයිනි. මෙහිදී කොමියුනිස්ට්වාදියාගේ කාර්ය කොටස අතිශයින්ම වැදගත් හෙයිනි.

## පසුමුණෙහි ප්‍රතිවිප්ලවයට විරුද්ධව සටන

පසුගිය වර්ෂයේ ජූලි මාසයේදී සිදුවූ මෙන්, අපගේ පසුමුණෙහි හා අප අවට ප්‍රති විප්ලවය හිස ඔසවමින් පවතී.

ප්‍රතිවිප්ලවය පරාජය කර තිබේ. නමුත් එය කිසිසේත්ම විනාශ වී නැත. තවද, එය ස්වාභාවික වශයෙන්ම ඩෙනිකින්ගේ ජයග්‍රහණ සහ උග්‍රවන ආහාර තත්වය වාසියට හරවා ගනියි. එමෙන්ම, නිතරම සිදුවූ පරිදි, ඍජු සහ විවෘත ප්‍රතිවිප්ලවය පසුපස්සේද, ප්‍රාග්ධනය සමග එන්ටෙන්ට් මිත්‍ර ගිවිසුමේ අධිරාජ්‍යවාදය සමග තමන් පවත්වන සම්බන්ධකම් සහ ආඥදායකත්වයේ අනිවාරණීයත්වය ගැන තමන්ගේ අවබෝධය හා (කොල්චාක් ක්‍රමයෙන්) එය ක්‍රියාත්මක කිරීමට තමන්ට ඇති හැකියාව තමන්ගේ ශක්තිය කොටගත් කළු සියය පිරිස් සහ කැඩෙට්වරු පසුපස්සේද, වැනෙනසුලු, කොන්ද පණ නැති මෙන්ෂෙවික්වරු දක්ෂිණ සමාජවාදී-විප්ලවවාදීහු සහ වාම සමාජවාදී-විප්ලවවාදීහු ඇදී යති. එසේ ඇදී යන ඔවුහු තමන්ගේ ක්‍රියාවන් වචනයෙන්ද හුවා දක්වති.

මේ සම්බන්ධයෙන් කිසිම වැරදි අවබෝධයක් නොතිබිය යුතුය! ප්‍රතිවිප්ලවවාදී ක්‍රියා, කඩා පැනීම්, කුමන්ත්‍රණ සහ එවැනි වෙනත් සිදුවීම් ''පෝෂණය කරන මාධ්‍යයන්'' මොනවාද යනු අපි හොඳින් දනිමු. මෙම මාධ්‍යයන් නම්, ධනපතියන්, ධනපති බුද්ධිමතුන්, ගම්බද පෙදෙස්වල කුලාකයන් සහ සෑම තැනකම වන ''අපාක්ෂික'' මහජනයාද, එමෙන්ම සමාජවාදී-විප්ලවවාදීන් හා මෙන්ෂෙවික්වරුන්ද වේ. මෙම මාධ්‍යයන් සම්බන්ධයෙන් අපගේ පරීක්ෂාව ද්විගුණ කළ යුත්තෙමු. එය දස ගුණයකින් වැඩි කළ යුත්තෙමු. නියත වශයෙන් මෙම අවස්ථාවේදී සහ නුදුරු අනාගතයේදී මේ පැත්තෙන් ප්‍රතිවිප්ලවවාදී ප්‍රයත්නයන් මතුවීම කොහෙත්ම නොවැලැක්විය හැකි නිසා අපි අපගේ සුපරීක්ෂාකාරිත්වය දස ගුණයකින් වැඩි කළ යුත්තෙමු. මේ පාළම් පුපුරවා දැමීමට, වැඩ වර්ජන ඇති කරවීමට, සෑම වර්ගයකම වරපුරුෂ ක්‍රියාවන්හි යෙදීමට හා එවැනි වෙනත් දේ කිරීමට නැවත නැවතත් දරන ප්‍රයත්න දක්නට ලැබීම ස්වාභාවිකය. ප්‍රතිවිප්ලවවාදීන් ''පෝෂණය කරන මාධ්‍යයන්'' පැවතීමේ අල්ප මාත්‍ර හෝ ඉඩ ප්‍රස්ථා ඇති සියලුම මධ්‍යස්ථානයන් සම්බන්ධයෙන්, කිසිම විශේෂයක් නොමැතිව, ඉතාමත්දැඩි ලෙස ක්‍රමානුකූල ලෙස, අනවරථ ලෙස, සමස්තමය ලෙස හා අනපේක්ෂිත ආකාරයේ වන ආරක්ෂාකාරී පියවරයන් සියල්ලක්ම ගත යුතුය.

මෙන්ෂෙවික්වරුන් සහ දක්ෂිණ හා වාම සමාජවාදී-විප්ලවවාදීන් සම්බන්ධයෙන් අපි අපගේ අළුත්ම අත්දැකීමෙන් පාඩමක් ගත යුත්තෙමු. ඔවුන්ගේ ''වටපිටාවෙහි'', ඔවුන් වෙත නැඹුරු වන මහජන පිරිස් අතර නිසැක ලෙස දක්නට ලැබෙන, කොල්චාක් ගෙන් හා ඩෙනිකින්ගෙන් දුරස් වී සෝවියට් බලය කරා ඇදී ඒමක් වේ. අපි මෙම වෙනස සැලකිල්ලට ගෙන ඇත්තෙමු. එමෙන්ම එය කිසියම් නියම හැඩයක් ගත් සෑම අවස්ථාවකදීම අපි එය පිළිගැනීමට පියවරක් ඉදිරියට තැබුවෙමු. අපි අපගේ මෙම ප්‍රතිපත්තිය කිසි කලෙකත් වෙනස් නොකරන්නෙමු. පොදු වශයෙන් කියන කළ, කොල්චාක් හා ඩෙනිකින් වෙතට නැඹුරු වන වර්ගයේ මෙන්ෂෙවික්වාදයේ සහ සමාජවාදී-විප්ලවවාදයේ සිට සෝවියට් බලය දෙසට නැඹුරු වන වර්ගයේ මෙන්ෂෙවික්වාදය හා සමාජවාදී-විප්ලවවාදය වෙතට යන ''සංක්‍රමණිකයන්ගේ'' සංඛ්‍යාව වැඩි වනු ඇති බවට සැකයක් නැත.

එහෙත්, කවදත් පුරුදු පරිදි, කොන්ද පණනැති ගතිය හා වැනෙනසුලු බව පාන සමාජවාදී-විප්ලවවාදීන්ගේ සහ මෙන්ෂෙවික්වරුන්ගේ නායකත්වයෙන් යුත් සුළු ධනපති ප්‍රජාතන්ත්‍රවාදීහු මෙම අවස්ථාවේදී සුළඟ හමන අත බලමින්, ජයග්‍රාහකයා වන ඩෙනිකින් වෙතට නැමී යති. වාම සමාජවාදී-විප්ලවවාදීන්ගේද, මෙන්ෂෙවික්වරුන්ගේ (මාර්තව් සහ-සමාගම වැනිවූ) ද, දක්ෂිණ සමාජවාදී-විප්ලවවාදීන්ගේ (චෙර්නොව් සහ සමාගම වැනි වූ) ද ''දේශපාලන නායකයන්'' සම්බන්ධයෙන් මෙය විශේෂයෙන් සැබෑ වන්නේය. එමෙන්ම, අන් සියල්ලටම වඩා ස්වකීය දේශපාලන බංකොලොත් භාවයෙන් උරණව සිටින හා එනිසාම සෝවියට් බලයට විරුද්ධව අනතුරුදායක පියවරයන් ගැනීම පිළිබඳ වූ උදුරා දැමීමට අපහසු මෝහනයකින් පෙළෙන සාමාජිකයන් සිටින ඔවුන්ගේ ''සාහිත්‍යික කණ්ඩායම්වල'' සම්බන්ධයෙන්ද, එය අදාළ වේ.

ඔවුන්ගේ නායකයන්ගේ වචනවලින් හා දෘෂ්ටියෙන්, ඔවුන්ගේ පෞද්ගලික අවංක කමෙන්, නැතහොත්, වංචනික භාවයෙන් අප රවටනු ලැබීමට අපි ඉඩ නොතැබිය යුත්තෙමු. ඔවුන්ගේ පෞද්ගලික චරිත කථා හා සම්බන්ධයෙන් මෙය වැදගත් වේ. නමුත්, දේශපාලනයේ ස්ථාවරයෙන්, එනම්, පංති අතර සම්බන්ධය, දශ ලක්ෂ, ගණන් ජනයා අතර සම්බන්ධය පිළිබඳ සථාවරයෙන් බලන කල එය වැදගත් නොවේ. මාර්තව් සහ සමාගම, ඔවුන්ගේ ''මධ්‍යම කාරක සභාවේ නාමයෙන්'' ඔවුන්ගේ ''ක්‍රියාකාරීන්'' ගාම්භීර ලෙස හෙළා දැක ඔවුන් පක්ෂයෙන් නෙරපා දැමීමට තර්ජනය කරන්නේය (සදාකාලිකව තර්ජනය කරන්නේය!). එම හේතුව නිසා, ''ක්‍රියාකාරීන්'' මෙන්ෂෙවික්වරුන් අතර සියල්ලටම වඩා බලවත් බවද, ඔවුහු ඔවුන් පිටුපස සැඟවී තම කොල්චාක්-ඩෙනිකින් වැඩකටයුතු කරගෙන යනබවද යන සත්‍යය බැහැර නොවේ. වොල්ස්කි සහ සමාගම අවුක්සන්තියෙව්, චෙර්නොව් සහ සමාගම හෙළා දැකීමෙහි යෙදෙන්නේය. නමුත් එනිසා, ඉහත පසු කී අය වොල්ස්කිට වඩා ශක්තිමත් වීම වත්, චෙර්නොව් පහත සඳහන් පරිදි කීමවත් වැලකෙන්නේ නැත. චෙර්නොව් මෙසේ කියයි: ''බොල්ෂෙවික්වරු බලයෙන් නෙරපීම කරන්නේ අප නොවෙයි නම් හා දැන් නොවෙයි නම්,

එය කරන්නේ කවුද හා කවදද?'' වාම සමාජවාදී-විප්ලවවාදීන් ''ස්වාධීනව වැඩ කරනවා'' විය හැක — ප්‍රතිගාමීන් සමග චෙර්නොව්ලා සමග කිසි එකඟතාවයක් නොමැතිව වැඩ කරනවා විය හැක. නමුත්, ඔවුහුද, වාම සමාජවාදී-විප්ලවවාදී මුරව්යොව් මෙන්ම, ''දෘෂ්ටිමය'' හේතූන් නිසා චෙකොස්ලොවැක්වරුන්ට හා කොල්චාක්ට පෙරමුණ විවෘත කර දුන් හිටපු සේනාධිපතියා මෙන්ම, ඩෙනිකින්ගේ මිත්‍රයෝ සහ ඔහුගේ ක්‍රීඩාවේ ඉත්තෝ වෙති.

සටන් කරන දෙපැත්තටම වඩා තමන් ''උසස්'' යයි මාර්තව් සහ වොල්ස්කි සහ සමාගම සිතති: තමන් ''තුන්වැනි පැත්තක්'' නිර්මාණය කිරීමෙහි සමත් යයි ඔවුහු සිතති.

මෙම ආශාව අවංක එකක් වන කල වුවද, එය සුළු ධනපති ප්‍රජාතන්ත්‍රවාදියාගේ මායා මතයක්ම වන්නේය. 1848 න් පසුව හැත්තෑ වර්ෂයක් ගතවී ඇතත්, සුළු ධනපතියා ඉතාමත්ම ප්‍රාථමික දෙය, එනම්, ධනපති වාතාවරණයක් තුළ පැවතිය හැක්කේ ධනපති ආඥාදායකත්වය, නැතහොත්, නිර්ධන පංති ආඥාදායකත්වය පමණක් බවත්, තුන්වැනි මගක් තිබිය නොහැකි බවත්, තවම උගෙන ගෙන නැත. මාර්තව් සහ සමාගම මැරෙන්නේ මෙම මායා මතයන් කරගහගෙනම බව පෙනේ. එය ඔවුන්ගේ කටයුත්තය. නමුත් ව්‍යවහාරයේදී ඔවුන් දක්වන චපල ගති ගැන, ඔවුන් අද ඩෙනිකින් පැත්තටත්, හෙට බොල්ෂෙවික්වරුන් පැත්තටත් වැනෙනු ඇතැයි යන්න ගැන මතක තබා ගැනීම අපගේ කටයුත්තය. තවද අප අද කළ යුත්තේ අද දිනට නියමිත කටයුත්තය.

අපගේ කර්තව්‍යය වන්නේ ප්‍රශ්නය ඇති සැටියෙන්ම ඉදිරිපත් කිරීමය. වඩා හොඳ කුමක්ද? සෝවියට් බලයට විරුද්ධව, වෙනත් වචනවලින් කියතොත්, ඩෙනිකින්ට පක්ෂව (සමහර දෙනෙක් ආයුධ අතෙහි ඇතිව, වෙනත් අය කුමන්ත්‍රණ කරමින්, තවත් සමහරු, මෙන්ෂෙවික් මුද්‍රණ කරුවන් සහ දුම්රිය සේවකයන් ආදීන් වැනි අය, හමුදාවට බඳවා ගැනීමට විරුද්ධව උද්ඝෝෂණය කරමින් ''ඉදිරිපත් වන'' කැඩෙට්වරුන්, අපාක්ෂික ජනයා, මෙන්ෂෙවික්වරුන් සහ සමාජවාදී-විප්ලවවාදීන් අතර වන සිය ගණන් ද්‍රෝහීන් අල්ලා ගැනීම, සිරගත කිරීම සහ සමහර විට වෙඩිතබා දැමීම වුව කළ යුතුද? එසේ නැතහොත් කම්කරුවන් සහ ගොවීන් දස දහස් ගණනින් ඝාතනය කිරීමේ, වෙඩිතබා දැමීමේ හා මැරෙන තෙක් ඔවුන්ට පහර දීමේ හැකියාව කොල්චාක්ට හා ඩෙනිකින්ට ලැබෙන තත්වයක් ඇතිවීමට ඉඩ හැරිය යුතුද? මේ දෙකෙන් එකක් තෝරා ගැනීම දුෂ්කර නොවේ.

ප්‍රශ්නය ඉදිරිපත්ව ඇත්තේ මේ ආකාරයෙනි. වෙනත් ආකාරයකින් නොවේ.



තවමත් මෙය වටහා නොගෙන සිටින අය, එවැනි තීරණයක ''අසාධාරණ'' කම ගැන කෙඳිරිගෑමෙහි සමත් අය කවුරුන් හෝ වේවා ඔවුන් වැඩකට ගත නොහැකියවුන් සේ අත්හැර දමා, මහජන සමච්චලයට හා අපහාසයට ලක් කළ යුතුය.

## එක මිනිසෙක් හෝ නොහැර මුළු ජනගහනයම යුද්ධයට සංවිධාන කරගත යුතුය

සෝවියට් සමූහාණ්ඩුව ලෝක ප්‍රාග්ධනය විසින් වට කරනු ලැබූ බල කොටුවකි. කොල්චාක්ගෙන් බේරී එහි ආරක්ෂාව ලබා ගැනීමේ සහ සාමාන්‍ය වශයෙන් එහි වාසයකිරීමේ අයිතිය දීමට අපට පුළුවන් වන්නේ යුද්ධයට ක්‍රියාශීලී ලෙස සහභාගිවන හා සෑම ආකාරයකින්ම අපට උදව්වන අයට පමණකි. එක මිනිසෙක් හෝ නොහැර මුළු ජනගහනයම යුද්ධ කටයුතු සඳහා, සමහරු වචනයේ ඍජු අර්ථයෙන්ම යුද්ධ හමුදා කටයුතු සඳහාද, අන් අය යුද්ධයට ආධාරකාරී වීමේ සහාය සේවා කටයුතු සඳහා ද, සංවිධානය කර ගැනීමේ අයිතිය අපට ඇත්තේ එහෙයිනි.

මෙය සම්පූර්ණ වශයෙන් ක්‍රියාත්මක කිරීම සඳහා ඉතාමත් හොඳ සංවිධානයක් තිබිය යුතුය. නමුත්, අපගේ ආණ්ඩුව අංග සම්පූර්ණ වන තත්වය අසලකටවත් පැමිණ නැති නිසා (එහි යෞවනභාවය, එහි නවතාවය හා එහි සංවර්ධනය සමග සමාගම් වන අසාමාන්‍ය දුෂ්කරතාවයන් නිසා එය පුදුමයට කරුණක් නොවේ) මෙම අංශයෙහිදී පරිපූර්ණ, නැතහොත්, සැලකිය යුතු යමක් කිරීමට එක් වරම හා පැතිරී ගිය පරිමාණයකින් ප්‍රයත්න දැරීම, ඉතාමත් අන්තරාදායක ලෙස මනස්කාර සංවිධාන කම යොදා ගැනීමක් වන්නේය.

නමුත්, අප මෙම පරමාදර්ශය වෙත ළඟා වනු සඳහා අර්ධ වශයෙන් ඉටු කළ හැකි දෑ බොහෝය. මේ හා සම්බන්ධයෙන් අපගේ පක්ෂ කාරකවරුන් හා සෝවියට් නිලධාරීන් දක්වා ඇති ක්‍රියාරම්භකත්වය කිසිසේත්ම ප්‍රමාණවත් නොවේ.

ප්‍රශ්නය මතු කර, එයට සහෝදරවරුන්ගේ අවධානය යොමු කිරීම මෙහි දී ප්‍රමාණවත් වේ. විශේෂ උපදෙස් දීමේ හෝ යෝජනා ඉදිරිපත් කිරීමේ අවශ්‍යතාවයක් නැත.

සෝවියට් සභාවලට ආසන්නයෙන්ම සිටින සහ පුරුද්දක් ලෙසට තමන් සමාජවාදීන් යයි කියාගන්නා සුළු ධනපති ප්‍රජාතන්ත්‍රවාදීන්, නිදසුනක් ලෙසට සමහර ''වාම'' මෙන්ෂෙවික්වරු හා එවැනි අය,

පුද්ගලයන් අඩස්සි කොට ගැනීමේ, ඔවුන් සිතන ලෙසට "වනචාරී" වූ ක්‍රියාව ගැන, කෝපයෙන් බිණීමට විශේෂයෙන්ම නැඹුරු වන බව පමණක් මෙහිදී නිරීක්ෂණය කරමු.

ඔවුන් කෝපයෙන් කෑගැසුවාවේ. එහෙත්, මෙය කරතහොත් මිස යුද්ධය කරගෙන යා නොහැක. තවද අන්තරාය වඩාත් තියුණු වන විට, මෙම මාධ්‍යය උපයෝගි කර ගැනීම සෑම අර්ථයකින්ම පුළුල් කළ යුතුය, වැඩි කළ යුතුය. මෙන්ෂෙවික්වරුන්, නැතහොත්, ජාත්‍යොන්මාදවාදී මුද්‍රණකරුවන්ද, උසස් දුම්රිය සේවකයන්, රහසේ ලාභ ගරන්නන්, කුලාකයන්, ග්‍රාමීය (සහ නාගරික) ජනගහනයේ පොහොසත් කොටස් සහ එවැනි වෙනත් අයද, කොල්චාක්ට හා ඩෙනිකින්ට එරෙහි ආරක්ෂාව දෙස බොහෝවිට බලන්නේ, කඩාකප්පල් කිරීම දක්වා වර්ධනය වන අන්ත සාපරාධී සහ අන්ත දුර්දාන්ත නොසැලකිලිමත් ආකල්පයකිනි. එවැනි කණ්ඩායම්වල ලැයිස්තු සකස් කළ යුතුය (නැතහොත් ඔවුන් එකිනෙකා සම්බන්ධයෙන් වග කියන කණ්ඩායම් ලෙසට සකස් වන සේ ඔවුන්ට බල කළ යුතුය). එමෙන්ම ඔවුන් යෙදිය යුත්තේ සමහර විට පුරුද්දක් වී තිබෙන පරිදි, යුද්ධ අගල් කැනීමට පමණක් නොවේ. රතු හමුදාවට ද්‍රව්‍යමය ආධාර දීම සඳහා ඉතාමත් විවිධ සහ අංග සම්පූර්ණ කටයුතු සඳහා ඔවුන් යෙදිය යුතුය.

අපි වඩාත් පුළුල් ලෙස, වඩාත් අංග සම්පූර්ණ ලෙස සහ වඩාත් දක්ෂ ලෙස මෙම ක්‍රමය යොදා ගන්නෙමු නම්, රතු හමුදා භටයන්ගේ කෙත් වඩාත් හොඳින් ගොවිතැන් කෙරෙනු ඇත. රතු හමුදා භටයන්ට අවශ්‍ය ආහාර, දුම්කොළ හා වෙනත් දෑ සැපයීම වඩාත් හොඳින් පිළියෙළ වනු ඇත. එක කුමන්ත්‍රණයකින් කම්කරුවන්ගේ හා ගොවීන්ගේ ජීවිත දහස් ගණනින් අනතුරට භාජනය වීම සැලකිය යුතු තරමින් අඩු වනු ඇත. මේ ආදී යහ සාධනයක් සිදුවනු ඇත.

## "විප්ලවවාදී ආකාරයකින් වැඩ කිරීම"

ඉහත සඳහන් කරුණු සම්පිණ්ඩනය කිරීමේදී අපි සරල නිගමනයක් වෙත එළඹෙන්නෙමු. වහාම, මීළඟ මාස කීපය තුළ දී සියලුම කොමියුනිස්ට්වරුන්ගෙන්, පංති විඥනය ඇති සියලුම කම්කරුවන්ගෙන් හා ගොවීන්ගෙන්, කොල්චාක් හා ඩෙනිකින් ජයගනු දකීමට නොකැමති සෑම කෙනෙකුගෙන්ම, ඉටුවිය යුත්තේ අති විශේෂ ශක්තියක් උපදවා ගැනීමය — අවශ්‍ය වන්නේ, "කොමියුනිස්ට්වාදී ආකාරයකින් වැඩ කිරීමය."



මොස්කව්-කසාන් දුම්රිය සේවයේ පුහුණු හා නුපුහුණු යන දෙකොට්ඨාශයටම අයත් කුස ගින්නේ පෙළෙන, විඩාපත් හා දුබල වූ කම්කරුවෝ කොල්චාක් පරදවා ජයග්‍රහණය ලැබීම උදෙසා "කොමියුනිස්ට් සුබොත්නික්" ආරම්භ කර ඇත්තාහ. කොල්චාක් පරදවා ලබන ජයග්‍රහණය සම්පූර්ණ වන තෙක් ඔවුහු නොකඩවාම සතියකට පැය කීපයක් බැගින් වැටුප් රහිතව වැඩ කිරීමට යති. එපමණක් නොව ඔවුන් සාමාන්‍ය නිෂ්පාදකත්වය කීප ගුණයකින් ඉක්මවමින් පෙර නොවූ විරූ ශ්‍රම ඵලදායකත්වයක් පෙන්වා ඇත. මෙයින් පෙනෙන්නේ තවත් මීට වඩා දේ, මීට වඩා බොහෝ දේ කළ හැකි බවය.

අපි එම දේ කරන්නෙමු.
එවිට අපි දිනන්නෙමු.

රු. කො. (බො). ප. ම. කා. නිවේදන පත්‍රිකා අංක 4 හි, 1919 ජූලි 9 දින පළ කරන ලදී

රුසියානු කොමියුනිස්ට් පක්ෂය (බොල්ෂෙවික්) මධ්‍යම කාරක සභාව

සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 39 පිටු 44–63

## සංස්කාරකගේ සටහන්

1 දෙවැනි ජාත්‍යන්තරය — 1889 දී පිහිටුවන ලද, සමාජවාදී පක්ෂවල ජාත්‍යන්තර සංගමය ය. පළමුවැනි ලෝක සංග්‍රාමය (1914–1918) පටන් ගත් විට දෙවැනි ජාත්‍යන්තරයේ නායකයන් සමාජවාදී සද්ව්‍යාපාරයට ද්‍රෝහි වී තම තමන්ගේ අධිරාජ්‍යවාදී ආණ්ඩුවල පැත්තට ගිය නිසා දෙවැනි ජාත්‍යන්තරය විසිර ගියේය. කලින් දෙවැනි ජාත්‍යන්තරයට අයත් වාමාංශික කණ්ඩායම්, 1919 දී මොස්කව්හි පිහිටුවනු ලැබූ කොමියුනිස්ට් (තුන්වැනි) ජාත්‍යන්තරයට එකතු විය.

එම අවුරුද්දේම බර්න්හි (ස්විට්සර්ලන්තය) පැවතුනු සම්මේලනයේදී දෙවැනි ජාත්‍යන්තරය නැවත ආරම්භ කරන ලදී. එයට ඇතුල් වූයේ සමාජවාදී ව්‍යාපාරයේ අවස්ථාවාදී දක්ෂිණාංශය නියෝජනය කරන පක්ෂ පමණකි.

2 සොට්සියාල්-ඩෙමක්‍රාට් (සමාජ -ප්‍රජාතන්ත්‍රවාදියා) — 1908 පෙබරවාරි පටන් 1917 ජනවාරි දක්වා නීති විරෝධී ලෙස පළ වූ රු. ස. ප්‍ර. ක. පක්ෂයේ මධ්‍යම පත්‍රය ය. එහි පළමුවැනි කලාපය පළ වූයේ රුසියාවේ ය, ඉන්පසු එම පත්‍රය පළ වූයේ පැරිස් හා ජිනීවා හි ය. 1911 දෙසැම්බර් සිට සොට්සියාල්-ඩෙමොක්‍රාට් හි සංස්කාරක වූයේ වි. අයි. ලෙනින්ය.

3 කොමුනිස්ට් (කොමියුනිස්ට්) — වි. අයි. ලෙනින් විසින් සංවිධානය කරන ලදුව, එය පළ කිරීම සඳහා මුදල් සපයා දුන් ප්‍යාතකොව් හා බොෂ් සමග සොට්සියාල්-ඩෙමොක්‍රාට් හි කර්තෘ මණ්ඩලය විසින් පළ කරන ලද සඟරාවකි (එම කර්තෘ මණ්ඩලයට බුහාරින් ද ඇතුල් වී සිටියේය). 1916 දී බුහාරින්, ප්‍යාතකොව් හා බොෂ් ගේ කණ්ඩායමේ පක්ෂ විරෝධී ක්‍රියා නිසා, ලෙනින්ගේ යෝජනාව පරිදි, එහි කර්තෘ මණ්ඩලය, එම සඟරාව පළ කිරීම පවත්වා ගෙන යෑම කළ නොහැකි දෙයක් බව ප්‍රකාශ කළේය.

4 මෙහි සඳහන් වන්නේ 'සමාජවාදය හා යුද්ධය (යුද්ධය කෙරෙහි රු. ස. ප්‍ර. ක. ප. දක්වන ආකල්පය)' යන පොත ගැනය.

5 බාසල් ප්‍රකාශනය — 1912 නොවැම්බර් 24–25 ද බාසල්හි පැවැත්වූ ජාත්‍යන්තර සමාජවාදී සම්මේලනය මගින් සම්මත කරන ලද, යුද්ධය පිළිබඳ ප්‍රකාශනය ය. ළඟ එන ලෝක අධිරාජ්‍යවාදී යුද්ධයේ තර්ජනය අනාවරණය කළ හා යුද්ධයේ කොල්ලකාරී අරමුණු හෙළි දරව් කළ එම ප්‍රකාශනය, ''ධනවාදී අධිරාජ්‍ය වාදයට විරුද්ධව ජාත්‍යන්තර නිර්ධන පන්තිය සමගියේ ශක්තිමත් කර'' සාමය සඳහා සටන් කරන ලෙස සකල දේශවාසී කම්කරුවන්ට ආයාචනය කළේය. අධිරාජ්‍යවාදී යුද්ධයක් බිහි වේ නම් එයින් ඇති වන ආර්ථික හා දේශපාලන අර්බුදය, සමාජවාදී විප්ලවය පතා සටන් කිරීම සඳහා සමාජවාදීන් විසින් ප්‍රයෝජනයට ගැනීම පිළිබඳ වූ ලෙනින් නිර්වචනය කළ, ෂ්ටුට්ගාට් සම්මේලනයේ (1907) යෝජනාවේ වගන්තිය බාසල් ප්‍රකාශනයට ඇතුල් විණි.

6 මෙන්ෂෙවික්වරු — රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ අවස්ථාවාදී උපනතියකි. 1903 දී පවත්වන ලද රු. ස. ප්‍ර. ක. ප. දෙවැනි සම්මේලනයේදී මධ්‍යම සංවිධානවලට ඡන්ද විමසීමේදී ලෙනින්ගේ ප්‍රධානත්වයෙන් යුත් විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට බහුතර ඡන්ද සංඛ්‍යාවක්ද අවස්ථා වාදීන්ට අල්පතර ඡන්ද සංඛ්‍යාවක්ද ලැබිණ. එනිසා පළමුවැනි කණ්ඩායම 'බොල්ෂෙවික්වරුන්' (බහුතරය) ලෙසටද දෙවැනි කණ්ඩායම 'මෙන්ෂෙවික්වරුන්' (අල්පතරය) ලෙසටද හැඳින්විනි.

විප්ලවයකදී නිර්ධන පන්තියට ඇති මූලිකත්වයට විරුද්ධවද, කම්කරු පන්තිය හා ගොවීන් අතර සන්ධානයට විරුද්ධවද ඉදිරිපත් වූ මෙන්ෂෙවිකයෝ ලිබරල් ධනපති පංතිය සමග සම්මුතියට එන ලෙස ඉල්ලා සිටියහ. 1917 පෙබරවාරි මස ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයෙන් පසු තාවකාලික ආණ්ඩුවට ඇතුල් වූ මෙන්ෂෙවික් වරු, එම ආණ්ඩුවේ අධිරාජ්‍යවාදී ප්‍රතිපත්තියට අනුබල දුන් අතර, සූදනම් වෙමින් පවතින සමාජවාදී විප්ලවයට විරුද්ධව සටන් කළහ.

ඔක්තෝබර් සමාජවාදී විප්ලවයෙන් ඉක්බිතිව සෝවියට් බලය

පෙරලා දැමීම සඳහා කුමන්ත්‍රණ හා කැරලි සංවිධායකයන් ලෙස මෙන්ෂෙවික්වරු පෙනී සිටියහ.

7 එස්ආර් වරු (සමාජවාදී-විප්ලවවාදීහු) — 1901 අගදී හා 1902 මුලදී බිහි වූ රුසියාවේ සුළු ධනපති පක්ෂයකි.

සමාජවාදීන් ලෙසට වෙස් වෙලා ගන්නට එස්ආර් වරුන් දැරූ ප්‍රයත්න බොල්ෂෙවික් පක්ෂය හෙළි දරව් කළ අතර ගොවි ජනයා මත බලපෑම සඳහා ඔවුන්ට විරුද්ධව නිරන්තරවම අරගල කළේය, එමෙන්ම, ඔවුන් අනුගමනය කළ තනිතනිවම කරන ත්‍රස්තවාදී ප්‍රතිපත්තියෙන් කම්කරු ව්‍යාපාරයට සිදු වූ හානිය හෙළිදරව් කළේය. එසේ වුවද, සුදුසු අවස්ථාවලදී බොල්ෂවික් වරු සාර්වාදයට විරුද්ධ සටනේදී එස්ආර් වරුන් සමග තාවකාලික සම්මුතිවලට යෑම ප්‍රතික්ෂේප නොකළහ. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී එස්ආර්වරුන්ගෙන් බහුතරය සමාජ-ජාතොයාන්මාදවාදී පිළිවෙතක් වැළඳ සිටියහ.

1917 ඔක්තෝබර් සමාජවාදී විප්ලවය ජයග්‍රාහී වීමෙන් පසු එස්ආර්වරු, මෙන්ෂෙවික් හා කැඩෙට් (අංක 33 සටහන බලන්න) වරුන් සමග ප්‍රතිවිප්ලවවාදී ධනපති-ඉඩම්හිමි තාවකාලික ආණ්ඩුවේ ප්‍රධාන ආධාරක වූහ.

ඔක්තෝබර් සමාජවාදී විප්ලවයෙන් ඉක්බිතිව එස්ආර් පාක්ෂිකයෝ, ධනපති පංතිකයින් හා ඉඩම් හිමියන් සමගම සෝවියට් බලයට විරුද්ධව උග්‍ර සටනක් ගෙන ගියහ.

8 මෙය කාල් මාක්ස්ගේ "ගෝතා වැඩ පිළිවෙළෙහි විවේචනය" යන පොතෙහි උපුටා දක්වන ලද්දකි.

9 පැරිස් කොමියුනය — නිර්ධන පංති ආඥාදායකත්වය පිළිබඳ ඉතිහාසයේදී වූ ප්‍රථම අත්දැකීමය. මෙය පැරිසියේදී නිර්ධන පංති විප්ලවය විසින් බිහි කරන ලද විප්ලවවාදී කම්කරු පන්තික ආණ්ඩුව වූ අතර 1871 මාර්තු 18 පටන් මැයි 28 දක්වා වූ දින 72ක් තිස්සේ එය පැවතින.

10 මෙය 1875 මාර්තු 18–28 දී ෆ්‍රෙඩරික් එංගල්ස් බෙබෙල්ට ලියූ ලිපියෙන් උපුටා දක්වන ලද්දකි.

11 මෙම අදහස කාල් මාක්ස් ගේ"ප්‍රංශයේ සිවිල් යුද්ධය"යන කෘතියට එංගල්ස් ලියූ පෙරවදනෙහි ඉදිරිපත් කරන ලදී.



12 මෙහි වී. අයි. ලෙනින් එංගල්ස්ගේ "ආධිපත්‍යය ගැන" යන ලිපියෙන් උපුටා දක්වයි.

13 1871 අප්‍රේල් 12 ද මාක්ස් කුගෙල්මාන්ට ලියූ ලියුමද මාක්ස්ගේ "ප්‍රංශයේ සිවිල් යුද්ධය" යන කෘතියද 1891 දී එංගල්ස් විසින් එම කෘතියට ලියන ලද පෙරවදනද බලන්න.

14 මෙහි සඳහන් කෙරෙන්නේ "කොමියුනිස්ට් පක්ෂයේ ප්‍රකාශනයේ" ජර්මන් මුද්‍රණයට 1872 දී මාක්ස් හා එංගල්ස් ලියූ පෙරවදන ගැනය.

15 1914 අගෝස්තු 4 වැනි දින ජර්මන් රයිහ්ස්ටාගයේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කණ්ඩායම යුද්ධමය වියදම් සඳහා කයිසර් ආණ්ඩුවට ණය ලබා දීමට පක්ෂව ඡන්ද දුන්නේය.

16 ෆ්‍රෙඩරික් එංගල්ස්ගේ "පවුල, පෞද්ගලික දේපොළ හා රජය ඇති වූ හැටි" යන කෘතිය බලන්න.

17 විග් හා ටෝරි — දහහත් වැනි ශත වර්ෂයේ 70–80 ගණන්වලදී බ්‍රිතාන්‍යයේ බිහි වූ දේශපාලන පක්ෂ ය. විග් පක්ෂය, මුදල් හා වෙළඳ ධනපති පංතියේද ධනපති පංතිකයන් බවට පත්ව සිටි වංශවතුන්ගේ කොටසේද අවශ්‍යතාවයන් පිළිබිඹු කළ අතර පසුකලෙක එයින් ලිබරල් පක්ෂය බිහි විය. ටෝරි පක්ෂය, විශාල ඉඩම් හිමියන්ගේ හා එංගලන්ත පල්ලියේ ප්‍රධානීන්ගේ අවශ්‍යතාවයන් නියෝජනය කළ අතර එය රදළවාදී අතීතය ආරක්ෂා කරමින් ලිබරල් හා ප්‍රගතිගාමී ඉල්ලීම් වලට විරුද්ධව ඉදිරිපත් විය. පසුකලෙක එයින් කන්සර්වෙටිව් පක්ෂය බිහි විය. මේ පක්ෂ දෙක එකින් එක මාරු වෙමින් බ්‍රිතාන්‍යය පාලනය කළේය.

18 මෙහි සඳහන් කෙරෙන්නේ, 1894 දී ප්‍රංශ ප්‍රතිගාමී රාජාණ්ඩුවාදී යුද්ධවාදීන් විසින්, ප්‍රංශ හමුදා මූලස්ථානයේ නිලධාරියකු වූ ඩ්‍රෙෆුස් නම් යුදෙව් ජාතිකයකුට විරුද්ධව, චර පුරුෂ සේවය හා රාජ්‍ය ද්‍රෝහිත්වය ගැන බොරු චෝදනාව උඩ සංවිධානය කරන ලද නඩු විභාගය ගැනය. ජීවිතාන්තය දක්වා සිර ගත කිරීම ඩ්‍රෙෆුස්ට නියම කිරීම, යුදෙව් විරෝධී හැඟීම් ඇවිස්සීමටද සමූහාණ්ඩුවාදී ආණ්ඩු ක්‍රමයට හා ප්‍රජාතන්ත්‍රවාදී නිදහසට විරුද්ධව ඉදිරිපත් වීමටද, ප්‍රංශ ප්‍රතිගාමීත්වය පාවිච්චි කළේය. 1899 දී සමාජ බලපෑම නිසා ඩ්‍රෙෆුස්

නිදහස් කරන ලදී. 1906 දී ආයාචනා උසාවිය ඔහුගේ නිවැරදි භාවය ප්‍රකාශ කිරීමෙන් පසු හමුදාවේ පුනරුත්ථාපනය විය.

19 මෙහි සඳහන් වන්නේ, 1916 දී රට ඉංග්‍රීසි පාලනයෙන් නිදහස් කිරීම සඳහා අරම්භ කළ අයිරිෂ් කැරැල්ල කෲර ලෙස මර්දනය කිරීම ගැනය.
අල්ස්ටර් — අයර්ලන්තයේ කොටසය. ප්‍රධාන වශයෙන් ඉංග්‍රීසීන් වාසය කරන අල්ස්ටර් හි හමුද අයර්ලන්ත ජනතාව ගැසූ කැරැල්ල මර්දනය කිරීමට සහභාගී වූහ.

20 රාජ්‍ය දූමා සභාව — 1905 විප්ලවවාදී සිද්ධීන්වල ප්‍රතිඵලයක් වශයෙන් සාර් ආණ්ඩුවට කැඳවීමට සිදු වූ නියෝජිත ආයතනයකි. නාමික වශයෙන් ව්‍යවස්ථා දායක මන්ත්‍රණ සභාවක් වන මෙයට ඇත්තෙන්ම කිසිම බලතලයක් නොතිබින. රාජ්‍ය දූමා සභාවට තෝරා පත් කිරීම රිජු හෝ සමාන හෝ සර්වජන හෝ නොවූ අතර වැඩ කරන පංතීන්ගේ හා රුසියාවේ විසූ රුසියානු නොවන ජාතීන්ගේ ඡන්ද බලය බොහෝ දුරට සීමා කර තිබිනි. කම්කරුවන්ගෙන් හා ගොවීන් ගෙන් විශාල කොටසකට එම අයිතිය අහිමි විය. පළමුවැනි (1906 අප්‍රේල්-ජූලි මාස) හා දෙවැනි (1907 පෙබරවාරි-ජූනි මාස) රාජ්‍ය දූමා සභා සාර් ආණ්ඩුව විසින් විසුරුවා හරින ලදී. 1907 ජූනි 3 ද රාජ්‍ය පෙරලියක් කළ ආණ්ඩුව, කම්කරුවන්ගේ, ගොවීන්ගේ හා නාගරික සුළු ධනපති පංතිකයන්ගේ ඡන්ද දීමේ අයිතිය තවදුරටත් කප්පාදු කරන්නා වූද තුන්වැනි (1907–1912) හා හතරවැනි (1912–1917) රාජ්‍ය දූමා සභාවල විශාල ඉඩම් හිමින්ගේ හා ධනපතීන්ගේ ප්‍රතිගාමී හවුලේ සම්පූර්ණ ආධිපත්‍යයක් සහතික කරන්නා වූද අලුත් මැතිවරණ පනතක් නිකුත් කළේය.

21 ෂයිලොක් — "වෙනිස් මුදලාලි" නම් වූ ෂේක්ස්පියර් ගේ විකට නාටකයේ එන චරිතයකි. කෲර හා කෑදර ලාභ ගරන්නකු වූ මොහු, ණය දීමේ කොන්දේසි උඩ ණය ගෙවීමට අපොහොසත් ණය කරුවාගේ ශරීරයෙන් මස් රාත්තලක් කැපීමට ඉල්ලා සිටියේය.

22 "දේශපාලන උදාසීනත්වය" නම්වූ කාල් මාක්ස්ගේ ලිපිය බලන්න.

23 "ආධිපත්‍යය ගැන" යන ෆ්‍රෙඩ්රික් එංගල්ස්ගේ කෘතිය බලන්න.

24 වර්සයිල්ස් හමුද — 1871 දී පැරිස් කොමියුනයේ ජයග්‍රහණයෙන් පසු වර්සයිල්ස් හි කඳවුරු බැඳගත් ප්‍රංශ ප්‍රතිවිප්ලවවාදී ආණ්ඩුවේ,



තියෙර් ගේ නායකත්වයෙන් යුත් හමුදාවන් ය. පැරිස් කොමියුනය මර්දනය කිරීමේ අවස්ථාවේදී වර්සයිල්ස් වරු අභූත පූර්ව කෲරකමින් යුතුව කොමියුනාර් වරුන් ඝාතනය කළහ.

25 අව්ගියුස්ගේ ඉස්තාලය — ග්‍රීක පුරාණ වෘතාංතයක එන, වීරයකු වූ හර්කියුලස් (හෙරක්ලෙස්) විසින් එක දිනකදී සුද්ධ පවිත්‍ර කරන ලද, ඊට කලින් අවුරුදු ගණනාවක් තිස්සේ අන්ත අපිරිසිදු කමෙහි පැවතුනු, එලීඩා හි අව්ගියුස් රජතුමා ගේ ඉස්තාලයයි. යෙදුම පාවිච්චි කරන්නේ කුණු ගොඩවල් නැතිනම් අන්ත අවුලකට පත් කටයුතු හැඳින්වීමටය.

26 ආණ්ඩුක්‍රම සම්පාදක සභාවට තෝරා පත්කිරීමේ මැතිවරණය පවත්වන ලද්දේ 1917 නොවැම්බර් 12 (25) ද, එනම් ඔක්තෝබර් සමාජවාදී විප්ලවයෙන් පසුවය. එය පවත්වනු ලැබුවේ ඔක්තොබර් විප්ලවයට පෙර සම්පාදනා කළ ලැයිස්තුවලට හා තාවකාලික ආණ්ඩුව විසින් සම්මත කරන ලද මැතිවරණ නීතියට අනුවය. මැතිවරණය පැවැත්වීමේ අවස්ථාවේදී ජනතාවගේ සැහෙන කොටසකට විප්ලවයේ වැදගත්කම ගැන නිසි අවබෝධයක් ලබා ගැනීමට නොහැකිව තිබිණ. මෙය ප්‍රයෝජනයට ගත් එස්එර් වරු අගනුවරින් හා කර්මාන්ත මධ්‍යස්ථාන වලින් ඈත් වූ පෙදෙස්වල තමන් සඳහා බහුතර ඡන්දය සපයා ගැනීමට සමත් වූහ. සෝවියට් ආණ්ඩුව විසින් කැඳවනු ලැබ 1918 ජනවාරි 5 (18) දින රැස්වූ ආණ්ඩු ක්‍රම සම්පාදක සභාවේ ප්‍රතිවිප්ලවවාදී බහුතරය, සමස්ත රුසියා මධ්‍යම විධායක කාරක සභාව ඉදිරිපත් කළ "වැඩ කරන හා සූරා කනු ලබන ජනතාවගේ අයිතිවාසිකම්වල ප්‍රකාශනය" ප්‍රතික්ෂේප කොට, සාමය, ඉඩම් හා පාලන බලය සෝවියට් සභාවලට පවරා දීම පිළිබඳ දෙවැනි සෝවියට් සභා සම්මේලනයේ පනත් සම්මත කිරීමට ප්‍රතික්ෂේප කළ හෙයින් ජනවාරි 6 (19) ද සමස්ත රුසියා මධ්‍යම විධායක කාරක සභාව නිකුත් කළ ආඥා පනත මගින් එය විසුරුවා හරින ලදී.

27 මේ සඳහන වාමාංශික එස් එර් වරුන් ගැන ය.
වාමාංශික එස්එර් වරු—1917 නොවැම්බර් 19–28 (දෙසැම්බර් 2–11) ද පවත්වන ලද එහි ප්‍රථම සමස්ත රුසියා සම්මේලනයේදී සංවිධානාත්මක ලෙස හැඩ ගැසුනු වාමාංශික (ජාත්‍යන්තරවාදී) සමාජවාදී-විප්ලවවාදීන්ගේ පක්ෂය ය. ඊට පෙර වාමාංශික එස්එර් වරු, පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී හැඩ ගැසීමට පටන් ගත්,

සමාජවාදී-විප්ලවවාදී පක්ෂයේ වාමාංශික පිළ වශයෙන් පැවතුනහ,

දෙවැනි සමස්ත රුසියා සෝවියට් සභා සම්මේලනයට සහභාගී වීම පිළිබඳ ප්‍රශ්නය මත භේද වූ එස්ආර් වරුන්ගේ පක්ෂ කණ්ඩායමේ බහුතරය වූයේ වාමාංශික එස්ආර් වරුන්ය. තමන්ගේ පක්ෂයේ මධ්‍යම කාරක සභාවේ තීරණය පිළිගත් එස්ආර් දක්ෂිණාංශය සම්මේලනයෙන් ඉවත් වූ අතර, සම්මේලනයේදී, රැඳී සිටි වාමාංශික එස්ආර් වරු න්‍යාය පත්‍රයේ වූ වැදගත්ම ප්‍රශ්න පිළිබඳව බොල්ෂෙවික් වරුන්ට පක්ෂව ඡන්ද දුන්හ. එම වකවානුවේදී ගොවීන් අතර අනුගාමිකයන් විශාල සංඛ්‍යාවක් සිටි වාමාංශික එස්ආර් වරුන් සමග හවුලක් ඇති කර ගැනීම සුදුසු යැයි අදහස් කළ බොල්ෂෙවික් වරු සෝවියට් ආණ්ඩුවට ඇතුල් වන ලෙස වාමාංශික එස්ආර් වරුන්ට යෝජනා කළ නමුත් මොවුහු මෙම යෝජනාව නොපිළිගත්හ. 1917 නොවැම්බරයේදී හා දෙසැම්බර් මුලදී පවත්වන ලද සාකච්ඡා මාලාවේ ප්‍රතිඵලයක් වශයෙන් බොල්ෂෙවික් වරුන් හා එස් ආර් වරුන් අතර පසුකී පක්ෂය ආණ්ඩුවට සහභාගී වීම පිළිබඳ එකඟත්වයක් ඇති කර තිබිනා. තම ක්‍රියාකාරි-ත්වයේදී මහජන කොමිසාර් මණ්ඩලය හා සමග පොදු ප්‍රතිපත්තියක් අනුගමනය කිරීමට එකඟ වූ වාමාංශික එස්ආර් වරු මහජන කොමිසාර් මණ්ඩල අංශ ගණනාවකට ඇතුල් කරන ලදහ.

බොල්ෂෙවික්වරු හා සමග සහයෝගයෙන් කටයුතු කිරීමේ මාව-තකට පිවිසුනු වාමාංශික එස්ආර් වරු සමාජවාදය ගොඩනැගීම පිළිබඳ වැදගත්ම ප්‍රශ්න සම්බන්ධයෙන් ඔවුන් සමග එකඟ නොවූ අතර නිර්ධන පංති ආඥාදායකත්වයට විරුද්ධව ඉදිරිපත් වූහ.

1918 ජනවාරි හා පෙබරවාරි මාසවලදී වාමාංශික එස්ආර් වරුන්ගේ මධ්‍යම කාරක සභාව බ්‍රෙස්ට් සාම ගිවිසුමට විරුද්ධව ඉදිරිපත් විය. මාර්තු මාසයේදී එය අත්සන් කිරීමෙන් හා හතරවැනි සෝවියට් සභා සම්මේලනය එය සම්මත කිරීමෙන් පසු වාමාංශික එස්ආර් වරු මහජන කොමිසාර් මණ්ඩලයෙන් ඉවත් වූහ. 1918 ග්‍රීෂ්ම කාලයේදී ගමේ සමාජවාදී විප්ලවය පුළුල් කිරීමත් හා දුප්පතුන්ගේ කාරක සභා පිහිටුවීමත් සමග ඔවුන් අතර සෝවියට් විරෝධී හැඟීම් තහවුරු වන්නට විය. බ්‍රෙස්ට් සාම ගිවිසුම කඩාකප්පල් කර එමගින් සෝවියට් රුසියාව හා ජර්මනිය අතර යුද්ධයක් පෙළඹවීමේ අරමුණ ඇතිව වාමාංශික එස්ආර් වරුන්ගේ මධ්‍යම කාරක සභාව 1818 ජූලි මාසයේදී මොස්කව්හි සිටි ජර්මන් තානාපති මිර්බාහ් මරා දැමීම සංවිධානය කොට සෝවියට් විරෝධී කැරැල්ලක් ආරම්භ කළේය. එම නිසා, ජූලි කැරැල්ල මර්දනය කිරීමෙන් පසු තමන්ගේ මතයන් තවම පිළිගෙන සිටි එස්ආර් වරුන් සෝවියට් සභාවලින් ඉවත් කිරීමට



පස්වැනි සමස්ත රුසියා සෝවියට් සභා සම්මේලනය තීරණය කළේය. පුළුල් ජනතාවගේ ආධාරය අහිමි වී ගිය වාමාංශික එස්ආර් වරු සෝවියට් බලයට විරුද්ධව ආයුධ සන්නද්ධ මාර්ගය ගත්තෝය. බොල්ෂෙවික් වරුන් සමග සහයෝගයෙන් කටයුතු කිරීමේ පිළිවෙතක් අනුගමනය කරන වාමාංශික එස්ආර් වරුන්ගෙන් කොටසක් ''නරොද්නික්-කොමියුනිස්ට්'' (ජනතාවාදී කොමියුනිස්ට්) පක්ෂය හා ''විප්ලවවාදී කොමියුනිස්ට් වාදීන්'' ගේ පක්ෂය යන පක්ෂ දෙක ලෙස හැඩ ගැසුනහ. පසුකලෙක එම දෙපක්ෂ සාමාජිකයන්ගේ බහුතරය කොමියුනිස්ට් පක්ෂයට බඳවා ගන්නා ලදී.

28 මෙයින් අදහස් වන්නේ, සාර් රජු පහකර දැමූ 1917 පෙබරවාරි ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය ගැනය.

29 මෙහි වි. අයි. ලෙනින් අදහස් කරන්නේ ''ප්‍රංශයේ සිවිල් යුද්ධය'' නම්වූ කාල් මාක්ස්ගේ කෘතියට එංගල්ස් ලියූ පෙරවදන ගැනය.

30 ප්‍රාව්දා — 1912 අප්‍රේල් 22 (මැයි 5) ද සිට පීටර්බූර්ගයේදී දිනපතා පළ වූ බොල්ෂෙවික්වාදී මධ්‍යම පත්‍රයයි.

කම්කරුවන් විසින් එකතු කර සපයන ලද මුදල්වලින් පළ කෙරුනු එම පත්‍රයේ දිනපතා කලාප සංඛ්‍යාව හතලිස් දහසක් වූ අතර ඇතැම් විට එය හැට දහසක් තරම් විශාල විය.

පොලිසිය විසින් මර්දන කරනු ලැබීමට නිතරම භාජනය වූ ප්‍රාව්දා පත්‍රය 1914 ජූලි 8 (21) ද වසා දමන ලදී. එය නැවත පළ වීමට පටන් ගත්තේ 1917 පෙබරවාරි ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයෙන් පසුව පමණකි. 1917 මාර්තු 5 (18) දින සිට ප්‍රාව්දා පත්‍රය රු. ස. ප්‍ර. ක. ප. මධ්‍යම කාරක සභාවේ හා පීටර්බූර්ග් කාරක සභාවේ නිල පත්‍රය බවට පත් විය. විදේශයේ සිට ආපසු පැමිණි වි. අයි. ලෙනින්, අප්‍රේල් 5 (18) ද කර්තෘ මණ්ඩලයට ඇතුල් වී ප්‍රාව්දා පත්‍රය පළ කිරීම පිළිබඳ කටයුතු මෙහෙයවීම භාර ගත්තේය. 1917 ජූලි-ඔක්තෝබර් මාසවලදී ප්‍රතිවිප්ලවවාදී තාවකාලික ආණ්ඩුව කළ මර්දනකාරී ක්‍රියා නිසා ප්‍රාව්දා පත්‍රය සිය නාමය මාරු කොට ලිස්තොක් ප්‍රාව්දි (ප්‍රාව්දා පත්‍රිකාව), ප්‍රලෙතාරි (නිර්ධන පංතිකයා), රබෝචි පුත් (කම්කරු මාවත) යනාදී නම්වලින් පළ විය. ඔක්තෝබර් සමාජවාදී විප්ලවයෙන් පසු, එනම් 1917 ඔක්තෝබර් 27 (නොවැම්බර් 9) සිට පක්ෂයේ මධ්‍යම පත්‍රය සිය මුල් නාමය ඇතිව පළ වීමට නැවත ආරම්භ විය.

31 මෙහි සඳහන් කෙරෙන්නේ ''රුසියාවේ දේශපාලන පක්ෂ හා නිර්ධන

පංතිය සතු කර්තව්‍යයන්'' යන ලෙනින්ගේ පොත ගැනය. එය 1918 ජනවාරි 15 ද The Evening Post පත්‍රයේද ඇමෙරිකාවේ සමාජවාදී පක්ෂ වාමාංශයේ The Class Struggle නම් වූ සඟරාවේද (1917 අංක 4 දරන නොවැම්බර්-දෙසැම්බර් කලාපයේ) ඉංග්‍රීසි බසින් පළ වූ අතර වෙනම පොතක් ලෙසටද මුද්‍රණය කරන ලදී.

The Evening Post — 1801 සිට නිව්යෝක් හිදී පළ වුණු ඇමෙරිකානු පුවත් පතකි.

32 මෙහි ලෙනින් අදහස් කරන්නේ, රු. ස. ප්‍ර. ක. (බො) ප. හත්වැනි (අප්‍රේල්) සමස්ත රුසියා සමුළුව විසින් පිළිගන්නා ලද පක්ෂ වැඩ පිළිවෙළ සංශෝධන කිරීම පිළිබඳ යෝජනාව ගැනය. මේ යෝජනාවේ කෙටුම්පත ලියන ලද්දේ ලෙනින් විසින්මය.

33 කැඩෙට් වරු — රුසියාවේ ලිබරල් රාජාණ්ඩු වාදී ධනපති පංතිකයන්ගේ ප්‍රධානතම පක්ෂය වූ ව්‍යවස්ථාවාදී-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂ සාමාජිකයෝ මෙනමින් හැඳින්විණහ. ධනපති පංතිකයන්, ඉඩම් හිමි සෙම්ස්ත්ව නායකයන්, ධනේශ්වර බුද්ධිමතුන් යනාදීන්ගෙන් සැදුනු එම පක්ෂය 1905 ඔක්තෝබරයේදී බිහි කරන ලදී. පසුකලෙක එය අධිරාජ්‍යවාදී ධනපති පංතියේ පක්ෂයක් බවට පත් විය.

පළමුවැනි ලෝක සංග්‍රාමයේ අවුරුදු වලදී සාර් ආණ්ඩුව අනුගමනය කළ විදේශයන් අල්ලා ගැනීමේ ප්‍රතිපත්තියට ආධාර දෙමින් සිටි කැඩෙට්වරු, පෙබරවාරි ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලව සමයේදී රාජාණ්ඩු ක්‍රමය බේරා ගැනීමට උත්සාහ කළහ. ධනපති තාවකාලික ආණ්ඩුවේ ප්‍රමුඛව සිටි කැඩෙට්වරු ජනතාවිරෝධී ප්‍රතිවිප්ලවවාදී පිළිවෙතක් වැළඳ ගෙන සිටියහ. ඔක්තෝබර් සමාජවාදී විප්ලවය ජයග්‍රාහී වීමෙන් පසු සෝවියට් ආණ්ඩුවේ සමාදන කළ නොහැකි සතුරන් ලෙස පෙනී සිටි මොවුහු ප්‍රතිවිප්ලවවාදී අවි ආයුධ ගත් කැරැලි සියල්ලටම සහභාගී වූහ.

34 සමස්ත රුසියා ප්‍රජාතන්ත්‍රවාදී සාකච්ඡා සභාව — 1917 සැප්තැම්බර් මාසයේදී පෙත්‍රොග්‍රාද් හි මෙන්ෂෙවික්-එස්ආර් වාදී සෝවියට් සභා මධ්‍යම විධායක කාරක සභාව විසින්, බලය පිළිබඳ ප්‍රශ්නය විසඳීම සඳහා කැඳවන ලද මෙහි සැබෑ අරමුණ වූයේ වර්ධනය වෙමින් පවතින විප්ලවය වෙතින් මහජනයාගේ අවධානය ඉවතට යොමු කිරීමය. නියෝජිතයන් 1500 ට අධික සංඛ්‍යාවක් සහභාගී වූ මෙම සාකච්ඡා සභාවේදී කම්කරු හා ගොවිජන නියෝජිතයන්ගේ සෝවියට් සභාවල නියෝජිතත්වය හැකි තරම් දුරට අඩු කර විවිධ ධනේශ්වර හා සුළු ධනේශ්වර සංවිධානවල නියෝජිත සංඛ්‍යාව වැඩි කිරීම මගින් තමන් සඳහා සම්මේලනයේ බහුතරයක් සහතික කිරීම පිණිස මෙන්ෂෙවික් හා එස්ආර් නායකයෝ හැම උත්සාහයක්ම ගත්හ. ප්‍රජාතන්ත්‍රවාදී සාකච්ඡා සභාව පූර්ව පාර්ලිමේන්තුවක් (සමූහාණ්ඩුවේ තාවකාලික පාර්ලිමේන්තු සභාව) කැඳවීම පිළිබඳ තීරණයක් ගත්තේය. මෙය රුසියාවේ පාර්ලිමේන්තු වාදී ක්‍රමයක් ඇතැයි පෙන්වා දීමට කළ බොරු වෑයමකි. මන්ද යත්, තාවකාලික ආණ්ඩුව සම්මත කළ පනත අනුව පූර්ව පාර්ලිමේන්තුව ආණ්ඩුව යටතේ පවතින මන්ත්‍රණ සභාවක් පමණක් විය යුතු බැවිනි.

කැරැලි ගැසී නැගී සිටීම වෙත මුළු ශක්ති යොමු කිරීම අවශ්‍ය යැයි කී ලෙනින් බොල්ෂෙවික් වරුන් පූර්ව පාර්ලිමේන්තුවෙන් ඉවත් විය යුතු බව අවධාරණයෙන් ඉල්ලා සිටියේය. ලෙනින් ඉදිරිපත් කළ යෝජනාව සාකච්ඡාවට භාජනය කළ පක්ෂයේ මධ්‍යම කාරක සභාව බොල්ෂෙවික් වරුන් පූර්ව පාර්ලිමේන්තුවෙන් බැහැර යෑම පිළිබඳ තීරණය සම්මත කළේය. පූර්ව පාර්ලිමේන්තුව විවෘත වූ ඔක්තෝබර් 7 (20) ද තමන්ගේ ප්‍රකාශනය ප්‍රසිද්ධ කළ බොල්ෂෙවික් වරු එයින් ඉවත් වූහ.

35 මෙහි සඳහන් කෙරෙන්නේ කර්නිලව් කැරැල්ල යනුවෙන් හැඳින්වෙන, 1917 අගෝස්තුවේදී ධනපතියන් හා ඉඩම් හිමියන් සංවිධාන කළ ප්‍රතිවිප්ලවවාදී කැරැල්ල ගැනය. එම කැරැල්ල මෙහෙයවූයේ යුද්ධ හමුදාවේ ප්‍රධාන අණ දෙන නිලධාරියා වූ සාර් සෙන්පති කර්නිලව් ය. කුමන්ත්‍රණ කරුවන්ගේ අරමුණ වූයේ පෙට්‍රොග්‍රැඩය අල්ලා ගෙන බොල්ෂෙවික් පක්ෂය විනාශ කර සෝවියට් සභා විසුරුවා දමා යුද්ධ ආඥාදායකත්වයක් ස්ථාපිත කිරීම මගින් රාජාණ්ඩුව පුණරුත්ථාපනය කිරීම සූදානම් කිරීමය. මෙම කැරැල්ල ආරම්භ වූයේ අගෝස්තු 25 (සැප්තැම්බර් 7) දින ය.

බොල්ෂෙවික් පක්ෂයේ මධ්‍යම කාරක සභාව කළ ආයාචනය පරිදි පෙට්‍රොග්‍රැඩ් කම්කරුවෝ කැරැලි කාරයන්ට විරුද්ධව සටනට නැගී සිටියහ. අගනුවර කම්කරුවෝ රතු හමුද සේනාංක ලෙස හැඩ ගැසෙන්නට වූහ. බොහෝ තැන්වල විප්ලවකාරී කමිටු පිහිටුවන ලදී. කර්නිලව් හමුදාවේ ප්‍රගමනය නතර විය. බොල්ෂෙවික් ප්‍රචාරයේ බලපෑම නිසා සතුරු සොල්දාදුවන්ගේ සටන්කාමීත්වය හා විනය දුර්වල විය. මහජන මතයේ බලපෑම යටතේ කර්නිලව් සහ ඔහුගේ සගයන් අත් අඩංගුවට ගෙන ඔවුන්ට විරුද්ධව නඩු පැවරීම ගැන ආඥාවක් නිකුත් කිරීමට තාවකාලික ආණ්ඩුවට සිදු විය.

36 පෙත්රුෂ්ක — රුසියානු ලේඛක එන්. වී. ගෝගල්ගේ ''මළ ගිය ඇත්තෝ'' යන කෘතියේ එන, කියවීමෙහි යම්තම් සමත් එහෙත් වැටහීමක් නොමැතිව පොත් කියවීමට විශාල උනන්දුවක් දැක්වූ ප්‍රවේණි දසයකුගේ චරිතයකි.

37 මෙහි අදහස් කෙරෙන්නේ ඔක්තෝබර් සමාජවාදී විප්ලවයට කලින් රුසියාවේදී යුද්ධ සිර කරුවන් වූ චෙක් හා ස්ලොවක් ජාතිකයන්ගෙන් සැදුණු චෙකොස්ලොවැක් හමුදාව විසින් ගසන ලද කැරැල්ල ගැනය. මෙන්ෂෙවික් හා එස්ඒර් වරුන්ගේ ක්‍රියාශීලී සහභාගිත්වයෙන් යුතුව ක්‍රියා කරන එන්ටෙන්ට් මිත්‍ර ගිවිසුමේ අධිරාජ්‍යවාදීන් විසින් එම කැරැල්ල සංවිධානය කරන ලදී. ධවල හමුදා හා කුලාකයන් සමග සමීප සහයෝගයෙන් කටයුතු කරන ප්‍රතිවිප්ලවවාදී චෙකොස්ලොවැකියානුවෝ සයිබීරියාවේ උරාල් හා වොල්ගා ප්‍රදේශවල විශාල කොටසක් අල්ලා ගෙන ඒ හැම තැනම ධනපතියන්ගේ පාලනය ඇති කළහ, ප්‍රතිවිප්ලවවාදී චෙකොස්ලොවැකියානුන් අල්ලා ගත් ප්‍රදේශවල, මෙන්ෂෙවික් හා එස්ඒර් වරුන් සහභාගී වූ ප්‍රතිවිප්ලවවාදී ආණ්ඩු බිහි විය: ඔම්ස්ක් හිදී සයිබීරියානු ආණ්ඩුවද, සමාරා හිදී ව්‍යවස්ථා සම්පාදක සභාවේ සාමාජිකයන්ගේ කමිටුවද යනාදී වශයෙනි.

රතු හමුදාව විසින් වොල්ගා ප්‍රදේශය නිදහස් කරන ලද්දේ 1918 සරත් සමයේදී වන අතර ප්‍රතිවිප්ලවවාදී චෙකොස්ලොවැක් ව්‍යාපාරය අවසාන වශයෙන් පරදවන ලද්දේ 1919 අගදී ය.

38 මෙහි වී. අයි. ලෙනින් සඳහන් කරන්නේ ''සෝවියට් ආණ්ඩුවේ හදිසි කර්තව්‍යයන්'' යන, තමා ලියූ ලිපිය ගැනය. (මෙම මුද්‍රණයෙහි අටවැනි වෙළුමේ පිටු 32–75 බලන්න)

39 ජුදුස් ගලව්ලියොව් — එම්. එල්. සල්තිකොව්-ෂෙද්‍රින්ගේ ''ගලව්ලියොව් මහත්වරු'' නවකතාවේ චරිතයකි. එම චරිතය තුළින් ලේඛකයා ඉඩම්හිමි පංතියේ අධ්‍යාත්මික වැටීමද පරපුටුභාවයද මෘගත්වය හා සීමා රහිත වංචා කම් හා කපටි කම්ද පාවාදීම්ද පිළිබිඹු කළේය.

40 ලිබෙර්දන්ලා — ලීබෙර් හා දන් ප්‍රමුඛ මෙන්ෂෙවික් නායකයන් කීප දෙනෙකුට පටබැඳි විකට නාමයකි.

41 ක්‍රියාශීලිහු — ඔක්තෝබර් සමාජවාදී විප්ලවයේ මුල් දවස්වල සිටම සෝවියට් බලයටද බොල්ෂෙවික් පක්ෂයටද යුද්ධ සන්නද්ධ සටන් මාර්ගයක් පිළිගත් මෙන්ෂෙවික් කණ්ඩායමට යෙදෙන හැඳින්වීමය. මොවුහු නානාවිධ ප්‍රතිවිප්ලවවාදී කුමන්ත්‍රණ කාරී සංවිධානවලටද ප්‍රතිවිප්ලවවාදී චෙකොස්ලොවැක් කැරැල්ලටද ක්‍රියාශීලී ලෙස සහභාගි වූ අතර විදේශීය ආක්‍රමණිකයන් සමග සංධානයකට පිවිසුනහ.

42 මෙහි වී. අයි. ලෙනින් අදහස් කරන්නේ ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ මැග්ඩබුර්ග් සම්මේලනයේදී 1910 සැප්තැම්බර් 10 ද බෙබල් කළ කතාව ගැනය.

43 Frankfurter Zeitung (ප්‍රැංක්පුර්ට් පත්‍රය) — 1856 සිට 1943 දක්වා මයින් නදිබඩ ප්‍රැංක්පුර්ට්හිදී පළ කෙරුනු, ජර්මන් ව්‍යාපාර පොළේ දිනපතා පත්‍රයයි.

44 Vorwärts (ඉදිරියට) — 1891 සිට 1933 දක්වා බර්ලිනයේදී පළ වූ ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ මධ්‍යම දිනපතා පත්‍රයයි.

45 මෙහි සඳහන් කෙරෙන්නේ 1918 ඔක්තෝබර් 21 ද Vorwärts අංක 290 හි පළවූ ''ආඥාදායකත්වය නොහොත් ප්‍රජාතන්ත්‍රවාදය'' යන මැයින් ලියූ කර්තෘ වාක්‍යය ගැනය.

46 මෙහි වී. අයි. ලෙනින් සඳහන් කරන්නේ 1903 ජූලි මස 30 (අගෝස්තු 12) ද රු.ස.ප්‍ර.ක.ප. දෙවැනි සම්මේලනයේදී පක්ෂ වැඩ පිළිවෙළ සාකච්ඡාවට පත් කිරීමේ අවස්ථාවේදී ප්ලෙහානව් ඉදිරිපත් කළ කතාව ගැනය.

47 මෙහි සඳහන් කෙරෙන්නේ 1915 සැප්තැම්බර් මස 5–8 පවත්වන ලද ට්සිමර්වොල්ඩ්, හෙවත් පළමුවැනි සමාජවාදී, සාකච්ඡා සම්මේලනය ගැනය.

මෙම සාකච්ඡා සම්මේලනය, විශේෂ කොමිසමක් විසින් සකස් කරන ලද 'යුරෝපයේ නිර්ධන පන්තිකයන් වෙත ආයාචනය' නම්වූ ප්‍රකාශනයක් සම්මත කළේය. ලෙනින්ගේ හා වාමාංශික සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ මහත් උත්සාහය නිසා විප්ලවවාදී මාක්ස්වාදයේ මූලධර්ම ගණනක් මෙම ප්‍රකාශනයට ඇතුලත් කිරීමට පුළුවන් විය. ඊට අමතරව ජර්මන් හා ප්‍රංශ නියෝජිත පිරිස්වල පොදු ප්‍රකාශනයද යුද්ධයට ගොදුරු වන්නවුන්ට හා දේශපාලන කටයුතු නිසා ලුහුබඳිනු ලබන සටන් කරුවන්ට අනුකම්පාවක් ප්‍රකාශ කිරීමේ යෝජනාවක්ද එම සාකච්ඡා සම්මේලනය පිළිගත්තේය.

48 ට්සිමර්වොල්ඩ් වාමාංශික කණ්ඩායම — 1915 සැප්තැම්බර් මාසයේදී ට්සිමර්වොල්ඩ් හි පවත්වන ලද ජාත්‍යන්තර සමාජවාදී සාකච්ඡා සම්මේලනයේදී ලෙනින්ගේ ක්‍රියාරම්භකත්වය පරිදි පිහිටුවන ලද්දකි. එය තුළ එක්සත් කර තිබුණේ රු.ස.ප්‍ර.ක.ප. මධ්‍යම කාරක සභාවේද ස්වීඩනයේ, නොර්වෙයේ, ස්විට්සර්ලන්තයේ හා ජර්මනියේ වාමාංශික සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේද පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී විරුද්ධ පක්ෂයේද, හා ලැත්වියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේද නියොජිතයන් අට දෙනෙකි. ලෙනින්ගේ ප්‍රධානත්වයෙන් යුත් මෙම කණ්ඩායම සාකච්ඡා සම්මේලනයේ මධ්‍යස්ථවාදී බහුතරයට විරුද්ධව අරගල කළේය. එය වී. අයි. ලෙනින්, ජී. ඊ. සිනෝවියෙව් හා කේ. රාදෙක් යන තුන්දෙනා ඇතුළු එහි පාලක මණ්ඩලය වූ බියුරෝව තෝරා පත් කළේය. ට්සිමර්වොල්ඩ් වාමාංශික කණ්ඩායම, ලෙනින් ලියූ ලිපි මාලාවක් මුද්‍රණය කළ Vorbote (පෙරනිමිත්ත) සඟරාව පළ කළේය. මේ කණ්ඩායමේ ප්‍රධාන බලවේගය වූයේ බොල්ෂෙවික් වරුන්ය.

49 කාල් මාක්ස්ගේ 'ප්‍රංශයේ සිවිල් යුද්ධය' නම්වූ කෘතියට එංගල්ස් ලියූ පෙරවදන බලන්න.

50 'ප්‍රංශයේ සිවිල් යුද්ධය' යන මාක්ස්ගේ කෘතිය බලන්න.

51 ටොල්ස්තොයිවාදීහු—රුසියානු ලේඛක එල්. එන්. තොල්ස්තොයි ඉදිරිපත් කළ සදාචාර-දර්ශනික උගැන්වීමේ අනුගාමිකයෝ ය. එම උගැන්වීමේ ප්‍රධාන අංගලක්ෂණය වූයේ හිංසනයට හිංසනයෙන් විරුද්ධ නොවීම පිළිබඳ මූලධර්මය ය.

52 ලොංගේවාදීහු — ලොංගේගේ නායකත්වයෙන් යුත්, ප්‍රංශ සමාජවාදී පක්ෂයේ අල්පතරයේ අනුගාමිකයෝ. 1914–1918 පළමුවැනි ලෝක සංග්‍රාමය සමයේදී සමාජ-ජාතෝන්මාදවාදීන් සම්බන්ධයෙන් සම්මුති වාදී ප්‍රතිපත්තියක් අනුගමනය කළ මොවුහු විප්ලවවාදී අරගලය ප්‍රතික්ෂේප කරමින් අධිරාජ්‍යවාදී යුද්ධයේදී ''පිතෘ භූමිය ආරක්ෂා කිරීමේ'' ස්ථාවරය ගෙන සිටියෝය. ඔක්තෝබර් සමාජවාදී විප්ලවයෙන් පසු ලොංගේවාදීහු තමන් නිර්ධන පංති ආඥාදායකත්වයට පක්ෂව සිටින බව ප්‍රකාශ කළ නමුත් ක්‍රියාවෙන් එයට සතුරු ආකල්පයක් දක්වූහ. 1920 දී ලොංගේවාදීහු විවෘත ප්‍රතිසංස්කරණ වාදීන් සමගම පක්ෂයෙන් කැඩී ගොස් ඊනියා දෙකහමාරේ ජාත්‍යන්තරයට එකතු වූහ.



53 වාමාංශික එස්ඒර් වරු — අංක 27 දරන සටහන බලන්න.

54 වාමාංශික කොමියුනිස්ට්වරු — ජර්මනිය සමග සාම ගිවිසුම (බ්‍රෙස්ට් සාම ගිවිසුම) අත්සන් කිරීමේ ප්‍රශ්නය සම්බන්ධයෙන් 1918 මුලදී බිහි වූ පක්ෂ විරෝධී කණ්ඩායමකි. විප්ලවවාදී යුද්ධය පිළිබඳ වාමාංශික වාක්‍ය ඛාණ්ඩ වලින් මුවාවූ මෙම කණ්ඩායම, ඒ අවස්ථාවේ, තවම නොමැති යුද්ධ හමුදවත් සෝවියට් ජනරජයත් අධිරාජ්‍යවාදී ජර්මනිය සමග යුද්ධයකට යොමු කරවීමේ කෝපකාරී ප්‍රතිපත්තියක් අනුගමනය කිරීම මගින් සෝවියට් බලය විනාශ වීමේ තර්ජනයට තල්ලු කළේය. ඊට අමතරව වාමාශික කොමියුනිස්ට්වරු එක් පුද්ගලයකුගේ ප්‍රධානත්වයටද ශ්‍රම විනයටද කර්මාන්තයෙහි ධනපති විශේෂඥයන් යොමු කිරීමටද විරුද්ධව ඉදිරිපත් වූහ. ලෙනින්ගේ නායකත්වයෙන් යුත් පක්ෂය වාමාංශික කොමියුනිස්ට්වරුන්ගේ ප්‍රතිපත්තියට තීරණාත්මක ලෙස පහර දුන්නේය.

55 ස්පාටකස්වරු — ජර්මන් වාමාංශික සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ විප්ලවවාදී සංවිධානයේ සාමාජිකයෝ ය. ස්පාටකස් කණ්ඩායම අධි-රාජ්‍ය වාදී යුද්ධය ආරම්භයේදී කේ. ලිබ්ක්නෙහ්ට්, ආර්. ලුක්සෙම්බුර්ග් ඇතුළු පිරිසක් විසින් සංවිධාන කරන ලදී. ස්පාටකස්වරු මහජනතාව අතර විප්ලවවාදී ප්‍රචාරය ගෙන ගියෝය, යුද්ධ විරෝධී මහජන පෙළපාළි සංවිධානය කළෝය, වැඩ වර්ජනවලට නායකත්වය දුන්නෝය, යුද්ධයේ අධිරාජ්‍යවාදී හරය හා සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ අවස්ථාවාදී නායකයන්ගේ ද්‍රෝහීත්වය හෙළිදරව් කළෝය. ඒ සමගම ඔවුහු දර්ශන හා දේශපාලන ක්ෂේත්‍රයන්හිදී බරපතළ වැරදිද කළෝය. 1917 අප්‍රේල් මාසයේදී මධ්‍යස්ථවාදී 'ස්වාධීන ජර්මන් සමාජ-ප්‍රජා-තන්ත්‍රවාදී පක්ෂයට' ඇතුලු වූ ස්පාටකස්වරු එය තුළ ඔවුන්ගේ සංවිධානාත්මක ස්වාධීනත්වය රැක ගෙන සිටියහ. 1918 නොවැම්බර් මාසයේදී, එනම් ජර්මන් විප්ලවය අවස්ථාවේදී, 'ස්පාටකස් සංගමය' ලෙසට හැඩ ගැසුණු ස්පාටකස් වරු 1918 දෙසැම්බර් මස 14 ද සිය වැඩ පිළිවෙළ ප්‍රකාශයට පත් කර 'ස්වධීන පක්ෂයෙන්' වෙන් වූහ. 1918 දෙසැම්බර් 30 — 1919 ජනවාරි 1 ද පවත්වන ලද වසවස්ථා සම්පාදක සම්මේලනයේදී ස්පාටකස්වරු ජර්මන් කොමියුනිස්ට් පක්ෂය පිහිටවූහ.

56 මෙහි අදහස් කරන්නේ කෞට්ස්කි ලියූ 'රුසියානු විප්ලවයේ ගාමක බලවේගයන් හා අනාගතය නම්වූ කෘතිය ගැනය. 1906 දෙසැම්බරයේදී

එම කෘතිය ලෙනින්ගේ සංස්කරණයෙන් යුතුව හා ඔහු ලියූ පෙරවදන සහිතව රුසියානු බසින් පළ කරන ලදී.

57 කාල් මාක්ස්ගේ 'ධනපති පංතිය හා ප්‍රතිවිප්ලවවාදිත්වය'' යන ලිපිය බලන්න.

58 නරොද්නික්වාදී කොමියුනිස්ට්වරු හා විප්ලවවාදී කොමියුනිස්ට්වරු යන නම්වලින් හැඳින්වෙන නව පක්ෂ දෙක වාමාංශික එස්ආර් පක්ෂයෙන් වෙන් වූයේ වාමාංශික එස්ආර් වරුන් ජර්මන් තානාපති මිර්බාහ් ප්‍රකෝපකාරී ලෙස මරා දැමූ හා 1918 ජූලි 6–7 ද ගැසූ ඔවුන්ගේ කැරැල්ලෙන් පසුවය.

නරොද්නික්වාදී කොමියුනිස්ට්වරු — වාමාංශික එස්ආර් වරුන්ගේ සෝවියට් විරෝධී ක්‍රියාකාරිත්වය හෙළා දුටු මොව්හු 1918 සැප්තැම්බර් මස පවත්වන ලද සම්මේලනයේදී තමන්ගේම පක්ෂයක් බිහි කළහ. නරොද්නික්වාදී කොමියුනිස්ට්වරු මධ්‍යම පන්තියේ ගොවීන් සමග සන්ධානයක් ඇති කිරීමේ බොල්ෂෙවික් ප්‍රතිපත්තිය අනුමත කළහ. 1918 නොවැම්බර් 6 ද පක්ෂයේ සුවිශේෂ සම්මේලනය, පක්ෂය විසිර ගොස් රු. කො. (බො) පක්ෂයට එකතු වන්නේයයි ප්‍රකාශ කළේය.

විප්ලවවාදී කොමියුනිස්ට් පක්ෂය සංවිධානාත්මක වශයෙන් හැඩ ගැසුණේ 1918 සැප්තැම්බර් 25–30 මොස්කව්හි පවත්වන ලද වොලිය තෘද පත්‍රයට පක්ෂව සිටියවුන්ගේ සම්මේලනයේදීය. එම පක්ෂය 1920 දක්වා කුඩා කණ්ඩායමක් ලෙස පැවතීය. 1920 සැප්තැම්බර මස පවත්වන ලද පක්ෂයේ හයවැනි සම්මේලනය රු. කො. (බො.) පක්ෂයට ඇතුල් වීමේ යෝජනාව පිළිගත්තේය. 1920 සැප්තැම්බරයේදී රු. කො. (බො) පක්ෂයේ මධ්‍යම කාරක සභාව හිටපු විප්ලවවාදී කොමියුනිස්ට්වාදීන් රු. කො. (බො) පක්ෂයට පිළිගැනීමට පක්ෂ සංවිධානවලට අවසර දුන්නේය.

59 කාල් මාක්ස් එල්. කුගෙල්මාන්ට 1871 අප්‍රේල් 12 ද ලියූ ලියුම බලන්න.

60 දුප්පතුන්ගේ කාරක සභා 1918 ජූනි මාසයේදී පිහිටවන ලදී. ඒවායේ ව්‍යවහාරික වැඩවලට ගමේ කරන සියළුම කටයුතු අයත්වූ අතර ඒවා ගමෙහි නිර්ධන පංති ආඥාදායකත්වයේ මධ්‍යස්ථාන හා අවයව විය. දුප්පතුන්ගේ කාරක සභා පිහිටුවීම සමාජවාදී විප්ලවය ගම පුරා තවදුරටත් පුළුල් කිරීමේ ලක්ෂණයක් විය.

දුප්පතුන්ගේ කාරක සභා, කුලාක් ප්‍රතිවිප්ලවය මර්දනය කිරීමේදී ද අසන්තක කිරීම මගින් කුලාක්වරුන්ගේ ආර්ථික ශක්තිය කඩා කප්පල් කිරීමේදීද විශාල ඉඩම්හිමියන්ගේ ඉඩම් අයිතිය අහෝසි කිරීම අවසානයට ගෙන යෑමේදී ද සාගතයෙන් පෙළෙන කම්කරු මධ්‍යස්ථානවලට හා රතු හමුදාවට ආහාර සැපයීමේදී ද අතිවිශාල කාර්ය කොටසක් ඉටු කළේය.

දුප්පතුන්ගේ කාරක සභාවල ක්‍රියාකාරිත්වය, කම්කරු පන්තිය හා ගොවි ජනයා අතර සන්ධානය තහවුරු කිරීමටද මධ්‍යම පන්තියේ ගොවීන් සෝවියට් බලයේ පැත්තට දිනා ගැනීමටද ඉමහත් වැදගත්කමකින් යුක්ත විය.

1918 අගදී ඒවා සතු කර්තව්‍යයන් ඉටු කොට අවසානය දක්වා ගෙන ආ පසු දුප්පතුන්ගේ කාරක සභා ප්‍රාදේශීය කාරක සභා සමග සංකලනය විය.

61 ජූලි අර්බුදය යනුවෙන් ලෙනින් අදහස් කරන්නේ 1918 ග්‍රීෂ්ම කාලයේදී විදේශීය ආක්‍රමණිකයන්ගේ ආධාරයෙන් යුතුව මෙන්ෂෙවික් හා එස්ආර් වරුන් විසින් රටේ මධ්‍යම ගුබෙර්නියාවලද සයිබීරියාවෙද වොල්ගා හා උරාල් ප්‍රදේශයේද සංවිධානය කරන ලද ප්‍රතිවිප්ලවවාදී කුලාක් කැරලිය.

62 බ්ලංකීවාදය — ප්‍රංශ මනෝරාජික කොමියුනිස්ට්වාදයේ නියෝජිත සම්භාවනීය විප්ලවවාදී ඔගුස්ට් බ්ලංකී (1805–1881) ගේ ප්‍රධානත්වයෙන් යුත් සමාජවාදී ව්‍යාපාරයේ ප්‍රවණතාවයකි. විප්ලවවාදී පක්ෂයක ක්‍රියාකාරිත්වය වෙනුවට රහස් කුමන්ත්‍රණකාරීන්ගේ කුඩා කණ්ඩායමක කැරැලි ගසා නැගී සිටීම ආදේශ කළ බ්ලංකිවාදීහු කැරැල්ලක ජයග්‍රහනය සඳහා අවශ්‍ය තත්වයන් නොතකා මහජනතාව සමග සම්බන්ධකම් පහත් කොට සැලකූහ.

පංති අරගලය ප්‍රතික්ෂේප කළ බ්ලංකිවාදීහු මානව වර්ගයා වේතන වහල් භාවයෙන් නිදහස් කිරීමට අදහස් කළේ නිර්ධන පන්තිය ගෙන යන පන්තික අරගලය මගින් නොව කුඩා බුද්ධිමත් අල්පතරයක කුමන්ත්‍රණය තුළිනි.

63 මෙහි අදහස් වන්නේ ඔක්තෝබර් සමාජවාදී විප්ලවයට දින කීපයකට පෙර කෘෂිකර්මය භාර ඇමති එස්. එල්. මාස්ලව් තාවකාලික ආණ්ඩුවට ඉදිරිපත් කළ එස්ආර්වරුන්ගේ කෙටුම්පත් ආඥා පනත ය. මේ කෙටුම්පතින් රාජ්‍යය හා පූජකාරාම සතු ඉඩම් පවරා දී තිබුණු ඉඩම් පිළිබඳ කාරක සභා යටතේ පවතින ඉඩම් බදු මණ්ඩලයක්

පිහිටුවීම අදහස් කෙරිණ. විශාල ඉඩම් හිමියන්ගේ ඉඩම් අයිතිය තවදුරටත් ආරක්ෂා විය. ඉඩම් හිමියන්, ඔවුන් කලින් බද්දට දුන් ඉඩම් පමණක් තාවකාලික බදු ඉඩම් මණ්ඩලය වෙත පවරා දුන් අතර බද්දට දුන් ඉඩම්වලට ගොවීන් ගෙවන කුලිය ඉඩම් හිමියන්ටම යා යුතුව තිබිණ.

ගොවි කැරලිවලට හා විශාල ඉඩම් හිමියන්ගේ ඉඩම් අල්ලා ගැනීමට පිළිතුරක් වශයෙන් තාවකාලික ආණ්ඩුව ඉඩම් පිළිබඳ කාරක සභාවල සාමාජිකයන් අත් අඩංගුවට ගත්තේය.

64 රාජ්‍ය ඉඩම් — 1797 දී පළමුවැනි පාවෙල්ගේ ආඥාව පරිදි පොදු රාජ්‍ය ඉඩම්වලින් සාර් රජුගේ පවුලේ භුක්තියට, එහි ගොවිතැන් කරන ගොවීන් සමගම වෙන් කළ ඉඩම්ය.

65 මෙහි සඳහන් කෙරෙන්නේ, ප්‍රාදේශීය ගොවිජන නියෝග 242 ක පදනම මත සම්පාදනය කරන ලද්දා වූද 1917 ඔක්තෝබර් 26 (නොවැම්බර් 8) ද සමස්ත රුසියා සෝවියට් සභා සම්මේලනය සම්මත කළ 'ඉඩම් පිළිබඳ ආඥා පනතේ සංයුක්ත කොටසක් වශයෙන් එයට ඇතුළත් කරන ලද්දා වූද 'ඉඩම් පිළිබඳ ගොවිජන නියෝගය' ගැනය. එම ආඥාපනත තුළින් විශාල ඉඩම් හිමි අයිතිය අහෝසි වී ඉඩම් ගොවීන්ට පවරා දුන්නේය.

66 මෙහි ලෙනින් අදහස් කරන්නේ 1918 ජනවාරි 18 (31) ද තුන්වැනි සමස්ත රුසියා සෝවියට් සභා සම්මේලනය පිළිගත් 'ඉඩම්වල සමාජකරණය පිළිබඳ මූලික නීතිය' ගැනය.

67 මෙහි සඳහන් වන්නේ ''1905–1907 පළමුවැනි රුසියානු විප්ලවයේදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ ගොවිජන පිළිවෙත'' යන වි. අයි. ලෙනින්ගේ කෘතිය පිළිබඳවය.

68 වි. අයි. ලෙනින් නරොද්නික්වාදීන් යන වචනය යෙදුවේ තෘදවික්වාදී පක්ෂය, සමාජවාදී-විප්ලවවාදී (එස්ආර්) පක්ෂය හා ජනතාවාදී සමාජවාදී පක්ෂය යන නරොද්නික්වාදී ප්‍රවණතා සහිත සුළු ධනපති පක්ෂ තුන හැඳින්වීමටය.

69 කාල් මාක්ස්ගේ ''අතිරේක වටිනාකම පිළිබඳ න්‍යායය'' යන කෘතියේ දෙවැනි කොටස බලන්න.



70 ග්‍රාම කොමියුන සාමාජිකයෝ — ග්‍රාම කොමියුනයේ දේපල ලෙස ඇති ඉඩම් ගොවිතැන් කළ ගොවියෝ. ගෙවතු හිමි ගොවියෝ — තමන්ගේ පෞද්ගලික දේපළ ලෙස ඇති ඉඩම් ගොවිතැන් කළ ගොවියෝ

71 මfප්ලර් කාරයා — එම නාමයෙන් යුත් රුසියානු ලේඛක චෙහව්ගේ කථාවෙහි එන, නව තාවයට හා පෙරදූරිබවට බියෙන් සිටි සීමා වූ මත ධාරියකුගේ චරිතයකි.

72 මෙහි අදහස් කෙරෙන්නේ 1917 ජර්මන් නොවැම්බර් විප්ලවය පිළිබඳවය.

එම විප්ලවය ආරම්භ වූයේ 1918 නොවැම්බර් 3 ද කීල් හි ඇති වූ නාවික හමුදා සේලරුවන්ගේ කැරැල්ලෙනි. මුහුදුබඩ නගර එකින්එක පසා කැරැල්ලට එකතු වීමට පටන් ගති. මුළු උතුරු ජර්මනිය වැළඳ ගත් විප්ලවය කෙටි කලකට පසු රටේ මධ්‍යම හා දකුණු පෙදෙස්ද පුරා පැතිර ගියේය. නොවැම්බර් 9 ද බර්ලිනයෙහි පටන් ගත් පොදු ජන වැඩ වර්ජනය ඉක්මණින් ආයුධ සන්නද්ධ නැගිටීමක් බවට පත්විය. ජනතා නැගිටීමේ ප්‍රතිඵලයක් වශයෙන් දෙවැනි විල්හෙල්ම් රාජාණ්ඩුව පහකර දමන ලදින් විල්හෙල්ම් රජතුමාට රාජාසනය අත් හැරීමට සිදු විය. නොවැම්බර් 10 ද බර්ලින් සභාවේ පූර්ණ රැස්වීමේදී පිහිටුවන ලද තාවකාලික ආණ්ඩුව සමන්විත වූයේ දක්ෂිණ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් (එෆ්.ඒබර්ට්,එෆ්. ෂයිදමාන්, ඕ. ලන්ද්ස්බෙර්ග්) ගෙන් හා පසුකලෙක ආණ්ඩුවෙන් ඉවත් වූ ඊනියා ස්වාධීන සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් (ජී. හාසේ හා ආදීන්) ගෙනි. ආණ්ඩුවේ දේශපාලන පිළිවෙළ ධනපති ක්‍රමයේ රටාව තුළ ඉටු කෙරෙන සමාජ ප්‍රතිසංස්කරණවලට වඩා ඔබ්බට නොගියේය. 1918 දෙසැම්බර් 16–21 දින බර්ලිනයේදී පැවැත්වුණු පළමුවැනි සමස්ත ජර්මන් සෝවියට් සභා සම්මේලනයේදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ දක්ෂිණාංශික නායකයෝ, ව්‍යවස්ථාදායක හා විධායක බලය ආණ්ඩුවට භාර දීම හා ආණ්ඩු ක්‍රම සම්පාදක සභාවක් තෝරා පත් කිරීමේ මැතිවරණයක් පැවැත්වීම පිළිබඳ යෝජනාව සම්මත කරගැනීමට සමත් වූහ. මෙයින් අදහස් වූයේ සෝවියට් සභා අහෝසි කිරීමය.

කොමියුනිස්ට් පක්ෂයට නායකත්වය අහිමි කිරීම හා කම්කරු පන්තියේ පෙරමුණ බල ඇණිය විනාශ කිරීම අරමුණු කොටගත් ජර්මන් ධනපති පන්තිය, ආයුධ සන්නද්ධ නැගිටීමක් අකාලයේ ආරම්භ කරන සේ කම්කරු පංතිය පෙළඹවීය. ජනවාරි 6ද බර්ලිනයේ

පටන් ගත් එම නැගිටීමේ නායකත්වය 'ස්වාධීනයන් අතට හසු විය. ආරම්භයේම සිටම සතුරාට විරුද්ධව අප්‍රමාදව හා තීරණාත්මක ලෙස ප්‍රහාර දීමට අසමත් වූ 'ස්වාධීනයෝ' අනතුරුව ආණ්ඩුව සමග ද්‍රෝහී ලෙස සාකච්ඡා පටන් ගත්හ. යුද්ධ ඇමති වූ දක්ෂිණ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී නොස්කෙ නායකත්වය දුන් ප්‍රතිවිප්ලවවාදී සේනාංක, බර්ලින් නිර්ධන පන්තියේ නැගී සිටීම විශේෂ කෲරකමින් යුතුව මර්දනය කළහ. ජනවාරි 15 ද ආයුධ ගත් පිරිස්, ජර්මන් කම්කරු පංතියේ නායකයන් වන කේ. ලීබ්ක්නෙහ්ට් හා ආර්. ලුක්සම්බුර්ග් අත් අඩංගුවට ගෙන මරා දැමූහ.

73 <u>ජාත්‍යන්තර සමාජවාදී බියුරෝව</u> — 1900 දී බිහි කරන ලද, දෙවැනි ජාත්‍යන්තරයේ ස්ථාවර විධායක හා නිවේදක සංවිධානයක්. මෙය 1917 දක්වා ක්‍රියාත්මක විය.

74 1875 මාර්තු 18–28 ද ෆ්‍රෙඩ්රික් එංගල්ස් ඒ. බෙබෙල්ට ලියූ ලියුම බලන්න.

75 මේ සඳහන, Ostrogorski, M. "La Démocratie et les Partis Politiques (එම්. ඔස්ත්‍රොගොර්ස්කි, ප්‍රජාතන්ත්‍රවාදය හා දේශපාලන පක්ෂ) යන පොත ගැනය. ධනපති ප්‍රජාතන්ත්‍රවාදයේ ව්‍යාජත්වය හා සටප්‍රයෝගය අනාවරණය කරන සත්‍ය කරුණු රාශියක් අඩංගුව ඇති මේ පොත පළමු වරට 1903 දී පැරිසියේ පළ විය.

76 කොමියුනිස්ට් ජාත්‍යන්තරයේ පළමුවැනි සම්මේලනය පවත්වන ලද්දේ 1919 මාර්තු 2–6 ද මොස්කව්හිදී ය.

වි. අයි. ලෙනින්ගේ ප්‍රධානත්වයෙන් යුත් දුවැන්ත ප්‍රාරම්භක වැඩ කටයුත්තක් සම්මේලනය විවෘත වීමට කලින් ඉටු කර තිබිණ. ලෙනින් ගේ නිර්දේශ පදනම් කොට ගෙන හා තමාගේම සහභාගිත්වයෙන් යුතුව, නව ජාත්‍යන්තරයේ මූල ධර්ම ප්‍රසිද්ධ, කිරීමක් අඩංගු වූ "කොමියුනිස්ට් ජාත්‍යන්තරයේ පළමුවැනි සම්මේලනය වෙත" ආයාචනය සකස් කර තිබිණ.

සම්මේලනය විවෘත කරන ලද්දේ ලෙනින් විසිනි. වාර්තා කියවීමෙන් පසු සාකච්ඡාවට භාජන වූ කොමියුනිස්ට් ජාත්‍යන්තරයේ ප්‍රතිපත්ති අනුමත, කරන ලදී. සම්මේලනයේ න්‍යාය පත්‍රයේ ප්‍රධාන ප්‍රශ්නය වූයේ ධනපති ප්‍රජාතන්ත්‍ර වාදය හා නිර්ධන පංති ආඥාදායකත්වය පිළිබඳ ප්‍රශ්නය ය. 1919 මාර්තු 4 ද වී. අයි. ලෙනින් මේ ප්‍රශ්නය සම්බන්ධයෙන් වාර්තාවක් ඉදිරිපත් කළේය. ලෙනින්ගේ ප්‍රවාද එකත් ඡන්දයෙන් අනුමත කළ සම්මේලනය, සියළු රටවල පැතිරවීම සඳහා කොමියුනිස්ට් ජාත්‍යන්තරයේ විධායක කාරක සභාවේ බියුරෝවට ඒවා පවරා දුන් අතර ප්‍රවාදවලට අමතරව ලෙනින් ඉදිරිපත් කළ යෝජනාවද පිළිගත්තේය.ලෙනින්ගේ අනුශාසනය පරිදි ට්සිමර්වොල්ඩ් කණ්ඩායම අහෝසිකිරීම ගැන තීරණයද, 'සකල දේශවාසී නිර්ධන පංතිකයන් වෙත' යන ප්‍රකාශනයද තවත් යෝජනා හා නියෝග ගණනාවක්ද එම සමමේලනය විසින් පිළිගන්නා ලදී.

1919 සිට 1943 දක්වා පැවති කොමියුනිස්ට් ජාත්‍යන්තරයේ විධායක කාරක සභාවේ සභාපති මණ්ඩලය සියලුම කොමියුනිස්ට් පක්ෂවල අනුමැතියකින් යුතුව කොමියුනිස්ට් ජාත්‍යන්තරය විසිරුවා හැරීමට තිරණය කළේ ජාත්‍යන්තර තත්වය වෙනස්වීම නිසා එකම මධ්‍යස්ථානයේ සිටම ජාත්‍යන්තර කොමියුනිස්ට් ව්‍යාපාරය මෙහෙයවීම අසිරු වූ නිසාය.

77 බර්න් සම්මේලනය — දෙවැනි ජාත්‍යන්තරය පුණරුත්ථාපනය අරමුණු කොට ගෙන 1919 පෙබරවාරි 3–10 බර්න් හි දී පවත්වන ලද සමාජ-ජාතොයාන්මාදවාදී හා මධ්‍යස්ථවාදී පක්ෂවල පළමුවැනි පශ්චාත්යුද්ධ සම්මේලනය ය. සම්මේලනයේ ප්‍රධානතම ප්‍රශ්නයන්ගෙන් එකක් වූයේ ප්‍රජාතන්ත්‍රවාදය හා ආඥාදායකත්වය පිළිබඳ ප්‍රශ්නය ය. මේ සම්බන්ධයෙන් කතා කළ මධ්‍යස්ථවාදී බ්‍රාන්ටිං, සමාජවාදී විප්ලවය හා නිර්ධන පංති ආඥාදායකත්වය සමාජවාදයට මග පාදන්නේ නැතැයි ඔප්පු කිරීමට වෑයම් කළේය. සම්මේලනය බොල්ෂෙවික්වාදය හා රුසියාවේ සමාජවාදී විප්ලවය හෙළා දකින ලෙස කේ. කෞට්ස්කි හා ඊ බෙර්න්ෂ්ටයින් තමන්ගේ කථා මගින් සම්මේලනයෙන් ඉල්ලා සිටියහ. රුසියාවේ ඕස්ත්‍රො-හංගේරියාවේ හා ජර්මනියේ විප්ලවවලට වංචාකාරී ලෙස සුභ පැතුම් කරන අතර නිර්ධන පංති ආඥාදායකත්වය හෙලා දක ධනපති ප්‍රජාතන්ත්‍රවාදයට ප්‍රශංසා කරන යෝජනාවක් බ්‍රාංටිං ඉදිරිපත් කළේය. වැඩි ඡන්දයෙන් එම යෝජනාව පිළිගන්නා ලදී.

කොමියුනිස්ට් ජාත්‍යන්තරයේ පළමුවැනි සම්මේලනය සමාජවාදී ප්‍රවණතා හා බර්න් සම්මේලනය කෙරෙහි ආකල්පය ගැන' යන විශේෂ යෝජනාවක් පිළිගත්තේය. එම යෝජනාව තුළින්, බර්න් සම්මේලනයේ තීරණයන් විවේචනයට ලක්කොට තිබුණු අතර, විශේෂයෙන්ම සෝවියට් රුසියාවට විරුද්ධව අධිරාජ්‍යවාදී ආක්‍රමණය වසං කිරීමට දෙවැනි ජාත්‍යන්තරයට ඉඩ දෙන තීරණයක් පිළිගැන්වීමට දක්ෂිණ සමාජවාදී නායකයන් දැරූ ප්‍රයත්න හෙළා දකින ලදී.

78 කාල් මාක්ස්ගේ 'ප්‍රංශයේ සිවිල් යුද්ධය' යන කෘතියට ලියූ පෙරවදන බලන්න.

79 කාල් මාක්ස් ලියූ 'ප්‍රංශයේ සිවිල් යුද්ධය' යන කෘතිය බලන්න.

80 එන්ටෙන්ට් මිත්‍ර ගිවිසුම (ත්‍රිපාක්ෂික ගිවිසුම) — බ්‍රිතාන්‍යය, ප්‍රංශය හා සාර් රුසියාව යන රටවල් තුනෙන් යුත් අධිරාජ්‍යවාදී හවුල මේ නමින් හැඳින්විණ. පළමුවැනි ලෝක යුද්ධයේ අවුරුදුවලදී එක්සත් ජනපදය, ජපානය, ඉතාලිය ඇතුළු රටවල් ගණනාවක් මෙම පවුලට එකතු විය.

81 Shop-Stewards Committees (වැඩ නායක කාරක සභා) — බ්‍රිතාන්‍යයේ කර්මාන්ත අංශ ගණනාවකම පැවති හා පළමුවැනි ලෝක යුද්ධය සමයේදී පුළුල් ලෙස ව්‍යාප්ත වූ තෝරි පත් වීම් තුළින් සංවිධානය වූ කම්කරු සංවිධාන ය. ''රටවැසි සාමයේ'' හා වැඩ වර්ජන අරගලය ප්‍රතික්ෂේප කිරීමේ ප්‍රතිපත්තියක් අනුගමනය කළ සම්මුතිවාදී වෘත්තීය සමිති මෙන් නොව, කම්කරුවන්ගේ ඉල්ලීම් හා අවශ්‍යතාවයන් ආරක්ෂා කළ මේ කාරක සභා කම්කරුවන්ගේ වැඩ වර්ජන මෙහෙයවූ අතර යුද්ධ විරෝධී ප්‍රචාරය ගෙන ගියේය. වැඩ නායකයින් කම්හල් දිස්ත්‍රික්ක හා නාගරික කාරක සභා වලට එක්සත් වූහ. 1916 දී වැඩ නායකයන් හා කම්කරු කාරක සභා වල ජාති ව්‍යාප්ත සංවිධානයක් පිහිටු වන ලදී.

ඔක්තෝබර් සමාජවාදී විප්ලවයෙන් පසු, සෝවියට් රුසියාවට විරුද්ධව කරන ලද විදේශීය ආක්‍රමනයේ කාලයේදී වැඩ නායක කාරක සභා සෝවියට් රුසියාවට ආධාර දීමට ක්‍රියාශීලී ලෙස ඉදිරිපත් විය. එම කාරක සභාවල නායකයෝ බොහෝ දෙනෙක් (ගැලහර්, පොලිට් මැක් — මැනස් හා වෙනත් අය) බ්‍රිතාන්‍ය කොමියුනිස්ට් පක්ෂයට ඇතුල් වූහ.

82 Die Freiheit (නිදහස) — 1918 නොවැම්බර් සිට 1922 ඔක්තෝබරය දක්වා බර්ලින්හිදී පළ වූ ජර්මන් ස්වාධීන සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ දිනපතා පුවත් පතකි.

83 මෙහි අදහස් වන්නේ 1917 අප්‍රේල් මස ගෝතාහි පවත්වන ලද ආණ්ඩු ක්‍රම සම්පාදක සම්මේලනයේදී ආරම්භ කරන ලද ජර්මන් ස්වාධීන සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය නම් වූ මධ්‍යස්ථවාදී පක්ෂයය. මධ්‍යස්ථවාදී වාග් පාඨයෙන් මුවා වූ 'ස්වාධීනයෝ' සමාජ-ජාතෝන්මාදවාදීන් සමග එක්සත් වීමක් දේශනා කළ අතර පංති අරගලය ප්‍රතික්ෂේප කිරීමට බර වූහ.

1920 ඔක්තෝබර් මස ගල්ලෙහි පැවැත්වුණු ජර්මන් ස්වාධීන සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ සම්මේලනයේදී එම පක්ෂය දෙකට බිඳ වැටිණ. එහි සැලකිය හැකි කොටසක් 1920 දෙසැම්බරයේදී ජර්මන් කොමියුනිස්ට් පක්ෂය සමග එක්සත් විය. එහි දක්ෂිණාංශය වෙනම පක්ෂයක් පිහිටුවා ගෙන පැරණි නාමය රැක ගත්තේය. එම පක්ෂය 1922 දක්වා පැවතිය.

84 මෙහි සඳහන් කෙරෙන්නේ, 1918 මාර්තු 6–8 පවත්වන ලද රු. කො. (බො) ප. හත්වැනි සම්මේලනය පිළිගත් පක්ෂයේ නාමය හා වැඩ පිළිවෙළ වෙනස් කිරීම පිළිබඳ යෝජනාව ගැනය.

85 මුද්‍රණකරුවන්ගේ පත්‍රය — 1918 දෙසැම්බර් 8 ද පළ වීමට පටන් ගත් මොස්කව් මුද්‍රණාලවල කම්කරුවන්ගේ වෘත්තීය සමිතියේ පුවත් පත ය. ඒ අවස්ථාවේදී මෙම වෘත්තීය සමිතිය මෙන්ෂෙවික් බල පෑම යටතේ පැවතිය. 1919 මාර්තුවේදී මේ පුවත් පත සෝවියට් විරෝධී ප්‍රචාරය නිසා වසා දමන ලදී.

86 1918 ඔක්තෝබර් 30 රාත්‍රියේ හංගේරියාවේ ඇති වූ ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයේ ප්‍රතිඵලයක් වශයෙන්, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය සමග සභාගයකට පිවිසි ලිබරල් ධනපති පන්තිය ආණ්ඩු බලයට පත් විය. එහෙත් ආණ්ඩුව කම්කරු පන්තියේ හා ගොවි ජනයාගේ තත්ත්වය දියුණු කළ හැකි එකම පියවරක්වත් නොගත්තේය. තමන්ගේම පාලක සංවිධාන වන කම්කරු, ගොවිජන හා සොල්දදු නියෝජිතයන්ගේ සෝවියට් සභා පිහිටුවීමට පටන් ගත් වැඩ කරන ජනතාවගේ අමනාපයට මෙය හේතු විය. නොවැම්බර් 16 ද හංගේරියාව ජනරජයක් ලෙසට ප්‍රකාශ කරන ලද අතර පැරණි පාර්ලිමේන්තුව විසුරුවා හරින ලදී. ධනපති පක්ෂ, ආණ්ඩුක්‍රම සම්පාදක සභාව කැඳවීම සඳහා වූ පුළුල් ප්‍රචාරයක් ආරම්භ කළේය. 1918 නොවැම්බර් 20 ද සංවිධානාත්මක වශයෙන් හැඩ ගැසුණු හංගේරියාවේ කොමියුනිස්ට් පක්ෂය 'සියලු බලය සෝවියට් සභාවලට පවරනු!' යන සටන් පාඨය ඉදිරිපත් කළේය. 1918 අගදී — 1919 මුලදී කොමියුනිස්ට් පක්ෂයේ නායකත්වයෙන් යුතුව හංගේරියානු නිර්ධන පන්තියේ විශාල නැගිටීම් රාශියක් සිදුවූ අතර රටේ විප්ලවවාදී තත්වයක් ඇති විය (109 සටහන බලන්න).

ඔක්තෝබර් සමාජවාදී විප්ලවයේ බලපෑම නිසා 1917–1919 දී ස්විට්සර්ලන්තයේ කම්කරු ව්‍යාපාරයේ උත්සන්නියක් සිදු වී පැවැත්තේය. 1918 නොවැම්බරයේදී සෝවියට් රුසියාවට ආධාර දීමේ සමස්ත ස්විට්සර්ලන්ත දේශපාලන වැඩ වර්ජනයක් ආරම්භ විය. ස්විට්සර්ලන්ත සමාජවාදී පක්ෂයේ විප්ලවවාදී වාමාංශිකයෝ කොමියුනිස්ට් කණ්ඩායමක් පිහිටවූහ. සිය පත්‍රිකා හා පොත් මගින් කම්කරු හා ගොවිජන නියෝජිත සෝවියට් සභා ඇති කරන ලෙස ඔවුහු ආයාචනය කළහ. කොමියුනිස්ට් ජාත්‍යන්තරයේ පළමුවැනි සම්මේලනයේදී කතා කළ ස්විට්සර්ලන්ත කොමියුනිස්ට් කණ්ඩායමේ නියෝජිතයා, කොමියුනිස්ට් පිළිවෙළ තම ස්ථාවරය ලෙසට පිළිගත් සූරිහ් කම්කරු නියෝජිත සෝවියට් සභාව බිහි වී තිබෙන බව නිවේදනය කළේය.

87 ලෙනින් අදහස් කරන්නේ, 1918 නොවැම්බර් 18 ද නිකුත් වූ Die Rote Fahne පත්‍රයේ 3 වැනි කලාපයේ පළ කළ රෝසා ලුක්සෙම්බුර්ග් ලියූ Der Anfang (ආරම්භය) යන ලිපිය ය.

Die Rote Fahne (රතු ධජය) — කේ. ලිබ්ක්නෙහ්ට් හා ආර්. ලුක්සෙම්බුර්ග් විසින්, ස්පාටකස් සංගමයේ මධ්‍යම පත්‍රය වශයෙන් ආරම්භ කරන ලද පුවත් පතකි. අනතුරුව ජර්මන් කොමියුනිස්ට් පක්ෂයේ මධ්‍යම පත්‍රයක් බවට පත් වූ එය 1918 නොවැම්බර් 9 සිට බර්ලිනයේ පළ විය.

88 65 සටහන බලන්න.

89 රු. කො. (බො) ප. VIII සම්මේලනය — 1919 මාර්තු 18–23 මොස්කව්හි පවත්වන ලදී. සම්මේලනය විවෘත කිරීමේ හා අවසාන කිරීමේ කතා කළ ලෙනින් සම්මේලනයේදී රු. කො. (බො.) ප. මධ්‍යම කාරක සභාවේ වාර්තාවද, පක්ෂයේ වැඩ පිළිවෙළ, යුද්ධ ප්‍රශ්නය හා ගම සම්බන්ධයෙන් පක්ෂයේ ක්‍රියාකලාපය පිළිබඳ කථාද ඉදිරිපත් කළේය.

සම්මේලනයේ න්‍යාය පත්‍රයේ ප්‍රධාන ප්‍රශ්නය වූයේ පක්ෂයේ අළුත් වැඩ පිළිවෙළ සාකච්ඡාවට පත් කිරීම හා පිළිගැනීමය. රු. කො. (බො) ප. හත්වැනි සම්මේලනයේදී. තෝරා පත් කොට තිබූ හා ලෙනින්ගේ ප්‍රධානත්වයෙන් යුත් වැඩ පිළිවෙළ සම්පාදක මණ්ඩලය විසින් අළුත් වැඩ පිළිවෙළෙහි කෙටුම්පත සකස් කරන ලදී. එම කෙටුම්පත් වැඩ පිළිවෙළෙහි වැදගත්ම කොටස් සියල්ලම ලියා තිබුණේ ලෙනින්ය. අළුත් වැඩ පිළිවෙළ තුළින්, ධනපති ක්‍රමයේ



සිට සමාජවාදය දක්වා වූ මුලු පරිවර්තනීය අවධිය සඳහා පක්ෂය සතු කර්තව්‍ය නියම කරන ලදී.

කෙටුම්පත් වැඩ පිළිවෙළ සාකච්ඡා කෙරුණු විට, අධිරාජ්‍යවාදයේ විස්තර කිරීමකට අමතරව ප්‍රාග් ඒකාධිකාරී ධනපතිවාදය වැඩ පිළිවෙළට ඇතුලත් කිරීමට විරුද්ධව බුහාරින් ඉදිරිපත් විය. ඔහුගේ ප්‍රතිපත්තිය සම්පූර්ණයෙන්ම වැරදි සහගත එකක් වන අතර ලෙනින් ඉදිරිපත් කළ සමාජවාදී විප්ලවය පිළිබඳ න්‍යායයට විරුද්ධ විය. ඔහුගේ එම ප්‍රතිපත්තිය, නිර්ධන පන්තිය ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරවලට අනුබල දීමේ අවශ්‍යතාවයද සමාජවාදය ගොඩ නැගීමේදී කම්කරු පන්තිය හා වැඩ කරන ගොවිජනයා අතර සන්ධානය ඇති කිරීමද ප්‍රතික්ෂේප කළ අතර සුළු භාණ්ඩ නිෂ්පාදනය තුළින් ධනපති පන්තිය බිහිවී, වර්ධනය වීමද කුලාකයන්ගෙන් වන තර්ජනයද සැලකිල්ලට නොගත්තේය. ඊට වඩා, ස්වාධිපත්‍යය සඳහා ජාතීන් සතු අයිතිය පිළිබඳ වගන්තිය වැඩ පිළිවෙළින් ඉවත් කරන ලෙස බුහාරින් හා ප්‍යාතකොව් ඉල්ලා සිටියහ. ජාතීන් අතර සංවිධානය තහවුරු කිරීම අරමුණු කොට ගත් ජාතික ප්‍රශ්නය පිළිබඳ පක්ෂයේ ප්‍රතිපත්තිය හා සෝවියට් දේශයේ ජාත්‍යන්තර ගරුත්වය එම මහා බලවත්-ජාත්‍යොන්මාදවාදී ඉල්ලීමෙන් කඩා කප්පල් වීමට ඉඩ තිබිණ.

සම්මේලනය බුහාරින්ගේ යෝජනාව ප්‍රතික්ෂේප කොට ලෙනින්ගේ පක්ෂ වැඩ පිළිවෙළ අනුමත කළේය.

සම්මේලනයේදී වැදගත්ම ප්‍රශ්නවලින් තවත් එකක්ද වූයේ මධ්‍යම පංතියේ ගොවීන් කෙරෙහි දක්විය යුතු ආකල්පය ගැන වූ ප්‍රශ්නය ය. 1918 ශරත් සමය තරම් ඈතදී, එනම් මධ්‍යම පන්ති ගොවීන් සෝවියට් බලය වෙත හැරෙන්නට වූ කාලයේදී එම තත්වය තහවුරු කොට, දුප්පතුන් හා කුලාකයන්ට විරුද්ධව අරගලය ආධාර කොට ගෙන නිර්ධන පංතියේ නායක සංධානය ආරක්ෂා කරගෙනම මධ්‍යම පන්තියේ ගොවීන් මධ්‍යස්ථව හැසිරවීමේ සිට ඔවුන් හා කම්කරු පන්තිය අතර දැඩි සන්ධානයක් ඇති කිරීමේ ප්‍රතිපත්තිය වෙත පරිවර්තනය විය යුතු යයි ලෙනින් පෙන්වා දුන්නේය. ලෙනින් ලියූ ‘මධ්‍යම පංතියේ ගොවි ජනතාව කෙරෙහි දක්විය යුතු ආකල්පය පිළිබඳ යෝජනාව’ පිළිගත් රු. කො. (බො) ප. අටවැනි සම්මේලනය එම ප්‍රතිපත්තිය අනුමත කළේය.

90 1618–1648 තිස් අවුරුදු යුද්ධය — විවිධ යුරෝපීය රටවල්වල කණ්ඩායම් අතර ප්‍රතිවිරෝධතාවල ප්‍රතිඵලයක් වශයෙන් සිදු වී කතෝලිකයන් හා රෙප්‍රමාදු වරුන් අතර කෙරෙන අරගලයක හැඩයක්

ගත් සමස්ත යුරෝපීය යුද්ධයකි. තම මුල් අවධියේදී රදළවාදී යුරෝපයේ ප්‍රතිගාමී බලවේගයන්ට විරුද්ධව කරන අරගලයක ස්වරූපයක් ගත් එම යුද්ධය පසුකලෙක, විශේෂයෙන්ම 1635 සිට, තමතමන්ටම තරඟකාරී ලෙස ජර්මනියට විරුද්ධව කළ විදේශීය ආක්‍රමණයන් ගණනාවක් බවට පරිවර්තනය විය. 1648 දී, ජර්මනියේ දේශපාලන අසමගිය තහවුරු කළ වෙස්ට්පාල් සාම ගිවිසුම ඇති කිරීමෙන් එම යුද්ධය අවසන් විය.

91 ප්‍රෙඩ්රික් එංගල්ස්, බොර්ක්හයිම් ලියූ "1806–1807 අවුරුදු වල අධික දේශප්‍රේමීන් සැමරීම" යන පොතට පෙරවදන බලන්න.

92 කාල් මාක්ස්. 'ප්‍රාග්ධනය', වෙළුම 1 බලන්න.

93 55 සටහන බලන්න.

94 එම සටහන 1917 දෙසැම්බර් 18 (31) ද පින්ලන්තයේ ස්වෛරීභාවය පිළිබඳ මහජන කොමිසාර් මණ්ඩලයේ ආඥා පනත ලෙනින් විසින් පින්ලන්ත ධනපති ආණ්ඩුවේ නායක පී. ස්වින්හුවුඩ්ට හා රාජ්‍ය ලේකම් කේ. එන්කෙල්ට භාර දෙනු ලැබීම පිළිබඳවය. 1917 දෙසැම්බර් 22 ද (1918 ජනවාරි 4 ද) සමස්ත රුසියා මධ්‍යම විධායක කාරක සභාව එම ආඥා පනත සම්මත කළේය.

95 ස්මොල්නි — 1918 මාර්තු මාසයේදී මොස්කව් නගරයට ඒමට පෙර සෝවියට් ආණ්ඩුව පිහිටි, පෙත්‍රොග්‍රාදයේ පැරණි ස්මොල්නි ආයතනයේ ගොඩනැගිල්ල ය.

96 මෙහි ලෙනින් අදහස් කරන්නේ, 1919 මාර්තු මාසයේදී බෂ්කීර් ස්වතන්ත්‍ර සෝවියට් සමූහාණ්ඩුවක් බිහි කිරීම ගැන බෂ්කීර් නියෝජිත පිරිස සමග පවත්වන ලද සාකච්ඡා මාලාව ගැනය. මාර්තු මස 20 ද "සෝවියට් ස්වතන්ත්‍ර බෂ්කිරියාව ගැන වූ මධ්‍යම සෝවියට් ආණ්ඩුව හා බෂ්කීර් ආණ්ඩුව අතර ගිවිසුම" අත්සන් කරන ලදී. සෝවියට් ආණ්ඩු ක්‍රම ව්‍යවස්ථාවේ පදනම මත බෂ්කීර් ස්වතන්ත්‍ර සෝවියට් සමූහාණ්ඩුව පිහිටුවීමද එහි දේශ සීමා හා දේශපාලන වශයෙන් දිස්ත්‍රික්කවලට බෙදීමද එම ගිවිසුමෙන් නියම විය. එම ගිවිසුම 1919 මාර්තු 23 ද ඉස්වෙස්තිය පත්‍රයේ 63 කලාපයේ ප්‍රසිද්ධ කරන ලදී.

97 වොසෝ කම්කරු නියෝජිතයන්ගේ සෝවියට් සභාව — 1918 නොවැම්බර් 11 ද පිහිටුවන ලද්දකි. කම්කරු නියෝජිතයන්ගේ සෝවියට් සභා පෝලන්තයේ වෙනත් නගරවල් හා කාර්මික මධ්‍යස්ථාන ගණනාවකද බිහි විය. වෝසෝ කම්කරු නියෝජිතයන්ගේ සෝවියට් සභාව කර්මාන්ත ශාලාවල පැය අටේ වැඩ දිනය ස්ථාපිත කිරීම ව්‍යවාහාරික ලෙස ක්‍රියාවේ යෙදවූ අතර ව්‍යාපාරිකයන්ගේ කඩාකප්පල් කාරී ක්‍රියාදමයට විරුද්ධව අරගලය අරම්භ කළේය. විප්ලවවාදී රුසියාව සමග සබඳකම් ඇති කිරීම ගැන තීරණය හා වෙනත් තීරණ ද කළේය. 1919 ගිම්හානයේදී සෝවියට් සභා පෝලන්ත ධනපති ආණ්ඩුව විසින් අහෝසි කරන ලදී.

98 පාරිභෝගික කොමියුන පිළිබඳ ආඥා පනත — 1919 මාර්තු 16 ද මහජන කොමිසාර් මණ්ඩලය අනුමත කරන ලද එය 1919 මාර්තු 20 දින ඉස්වෙස්තිය පත්‍රය මගින් ප්‍රසිද්ධ විය. වී. අයි. ලෙනින් එය සකස් කිරීමට කෙලින්ම සහභාගී විය. මේ ආඥා පනත යටතේ නගරවල හා ගම්වල ඇති සියළු පාරිභෝගික සමුපකාර සමිති එකම පාරිභෝගික කොමියුනයකට එක්සත් විය. පාරිභෝගික සමුපකාර සමිතිවලට දුන් අළුත් නාමය ඇතැම් විට එම ආඥා පනතට වැරදි තේරුමක් දීමට තුඩු දුන් නිසා 1919 ජූනි 30 ද නිකුත් වූ කම්කරු හා ගොවිජන පාරිභෝගික සමාජ පිළිබඳ පනත මගින් 'පාරිභෝගික' කොමියුනය' යන නාමය මහජනතාවට වඩා සුපුරුදු වූ 'පාරිභෝගික සමාජය' යනුවෙන් මාරු කිරීමට සමස්ත රුසියා මධ්‍යම විධායක කාරක සභාව තීරණය කළේය.

99 නෝවය ෂිස්න් වරු — නෝවය ෂිස්න් පත්‍රය වටේ කණ්ඩායමක්ව හැඩ ගැසුණු ජාත්‍යන්තරවාදී මෙන්ෂෙවික් වරුන්ගේ පිරිසකි. ඔවුන් ගැන ලියූ ලෙනින් "අසම්පූර්ණ ජාත්‍යන්තර වාදීන්" යන විහිළු නාමය ඔවුන්ට තැබුවේය.

100 1918 ජූලි මාසයේදී පස්වැනි සමස්ත රුසියා සෝවියට් සභා සම්මේලනය පිළිගත් රුසියානු සෝවියට් ඒකාබද්ධ සමාජවාදී සමූහාණ්ඩුවේ ආණ්ඩු ක්‍රම ව්‍යවස්ථාව යටතේ සෝවියට් සභාවලට තේරී පත්වීමේ මැතිවරණවලදී නිර්ධන පන්තිකයන්ට වාසියක් සැලැස්විණි.

තේරීමේ හා තේරීපත්වීමේ සමාන අයිතිය සියලුම රටවැසියන්ට ලබා දුන් සෝවියට් සංගමයේ අළුත් ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව සෝවියට් සංගමයේ අටවැනි සෝවියට් සභා සම්මේලනය විසින් පිළිගනු ලැබීම දක්වා මේ තත්ත්වය පැවතිනි.

101 65 සටහන බලන්න.

102 එර්ෆුර්ට් වැඩ පිළිවෙළ — 1891 දී එර්ෆුර්ට් හි පවත්වන ලද සම්මේලනය විසින් පිළිගන්නා ලද ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ වැඩ පිළිවෙළය.

103 81 සටහන බලන්න.

104 මෙහි සඳහන් වන්නේ 1918 ජනවාරි අවසානයේදී ආණ්ඩු බලය කම්කරුවන්ගේ අතට පත් වීමෙන් පසු ප්‍රකාශ කරන ලද පින්ලන්ත සමාජවාදී ජනරජය ගැනය. 1918 මාර්තු 1 ද පෙට්‍රොග්‍රෑඩ් හිදී පින්ලන්ත සමාජවාදී කම්කරු ජනරජය හා රුසියානු ඒකාබද්ධ සමාජවාදී සමූහාණ්ඩුව අතර ගිවිසුමක් අත්සන් කරන ලදී. දෙපාර්ශවයේම සම්පූර්ණ සමානත්වය හා ස්වෛරීභාවය ගරු කිරීම මත පදනම් වූ මෙම ගිවිසුම, සමාජවාදී රටවල් දෙකක් අතර ඇති කරගත් ඉතිහාසයේදී පළමුවැනි ගිවිසුම විය.

1918 මැයි මාසයේදී ජර්මන් යුද්ධ හමුදව මැදිහත් වීම නිසා කෲර රටවැසි යුද්ධයකට පසු පින්ලන්ත විප්ලවය මර්දනය කරන ලදී.

105 සමාජවාදී ඉඩම් අයිතිය හා සමාජවාදී ගොවිතැන වෙත පරිවර්තනය වීම සම්බන්ධයෙන් පියවර පිළිබඳ පනත — 1919 පෙබරවාරි මස සමස්ත රුසියා මධ්‍යම විධායක කාරක සභාව විසින් පිළිගන්නා ලද්දකි. එය පදනම් වූයේ 1918 දෙසැම්බරයේදී පවත්වන ලද ඉඩම් අංශවල, දුප්පතුන්ගේ කාරක සභා හා කොමියුන් වල පළමුවැනි සමස්ත රුසියා සම්මේලනය ගත් තීරණ මතය. එය සකස් කිරීමට හා සංස්කරණය කිරීමට ලෙනින් කෙලින්ම සහභාගි විය. කෘෂිකර්මාන්තයේ ඵලදායකත්වය දියුණු කිරීම, වපුරන ඉඩම් ප්‍රමාණය වැඩි කිරීම හා කෘෂිකර්මාන්තය සමාජවාදී පදනම මත ප්‍රතිසංස්කරණ කිරීම පිළිබඳ ව්‍යවහාරික පියවර ගණනක් එම පනත තුළින් ඉදිරිපත් විණි.

106 ප්‍රෙඩ්රික් එංගල්ස්ගේ 'ප්‍රංශයේ ගොවිජන ප්‍රශ්නය' යන කෘතිය බලන්න.

107 ව්‍යවස්ථා මණ්ඩලය දහ අටවැනි ශතවර්ෂයේ අවසානයේ ප්‍රංශ ධනපති විප්ලවය කාලයේදී ප්‍රංශ මහජන මන්ත්‍රී මණ්ඩලය එනමින් හැඳින්විණි.



108 උපුටා දක්වූ වාක්‍යය සම්බන්ධයෙන් නිෂ්නි නොව්ගොරොද් හි පක්ෂ සංවිධානයේ නියෝජිතයෝ රු. කො. (බො) ප. අටවැනි සම්මේලනයේ බල මණ්ඩලය වෙත ආයාචනයක් ඉදිරිපත් කළහ. 'පොදු වශයෙන් මධ්‍යම ගොවීන්' යන වචන කනගාටුදායක වැරැද්දක් බවද ඒවා වෙනුවෙන් 'මධ්‍යම ගොවීන් කොටසක්' කියවිය යුතු බවද එහි අවධාරණය විය. 1919 මාර්තු 21 ද හංගේරියාව සෝවියට් සමූහාණ්ඩුවක් ලෙසට ප්‍රකාශ කරන ලදී. හංගේරියාවේ සමාජවාදී විප්ලවයේ ස්වරූපය සාපේක්ෂ වශයෙන් සාමකාමී විය. විප්ලවවාදී ව්‍යාපාරය මැඩ පැවැත්වීමට හා බාහිර දුෂ්කරතාවයන්ට ඔරොත්තු දීමට නොහැකිව සිටි හංගේරියානු ධනපති පංතිය, විප්ලවය දියුණු වීම වලක්වන පරිද්දෙන් වාමාංශික සමාජ-ප්‍රජාතන්ත්‍ර වාදීන්ට ආණ්ඩු බලය පැවරීමට තීරණය කළේය. එහෙත් ඒ අවස්ථාවේදී මහජනතාව අතර හංගේරියානු කොමියුනිස්ට් පක්ෂයේ බල පෑම් කොතරම් විශාල වී ද යත්, හා සාමාන්‍ය සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂ සාමාජිකයන් කොමියුනිස්ට් වරුන් සමග සංධානයක් ඇති කිරීමට කොතරම් අධිෂ්ඨාන සහගත ලෙස ඉල්ලා සිටියේ ද යත් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ නායකයෝ සිර ගතව සිටි කොමියුනිස්ට් වරුන්ගේ නායකයන් අමතා සභාග ආණ්ඩුවක් ඇති කිරීමට යෝජනා කළහ. සෝවියට් ආණ්ඩුවක් පිහිටුවීම, ධනපති පන්තිකයන් නිරායුධ කිරීම, රතු හමුදව හා මහජන මිලිෂියාව බිහි කිරීම, විශාල ඉඩම් හිමියන් අසන්තක කිරීම, කර්මාන්තය ජනසන්තක කිරීම, සෝවියට් රුසියාව සමග සන්ධානයක් ඇති කිරීම යනාදී කොමියුනිස්ට් වරුන් ඉදිරිපත් කළ. ඉල්ලීම් සමාජවාදී-ප්‍රජාතන්ත්‍රවාදී නායකයන්ට පිළිගැනීමට සිදු විය. ඒ අතරම මේ පක්ෂ දෙක හංගේරියානු සමාජවාදී පක්ෂයට එක්සත් වීම සඳහා වූ ගිවිසුමක් අත්සන් කරන ලදී. එම පක්ෂ දෙක එක්සත් කිරීමේදී වැරදි ගණනක් කරන ලදී. එම එක්සත් කිරීම කරන ලදදේ රූපමාත්‍ර ඒකාබද්ධ කිරීමක් මගිනි, එනම් ප්‍රතිසංස්කරණවාදී පාක්ෂිකයන් පක්ෂයෙන් නෙරපා දැමීමක් නැතිවය. පසුකාලයේදී මේ වැරදි වල ප්‍රතිඵල දැකිය හැකි විය.

1919 අගෝස්තු 1 ද බාහිර අධිරාජ්‍යවාදී ආක්‍රමණිකයන්ගේ හා අභ්‍යන්තර ප්‍රතිවිප්ලවවාදීන්ගේ ඒකාබද්ධ ක්‍රියාකාරිත්වයේ ප්‍රතිඵලයක් වශයෙන් හංගේරියාවේ සෝවියට් බලය නැති කර දමන ලදී.

110 කාල් මාක්ස්ගේ 'ගෝතා වැඩ පිළිවෙළ පිළිබඳ විවේචනය' බලන්න.

111 මෙහි ලෙනින් අදහස් කරන්නේ, සෝවියට් විරෝධී කණ්ඩායම්

ගණනාවක ක්‍රියාරම්භකත්වයෙන් මෙහෙයවූ ''ජාතික මධ්‍යස්ථානය'' නම්වූ ප්‍රතිවිප්ලවවාදී සංවිධානයේ නායකත්වයෙන් යුත්, පෙට්‍රොග්‍රැඩය පාවා දීමේ කුමන්ත්‍රණය ගැනය. 1919 ජූනි 12 දින රෑ කුමන්ත්‍රණකාරයෝ ක්‍රස්නය ගොර්කා නම් වූ යුද්ධ බලකොටුවේ කැරැල්ලක් ආරම්භ කළහ. කුමන්ත්‍රණය මැඩ පැවැත්වීම සඳහා වෙරළ බඳ ආරක්ෂක හමුද, බෝල්ටික් නාවුක හමුදවේ නැව් හා ස්වේච්ඡක සේනාංකද යවන ලදී. ජූලි 15–16 රෑ වෙරළ බඳ ආරක්ෂක සේනාංක බල කොටුව අල්ලා ගත්තේය. කුමන්ත්‍රනයට නායකත්වය දුන් ප්‍රතිවිප්ලවවාදී සංවිධානය හෙළිදරව් කර විනාශ කරන ලදී. කළු ශතකය — විප්ලවවාදී ව්‍යාපාරයට විරුද්ධව සටන් කිරීම සඳහා සාර් පොලිසිය විසින් සංවිධාන කරන ලද රාජාණ්ඩුවාදී ප්‍රහාරක කණ්ඩායම් ය.

112 77 සටහන බලන්න.

113 සදෙවා (චෙකොස්ලොවැකියාවේ ගමක්) අසල සටන 1866 ජූලි 3 දින සිදු විය. ඕස්ත්‍රියාව පරදවා ප්රුසියාව සම්පූර්ණයෙන්ම ජයග්‍රාහී වීමෙන් අවසන් වූ එම සටන ඕස්ත්‍රෝ-ප්රුසියානු යුද්ධයේ ප්‍රතිඵලය තීරණය කළේය.

114 රුසියාවේ ප්‍රවේණි දස ක්‍රමය 1861 දී අහෝසි විය.

115 මෙහි අදහස් කෙරෙන්නේ 1919 දී රු. කො. (බො) ප. අටවැනි සම්මේලනය විසින් පිළිගන්නා ලද පක්ෂයේ වැඩ පිළිවෙළ ගැනය.

116 98 සටහන බලන්න.

117 ඩෙනිකින්ට විරුද්ධ සටන සඳහා හැම ශක්තියක්ම යොදනු!

යන කෘතිය 1919 ජූලි මස 3–4 දින වල පවත්වන ලද රු. කො. (බො). ප. මධ්‍යම කාරක සභාවේ පූර්ණ රැස්වීම පිළිගත් යෝජනා සම්බන්ධයෙන් ලෙනින් විසින් ලියන ලදී. එම රැස්වීම, අධිරාජ්‍යවාදීන් නව ආක්‍රමණකාරී ප්‍රහාරයක් පටන් ගත් නිසා රටට මුහුණු පෑමට සිදු වී තිබූ වැදගත්ම ප්‍රශ්න සාකච්ඡාවට පත් කළේය.

118 රුසියාවේ ප්‍රතිවර්ධන සංගමය — 1918 දී කැඩට් වරුන්ගෙන්, ජනතාවාදී සමාජවාදී සමාජවාදීන්ගෙන් දක්ෂිණ එස්ආර්වරුන්ගෙන් හා මෙන්ෂෙවිකයන්ගෙන් සැදුණු හා විදේශීය ඔත්තු හා වෙනත් සේවයන් සමග සෘජු ලෙස සම්බන්ධ ප්‍රතිවිප්ලවවාදී සංවිධානයකි.

# නාමාවලිය

අවක්සෙන්තියව්, නිකලායි ද්මිත්‍රියවිච් (1878–1949) — සමාජවාදී-විප්ලවවාදී (එස්ආර්) පක්ෂයේ එක් නායකයෙකි, එහි මධ්‍යම කාරක සභාවේ සාමාජිකයෙකි. 1917 පෙබරවාරි විප්ලවයෙන් පසු සමස්ත රුසියා ගොවිජන නියෝජිතයන්ගේ සෝවියට් සභාවේ විධායක කාරක සභාවේ සභාපති ධුරයට පත් වූ ඔහු කෙරෙන්ස්කි ආණ්ඩුවේ අභ්‍යන්තර කටයුතු භාර ඇමති ධුරයද ඉසිලීය. ඉන් පසු ප්‍රතිවිප්ලවවාදී ඊනියා රුසියා සමූහාණ්ඩුවේ තාවකාලික සභාවේ (පූර්ව පාර්ලිමේන්තුව) සභාපති ලෙස කටයුතු කළේය. ඔක්තෝබර් සමාජවාදී විප්ලවයෙන් අනතුරුව හෙතෙම ප්‍රතිවිප්ලවවාදී කැරලි සංවිධායකයන් ගෙන් එකෙක් වූ අතර ඉක්බිතිව විදේශ ගත විය.

අක්සෙල්රොද්, පාවෙල් බරීසවිච් (1850–1928) — මෙන්ෂෙවික්වාදයේ එක් නායකයෙක් වූ ඔහු පළමුවැනි ලෝක යුද්ධය සමයේදී ශාන්තිවාදී වාක්‍ය කාණ්ඩ වලට මුවා වී සමාජ-ජාත්‍යොන්මාදවාදී ස්ථාවරයක් වැළඳ ගෙන සිටියේය. 1917 පෙබරවාරි ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයෙන් පසු පෙට්‍රොග්‍රැඩ් සෝවියට් සභාවේ විධායක කාරක සභාවේ සාමාජිකයෙකු වූ ඔහු ධනපති තාවකාලික ආණ්ඩුවට අනුබල දුන්නේය. ඔක්තොබර් සමාජවාදී විප්ලවයට සතුරුකම් දැක්වූ හෙතෙම විදේශ ගත වී සෝවියට් රුසියාවට විරුද්ධව යුද්ධ සන්නද්ධ ආක්‍රමණකාරී අදහස් ප්‍රචාරය කළේය.

ඇල්බට්, එම් — එබර්ලෙන්, හිව්ගො බලන්න.

එබර්ලයින් (Eberlein), හූගෝ (අල්බෙර්ට්, එම්.) (1887–1944) — ස්පාටකස් සංගමයේ එක් නායකයෙකි හා ජර්මන් කොමියුනිස්ට් පක්ෂයේ මධ්‍යම කාරක සභාවේ සාමාජිකයෙකි. කොමියුනිස්ට් ජාත්‍යන්තරයේ ප්‍රථම සම්මේලනයේ නියෝජිතයෙක්ද ඔහු විය. —

ඔබලෙන්ස්කි, වී. වී. — ඔසින්ස්කි, එන්. බලන්න.

ඔසින්ස්කි, එන් (ඔබලෙන්ස්කි, වලෙරියාන් වලෙරියානවිච් (1887–1938) — 1907 සිට බොල්ෂෙවික් පක්ෂයේ සාමාජිකයෙකි.

ඔක්තෝබර් සමාජවාදී විප්ලවයෙන් පසු රාජ්‍ය, පක්ෂ හා ආර්ථික පරිපාලනය පිළිබඳ තනතුරු ඉසුලූ ඔහු 1920–1921 දී ප්‍රජාතන්ත්‍රවාදී මධ්‍යගතවාදය නම්වූ පක්ෂ විරෝධී කණ්ඩායමේ ක්‍රියාශීලී සාමාජිකයෙකු වූ අතර අනතුරුව ට්‍රොට්ස්කිවාදී විරුද්ධ පක්ෂය හා සම්බන්ධව සිටියේය.

ඔස්ත්‍රොගොර්ස්කි, එම්. වයි. (උපත 1854) — ලිබරල් ධනපති සාහිත්‍යධරයෙකි, නීතිඥයෙකි, දූමා සභාවේ සාමාජිකයෙකි, "La démocratie et les partis politique" (ප්‍රජාතන්ත්‍රවාදය හා දේශපාලන පක්ෂ) නැමති කෘතියෙහි කතුවරයා ය. එංගලන්ත හා ඇමෙරිකානු ඉතිහාසය පිළිබඳ කරුණු හා ධනවාදී ප්‍රජාතන්ත්‍රවාදයේ සැබෑ හරය හෙළි දරව් කරන සත්‍ය කරුණු රාශියක්ද මේ පොතේ ගැබ්ව ඇත.

කලේදින්, අලෙක්සෙයි මක්සිමවිච් (1861–1918) — සාර් හමුදාවේ ජනරාල් වරයෙකි, දොන් පෙදෙසේ කොසැක් නායකයකි. ඔක්තෝබර් සමාජවාදී විප්ලවයෙන් පසු දොන් කොසැක් ප්‍රතිවිප්ලවයේ නායකයන් ගෙන් එකකු වූ ඔහු ප්‍රතිවිප්ලවවාදී ඊනියා "ස්වේච්ඡක හමුද" පිහිටුවීමට සහභාගී වූ අතර කොසැක් කැරැල්ල මෙහෙයවීය.

කලෙගායෙව්, අන්ද්‍රෙයි ලූකිච් (1887-1937) — වාමාංශික එස්ආර් වරයෙකි. 1917 දෙසැම්බරයේදී ඔහු කෘෂිකාර්මික මහජන කොමිසාර් වශයෙන් සෝවියට් ආණ්ඩුවට ඇතුල් විය. 1918 මාර්තුවේදී බ්‍රෙස්ට් සාම ගිවිසුම අත්සන් කිරීමට එකඟ නොවූ ඔහු මහජන කොමිසාර් මණ්ඩලයෙන් ඉල්ලා අස්විය. වාමාංශික එස්ආර් වරුන්ගේ කැරැල්ල මැඩලීමෙන් පසු එම පක්ෂයෙන් ඉවත් වී බොල්ෂෙවික් පක්ෂයට ඇතුල් වූ කලෙගායෙව් 1920 දී දුම්රිය මාර්ග පිළිබඳ මහජන කොමිසාර් මණ්ඩලයේ සාමාජිකයෙකු විය.

කර්නිලව්, ලාව්ර් ගෙඕර්ගියෙවිච් (1870–1918) — සාර් හමුදාවේ රාජාණ්ඩුවාදී ජනරාල් වරයකු වූ ඔහු 1917 ජුලි-අගෝස්තු මාසවලදී රුසියානු හමුදාවේ ප්‍රධාන අණදෙන සෙන්පති තනතුර දැරූ අතර එම අවුරුද්දේ අගෝස්තු ප්‍රතිවිප්ලවවාදී කැරැල්ලට නායකත්වය දුන්නේය. කැරැල්ල මැඩලීමෙන් පසු සිර භාරයට ගන්නා ලදී. පසුව සිරගෙයින් මිදී දොන් පෙදෙසට පැන ගොස් එහි ප්‍රතිවිප්ලවවාදී "ස්වේච්ඡක හමුදාවේ" එක් සංවිධායකයකු වූ හෙතෙම පසුව එහි නායකත්වය භාර ගත්තේය. කර්නිලව් යෙකතෙරිනදර් අසල සිදු වූ සටනකදී මරා දමන ලදී.

කල්චාක්, අලෙක්සන්දර් වසිලියෙවිච් (1873–1920) — සාර් නාවුක හමුදාවේ රාජාණ්ඩුවාදී අද්මිරාල් වරයකු වූ ඔහු 1918–1919 දී රුසියාවේ ප්‍රතිවිප්ලවවාදීත්වයේ එක් නායකයෙක් විය. ඔක්තෝබර් සමාජවාදී විප්ලවයෙන් පසු, එක්සත් ජනපදයේ, එංගලන්තයේ හා ප්‍රංශයේ අධිරාජ්‍යවාදීන්ගේ සහයෝගය ඇතිව කල්චාක්, රුසියාවේ උත්තරීතර පාලකයා ලෙස තමාම ප්‍රකාශ කොට උරාල්හි, සයිබීරියාවේ හා ඈත පෙරදිග ධනපති හා ඉඩම්හිමි යුද්ධ ඒකාධිපතිත්වයට නායකත්වය දුන්නේය. රතු හමුදාවේ ප්‍රගමනය නිසාද විප්ලවකාරී ගරිල්ල ව්‍යාපාරයේ වර්ධනය නිසාද කල්චාක් ව්‍යාපාරය අහෝසි කරන ලදින් කල්චාක් සිර ගත කරනු ලැබ වෙඩි තබා මරනු ලැබීය.

කෙරෙන්ස්කි, අලෙක්සන්දර් පියෝද්රවිච් (1881–1970) — එස්ආර් වාදියකු වූ ඔහු, 1917 පෙබරවාරි විප්ලවයෙන් පසු අධිකරණ ඇමති ධුරයද, යුද්ධ හා නාවුක හමුද ඇමති ධුරයද අනතුරුව ධනපති තාවකාලික ආණ්ඩුවේ නායක ධුරය හා උත්තරීතර අණ දෙන සෙන්පති ධුරයද ඉසිලීය. ඔක්තෝබර් සමාජවාදී විප්ලවයෙන් ඉක්බිතිව සෝවියට් විරෝධී අරගලය කරගෙන ගිය ඔහු 1918 දී විදේශගත විය.

කොල්බ් (Kolb), විල්හෙල්ම් (1870–1918) — ජර්මන් අවස්ථාවාදී හා සංශෝධනවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියකු වූ ඔහු පළමුවැනි ලෝක සංග්‍රාමය කාලයේදී සමාජ-ජාත්‍යාන්මාදවාදී පිළිවෙතක් වැළඳ සිටියේය.

ක්‍රස්නොව්, පියෝතර් නිකලායෙවිච් (1869–1947) — 1917 අගෝස්තු කැරැල්ලට ක්‍රියාශීලී ලෙස සහභාගී වූ සාර්ගේ ජනරාල් වරයෙකි. 1917 ඔක්තෝබර් මස අගදී සිදු වූ සෝවියට් විරෝධී කැරැල්ල සමයේදී කෙරෙන්ස්කි පෙට්‍රොග්‍රෑඩයට විරුද්ධව යැවූ කොසැක් සේනාංකවලට නායකත්වය දුන් ඔහු 1918–1919 දී දොන් පෙදෙසෙහි ප්‍රතිවිප්ලවවාදී කොසැක් හමුදාව මෙහෙයවීය.

කෞට්ස්කි (Kautsky), කාල් (1854–1938) — ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ හා දෙවැනි ජාත්‍යන්තරයේ එක් නායකයෙකි. ප්‍රථමයෙන් මාක්ස්වාදියෙකු වූ ඔහු පසුව මාක්ස්වාදය පාවා දී අවස්ථාවාදයේ වැඩිම අන්තරාදයක විශේෂයක් වන මධ්‍යස්ථවාදයේ දෘෂ්ටිවාදියෙකු බවට

පත් විය. ඔක්තෝබර් සමාජවාදී විප්ලවයෙන් පසු නිර්ධන පංති විප්ලවයට හා ආඥාදායකත්වයට විරුද්ධවද, බොල්ෂෙවික් පක්ෂයට විරුද්ධවද සෝවියට් රජයට විරුද්ධවද කෞට්ස්කි විවෘත ලෙස ඉදිරිපත් විය.

ක්ලෙමන්සෝ Clemanceau ජෝර්ජ් බෙන්ජමෙන් (1841–1929) — 1906–1909 දී හා 1917–1920 දී ප්‍රංශ අගමැති තනතුර දැරූ ප්‍රංශ දේශපාලන හා රාජ්‍ය සේවකයෙකි. ප්‍රථම ලෝක යුද්ධ සමයේදී අන්ත ජාතෙතාන්මාදවාදියකු බවට පත්ව සිටි ඔහු සෝවියට් ආණ්ඩුවට විරුද්ධව කළ අවිගත් ආක්‍රමණයේ සංවිධායකයන්ගේ එක් කෙනෙක් විය.

ක්රුප් Krupp — ජර්මන් අධිරාජ්‍යවාදයේ ප්‍රධාන යුද්ධායුධ සපයන්නන්ගෙන් අයෙක් වූ යුද්ධ-කාර්මික සම්මේල ව්‍යාපාරයක් පාලනය කරන ජර්මන් ව්‍යාපාරික පෙළපතකි.

ගෙද් Guesde ජූල් (1845–1922) — ප්‍රංශ සමාජවාදී ව්‍යාපාරයේ හා දෙවැනි ජාත්‍යන්තරයේ මූලාරම්භකයන්ගෙන් එකකු වූ ඔහු පළමුවැනි ලෝක සංග්‍රාමයාරම්භයේදී සමාජ-ජාතෙයාන්මාදවාදී ස්ථාවරයක් ගත් අතර ප්‍රංශයේ ධනපති ආණ්ඩුවට ඇතුල් විය. 1920 දී කොමියුනිස්ට් ජාත්‍යන්තරය සමග එක්සත් වීමට තීරණය කළ ප්‍රංශ සමාජවාදී පක්ෂයේ ටූර්හි සම්මේලනයේ බහුතරය අනුගමනය නොකළේය.

ගොම්පර්ස් Gompers සැමුවෙල් (1850–1924) — ඇමෙරිකානු වෘත්තීය සමිති ව්‍යාපාරයේ හා ඇමෙරිකන් ලේබර් පෙඩෙරේෂනයේ එක් නායකයෙකි. ධනපතියන් සමග පංති සහයෝගයේ ප්‍රතිපත්තිය ක්‍රියාවේ යෙදවූ ඔහු කම්කරු පංතිය පවත්වා ගෙන යන විප්ලවවාදී අරගලයට විරුද්ධව ඉදිරිපත් විය. හෙතෙම ඔක්තෝබර් සමාජවාදී විප්ලවය කෙරෙහි සතුරුකමින් යුත් ආකල්පයක් දැක්විය.

ගෝගල්, නිකලයි වසීලියවිච් (1809–1852) — ශ්‍රෙෂ්ඨ රුසියානු ලේඛකයෙකි.

ග්‍රාබර් (Graber), එර්නස්ට් පෝල් (උපත 1875) — පළමුවැනි ලෝක යුද්ධයාරම්භයේදී ජාත්‍යන්තර වාදීන් සමග සම්බන්ධ වූ ස්විට්සර්ලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි. 1917 මුලදී මධ්‍යස්ථවාදී-සමාදනවාදී ස්ථාවරයක් ගත් ඔහු 1918 දී ස්විට්සර්ලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ දක්ෂිණාංශයේ පැත්තට සම්පූර්ණයෙන්ම ගියේය.

ග්‍රිම් (Grimm) රොබට් (1881-1958) — ස්විට්සර්ලන්තයේ සමාජ ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ එක් නායකයෙකි. ප්‍රථම ලෝක යුද්ධය කාලයේදී මධ්‍යස්ථවාදී පිළිවෙතක් වැළඳ සිටි ඔහු මධ්‍යස්ථවාදී (එකහමාරේ) ජාත්‍යන්තරයේ එක් සංවිධායකයෙක් විය.

චෙර්නෙන්කොව්, බී. එන් (උපත 1883) — 1903 සිට එස්ආර් පක්ෂයේ සාමාජිකයෙකු වූ ඔහු ආණ්ඩු ක්‍රම සම්පාදක සභාවේ සාමාජිකයෙකි.1918 උෆා හි පැවැත්වූ රාජ්‍ය සභා සම්මේලනයට සහභාගී වූ අතර ප්‍රතිවිප්ලවවාදී උෆා රජයේ කෘෂිකර්ම ඇමති ධුරය දැරීය. 1919 දී එස්ආර් වාදී 'නරොද' (ජනතාව) කණ්ඩායමට ඇතුල් විය.

චෙර්නොව්, වික්තර් මිහයිලවිච් (1876-1952) — එස්ආර් පක්ෂයේ නායකයන්ගෙන් හා දෘෂ්ටිවාදීන්ගෙන් එකෙක් විය. 1917 මැයි-අගෝස්තුවේදී ධනපති තාවකාලික ආණ්ඩුවේ කෘෂිකර්ම ඇමති ධූරය දැරීය. ඉඩම් හිමියන්ගේ ඉඩම් අල්ලාගත් ගොවීන් කෲර ලෙස මර්දනය කිරීමේ ප්‍රතිපත්තියක් අනුගමනය කළ චෙර්නොව් ඔක්තෝබර් සමාජවාදී විප්ලවයෙන් පසු සෝවියට් විරෝධී කැරලි සංවිධානය කළේය. 1920 දී ඔහු විදේශ ගත විය.

ට්සෙරෙතේලි, ඉරාක්ලි ගෙඔර්ගියවිච් (1882-1959) — මෙන්ෂෙවික්වාදයේ එක් නායකයෙකි. 1917 මැයි මාසයේදී තැපැල් හා විදුලි පණිවුඩ සේවය භාර ඇමති වශයෙන් ධනපති තාවකාලික ආණ්ඩුවට ඇතුල් වූ ඔහු ඉන්පසු අභ්‍යන්තර කටයුතු පිළිබඳ ඇමති තනතුරට පත් විය. බොල්ෂෙවික් වරුන්ට විරුද්ධව ප්‍රහාරක ව්‍යාපාරයක එක් සංවිධායකයකු වූ ට්සෙරෙතේලි, ඔක්තෝබර් සමාජවාදී විප්ලවයෙන් පසු ජෝර්ජියාවේ ප්‍රතිවිප්ලවවාදී ආණ්ඩුවේ නායකයන්ගෙන් එකෙක් විය; එහි සෝවියට් බලය පිහිටුවීමෙන් පසු විදේශ ගත විය.

ඩෙනීකින්, අන්තොන් ඉවානවිච් (1872–1947) — සාර් හමුදාවේ ජනරාල් වූ ඔහු සෝවියට් රුසියාවට විරුද්ධව කළ විදේශීය ආක්‍රමණයේ හා රටවැසි (සිවිල්) යුද්ධය කාලයේදී (1918-1920) රුසියාවේ දකුණු පෙදෙස්වල සිටි ධවල හමුද අණ දෙන සෙන්පති විය. ඔක්තෝබර් සමාජවාදී විප්ලවයෙන් පසු සෝවියට් බලයට විරුද්ධව සටන් කළේය.

තුරාති (Turati), පිළිපො (1854–1932) — ඉතාලියානු කම්කරු පක්ෂයේ එක් නායකයෙකු හා ඉතාලියේ සමාජවාදී පක්ෂයේ එක් සංවිධායකයෙකු වූ ඔහු එහි ප්‍රතිසංස්කරණ වාදී වාමාංශික පිළේ නායකයා ද විය. පළමුවැනි ලෝක සංග්‍රාමය කාලයේදී මධ්‍යස්ථවාදී ප්‍රතිපත්තියක් අනුගමනය කළ හෙතෙම ඔක්තෝබර් සමාජවාදී විප්ලවය කෙරෙහි සතුරුකමින් යුත් ආකල්පයක් දැක්විය. ඉතාලියානු සමාජවාදී පක්ෂය භේදවීමෙන් පසු (1922) තුරාති ප්‍රතිසංස්කරණ වාදී යුනිටැරියන් සමාජවාදී පක්ෂයේ නායකයා බවට පත් විය.

තොල්ස්තොයි, ලෙව් නිකලායවිච් (1828–1910) — ශ්‍රේෂ්ඨ රුසියානු ලේඛකයෙකි.

දන් (ගුර්විච්), පියෝදර් ඉලීච් (1871–1947) — මෙන්ෂෙවික් නායකයන්ගෙන් එකෙකි.1917 පෙබරවාරි විප්ලවයෙන් පසු පෙට්‍රොග්‍රෑඩ් සෝවියට් සභා විධායක කාරක සභාවේ සභාපති මණ්ලයේ සාමාජිකයකුව සිටි හෙතෙම ධනපති තාවකාලික ආණ්ඩුවට ආධාර කළේය. ඔක්තෝබර් සමාජවාදී විප්ලවයෙන් පසු දන් සෝවියට් බලයට විරුද්ධව නැගී සිටියේය.

දූතව්, අලෙක්සන්දර් ඉලීච් (1864–1921) — සාර්ගේ හමුදාවේ කර්නල් තනතුර දැරූ ඔරෙන්බූර්ග් හි කොසැක් හමුදාවෙහි ප්‍රධානියා වූ මොහු කොසැක් ප්‍රතිවිප්ලවයේ එක් නායකයෙකි.

ද්‍යවෙන්කො,අන්ද්‍රෙයි පාව්ලවිච් (1875–1952) — 1917 සිට කොමියුනිස්ට් පක්ෂයේ සාමාජිකයෙකුව සිටි හෙතෙම 1919 දී මොස්කව්-කසාන් දුම්රිය මාර්ගයේ උපදේශකයෙකු ලෙස වැඩ කළේය. රටවැසි යුද්ධය අවසන් වූ පසු අල්තායි ප්‍රදේශයේ මහජන සෞඛ්‍ය සේවකයකු වශයෙන් කටයුතු කළේය.

ද්‍රෙයිෆුස් (Dreyfus), අල්ෆ්‍රෙද් (1859–1935) — ප්‍රංශයේ යුද්ධ මූලස්ථානයේ නිලධාරියකි. 1894 දී ද්‍රෝහිත්වය පිළිබඳ බොරු චෝදනාවක් නිසා ඔහුට ජීවිතාන්තය දක්වා බරපතළ වැඩ සහිත සිර දඬුවමක් නියම කරන ලදී. කම්කරු පංතිය හා ප්‍රගතිශීලී බුද්ධිමතුන් ඔහුට ආධාර දීමට ඉදිරිපත් වූ නිසා 1899 දී ද්‍රෙයිෆුස් නිදහස් කරනු ලැබ 1906 දී ඔහුගේ නිදෙස් බව නිල වශයෙන් ප්‍රකාශ කරන ලදී.

දෙවැනි නිකොලායි (රොමානොව්) — (1868–1918) — 1894 සිට 1917 පෙබරවාරි ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලව කාලය දක්වා රජ කළ අවසාන රුසියානු අධිරාජ්‍යයා විය.



නේන් (Naine), ෂාර්ල් (1874-1926) — ස්විට්සර්ලන්ත සමාජවාදී-ප්‍රජාතන්ත්‍රවාදියෙකි.

පද්බෙල්ස්කි, වදිම් නිකලායවිච් (1887–1920) — කොමියුනිස්ට් පක්ෂයේ හා සෝවියට් රාජ්‍යයේ ක්‍රියාශීලී සේවකයකු වූ හෙතෙම 1918 මැයි සිට රුසියානු සෝවියට් ඒකාබද්ධ සමාජවාදී සමූහාණ්ඩුවේ තැපැල් හා විදුලි පණිවුඩ සේවය භාර මහජන කොමිසාර් තනතුර ඉසිලීය.

ප්‍යතකොව්, ගෙඔර්ගි ලෙඔනීදවිච් (1890–1937) රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියකි, බොල්ෂෙවිකයකි.

ඔක්තෝබර් සමාජවාදී විප්ලවය සිදුවූ පසු උක්‍රයිනයේ සෝවියට් ආණ්ඩුවට ඇතුළු වූ ඔහු 1920 සිට ආර්ථික පරිපාලන හා පක්ෂ වැඩ කටයුතු කළේය. පක්ෂයේ ලෙනින්වාදී ප්‍රතිපත්තියට විරුද්ධව නොයෙක්වර ඉදිරිපත් වූ හෙතෙම අවසාන වශයෙන් පක්ෂයෙන් නෙරපා දමන ලදී.

පොත්‍රෙසව්, අලෙක්සන්දර් නිකලයවිච් (1869–1934) — මෙන්ෂෙවික්වාදයේ එක නායකයකු වූ ඔහු ඔක්තෝබර් සමාජවාදී විප්ලවයෙන් පසු විදේශ ගත වී සෝවියට් රුසියාවට විරුද්ධව ඉදිරිපත් විය.

ෆොෂ් (Foch), පෙර්දිනන්ද් (1851–1929) — ප්‍රංශ ජාතික යුද්ධ නායකයකි, මාෂල් කෙනෙකි. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී ප්‍රංශ හමුද මෙහෙයවූ ඔහු පසුව ප්‍රංශ උත්තරීතර යුද්ධ මධ්‍යස්ථානයේ ප්‍රධනියා හා එන්ටෙන්ට් මිත්‍ර ගිවිසුමේ යුද්ධ හමුදාවල ප්‍රධාන අණදෙන සෙන්පතියා විය. 1918–1920 දී සෝවියට් රුසියාවට විරුද්ධව කළ ආක්‍රමණයේ සංවිධායකයන්ගෙන් කෙනෙක් වූ ෆොෂ් උත්තරීතර මිත්‍ර යුද්ධ මණ්ඩලයේ සභාපති ධුරය දරූ අතර වෙර්සයිල්ස් ගිවිසුමේ කර්තෘවරුන්ගෙන් එකෙක්ද විය.

ෆ්‍රොෂ්‍යන්, ෆ්‍රොෂ් පෙර්වෙවිච් (1883–1918) — එස්ආර් වරයකු වූ ඔහු 1917 දෙසැම්බරයේදී තැපැල් හා විදුලි පණිවුඩ සේවය භාර මහජන කොමිසාර් බවට පත්වී 1918 මාර්තු මාසයේදී බ්‍රෙස්ට් සාම ගිවිසුම අත්සන් කරනු ලැබීමට විරුද්ධත්වය පළ කරමින් මහජන කොමිසාර් මණ්ඩලයෙන් ඉවත් විය. අනතුරුව මොස්කව්හි සිදුවූ වාමාංශික එස්ආර් වාදී කැරැල්ලට සහභාගී විය.

ප්ලටෙන් (Platten), ප්‍රිද්‍රිහ් (ප්‍රිට්ස්) (1883–1942) — ස්විට්සර්ලන්ත වාමාංශික සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි. ඉන්පසු කොමියුනිස්ට් වාදියෙකි.

පළමුවැනි ලෝක යුද්ධ සමයේදී ජාත්‍යන්තරවාදය වැළඳ සිටි හා ට්සිමර්වොල්ඩ් වාමාංශයට පක්ෂපාතව සිටි හෙතෙම ට්සිමර්වොල්ඩ් හා කින්තාලාහි සම්මේලනවලට සහභාගී විය. 1919 දී තෙවැනි (කොමියුනිස්ට්) ජාත්‍යන්තරය පිහිටුවීමට සහභාගී වූ ඔහු ස්විට්සර්ලන්තයේ කොමියුනිස්ට් පක්ෂයේ එක් සංවිධායකයෙක් ද 1921–1923 දී එහි ලේකම්ද විය.

ප්ලෙහානව්, ගෙඔර්ගි වලෙන්තිනවිච් (1856–1918) — රුසියානු හා ජාත්‍යන්තර කම්කරු ව්‍යාපාරයේ සම්භාවනීය නායකයන්ගෙන් එකෙක් හා රුසියාවේ මාක්ස්වාදයේ පළමුවැනි ප්‍රචාරකයා ය. රු. ස. ප්‍ර. ක. ප. දෙවෙනි සමුළුවෙන් අනතුරුව (1903 දී) ප්ලෙහානව් අවස්ථාවාදය සමග සම්මුතිකාර ස්ථාවරයක් ගෙන ඉන්පසු මෙන්ෂෙවික්වාදීන්ට එකතු විය. රුසියාව සමාජවාදය සඳහා මෝරා නැතැයි සැලකූ හෙතෙම, 1907 පෙබරවාරි ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයෙන් පසු ආරක්ෂාවාදී මෙන්ෂෙවිකයන්ගේ අන්ත දක්ෂිණාංශික 'යෙදින්ස්ත්ව' නැමැති කණ්ඩායම මෙහෙයවූ අතර බොල්ෂෙවික්වාදීන්ට හා සමාජවාදී විප්ලවයට විරුද්ධව ඉදිරිපත් විය. ප්ලෙහානව් ඔක්තොබර් සමාජවාදී විප්ලවය කෙරෙහි සතුරුකමින් යුත් ආකල්පයක් දැක්වූ නමුත්, සෝවියට් විරෝධී අරගලයට සහභාගී නොවීය.

බිස්මාර්ක් (Bismark), ඔට්ටෝ එඩුවාර්ද් ලෙඔපොල්ද (1815–1898) — ප්‍රුසියානු හා ජර්මන් රාජ්‍ය නායකයෙක් හා රාජ්‍යතාන්ත්‍රිකයෙක්, 1871 සිට 1890 දක්වා වූ කාලාන්තරයේදී ජර්මන් අධිරාජ්‍යයේ රෙයිෂ්ස්-චාන්සලර් ය. ප්‍රුසියාවේ අධිපතිත්වය යටතේ වෙන් වූ ජර්මන් රාජ්‍යයන් එකම ජර්මන් අධිරාජ්‍යයක් වන ලෙසට එක්සත් කළේය.

බුහාරින්, නිකලායි ඉවානවිච් (1888–1938) — සාහිත්‍ය ධරයකු හා ආර්ථික විද්‍යාඥයකු වූ ඔහු, 1906 සිට රු. ස. ප්‍ර. ක. ප. සාමාජිකයකු විය.

ඔක්තෝබර් සමාජවාදී විප්ලවයෙන් අනතුරුව ප්‍රාව්දා පත්‍රයේ කර්තෘවරයාද, මධ්‍යම කාරක සභාවේ දේශපාලන බියුරෝවේ සාමාජිකයෙක්ද, කොමියුනිස්ට් ජාත්‍යන්තරයේ විධායක කාරක සභාවේ සාමාජිකයෙක් ද විය. බුහාරින් පක්ෂයේ ලෙනින්වාදී ප්‍රතිපත්තියට විරුද්ධව කීප වරක්ම ඉදිරිපත් විය: 1918 දී ''වාමාංශික කොමියුනිස්ට් වාදීන්'' ගේ කණ්ඩායම මෙහෙයවූ ඔහු වෘත්තීය සමිති පිළිබඳ විවාදයේදී (1920–1921) ප්‍රථමයෙන් මධ්‍යස්ථ ස්ථාවරයක් ගත් අතර අනතුරුව ට්‍රොට්ස්කි කණ්ඩායමට එකතු විය; 1928 සිට පක්ෂය තුළ විරුද්ධ පාක්ෂික දක්ෂිණාංශය මෙහෙයවිය. 1917 දී පක්ෂ විරෝධී කටයුතු නිසා බුහාරින් පක්ෂයෙන් නෙරපා දමන ලදී.

බෙර්න්ෂ්ටයින් (Bernstein), එදුවාර්ද් (1850–1932) — ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ හා දෙවැනි ජාත්‍යන්තරවාදයේ අන්ත අවස්ථාවාදී පිළේ නායකයා වූ ඔහු, ධනවාදය යටතේ කම්කරුවන්ගේ ආර්ථික තත්ත්වය වර්ධනය කිරීමේ ප්‍රතිසංස්කරණ සඳහාවූ අරගලය කම්කරු ව්‍යාපාරයේ ප්‍රධාන කර්තව්‍යය ලෙස සැළකීය. ''ව්‍යාපාරය සියල්ල වේ, පරමාර්ථය කිසිවක් නොවේ'' යන පාඨය ඔහු විසින් ඉදිරිපත් කරන ලද්දකි. පළමුවැනි ලෝක යුද්ධය සමයේදී ජාත්‍යන්තර වාදය පිළිබඳ පාඨවලින් ජාතොන්‍යාන්-මාදවාදය මුවා කළ බෙර්න්ෂ්ටයින් මධ්‍යස්ථවාදී ප්‍රතිපත්තිය අනුගමනය කළේය. හෙතෙම ඔක්තෝබර් සමාජවාදී විප්ලවයට විරුද්ධවද සෝවියට් රජයට විරුද්ධවද ඉදිරිපත් විය.

බෙබල් (Bebel), ඔගස්ට් (1840-1913) — ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ හා දෙවැනි ජාත්‍යන්තරයේ සම්භාවනීය නායකයන්ගෙන් කෙනෙකි. අනූ ගණන් වලදී හා විසිවැනි සියවසේ මුල් අවුරුදු වලදී ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය තුළ වූ ප්‍රතිසංස්කරණ වාදයට හා සංශෝධන වාදයට විරුද්ධව ඔහු ඉදිරිපත් විය. දක්ෂ සංවිධායකයෙකු හා සාහිත්‍ය ධරයෙකු වූ හෙතෙම ජර්මන් සහ ජාත්‍යන්තර කම්කරු ව්‍යාපාරය කෙරෙහි විශාල බලපෑමක් කළේය.

බ්‍රන්ටිං (Branting), කාල් යල්මර් (1860-1925) — ස්වීඩනයේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ නායකයා, දෙවැනි ජාත්‍යන්තරයේ එක් නායකයෙක්, වූ හෙතෙම අවස්ථාවාදියෙකි. පළමුවැනි ලෝක යුද්ධය කාලයේද සමාජ-ජාතොන්‍යාන්මාදවාදියෙකු බවට පත් වූ ඔහු සෝවියට් රුසියාවට විරුද්ධව කළ යුද ආක්‍රමණවලට පක්ෂව ඉදිරිපත් විය. බ්‍රන්ටිං කීප වරක්ම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ආණ්ඩුවල නායකත්වය-දැරුවේය.

බ්‍රෙන්ටානෝ (Brentano), ලූයෝ (1844-1931) — ජර්මන් ධනවාදී ආර්ථිකඥයෙකු හා ඊනියා ''කතෙදර් (වේදිකා) සමාජවාදයේ'' ප්‍රධාන නියෝජිතයන්ගෙන් එකෙකු වූ ඔහු, පංති සටන ප්‍රතික්ෂේප කිරීමද ප්‍රතිසංස්කරණවාදී වෘත්තීය සමිති සංවිධානය කිරීම හා කම්හල් පිළිබඳ නීති මගින් ධනපති සමාජය තුළ වූ සමාජමය ප්‍රතිවිරෝධයන් විසඳා, කම්කරුවන්ගේ හා ධනපතියන්ගේ අවශ්‍යතාවයන් එක්සත් කිරීමේ හැකියාවද පිළිබඳ අදහස් දේශනා කළේය.

බෞවර් (Bauer), ඔට්ටො (වේබර්, හෙන්රික්) (1882-1938) — ඔස්ත්‍රියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ හා දෙවැනි ජාත්‍යන්තරයේ එක් නායකයකු වූ හෙතෙම, විප්ලවවාදී මාක්ස්වාදය හා නිර්ධන පංතියේ පංතික අරගලය ප්‍රතික්ෂේප කිරීම මාක්ස් වාදී වාක්‍යවලින් වසං කළ ඊනියා ''ඔස්ත්‍රෝ-මාක්ස්වාදයේ'' දෘෂ්ටිවාදියෙකි.

බ්ලාන් (Blanc), ලුයි (1811–1882) — ප්‍රංශ ජාතික සුළු ධනපති සමාජවාදියෙක් හා ඉතිහාසඥයෙකි. 1848 විප්ලවය සමයේදී තාවකාලික ආණ්ඩුවට ඇතුළු වී ''කම්කරු ප්‍රශ්නය පරීක්ෂනය කිරීම'' සඳහා වූ කොමිසම මෙහෙයවූ හෙතෙම, තමා අනුගමනය කළ සම්මුතිවාදී ප්‍රතිපත්තිය මගින් කම්කරුවන් විප්ලවවාදී සටනින් වැළැක්වීමට ධනපති පංතියට ආධාර දුන්නේය.

මයිස්කි, ඉවාන් මිහයිලවිච් (1884–1975) — සෝවියට් රාජ්‍යතන්ත්‍රිකයෙක් හා ඉතිහාසඥයෙකි. 1903 සිට රු. ස. ප්‍ර. ක. ප. සාමාජිකයකු වූ ඔහු 1918 දක්වා මෙන්ෂෙවික් පිළට අයත් වූ අතර 1921 පෙබරවාරියේදී රුසියානු කොමියුනිස්ට් (බොල්ෂෙවික්) පක්ෂයට ඇතුළු විය. 1922 සිට මයිස්කි රාජ්‍යතාන්ත්‍රික කටයුතු භාරව සේවය කෙළේය.



මාර්තව්, එල්. (සේදර්බවුම්, යූලි ඔසිපවිච්) (1873-1923) — පළමුවැනි ලෝක යුද්ධ සමයේදී මධ්‍යස්ථවාදී පිළිවෙත අනුගමනය කළ, මෙන්ෂෙවික් වාදයේ එක් නායකයකි. 1917 පෙබරවාරි ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයෙන් පසු මොහු පෙට්‍රොග්‍රෑඩ් කම්කරු හා සොල්දදු නියෝජිත සෝවියට් සභාවේ විධායක කාරක සභාවේ සාමාජිකයකුව සිටියේය. සෝවියට් බලයට විරුද්ධව ඉදිරිපත් වූ හෙතෙම 1920 දී ජර්මනියට සංක්‍රමණය විය.

මාස්ලව්ච්, සෙමියොන් ලෙඔන්තියවිච් (උපත 1873) — එස්ආර් වරුන්ගේ දක්ෂිණාංශයට අයත් වූ ඔහු 1917 සැප්තැම්බර්, හා ඔක්තෝබර් මාසවලදී ධනපති තාවකාලික ආණ්ඩුවේ ගොවිතැන භාර ඇමති ධුරය ඉසිලීය. ඔක්තෝබර් සමාජවාදී විප්ලවයෙන් පසු ආර්ථික හා විද්‍යා ආයතන රාශියක සේවය කළේය.

මාස්ලව්, පියොතර් පාව්ලවිච් (1867-1946) — ආර්ථික විද්‍යාඥයෙකි, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි. හෙතෙම මාක්ස් වාදී දේශපාලන අර්ථශාස්ත්‍රයේ මූලධර්ම සංශෝධනයට භාජන කිරීමට වෑයම් කළ කෘතීන් රාශියක කතුවරයාද විය.



මැක්ඩොනල්ඩ් (MacDonald), ජේම්ස් රැම්සේ (1866-1937) — බ්‍රිතාන්‍ය රාජ්‍ය සභිකයෙකි, නිදහස් කම්කරු පක්ෂයේ හා ලේබර් පක්ෂයේ සංවිධායකයන්ගෙන් හා නායකයන්ගෙන් එකෙකි. අන්ත අවස්ථාවාදී ප්‍රතිපත්තියක් අනුගමනය කළ හෙතෙම පන්ති සහයෝගය හා ධනවාදීසමාජවාදය දක්වා ක්‍රමයෙන් වර්ධනය වීම පිළිබඳ න්‍යායය දේශනා කළේය. 1918–1920 දී සෝවියට් විරෝධී ආක්‍රමණයට විරුද්ධව ඉදිරිපත් වූ බ්‍රිතාන්‍ය කම්කරුවන්ට ඔහු බාධා කළේය. 1924 දී හා 1929–1931 අවුරුදුවලදී මැක්ඩොනල්ඩ් අගමැති තනතුර දැරීය.

මිල්‍යුකොව්, පාවෙල් නිකලායවිච් (1859–1943) — කැඩෙට් පක්ෂයේ සංවිධායකයන්ගෙන් හා නායකයන්ගෙන් එකකු වූ ඔහු ධනපති තාවකාලික ආණ්ඩුවේ 1 වැනි කැබිනට් මණ්ඩලයේ විදේශ කටයුතු භාර ඇමති වූ අතර අධිරාජ්‍යවාදී යුද්ධය ''විජයග්‍රාහී අවසානය'' දක්වා පවත්වා ගෙන යාමේ ප්‍රතිපත්තිය ක්‍රියාවේ යෙදවීය. ඔක්තෝබර් සමාජවාදී විප්ලවයෙන් පසු සෝවියට් රුසියාවට විරුද්ධව කළ ආක්‍රමණය සංවිධානය කිරීමට ඔහු සහභාගී විය.

මුරව්යොව්, එම්. ඒ. (1880-1918) — ඔක්තොබර් සමාජවාදී විප්ලවයෙන් අනතුරුව වාමාංශික එස්ආර් වරුන්ට එකතුවූ සාර් හමුදාවේ නිලධාරියෙකි. 1918 ජූලි මාසයේදී, පෙරදිග පෙරමුණු හමුදාවේ අණදෙන නිලධාරියකුව සිටි හෙතෙම, කැරැල්ලක් ඇති කිරීමට උත්සාහ කළේය. මේ උත්සහය හෙළිදරව් වී මර්ධනය විය.

මෙන්ගෙර් (Menger), අන්ටොන් (1841–1906) — ඊනියා ''නීතිඥ සමාජවාදය'' නියෝජනය කළ ඔස්ත්‍රියානු නීතිඥයෙකි. මෙහි අරමුණ වූයේ නීත්‍යානුකූල නැතිනම් නීතිදයක මාර්ගයෙන් පමණක් ධනවාදී ක්‍රමය සමාජවාදය දක්වා පරිවර්තනය කිරීමේ පිළිවෙතක් සොයා ගැනීමය.

යකෝබි (Jacoby), යොහන් (1805-1877) — ජර්මන් ධනපති ප්‍රජාතන්ත්‍රවාදී දේශපාලන විචාරකයෙක් හා දේශපාලන නායකයෙකි. හැට ගණන්වලදී ප්‍රගතිවාදීන්ගේ පක්ෂයට සමීප වූ ඔහු බිස්මර්ක්ගේ ප්‍රතිපත්තිය කෙරෙහි විරෝධී ආකල්පයක් දක්වීය. 1872 දී හෙතෙම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයට ඇතුල් විය. කොමියුනිස්ට්වාදියෙකු නොවූ යකෝබි සමග සම්බන්ධයෙන් බොහෝ ප්‍රශ්න එකඟ නොවූ කේ. මාක්ස් හා එෆ්. එංගල්ස්, නිර්ධන පංති ව්‍යාපාරයේ පැත්ත ගත් ප්‍රජාතන්ත්‍රවාදීයකු ලෙසට ඔහු අගේ කොට සැලකූහ.

රිහ්ටර් (Richter), එව්ගෙන් (1838–1906) — ලිබරල් ධනපති පන්තිකයන්ගේ අදහස් පිළිබඹු කළ, ජර්මන් 'නිදහස් මත ධාරීන්' ගේ පක්ෂයේ නායකයන්ගෙන් එක් කෙනෙකි, සමාජවාදයේ සතුරෙකි. සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට විරුද්ධ වූ Sozial-demokratische Zukunftsbilder' (අනාගතය පිළිබඳ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පින්තූර) නැමති පොතේ කර්තෘ වූ ඔහු, 'සුපරීක්ෂාකාරී ඇග්නස්' ගැන වෘතාන්තය මෙම පොත මගින් වර්ණනා කරමින් කම්කරුවන්ගේ හා ධනපති පන්තිකයන්ගේ සමානත්වය පෙන්වා දීමට උත්සාහ කළේය.

රීකව්, අලෙක්සෙයි ඉවානවිච් (1881–1938) — 1899 සිට බොල්ෂෙවික් පක්ෂයේ සාමාජිකයකු වූ ඔහු, ඔක්තොබර් සමාජවාදී විප්ලවයෙන් පසු ආණ්ඩුවේ වගකිව යුතු තනතුරු ගණනක් ඉසුලූ අතර මධ්‍යම කාරක සභාවේ දේශපාලන බියුරෝවේ සාමාජිකයෙක්ද විය. රීකව්, පක්ෂයේ ලෙනින්වාදී ප්‍රතිපත්තියට විරුද්ධව කිපවරක් ඉදිරිපත් වූයෙන් 1937 දී පක්ෂයෙන් නෙරපා දමන ලදී.

රෙනොදෙල් (Renaudel), ප්යේර් (1871–1935) — ප්‍රංශයේ සමාජවාදී පක්ෂයේ ප්‍රතිසංස්කරණවාදී නායකයන්ගෙන් එකෙකි. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී (1914-1918) සමාජ-ජාතෝන්මාදවාදී පිළිවෙත පිළිගත් ඔහු විසි ගණන්වලදී l'Humanité ('මනුෂ්‍යත්වය') පත්‍රයේ කතෘ වරයා විය. 1914–1919 දී හා 1924 දී රෙනොදෙල් ප්‍රංශ නියෝජිත මන්ත්‍රී මණ්ඩලයේ මන්ත්‍රී වරයෙක් විය.

රොද්බෙර්තුස්-යගෙට්සොව් (Rodbertus-jagetzow), යොහාන් කාල් (1805–1875)—ජර්මන් ගුඩවාදී ආර්ථික විද්‍යාඥයකු හා රාජ්‍ය සේවකයකු වූ ඔහු, පෘසියානු "රාජ්‍ය සමාජවාදය" පිළිබඳ ප්‍රතිගාමී අදහස් ප්‍රචාර කළේය.

ලිත්රේ (Littré) එමිල් (1801–1881) — ප්‍රංශ ජාතික ධනේශ්වර දර්ශනවාදියෙක්, වූ හෙතෙම 'Dectionnaire de la langue francaise'නම් වූ ප්‍රංශ ශබ්දකෝෂයේ කර්තෘ වරයා විය. මේ ශබ්දකෝෂයේ මුල් මුද්‍රණය 1863–1877 අවුරුදුවලදී පළ විය. — පිටු 000.

ලිබර් (ගොල්ද්මන්), මිහයිල් ඉසාකවිච් (1880–1937) — බුන්ඩ් සංගමයේ එක් නායකයෙකි. ඔක්තෝබර් සමාජවාදී විප්ලවය කෙරෙහි සතුරු ආකල්පයක් දැක්වූ ඔහු සෝවියට් බලයේ ක්‍රියාශීලි සතුරෙක්ද විය. පසුව දේශපාලන කටයුතු අතහැර සිටි ලිබර් ආර්ථික කළමණාකාරී කටයුතු කළේය.

ලිබ්ක්නෙහ්ට් (Liebknecht), කාල් (1871–1919) — ජර්මන් හා ජාත්‍යන්තර කම්කරු ව්‍යාපාරයේ සම්භාවනීය නායකයෙකු හා ජර්මන් සමාජ ප්‍රජාතන්ත්‍රවාදයේ වාමාංශයේ නායකයන්ගෙන් එකෙකු වූ හෙතෙම පළමුවැනි ලෝක යුද්ධය සමයේදී විප්ලවවාදී-ජාත්‍යන්තරවාදී ස්ථාවරය ගෙන සිටි අතර 'ස්පාටකස්' කණ්ඩායමේ සංවිධායකයන් හා නායකයන්ගෙන් එකෙක්ද විය. 1918 නොවැම්බර් විප්ලවය සමයේදී ලිබ්ක්නෙහ්ට්, රෝසා ලුක්සම්බුර්ග් සමග ජර්මන් කම්කරුවන්ගේ විප්ලවවාදී පෙරමුණු බලඇණියට නායකත්වය දුනි. ජර්මනියේ කොමියුනිස්ට් පක්ෂය පිහිටුවන්නන්ගෙන් එකකුද 1919 ජනවාරි මස බර්ලින් කම්කරුවන්ගේ කැරැල්ලේ නායකයාද වූ ඔහු එම කැරැල්ල මැඩලීමෙන් පසු ප්‍රතිවිප්ලවවාදීන් විසින් මරා දමන ලදී.

ලුක්සම්බුර්ග් (Luxemburg), රෝසා (1871-1919) — ජර්මන්, පෝලන්ත හා ජාත්‍යන්තර කම්කරු ව්‍යාපාරයේ සම්භාවනීය නායිකාවක හා දෙවෙනි ජාත්‍යන්තරයේ වාමාංශයේ නායිකාවක වූ ඇ ජර්මනියේ ස්පාටකස් කණ්ඩායමේ පිහිටුවීමේ ක්‍රියාරම්භිකාවකි. 1918 නොවැම්බර් විප්ලවය කාලයේදී රෝසා ලුක්සම්බුර්ග් ජර්මන් කම්කරු පන්තියේ විප්ලවීය පෙරමුණු බලඇණියේ එක් නායිකාවක වූ අතර 1919 ජනවාරියේදී ඇ ප්‍රතිවිප්ලවවාදීන් විසින් සාහසික ලෙස මරා දමන ලදී.

ලොංගේ (Longuet), ජාන් (1876–1938) — ප්‍රංශ සමාජ වාදී පක්ෂයේ හා දෙවැනි ජාත්‍යන්තරයේ එක් නායකයකු වූ ඔහු පළමුවැනි ලෝක යුද්ධ සමයේදී ප්‍රංශ සමාජවාදී පක්ෂයේ මධ්‍යස්ථවාදී-සමාදනවාදී අල්පතරයේ නායකයාද විය. එම පක්ෂය කොමියුනිස්ට් ජාත්‍යන්තරයට ඇතුළු වීමට විරුද්ධව ඉදිරිපත් වූ හෙතෙම 1921 සිට දෙකහමාරේ ජාත්‍යන්තරයේ විධායක කාරක සභාවේ සාමාජිකයකුව සිටි අතර 1923 දී ඊනියා සමාජවාදී කම්කරු ජාත්‍යන්තරයේ නායකයන්ගෙන් එකෙකු බවට පත් විය.

වන්දෙර්වෙල්දෙ (Vandervelde), එමිල් (1866-1938) — බෙල්ජියමේ කම්කරු පක්ෂයේ එක් නායකයෙක්ද දෙවැනි ජාත්‍යන්තරයේ ජාත්‍යන්තර සමාජවාදී බියුරෝ සභාවේ සභාපතිද අවස්ථාවාදියෙක්ද වූ ඔහු පළමුවැනි ලෝක යුද්ධය සමයේදී (1914–1918) සමාජ–ජාතෝන්මාද වාදය වැළඳ ගෙන සිටියේය. ඔහු ඔක්තෝබර් සමාජවාදී විප්ලවය

කෙරෙහි සතුරු ආකල්පයක් දැක්වූ අතර සෝවියට් රුසියාවට විරුද්ධව කළ යුද්ධ ආක්‍රමණයට ක්‍රියාශීලී අනුබලයක් දුන්නේය.

වයිට්ලිං (Weitling), විල්හෙල්ම් (1808–1871) — ජර්මන් කම්කරු ව්‍යාපාරයේ බිහිවීමේ සමයේදී, එහි සම්භාවනීය නායකයා වූ හෙතෙම, මනෝමූලික සමානතාවාදී කොමියුනිස්ට් වාදයේ එක් දෘෂ්ටිවාදියෙක් හා "සාධාරණවාදීන්ගේ සංගමයේ" ක්‍රියාශීලී සාමාජිකයන්ගෙන් එකෙක්ද විය.

විල්හෙල්ම්, දෙවැනි (හොගන්ට්සොලර්න්) (1859–1941) ජර්මන් අධිරාජයා හා ප්රුසියානු රජ තුමා (1888–1918)

විල්සන් (Wilson), වුඩ්රෝ (1856–1924) — 1913–1921 දී ඇමෙරිකා එක්සත් ජනපදයේ ජනාධිපති වූ ඔහු අධිරාජ්‍යවාදී රාජ්‍යයන් සෝවියට් රුසියාවට විරුද්ධව කළ ආක්‍රමණයේ සංවිධායකයන්ගෙන් එකෙක් විය.

වෙබ් (Webb), බියට්රිස් (1858-1943) සහ සිඩ්නි (1859–1947) — බ්‍රිතාන්‍ය සමාජ නායකයෝ, ප්‍රතිසංස්කරණ වාදියෝ හා ෆේබියන් සමාජයේ ආරම්භකයෝ වූ මේ දෙදෙනා බ්‍රිතාන්‍ය කම්කරු ව්‍යාපාරයේ ඉතිහාසය හා න්‍යායය ගැන පොත් රාශියක කතුවරුද වූහ. පළමුවැනි ලෝක යුද්ධය සමයේදී (1914–1918) මොවුහු සමාජ-ජාතෝන්මාදවාදය වැළඳ ගත්හ.

වේබර්, හෙන්රික් — බෞවර්, ඔට්ටෝ බලන්න.

වොල්ස්කි, වී. කේ. (උපත 1877) — එස්ආර් වරයෙක්, ආණ්ඩු ක්‍රම සම්පාදක සභාවේ සාමාජිකයෙක් වූ මොහු, සමාරාහි පිහිටි ප්‍රතිවිප්ලවවාදී ව්‍යවස්ථාදායක මන්ත්‍රණ සභාවේ සාමාජිකයන්ගේ කමිටුවේ සභාපති ද විය. එම කමිටුව, 1918 ග්‍රීෂ්ම සමයේදී විදේශීය ආක්‍රමණිකයන්ගේ අනුබලය ඇතිව වොල්ගා හා උරාල් පෙදෙසේ බලය අල්ලා ගත්තේය. පසුව වොල්ස්කි සෝවියට් විරෝධී අරගලය නතර කළේය.

ෂෙයිඩමාන් (Scheidemann,) පිලිප් (1865–1939) — ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ අන්ත දක්ෂිණාංශික අවස්ථාවාදී පිළේ එක් නායකයෙක් වූ ඔහු, 1918 ජර්මන් නොවැම්බර් විප්ලවය කාලයේදී ප්‍රතිවිප්ලවවාදී ධනපති පංතියේ අවශ්‍යතාවයන්ට යටපත් වූ, ඊනියා ජනතා නියෝජිත සභාවට ඇතුල් වී සිටියේය. 1919 පෙබරවාරි-ජූනි මාසවලදී ෂෙයිඩමාන් වයිමර් සමූහාණ්ඩුවේ සභාග ආණ්ඩුවේ නායකයා වූ අතර, 1919-1921 දී ජර්මන් කම්කරු ව්‍යාපාරය කෲර ලෙස මර්ධනය කිරීම සංවිධානය කළේය.

ෂේර්, වී. වී. (1884–1940) — සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි, මෙන්ෂෙවිකයෙකි. ඔක්තෝබර් සමාජවාදී විප්ලවයෙන් පසු ඔහු පාරිභෝගික සමාජවල මධ්‍යම සංගමයේද සමස්ත රුසියා මහජන ආර්ථිකය පිළිබඳ සභාවේ ද රාජ්‍ය බැංකුවේද සේවය කළේය.

ෂ්ටෙයින් (රුබින්ෂ්ටෙයින්), ඒ. (1881–1948) — මෙන්ෂෙවිකයකු වූ ඔහු 1906 දී රුසියාවේ සිට ජර්මනියට සංක්‍රමණය විය. 1917 දී ජර්මන් නිදහස් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයට ඇතුල්වූ හෙතෙම "Freiheit" (නිදහස) නමැති එහි මධ්‍යම පත්‍රයේ කර්තෘවරයා බවට පත්විය. ජර්මන් මධ්‍යස්ථවාදීන් ඔක්තෝබර් සමාජවාදී විප්ලවයට විරුද්ධව ගෙන ගිය බොරු ප්‍රචාර ව්‍යාපාරයට ෂ්ටෙයින් ක්‍රියාශීලී ලෙස සහභාගී විය

සාක්ස්, ජී.ඩී. (1882-1937) — එස්ආර් වරයෙකි, වාමාංශික එස්ආර් පක්ෂයේ එක් සංවිධායකයෙකි. (1918 ජූනි මස) වාමාංශික එස්ආර් කැරැල්ලට ක්‍රියාශීලි ලෙස සහභාගී වූ නමුදු සාක්ස් 1918 නොවැම්බරයේදී බොල්ෂෙවික් පක්ෂයට ඇතුල් විය.

සිනෝවියෙව් (රදෙ මිසල්ස්කි), ග්‍රිගෝරි යෙව්සේයවිච් (1883–1936) — 1901 සිට බොල්ෂෙවික් පක්ෂයේ සාමාජිකයෙකි. ඔක්තෝබර් සමාජවාදී විප්ලවය සූදනම් කිරීමේ හා එය ක්‍රියාත්මක කිරීමේ සමයේදී ඔහු වැනෙන සුලු භාවය පෙන්වමින් ආයුධ ගත් කැරලි ගසා නැගී සිටීමට විරුද්ධව ඉදිරිපත් විය. කැරලි ගසා නැගී සිටීම පිළිබඳ මධ්‍යම කාරක සභාව ගත් තීරණය, තමාගේ හා සිනෝවියෙව් ගේ නාමයෙන් නෝවය ෂිස්න් අර්ධ මෙන්ෂෙවික් පක්ෂය මගින් කාමිනෙව් විසින් පළ කරනු ලැබීම, පක්ෂයේ රහස් තීරණයක් එළිදරව් කිරීමක්ද විප්ලවය පාවා දීමක්ද විය.

ඔක්තෝබර් සමාජවාදී විප්ලවයෙන් පසු සිනෝවියෙව් වගකිව යුතු තනතුරු කීපයක් ඉසිලීය. ඔහු පක්ෂයේ ලෙනින්වාදී ප්‍රතිපත්තියට විරුද්ධවකීප වතාවක්ම ඉදිරිපත් විය:1917 නොවැම්බරයේදී මෙන්ෂෙවික්

හා එස්එර් වරුන් සමග සභාග ආණ්ඩුවක් පිහිටුවීමට පක්ෂව ඉදිරිපත් වූ සිනෝවියෙව් 1925 දී ඊනියා ''නව විරුද්ධ පක්ෂයේ'' සංවිධායකයන් ගෙන් එකකු වූ අතර ඊළඟ අවුරුද්දේ පක්ෂ විරෝධී ට්‍රොට්ස්කි-සිනෝවියෙව් කණ්ඩායමේ එක් නායකයෙකු බවට පත් විය. 1934 දී පක්ෂ විරෝධී ක්‍රියාකාරිත්වය නිසා ඔහු පක්ෂයෙන් නෙරපා දමන ලදී.

සාවින්කව්, බරිස් වික්තරවිච් (1879–1925) — එස්එර් වරුන්ගේ එක් නායකයෙකි. 1917 පෙබරවාරි විප්ලවයෙන් පසු ඔහු යුද්ධ උපඇමති ධුරයද අනතුරුව පෙට්‍රොග්‍රෑඩ් යුද්ධ පාලක තනතුරද ඉසිලීය. ඔක්තෝබර් සමාජවාදී විප්ලවයෙන් පසු ප්‍රතිවිප්ලවවාදී කැරලි රාශියක සංවිධායකයා වූ හෙතෙම විදේශ ගත වී සෝවියට් රුසියාවට විරුද්ධව කළ ආක්‍රමණය පෙළඹවිය.

සුනීත්ස, එල්. බී. (උපත 1887) — 1905 සිට බොල්ෂෙවික් පක්ෂයේ සාමාජිකයකුව සිටි ඔහු ඔක්තෝබර් සමාජවාදී විප්ලවයෙන් පසු පක්ෂ හා අධ්‍යාපනික කටයුතුවලදී යෙදී සිටියේය.

සෙන්-සිමොන් (Saint-Simon), අංරි ක්ලොද් (1760-1825) — ශ්‍රේෂ්ඨ ප්‍රංශ ජාතික මනෝරාජික සමාජවාදියෙකි.

ස්වින්හුවුඩ් (Svinhufvud), පේර් එද්වින් (1861–1944) — පින්ලන්තයේ දේශපාලන හා රාජ්‍ය නායකයකු වූ හෙතෙම, 1917–1918 පින්ලන්ත කම්කරු විප්ලවය කෲර ලෙස මර්ධනය කළ ඒ රටේ ආණ්ඩුවේ ප්‍රධානියා විය.

ස්ත්රූවේ, පියෝතර බෙර්නර්දවිච් (1870–1944)—ධනවාදී ආර්ථික විද්‍යාඥයකු හා සාහිත්‍යධරයකු වූ ඔහු කැඩෙට් පක්ෂයේ එක් නායකයෙක්ද විය. අනූ ගණන්වලදී ඔහු බර්න්ෂ්ටයින් වාදයේ රුසියානු විශේෂයක් වන ''නීත්‍යානුකූල මාක්ස් වාදයේ'' ප්‍රධානම නියෝජිතයා විය. රුසියානු අධිරාජ්‍යවාදයේ දෘෂ්ටිවාදියකු වූ හෙතෙම ඔක්තෝබර් සමාජවාදී විප්ලවයෙන් පසු ව්‍රාංගල් ප්‍රතිවිප්ලවවාදී ආණ්ඩුවේ රැඳී සිටියේය; පසුව විදේශගත විය.

හාසේ (Haase), හූගෝ (1863–1919) — ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ අවස්ථාවාදී නායකයෙකි. ප්‍රථම ලෝක යුද්ධය සමයේදී මධ්‍යස්ථවාදී ස්ථාවරයක් ගත් ඔහු 1917 අප්‍රේල් මාසයේදී ජර්මන් නිදහස් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය පිහිටවූ අයගෙන් කෙනෙකි. 1918 ජර්මන් නොවැම්බර් විප්ලවයේදී හාසේ, විප්ලවවාදී ව්‍යාපාරය මැඩ පැවැත්වීමේ ප්‍රතිපත්තිය අනුගමනය කරන ඊනියා ජනතා බලධාරීන්ගේ සභාවට ඇතුල් වී සිටියේය.

හිල්පර්ඩිං (Hilferding), රුඩොල්ෆ් (1877–1941) — ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ හා දෙවැනි ජාත්‍යන්තරයේ එක් අවස්ථාවාදී නායකයෙක් වූ ඔහු අවස්ථාවාදයේ විශේෂයක් වන ඊනියා ඔස්ත්‍රෝ-මාක්ස්වාදයේ දෘෂ්ටිවාදියෙක්ද විය. හෙතෙම ''සංවිධිත ධනවාදය'' පිළිබඳ න්‍යායය ඉදිරිපත් කළ අතර රාජ්‍ය ඒකාධිකාරී ධනවාදයේ ආරක්ෂකයෙකු ලෙස පෙනී සිටියේය. 1917 සිට හිල්පර්ඩිං ජර්මන් නිදහස් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ නායකයා විය.

හින්ඩන්බුර්ග් (Hindenburg), පෞල් (1847–1934) — ජර්මන් යුද්ධ හා රාජ්‍ය නායකයෙකි, ජනරාල්-මාර්ෂල් වරයෙකි, ජර්මන් අධිරාජ්‍යවාදයේ ප්‍රතිගාමී හා ජාත්‍යොන්මාදවාදී අංශයේ නියෝජිතයෙකි. පළමුවැනි ලෝක සංග්‍රාමය කාලයේදී නැගෙනහිර පෙරමුණේ ජර්මන් යුද්ධ හමුදාවේ අණ දෙන සෙන්පති වූ හෙතෙම පසුව හමුද මූලස්ථානයේ ප්‍රධානියා විය. සෝවියට් විරෝධී යුද්ධ ආක්‍රමණයේ එක් සංවිධායකයකු වූ ඔහු 1918 ජර්මන් නොවැම්බර් විප්ලවය මැඩලීමට සහභාගී විය. 1925–1934 දී හින්ඩන්බුර්ග් වයිමර් සමූහාණ්ඩුවේ ජනාධිපති විය.

හෙන්ඩර්සන් (Henderson), ආතර් (1863-1935) — ලේබර් පක්ෂයේ හා බ්‍රිතාන්‍ය වෘත්තීය සමිති ව්‍යාපාරයේ එක් නායකයෙකි. 1917 පෙබරවාරි ධනපති විප්ලවය සිදු වූ පසු රුසියාවට පැමිණි හෙතෙම අධිරාජ්‍යවාදී යුද්ධය පවත්වා ගෙන යාම සඳහා ප්‍රචාරයක් ගෙන ගියේය. 1919 දී ඔහු බෙර්න් (දෙවැනි) ජාත්‍යන්තරයේ සංවිධායකයන් ගෙන් එකකු බවට පත්විය හෙන්ඩර්සන් බ්‍රිතාන්‍යයේ ධනපති ආණ්ඩුවලට කිප වරක්ම ඇතුල් විය.

## පාඨකයින් වෙතටයි

මෙම පොතේ අනුවාදය, මුද්‍රණය හා සකස්කිරීම පිළිබඳව ඔබගේ අදහස්ද, ඔබගේ වෙනත් කිසියම් යෝජනාවක් වේතොත් එයද දන්වා එවීමෙන් ප්‍රගති ප්‍රකාශක මන්දිරයේ කෘතඥතාවය ඔබට හිමි වේ.

අපේ ලිපිනය:

**Progress Publishers,**
**17 Zubovsky Boulevard,**
**Moscow, USSR**

# LIBERATIONBASE
## ඩිජිටල් පුස්තකාලය

ඩිජිටල් පුස්තකාලය සහ ලේඛණ සංරක්ෂණ ව්‍යාපෘතිය
ආරම්භය (***NMSG Library*** ලෙස): 2010
***LIBERATIONBASE*** ලෙස නැවත නාමකරණය: 2013

සූචිකරණ දත්ත

- කෘතිය: ලෙනින් තෝරාගත් කෘති වෙළුම් දොළහ, වෙළුම 9
- කතෘ/පරිවර්තක: වී.අයි. ලෙනින්/උ. මු. අබයරත්න
- ප්‍රකාශක: ප්‍රගති ප්‍රකාශක මන්දිරය, මොස්කව්
- පළමු ඩිජිටල් පළ කිරීම: 2014-09-22
- ඩිජිටල් සංස්කරණයන්: V1:2014-09-22, V2:2019-05-29
- පිටු ගණන: 304
- භාෂා මාධ්‍ය: සිංහල
- ගොනු ආකෘතිය: PDF

Web: https://liberationbase.wordpress.com
Email: slradical@ymail.com